# සුළඟ වගේ ඇවිද්දින්

දිනේෂ් කොළඹගේ

# ඒක

මම ගෙදරින් එළියට බහින කොටත් පාන පහුවෙලා. දැන් මහරගමට ගිහින් අල්ලන්න වෙන්නේ ස්කූල් බස් එකේ වලිගේ තමයි. ජයරත්න එක ඉස්සරහට ඇවිත් බැලුවා. බේතකටවත් ඈස් එකෙක් ඉඳියිද කියලා.

එකෙක්වත් නෑ...

දැන් ඉතින් තනියම කාපංකො ටින්කිරි. මම හෙමිහිට බස් හෝල්ට් එක ළඟ පෝලිමට ආවා. පෝලිමේ මැද හරියේ ඉන්නවා අපේ වයසේ වගේ කෙල්ලො කට්ටියක්. උං ටික බලපු වෙලාවේ ඉඳලා කට කෙළේ. ඒත්, එක කෙල්ලෙක් විතරක් වැඩිය කතා නොකර අනිත් එවුන් කියන ඒවට හිනාවෙවී ඉන්නවා. කොන්ඩෙ කරල් දෙකට ගොතලා, පිට මැද්දට දාලා. හරියටම මගේ හිත ඇතුලෙන් කෑ ගහනවා ඕයා මගේ කියලා. හිග් ! බිංදු හිටිය නම් මොනව හරි කරන්න තිබ්බා. උංපතා කලින්ම ස්කෝලෙ ගිහාං හිතුනතේ.........

මම යටි හිතෙන් බැන බැන ඒ දිහාම බලාගෙන හිටියා.

"තෙලා ගන්න බෑ. මගේ අත දිග නෑ. අනේ ඒත් තව මල් පිපියං....

අන්න ඒ වගේ තමයි දැන් ඉන්න වෙලා තියෙන්නෙ. එයාට නිකමටවත් හිතෙන පාටක් නෑ මගෙ දිහා බලන්න.

"බලනවකො ඕයි....."

මගේ හිත තරහෙන් කෑ ගෑ ගැහුවා. ඒත් එයා එයාගේ ලෝකෙ. මම මගේ ලෝකේ.....

එතකොටම හරවපු ප්‍රයිවට් බස් එකට නගින්න පෝලිම ඉස්සරහට ගියා. ෂුවර් එකටම මෙයාට ඉඳ ගන්න පුළුවන් වෙයි. යන්තම් පොත් ටිකවත් දීගන්න පුළුවන් වුනොත් .... වැඩෙන් බාගයක් හරි. ට්‍රයි කරන එක ගැන

"එක්ස් කියුස් මී..........!"

නුගේගොඩ හන්දියේ හෝල්ට් එකට බස් එක කිට්ටු වුනාම එයා හෙමීහිට කිව්වා. මගෙ පොත් ටිකවත් ගන්නෙ නැති කෙනාට මොන බම්බුවටද ඉඩ දෙන්නෙ. මම හෙල්ලුනේ නෑ. මෙන්න එක පාරටම එයා මගෙ මූණ දිහා බැලුවා. එයාගේ ඇසුයි, මගෙ ඇසුයි හැප්පෙනවා. මමත් ලාවට හිනාවුණා. ඒ පාර නම් අනුකම්පා හිතිලද මන්ද, එයත් හිනාවුණා.

"ඔච්චර ගනන් උස්සන්න එපා අනිත් දවසේවත් පොත් ටික ගන්න වැටෙනකම් ඉන්නේ නැතුව......"

ඉඩ දෙන ගමන් මම හොරෙන් වගෙ එයාගේ කණට කොඳුරලා කිව්වා.

"සොරි"

එහෙම කියා ගෙනම එයා ඉක්මනට බැස්සා.

හරි ෂෝක්.....,

අන්න එහෙමනේ ගෑණු ළමයි ඉන්න ඕනේ.. දැන් ඉතින් හැමදාම මේ වෙලාවට තමයි ගෙදරින් එන්නේ.

ස්කෝලෙට එනකොට හොඳටම පරක්කු වෙලා. කැන්ටිම ළඟින් යද්දී කැන්ටිම ඇතුලේ ඉඳන් ෂූ... පාරක් ඇහුන හින්දා මම පාත්වෙලා බැලුවා. අපේ ගැන්සියම ඒක ඇතුලෙ.

"මොකද අද වේලපහින්ම........" බිංදූ කෑ ගැහුවා. මමත් පිටි පස්ස පැත්තෙන් කැන්ටිමට රිංගුවා.

"ඇයි ? අද පන්තියට යන්නේ නැද්ද ? ..."

මම කැන්ටිමේ ලෑල්ල උඩින් පොත් ටික තියන ගමන් ඇහුවා.

"නෑ බං අද අළුතෙන් ගන්න එවුන්ට හෝල් එකේ රැස්වීම. අපේ පංතිවලටත් දායි. දෙන්න ඕනේ නියම රැග් එකක්..."

අමිලත් කැන්ටිම ඇතුලෙ.

"උඹ හිතුවද මේක කැම්පස් එකක් කියලා. රැග් කරන්න ..."

මම ඒ අතරෙදිම බිංදූගේ අතේ තියෙන ප්ලේන්ටිය ගත්තා.

ලකා සැලැන්න පුළුවන් එතකොට. මමත් ඉක්මනටම බස් එකේ දොර ළඟට ගියා. තුන්සිය හැටපස් දවසෙම හිටගෙන යන අපිට මොන සීට්ද .... ? එයා බස් එකට නැග්ගා.

තියෙන ආඩම්බරකම.....

විහිළුවටවත් මගේ දිහා බැලුවෙ නෑ. කමක් නෑ දෙයියන්ගේ පිහිටෙන් එයාට සීට් එකක් හම්බුවුනොත් .... මමත් බස් එකට නැග්ගා. දෙයියො එක පාරක් දෙපාරක් නෙමෙයි, මං දිහා සෑහෙන්න බලලා. එයාට දොර අයිනෙම තියෙන තනි සීට් එක හම්බු වෙලා.

දැන් ඉතින් දෙන්නම් වැඩේ...

මමත් එක හිතින්ම හිට ගත්තා. අතේ තියෙන පොත් ටික දැන් නම් හොඳටම බරයි වගේ.

"කරුණාකරලා ඔය මහත්වරු ටිකක් පස්සට යන්න. පස්සට යන්න අන්තිමේ පුට්බෝර්ට් ගිහින් පරිප්පු කන්න වෙන්නේ අපිට"

කොන්දොස්තර උගේ සුපුරුදු කැසට් එක දැම්මා. මට අම්බානක ඔරොප්පු වුනා. අද දවසේ හා හාපුරා කියලා වැඩක් පටන් ගත්තා... මූ ඒකටත් බාල්දිය දානවා. එයා මගේ දිහා බලන්නෙත් නෑ, පොත් ටික ඉල්ලන්නේත් නෑ. දැන් ඉතින් බලෙන් තමයි දෙන්න වෙන්නෙ.

ඒ වෙලාවෙදී අනිත් පැත්තෙන් ආපු ප්‍රයිවට් බස් එකක් අපේ බස් එකට ඉස්සර කළා.

බ්‍රාස්......

ඩ්‍රයිවර් එක පාරටම බ්‍රේක් කළා. නියම වෙලාව.

මම අතේ තිබ්බ එක පොතක් බැරිවෙලා වැටුණා වගේ එයාගේ උකුලට දැම්මා. දැං හරි එයා ඉතුරු පොත් ටිකක් ගනියි.

මොන .....!

එයා ඒ පොතත් ආපහු මට දික් කළා අහක බලාගෙනම.

ච්ක්........!

කිසිම හිතක් පපුවක් නෑ...

දැන්නම් මට කන්න කේන්තියි. එහා පැත්තේ හිටපු ඇන්ටිත් මහා නෝන්ඩි බැල්මක් දානවා. උදේ පාන්දරම හොඳි නැතුව රෝස් පාන්... මම නුගේගොඩට යනකම්ම හිතෙන් බැන බැන ආවා. හිතපු ඒවා එළියට ඇහුන නම් නවතින්නේ පොලිසියේ.

"අටයි හතළිහයි සර්...."

'වටස්.........!'

මගේ වම් පැත්තේ කම්මුලෙන් තරු පොකුරු පොකුරු විසිවුණා. වීරරත්න සර්ගෙන් පාරක් කන එක කොච්චර අමාරුද...? මගේ ඇස් දෙකට කඳුළු එන්න පටන් ගත්තා. කම්මුල නිකං හිරිවැටිලා වගේ. මම කම්මුලට අත තියා ගත්තා. එතකොටම සර් මගේ කොලර් එකෙන් අල්ලලා ඔළුව ඉස්සුවා.

"දැං ඉඳලම කාලකණ්නි වෙන්න හදන්න එපා මිනිහෝ..... තමුසෙලාගේ ගෙවල් වලින් කොච්චර බලාපොරොත්තු තියාගෙනද ඉන්නේ... ඒ ලෙවල් කරන්න ඇවිත් සුමාන දෙකෙන්ම මේ විදියට වලට වැටෙනවා නම්, ස්කෝලෙං අයින් වෙලා, හෝදපං හෝටලේක වලං.."

වීරරත්න සර් බණ කියනවා. මගේ කම්මුල අම්බානට රිදෙනවා. සර් ගැන තරහකුයි, බයකුයි දෙකම හිතේ උතුරනවා. එහෙත්, කම්මුල පුපුරු ගහනවා.

"යනවා පංති වලට ආපහු මේකේ ඉඳලා අහුවුනොත් අම්මලා, තාත්තලා එක්ක තමයි එන්න වෙන්නේ හරිද .... ?"

සර් රවාගෙනම කිව්වා.

ඇල්ල උඩ තිබ්බ පොත් ටික අතට ගත්ත මම අනික් එවුන් ටිකත් එක්කම බළල්ලු වගෙ එළියට බැස්සා. මැත්ස් සෙක්ෂන් එක ළඟට එනකම්ම කිසි එකෙක් කථා කළේ නැ.

"රිදුනද ..?"

අමිල මගේ කණට කරල ඇහුවා.

"නෑ...මාර ආතල් එකක් ආවා ඇඟට..."

මට ඌ එක්කත් ඔරොප්පු වුනා. අලියට පැගිල මොනවද ගියේ නැද්ද කියලා අහනවා වගේ තමයි, වීරරත්න සර්ගෙන් කම්මුල් පාරක් කාලා රිදුනද කියලා අහන එක. මම ටැප් එක ළඟට ගිහින් මූණ හෝද ගත්තා. ඇගේ ලාවට තිබ්බ කඳුළු ටික මූං හරියට දැක්ක නම් මාර තෝන්ඩිය.........

"මෙක හරි වැඩක්නේ... ප්‍රජාතන්ත්‍රවාදී ස්කෝලෙක අපිට ඕන විදියට වල බහින්නවත් නිදහස නැනේ..."

කොටා කියද්දි කම්මුල අතින් තද කරගෙන හිටපු මට හිනා ගියා. බඩ ගින්න කොහෙන් ගියාද දන්නේ නැ රිදෙනවා වැඩි කමට කට්ටියම

"උදේට කැවෙත් නෑ බං.... හැබැයි බඩ කට නං ඉස්මුරුත්තාවටම පිරුණා..."

"එහෙනං ෂුවර් එකටම කොහෙන් හරි සෙට් වෙන්න ඇති කැල්ලකට තනියම..."

"කියලා වැඩක් නෑ සනා ඒ ගැන ..., චන්දරේ මට මාළු පාන් එකක් දීපං..."

මං චන්දරේගෙන් ඉල්ලුවා.

"දැන් බඩු දෙන්න බෑ. වීරරත්න සර් අවොත් අපිටත් පරිප්පුව. දැන් මෙතන ඉන්නවා දැක්කත් ඇති. ඉන්ටවල් එකේ ඇවිත් කන්න ඕන එකක් කන්න..."

අපේ විනය පාලක වීරරත්න සර්ට කැන්ටිමේ චන්දරේ මාර බයයි. වීරරත්න සර් උස මහත හින්දා. කොල්ලෝ සර්ට කිව්වෙ තඩි වීරේ කියලා.

"අනේ මේ පිස්සු කෙලින්නේ නැතුව මාළු පාන් එකක් දීපං. මොකද තඩි වීරේ මාව මරන්නද මාළු පාන් කනවට..."

මම හය්යෙන් කිව්වා. චන්දරේ මාළු පාන් එකක් ගන්න අත දික් .කළා. එතකොටම පිටිපස්සේ හිටපු අමිලගේ කට කටේ නැවතුනා.

මොකද මේ වෙනස.......

මම පිටිපස්සට හැරුනා.

මළ කෙලියයි වීරරත්න සර්.........!

පිටිපස්සේ දොරෙන් ඇවිත් රවාගෙන අපි දිහා බලාගෙන ඉන්නවා. මගේ පපුව දැන් මාළිගාවත්ත ලී මෝල වගේ. ඩග ඩග... අම්බානකට ගැහෙනවා. දැන් කනවා. අපේ එකෙක්වත් කතාවක් නෑ. වීරරත්න සර් මගේ දිහාවට ඇඟිල්ල දික් කරලා කථා කළා. මගේ කකුල් දෙක, මාවත් අරගෙන සර් ළඟට ගියා.

"දන්නවද ? ස්කෝලෙ පටන් ගන්නේ කීයටද කියලා..."

"ඔව් සර් ...."

"කීයටද ...?"

"හත හමාරට...",

මම බිම බලාගෙනම උත්තර දුන්නා.

"දැන් වෙලාව කීයද ...?"

"පොඩ්ඩක් නිශ්ශබ්ද වෙන්න. මේ තමයි ඒලෙවල් වලට මේ පන්තියට අළුතින් ආපු කට්ටිය. දැං ඉතිං මේ ගොල්ලොත් ඔයාලගෙම සහෝදරයෝ තමයි."

සර් කිව්වා

"හරි දැං ඔයාලා ගිහිං ඉඳ ගන්න... පුළුවන් හැටියට මේ පාඩම ඉගෙනගන්න... අමාරු තැන් හෙට ඉන්ටවල් එකේදී මගෙන් අහන්න..."

අළුත් බූවාලා තුන්දෙනා ඉඳගන්න ආවා. ඒ අතරේ හිටපු කෙට්ටු ස එකාට මම ඇහෙන්, අපි ඉන්න තැනට කථාකලා. ඌ දැක්කේ නෑ ගේ, ඉස්සරහ පේළියේ ඉඳගන්න හදද්දි මම රෑලා අතින් කථා කලා. මිනිහා බයෙන් බයෙන් වගේ අපේ ළඟට ආවා. අනිත් එවුන් දෙන්නා ඉස්සරහ පේළියේ ඉඳගත්තා. සර් ආයෙත් පාඩම උගන්නන්න පටන් ගත්තා

"නම මොකක්ද... ?"

"පීරිස්"

"කොහේ ඉඳලද ආවේ...?"

"කොහුවල...."

මායි බින්දුයි ප්‍රශ්ණ අහනවා. පීරිස් උත්තර දෙනවා. ඉස්සරහ ඉඳන් සර් රූප සටහනක් අඳිනවා. කොහොමද උදේ පාන්දර මූව මඩවන්නේ.......? එක අතකට පව් කියලත් හිතෙනවා. කමක් නෑ ඌත් කොල්ලෙක්නේ.

"මචං උඹ බය වෙන්න එපා. අපි රැග් කරන්නේ නෑ උඹලට..."

මම එහෙම කියද්දි පීරිස්ට හිනාගියා.

අනේ සිරියාව.....! හිටපන්කෝ

"මචං අපේ මේ පියෝ සර් නියමයි. හොඳට උගන්වනවා. හැබැයි මචං පොරත් එක්ක කථා කරන්න ගියාම තමයි, තද වෙන්නේ."

"ඇයි ඒ."

"පාඩම මතක තියාගන්න නම්, හැම වේලේම හයියෙන් කෑ ගහලා උත්තර දෙන්න ඕනේ. මිනිහාට හෙමින් උත්තර දෙන එවුන් පෙන්නන්න බෑ. නැත්තං ඉතිං ජල ගුටි තමයි. අද උදේ මම හෙමින් කිව්වා. කියලා මේ බලපන් මචං, මට ගහපු පාර..."

මම තාමත් රතුවෙලා තියෙන කම්මුල ඌට පෙන්නුවා. පීරිස් ඇලඩින්ගේ පුදුම පහන දිහා බලනවා වගෙ මූණ දිහා බලාගෙන හිටියා.

පන්තියට ආවා. වැඩි වෙලාවක් ගියේ නෑ මීටින් එක ඉවර වෙලා හෝල් එකේ හිටපු පන්තියේ අනිත් එවුන් ටිකත් ආවා.

"ආ... උඹලා මාරුවුනා නේද ?"

අසංක බෑග් එක ඩෙස් එක උඩින් තිබ්බා.

"නෑ මචං අපි වීරරත්න සර් එක්ක පොඩි කොක්කක් දාගත්තා... ඒක නෙමෙයි කෝ අනිත් එවුන්...?"

"උන් ටික ඔෆිස් එකට ගෙනිච්චා. සල්ලි ගෙවලා ෆයිල් පුරෝලා වැඩ ටික සේරම ඉවර වෙලා තමයි පන්ති වලට එවන්නේ..."

"කොහොමත් ඉන්ටවල් එකෙන් පස්සේ තමයි උං පන්තියට එන්නේ........."

* * *

"ත්‍රිකෝණ මිතිය මුල් කොටසේදී ඕගොල්ලන්ට තියෙන්නේ මූලික සිද්ධාන්ත ඉගෙන ගන්න ... ඒක ඒ තරම් අමාරු නෑ. හැබැයි මුල ඉඳලම හරියට කරන්න වෙනවා."

පියෝ සර් බෝඩ් එකේ ත්‍රිකෝණයක් අඳින ගමන් විස්තර කරන්න පටන් ගත්තා. යන්තම් දැන් කම්මුල රිදෙන එක ගොඩක් අඩුයි.

"දැන් නම් නිදිමතයි වගේ බං"

බිංදු කිව්වා.

"මටත් එහෙමයි".

ඇස් දෙක යාන්තමට පියවෙනවා. ආපහු ඇරෙනවා.

"කමක් නෑ තව පිරියඩ් එකයිනේ තියෙන්නේ..."

සර් තව මොනවද කියද්දී කොල්ලෝ තුන් දෙනෙක් අපේ පන්තිය ළඟ නතර වුණා.

"මචං අළුත් බූවාලා වගේ", මම බිංදුට කෙඳිරුවා

"ඇයි ...?"

පියෝ සර් තුන් දෙනා දිහා බැලුවා. ඒ තුන් දෙනා සර් ළඟට ගිහිං, මොනවද කිව්වා. ඉස්සරහ පේළියේ හිටපු කොටා මගේ දිහා බලලා, ඇහැක් ගැහුවා. පන්තිය පුරාම එහෙන් මෙහෙන් කසු කුසු. එතකොටම සර්, පංතිය දිහාවට හැරුනා.

සෙනසුරාදට ක්ලාස් යන්න ඇහැරෙන එක තමයි මහ එපාම කරපු එක. ඇහැරෙන්නේ නැතුව ක්ලාස් යන්න පුළුවන් නම් හිතෙනවා.... මාර ආතල්....... ඇඳේ ඉඳගෙනම මට හිතුණා.

මූණ හෝදගෙන කාමරේට එද්දි, අක්කා තේ එකත් අරං කාමරේට ඇවිත්.

"අපෝ යංතං ඇති පාන්දරම මූණ හෝදගෙන , නැත්නම් ඉතිං තේ එක දෙන්න වෙන්නේ මළ පෙරේතයෙකුට..."

එයත් ඉතිං උදේ පාන්දරම බර බරේ. මම පොඩි අක්කට දිව දික් කරලා රැක් එකේ තිබ්බ ඩෙනිම අතට ගත්තා. මගේ දෙයියා ... ඩෙනිම් කලිසම් හොයා ගත්ත එකා නම් දිව්‍ය ලෝකේ යවන්න ඕනැ. මම පොඩි අක්කට හොරෙන් කලිසම නහයට ළං කළා. වැඩිය ගඳක් නෑ වගේ. තාම දවස් දෙකයි නේ ඇන්දෙ... බිංදුවා කරදරයක් නැතිව සුමානයක් දෙකක් අඳින්නෙ... මම එහෙම හිත හිතා කලිසම අඳින්න ගත්තා.

"තමුසෙ මොකද අපේ ස්කෝලේ කෙල්ලන්ගේ උකුලට පොත් වීසි කරන්නේ..."

මාව ගැස්සිලා ගියා. මල හොන්ඩරයයි. මෙයා කොහොමද ඒක දන්නේ. ෂුවර් එකටම එයත් මෙයාගේ ක්ලාස් එකේද දන්නේ නෑ. එහෙම නම් පිස්සු බෝල බෝල...

"කවුද හලෝ ඔය ඕපදූප කටකථා තමුසෙට දෙන්නේ......?"

කෙල්ලෝ නම් මහ රොයිටර් වගේ ජාතියක්. ඕනෙ නැති දෙයක් නෑ. හැම එකකටම ඔළුව ඔබනවා....

මම ටී ෂර්ට් එක දාගත්තා.

"ඒ අරුනි. මගේ ක්ලාස් එකේමයි ඉන්නේ. ෆොටෝවලින් එහෙම ඔයාව හොඳට අඳුනනවා. කෙල්ල උදේ පාන්දරම ආපු හැටියේ මට කථාව කිව්වා. බස් හෝල්ට් එකේදිත් උගුඩුවා වගේ බලාගෙන හිටියලු තමුසෙ. ච්ඡ්..... මටත් එක්ක පල් එක.....! අරුනි මගේ හොඳම යාළුවා හින්දා හොඳයි. නැත්තං.........."

උදේ පාන්දරම වහ කන්න නෝන්ඩිය... එයත් එහෙනම් එගේ දිහා හොරෙන් බලලා තියෙනවා. නැත්නම් කොහොමද දකින්නේ මම බලාන හිටපු එක... දැන් ඉතිං ඒකටත් නැවතීමක් නින. පොඩි අක්කා තේ කෝප්පයත් අරන් ආපහු යන්න ගියා.

"ඔව් මචං අළුතෙන් ආවා කියල නෑ.. පොර ප්‍රශ්නයක් ඇහුවොත් එහා පන්තියටත් ඇහෙන්න එක්ක උත්තර දීපං. නැත්තං ඉතිං පලවෙනි දවසෙම ටොපිය."

බිංදුත් කතාව පටං ගත්තා. ඔය අතරෙදි පියෝ සර් අපි දිහා බැලුවා.

"මොකද ඔතන කතාව.... පාඩම් එපාද ?"

සර් මගෙන් ඇහුවා.

"නෑ සර්, මෙයාට ඔය පාඩම තේරෙන්නේ නැලු..."

මම ෂේප් වෙන්න හිතාගෙන කිව්වා.

"ආ... ඒකට කමක් නෑ පුතා, මේක එච්චර අමාරු නෑ. හොඳයි, ටැන් අනුව කියද...?"

සර් පිරිස් දිහා බලා ඇහුවා.

"මතකයිනෙ කියපු එක".

මම ඉස්සරහ බලාගෙනම පිරිස්ට මගේ කම්මුල පෙන්නුවා.

"අනන්තයයි..."

පිරිස් මහ හයියෙන් කෑ ගැහුවා. ෂුවර් එකටම යට තට්ටුවේ පන්තිවලටත් ඇහෙන්න ඇති උත්තරේ. පන්තියම බක බක ගාලා හිනාවෙනවා. මටයි, බිංදුටයි හොඳටම හිනා.

මූ යකෙක්නෙ...... පොඩි විහිළුවක්වත් තේරෙන්නේ. නෑ... එහා පන්තියේ උගන්න උගන්න හිටපු සර්ත් හිනාවෙවී එළියට ඇවිත් අපේ පන්තිය දිහා බලනවා.

"ඉතිං ඕක හෙමින් කිව්වා නම් ඉවරයිනේ, ඔයා ඇයි අනන්තෙට ඇහෙන්න කෑ ගැහුවෙ..."

පියෝ සර් හිනාවෙවී කිව්වා.

"යංකං ඇති....මම හිතුවෙ සර්ට මල පනියි කියලා."

බිංදු මට කිව්වා. පිරිස් කොර වෙලා වගේ බිම බලාගෙන ඉන්නවා. වැඩි වෙලාවක් ගියේ නෑ, බෙල් එක ගැහුවා, ඉස්කෝලේ ඇරෙන්න.

* * *

අපි ලයිබ්‍රරි එකට ඇවිත් ස්ටඩි රූම් එකට යන්න හිතාගෙන පඩිපෙළ නැග්ගා.

"කපලා එකයි සෙපාහ...",

සීට් ඔක්කොම වගේ පිරිලා. කෝකටත් ඕන එකක් කියලා අපි දොර ළඟට ගියා.

"සීට් ඔක්කොම ඉවරයි. තව පොඩ්ඩකින් ඇවිත් බලන්න..."

දොර ළඟ හිටපු අක්කා කිව්වා. මම බිංදු දිහා බැලුවා. අපි මෙස් හැදුවොත් එදා ඉඳලා ළමයි උපදින්නේ කකුල් නැතිව......,

"මොනවා කරන්නද බං..., අද එළියට බැහැපු නැකත නං අන්තිමයි... දැන් ඉතිං කැන්ටිමට ගිහිං ප්ලේන්ටියක් ගහලා තව පැයකින් විතර ආපහු එමු"

අමිල කිව්වා. අපි ආපහු කැන්ටිමට ආවා. ඒකත් හවුස් ෆුල්. සමහරු, මේස උඩ පොත් පෙරළගෙන පාඩම් කරනවා. තවත් සමහරු ඒ ඒ ලෝකවල.

ජීවිතේ යොවුන් වියේ ස්නේහයේ කුසුම් පිපේ....

පාට පාට මල්.....

අපි තුන්දෙනා එහෙන් මෙහෙන් හැම තැනින්ම අහුලාගෙන පුටු තුනක් අරගෙන ඉඳගත්තා. අපි ඉඳගත්තේ එහා කෙළවරේම මේසේ. අනිත් පැත්තේ මේසේ කෙල්ලො කට්ටියක් පාඩම් කරනවා. ඒක තඹ සතේකටවත් ගනන් ගන්නෙ නැතුව ඊළඟ මේසේ කොල්ලො ටිකක් සිංදු කියනවා.

"මේ උඹ ළඟ කීයක් තියෙනවද...?"

අමිල ඇහුවා.

"රුපියල් දහයක් විතර.."

මම පර්ස් එක ඇද්දා. මට නම් දැන් අම්බානක බඩගිනියි..... උදේට කාලත් නෙමෙයි ආවේ... උදේ චන්ඩියා වගේ ගෙදරින් කන්නෙ නැතුව ආවට, දැන්නම් බඩ පිස්සු නටනවා. අමිල තුන් දෙනාගේම අතේ සල්ලි එකතු කරගෙන කවුන්ටරේ ළඟට ගියා. මම මේසේ උඩට ඔළුව ගහගත්තා.

"ඒයි.."

බිංදු මට කතා කළා.

"ඇයි බං"

"තමුසෙගේ මහ ලොකු යාළුවට කියනවා, මීට පස්සේ බස්වල යනකොට උප්පැන්න ෆොටෝ කොපි ගහල පිටේ එල්ල ගන්න කියලා. නැත්තං අපිට වයස හොයන්න බෑ... "

මම කෑගහලා කිව්වා.

නුගේගොඩ හන්දියේ 'නවරස' එක මෙහායින් පාර පනිද්දි බිංදුයි, අමිලයි ඉන්නවා පාරෙන් එහා පැත්තේ. උං දෙන්න අත වැනුවා. මාත් අත වනාගෙනම පාර පැන්නා.

"උදේ පාන්දරම තියෙනවා සුභ ආරංචියක්..."

අමිල කිව්වා.

"මොකක්ද..?"

"අද ක්ලාස් නෑ... සර් රට ගිහින්, ආයි ලබන සුමානෙලු එන්නෙ.

"පිස්සු හැදෙනවා. බලමුද එහෙනං ෆිල්ම් එකක්..."

"10.30........!"

"අද නම් බෑ. බලපං මේ සුමානෙටම අධ්‍යාපනේ කියලා සත පනහක දෙයක් කළේ නෑ... අදවත් පාඩම අහගන්නවා කියලා ආවේ. එදාට සර් නෑ. යංද ලයිබ්‍රරි .. පාඩමක් දාන්න"...

බිංදු කිව්වා. උගේ කථාවත් ඇත්ත. සුමානෙම පිස්සු නැටුවා මිසක් කිසිම වැඩක් නෑ. ක්ලෝලෙදි සර් කියනවා. අපි ලියනවා. රට පොත් ටික ඉමෙසෙ උඩ සාමදානයේ සැතපෙනවා. ඒත් ඉතිං ලයිබ්‍රරි යනවට වැඩිය හොඳයි වගේ ගෙදර යන එක.

"මං කියන්නද දැන් යං පබ් එකට, ගිහිං 10.30 වෙනකම් ගෑස් හදමු. ඊට පස්සේ යං ෆිල්ම් එක බලන්න".

අමිල කිව්වා.

"ඒක නම් හොඳයි වගේ."

නැත්නම් එහෙම හෙන කම්මැලියි. අපි තුන් දෙනාම පාර පැනලා අනිත් පැත්තට ආවා බස් එක ගන්න.

එයත් හිනාවෙච්ච කියනවා. ඔය දෙයක් කරලා මූන්ට හිනාවෙන්නත් පුළුවන්නේ. දෙන්න හිතෙනවා දෙකක්..

බිංදුයි, අමිලයි අගක් මුලක් දන්නේ නැතුව බලාගෙන ඉන්නවා.

"මේ... වදින්නම් කියන තැනකට, සිගරැට් බීපු එක නම් පොඩි අක්කට කියන්න එපා..."

"අපෝ චන්ඩියා වගේ කට තිබුනට, මාර බය ගුල්ලෙක්නේ. බය වෙන්න එපා මං කියන්නේ නෑ."

අරුණි අතත් වනාගෙන ආපහු ගියා.

"කවුද බං ඒක.........?"

බිංදු මගෙන් ඇහුවෙ එයා යනවත් එක්කම.

"අපේ අක්කගේ යාළුවෙක්, බී. බී. සී. රිපෝටර් කෙනෙක් බං"

අපි ජ්ලේන්ටි බීලා තවත් තවත් පැය භාගයක් විතර එතන හිටියා.

"යමුද ආපහු ස්ටඩී රූම් එකට. දැන්නම් සීට් ඇති..."

අමිල කිව්වා.

"යං........."

අපි පොත් ටිකත් උස්සාගෙන ආපහු ආවා.

"මට නං දැනටම විභාගේ එපාවෙලා... කණු හතරක් හම්බුවෙන එක මාර ෂුවර්..."

අමිල කියන කතාවම තමයි මගේ ඔළුව ඇතුලෙ දුවන්නෙත්. මොන පිස්සු කෙලියත් වැඩක් නෑ, විභාගේ අනාථ වුනොත් ඔක්කොම ඉවරයි.

දැන්නම් යන්තම් ස්ටඩියේ එහා කෙළවරේ, සීට් තුනක් තියෙනවා. අපි එතනට ගිහින් වාඩි වුණා.

"පිස්සු බම්ප් වෙනවා මචං, එළියේ ඉන්නේ මොක්කුද....... ?

මේක ඇතුලෙනේ කෙල්ලෝ ඉන්නේ. හැම තැනම කෙල්ලො. පාට පාට ස්කර්ට්, එක එක ජාතියේ ගවුම් අනේ මන්දා කෙල්ලෙක් දිහා බලන්නේ නෑ, කියලා හිත හදාගෙන ආවට වැඩක් නෑ දැන්....! මම පොත් දිග අරින ගමන් වටේටම කැමරාව දැම්මා.

"ආතල් කැලි ටිකක් ආවා බං ඇතුලට... උංට ඉ෴ගන්න සිටි නැතුව එංට කැරකෙනවා..."

මට ඔළුව උස්සන්නවත් හිතුනේ නෑ කම්මැලිකමට. කොච්චර හොඳ කෙල්ලෙක් නියා, මගේ රත්තරන් මධුරි ඩික්සිත් ආවත් ආපහු හැරිලා බලන්නේ නෑ කියලා මම හිතා ගත්තා. කෙල්ලෙක් වටෙන් ගියත් මේ දවස්වල මට හොඳ නෑ. ඒ තරමටම මගේ වෙලාව අන්තිමයි. අමිල මාළු පානුයි, සිගරැට් තුනකුයි අරගෙන ආවා.

"මේ ටික තියා ගනිං. මම ගිහිං ප්ලේන්ටී තුන අරන් එන්නං..."

ඌ ආපහු ගියා. අමිලයා එනකම් ඉන්න බෑ. මම මාළු පාන් එක කන්න ගත්තා. ෂිහ්! කිසිම රහක් නෑ. ඒත් චිපි කරන්න යෑ. මම මාළු පාන් එක පැත්තකින් තියලා සිගරැට් එක පත්තු කරලා දුම් ඇද්දා. සිගරැට් බිච්චාට බඩ ගින්න නම් නැති වෙන්නේ නෑ. එක පාරටම බිංදු මගෙ කකුල පෑගුවා.

"මොකද බං"

"අර කෙල්ලෙක් මෙතනට එනවා අමිලයගේ පුටුව ගන්න වෙන්න ඇති...."

බිංදු කියද්දි මම ඉස්සරහ බැලුවා. අමිල ප්ලේන්ටී තුනත් අරගෙන ආපහු එනවා. ඒ එක්කම වගේ පිටි පස්සෙන් ආපු අතකින්, අමිල ඉඳගෙන හිටපු පුටුව අදිනවා මම ලාවට දැක්කා.

"මේ ඕකේ එක්කෙනෙක් ඉන්නවා..

බිංදු කිව්වා. මම සිගරැට් එක අරගෙන ඒ පැත්තට හැරුණා.

ඉවරයි.......!

මගේ ඇස් උඩ ගියා. පුටුව ඇද්දේ අරුණි. අපේ පොඩි අක්කගේ යාළුවා. දැන් මෙයා සිගරැට් බීපු එකත් ගිහිං පොඩි අක්කට ... හැබැයි එයා එක පාරටම මාව ඇඳින්නේ නැහැ. බයවෙලා වගේ ...ගේ මූණ දිහා බලන් හිටියා

...මත් නෑ දැන් කොහොමත් නෝන්ඩිය එකමනේ.

"ආ.....!. මොකද ඔයා අපේ අක්කට බොරු කිව්වේ..., මගේ අතින් පාන් ටික නිකං නේ එදා වැටුණේ."

"මම නැංගිට එහෙම කිව්වේ නැනේ...",

"ඔහොම හිටපං යකෝ ඒක පාරටම මී හරකා වගේ නැගිටින්නෙ නැතුව... එතකොට මුළු ස්ටඩී රූම් එකම දන්නවා. උඹ ඒකිට ට්‍රයි කියලා...'

"අනේ මේ කුණු හරුප කථා කරන්නේ නැතුව මෙන්න මෙහෙ වරෙං. ඒකි මිස් ප්ලේස් වුනොත් අනාථ තමා..."

මමත් පොත් ටික අතට අරගෙන නැගිට්ටා. මොනවා කරන්නද? "මදන ඇතුන් නෙලුම් හුයෙන් නවතන්නද ? මං..."

අපි ස්ටඩි රූම් එකෙන් එළියට ඇවිත් පඩි පෙල බැස්සා. කෙල්ලො දෙන්නා ඉන්නවා බෑග් කවුන්ටරේ ළඟ. අපිත් කවුන්ටරේ ළඟට ඇවිත් පොත් ටික ලෑල්ල උඩ තිබ්බා. මම ඒ අස්සේ ලෑල්ල උඩ තිබුණ බිංදුගේ ට්‍රයි එකේ නම බැලුවා.

'ඉසංකා මාධවී පෙරේරා.'

චාර නමක් නේ ඒක දැන් ඉතිං කොහොම හරි කතාව පටන් ගන්නත් ඕනේ. මං ගත්තා පුරුෂ ධෛර්ය හිතට. දැනා දෙන්නම්.

"හලෝ ඉසංකා. කෝ අද චන්දිමා නැද්ද ?"

ඒ ගර්ල් එක පාරටම පුදුමයෙන් වගේ මගේ දිහා බැලුවා.

"චන්දිමා කිව්වෙ....?" එයා ඇහුවා.

"ඇර ඔයත් එක්ක හැමදාම එන්නේ. කෙට්ටු උස ගර්ල් ඔයාලගෙ ඉස්කෝලෙම නේද එයා ඉන්නේ........"

මටත් කොහෙන් වචන එනවද මන්දා, වැඩේ යංතං හරි වතාවුනොත් ඇදගෙන නා ගන්න වෙන්නෙ. වැඩේ හරි ගියොත් නම් ඉතිං, බිංදුගේ පිත තමයි.

"ආ මෙයා කියන්නෙ චන්දිමා නෙමෙයි, නයනා ගැන..."

ඉසංකාගේ යාළුවා කිව්වා.

"එයා නයනාද........? මම හිතාගෙන හිටියේ චන්දිමා කියලා. මගෙන් පොතක් ඉල්ල ගත්තා එදා ගණන් හදන්න. ඒකයි අද බැලුවෙ එයා ආව. කියලා"

මගේ කටට දැන් බොරු ගලාගෙන එනවා. එකක් වහන්න තව එකක්. අපි පොත් ටිකත් අරගෙන ඒ දෙන්නත් එක්කම එළියට ආවා.

"කොහොමද· දැං විභාගේ පිටද...?"

අඳුන්.. ඉන්න කෙල්ලෝ රංචුව කෙල්ලො එපා... දැන් නම් ඉතිං සිරාවටම පාඩම් කරනවා. එහෙම හිතාගෙන මම ඇප්ලයිඩ් පොත දිග හැරියා. පටන් ගත්ත තැනම දෛශික පාඩම... මම පැයක් විතර ගණන් හදන්න ඇති. මට එහා පැත්තේ .බිංදු ඇඹරෙනවා පනුවා වගේ.

"මොකද මේ....?"

මම හොරෙන් ඇහැ ඇරලා බැලුවා. මල හොන්ඩරයයි. කෙල්ලෙක් ඌත් එක්ක හිනාවෙනවා. කෙල්ලත් ලස්සනයි. මම මොකටද ඌට උදැල්ල දාන්නෙ... එහෙම හිතාගෙන, මම ආපහු පොතට ඔළුව ඔබා ගත්තා. කොච්චර හිත හදාගන්න හැදුවත් මේ කෙහෙල්මල් හිත, කියන දෙයක් අහන්නෙම නෑ. එක අතකට මෙච්චර කෙල්ලො රැනක් මැද ඉඳගෙන, එක හිතින් පාඩම් කරන්න. මොකද මම රහත් වෙලාද...?

එකකොටම බිංදු මගේ පැත්තට හැරුනා.

ආව්... අප්පා, උගේ මූනේ තියෙන හිනාව....

"මචං අරයා මට ආන්සර් වගේ"

ඌ ඇඟිල්ලෙන් අර ගර්ල්ව මට පෙන්නුවා.

"ඉතිං"

"ඉතිං කියන්නේ අද කීයට හරි ගෙදර යන්නේ එයා පස්සෙන් ගිහින් තමයි උඹ එනවනේ..."

මම අමිල දිහා බැලුවා.

"උඹලා යන දිහාක පලයල්ලා මට අද ඉක්මනට ගෙදර යන්න ඕනෑ. කොහොමත් මම තව පැය භාගෙකින් විතර යන්න යන්න කියලා හිතාගෙන ඉන්නේ..."

අමිල කිව්වා.

"එහෙනං ඉතිං මට තමයි පරිප්පු නැව බාන්න වෙන්නෙ. කමක් නෑ යමු"

මම එහෙම කියලා ආපහු ගණන් හදන්න පටන් ගත්තා. දොළහ විතර වෙනකොට අමිල යන්න ගියා. තාමත් සැරින් සැරේ බිංදු හොරෙන් ඒ ළමයා දිහා බලනවා. එක පාරටම එයා නැගිට්ටා. එයාට යාළුවෝ ටිකක් ඉන ා එක නම් හොඳයි. අඩු ගානේ මට බල බලාවත් යන්න පුළුවන්නේ. උ ැගිට්ටා විතරයි. මෙන්න මූත් එක් පාරටම නැගිටින්න හදනවා. මම උ ්තින් ඇද්දා.

# දෙක

පංසිල් අරගෙන ඉවර වෙලා බින්දුයි, මමයි, අමිලයි පංතිය දිහාවට ඇවිදගෙන ආවා. මාර ගස් ටික අස්සෙන් අස්සෙන් එද්දි නිකං නුවරඑළි ගියාවගේ දැනෙන්නේ........

"ඊයේ මාර වැඩක් වුනානේ. බං...", බින්දු කිව්වා.

"මොකක්ද?..."

"අර, ලයිබ්‍රියේදී ට්‍රයි කරපු කෙල්ලව දැක්කනේ නුගේගොඩදී..., ඒකි අම්මත් එක්ක ඇවිල්ලා තිබුණේ. ෂුඃ පිස්සු හැදෙනවා. බං.. ඩෙනිම් ජීන්ස් එකක් ගහලා, කහ පාට ටී ෂර්ට් එකක් දාලා, හරියට මධුරි ඩික්සිත් වගේ."

"අනේ නිකං ඉදිං. මම නොදැක්ක බඩුවක්ද ඒක. ඒකිගේ මූනත් හරියට, උන්ගේ තාත්තගේ වොක්සගන් කාර් එක වගේ"

"අන්න. අන්න ..., සතා ඉරිසියා කරන්න එපා. උඹලට කෙල්ලෙක් දාගන්න බැරි වුණාට, යාළුවෙක්ට හරි සෙට් වෙනවනෙ බං ලස්සන කෙල්ලෙක්.."

මූට දැන් ඒ කෙල්ලව පපුවටම වැදිලා වගේ. කමක් නෑ අඩු ගානේ මාසයක් දෙකක් ට්‍රයි කරන්නවත් පුළුවන්නෙ.

"ඒක නෙමෙයි, මචං සීන් එක...",

බින්දු ආයෙමත් කථාව පටන් ගත්තා.

"එහෙනං මොකද...?", අමිල කැපිල්ලට වගේ ඇහුවා.

"මම කොහොම හරි කට්ට කාලා, එයාව ෆලෝ කලා ඊයේ. ඉන්නේ විජේරාමෙ ... ජයවර්ධනපුර කැම්පස් එකට යන පාරේ..."

මූ නං යකෙක්. මාර කට්ටක්නේ කාලා තියෙන්නේ.

"ඒකි මොන ස්කොලේද ..?",

මේච්චර වෙලා මගේ බොරු අහගෙන, කටවහගෙන හිටපු බිංදුවා කට ඇරියා.

"අයියෝ නෑ.... ෂුවර් එකටම ලොජික් ෆේල් වෙනවා..."

ඉසංකා කිව්වා. මේක ටිකක් ෆෝවඩ් කැල්ලක් වගේ.

කතාවෙන් කතාවෙන් අපි හෝල්ට් එක ළඟට ආවා.

මළ කෙළියයි......! මුං එක්ක බස් එකේ යන්න සල්ලිකෝ...? අතේ තියෙන්නෙ සීසන් කට්ට විතරයි.. එතකොටම ආපූ රතු පාට වොක්ස්වගන් කාර් එකක්, හෝල්ට් එකට එහායින් නැවතුණා. ඒ දෙන්නා ඒක ළඟට දුවන ගමන්ම හැරිලා, සී යූ කියලා කිව්වා. හොඳ වෙලාවට උන්ට කාර් එක හම්බුවුනේ. නැත්නම් අපි දෙන්නම අම්බානකට නෝන්ඩි වෙනවා. අතේ සල්ලි නැතුව.

"උඹ නං මාර පොරක් බං කොහෙන්ද අර බොරු ලොට් එක අහුලා ගත්තේ.....?"

"ඒවා එහෙම තමයි බං. අන්න ඒකට තමයි කියන්නේ ප්‍රානෝවිත අභවල් එක කියලා..."

මම හිනා වෙවී කිව්වා. "ලබන සුමානෙත් එමු නේද ක්ලාස් ඇරිලා ලයිබ්‍රරි..."

බිංදු මගේ දිහා බලලා ඇහැක් ගැහුවා.

"එමු... මොනවා නැතත්, කෙල්ලව දාගන්න බැරිවුනත්, කාර් එකක් තියෙන කෙල්ලෙක්ටනේ ඉතිං උඹ ට්‍රයි කරන්නේ..."

බඩුව දාගන්නත් කලින් මෙන්න මූ කොලර් එක උස්සනවා. උගේ ආච්චිට... මූ ගිය උඩ..."

අපේ වෙලාවටම ඒ වෙලාවෙම 138ක් ඇවිත් හෝල්ට් එකේ නතර කළා. බිංදුයි මායි ඒකට නැග්ගා ගෙදර එන්න.

අමිල ඇහුවා.

"ඒවා තාම දන්නෙ නෑ. මේ සුමානෙ ඉවර වෙන්න කලින් ඉතුරු විස්තරත් හොයාගන්න ඕන. එතකොට වීරයා වගේ ආපහු සෙනසුරාදා ලයිබ්‍රරි එකේදී කථා කරන්න පුළුවන්නේ..."

"වීරයා වගේ කථා කරයිද? නැත්නම්, එදා කියපු බොරු ඒක මාට්ටු වෙලා තෝන්ඩි වෙන්ඩ වෙයිද දන්නෙත් නෑ..."

"පිස්සුද බං කෙල්ලන්ට කොහෙද එච්චර හරියක් කරන්න පුළුවන්... මොළේ තියෙන්නේ හැදි මිටේ දිගටනෙ බං..."

අමිල කිව්වා.

"දැන් ඉතිං ඉක්මනටම මේ ගැන හොයන්න ඕනේ. නැත්නම් ඉතිං වෙන කවුරු හරි බුක් කරයිද දන්නේ නෑ."

"එහෙමනං අද ස්කෝලෙ ඇරිලා යමු විජේරාමෙ හන්දියට. එයා ස්කොලේ ඇරිලා එනකොට අපිට හම්බු වෙයිනේ."

"ඔව්, අද හවස අපට ක්ලාස් ඇත්තෙත් නැනේ... යමු. හැබැයි මචං, ස්කෝලෙන් ඉක්මනට මාරුවෙන්න ඕනේ. නැත්නං අපේ ස්කූල් බස් එකේ ගියොත් නම් අල්ලන්න වෙන්නේ බුලුවගෙ වලිගෙ තමයි."

මම කිව්වා. කථාවෙන් කථාවෙන් අපි පංතිය ළඟට එද්දි කෙමිස්ට්‍රි සර් පංතිය ඇතුලෙ. සර්ට ගුඩ් මෝනිං කියාගෙන අපි පංතියට ඇතුල් වුණා.

* * *

අපි තාප්පේ දිගේ බඩ ගාලා යන්නම පිට්ටනියෙන් එළියට පැන ගත්තා. ඒ ටික කරන්නත් පැය භාගයක් විතර ගියා. වීරරත්න සර් පිට්ටනිය පැත්තෙ ඉඳලා යනකං ඉන්න වුනානේ. එයාත් නොයන තැනක් නෑ. අපි පයින්ම පුංචි බොරැල්ල පැත්තට ආවා.

"බඩගිනියි බං අම්බානකට දැං.... උදේට හරියට කෑවෙත් නෑ. ඉන්ටවල් එකේ එළියට යන්න හම්බුවුනෙත් නෑ. දැං නම් බඩ පිස්සු නටනවා."

"එහෙනං තෝසේ පාර්ක්වක් දාමු. අඩු මුදලකට වැඩි වටිනාකමක් තියෙන්නත් එපායැ."

අමිල කිව්වා.

අපි තෝසේ කඩේ ඇතුලට යනකොටත් ඒක තුන් කාලක්ම පිරිලා, අපි වගේ ම වාටර් කාරයන්ගෙන්.

"තුන් දෙනාටම තෝසේ ගේන්න..."

අමිල වේටර්ට කෑගහලා කිව්වා. අපි තෝසේ කාලා ආපහු වවුන් හෝල් ඇවිත්, 138ක නගින කොට 12.30 ට විතර ඇති.

අමිලයි, මායි, බින්දුයි, විජේරාම හන්දියේ ජෑම් ගහයට ඉඳගෙන කොක්කු මාළු අල්ලන්න බලාගෙන ඉන්නවා වගේ, බලාගෙන හිටියා. එතකොටම වගේ අපේ අක්කලාගේ ස්කූල් බස් එක හෝල්ට් එකේ නතර කළා. අපේ පොඩි අක්කයි, එයාගේ රොසිටර් යාළුවා අරුණියි හොල්මන් වෙලා වගේ අපි දිහා බලනවා. මම කටට ඇඟිල්ල තිබ්බා. පොඩි අක්කා හිනාවෙලා අත වැනුවා.

"දැන් ඉතිං, මට ගෙදර ගිහිල්ලං එයාගේ ප්‍රශ්න පත්තරේට උත්තර දෙන්න වෙනවා. ඇයි එතන හිටියේ...?, කවුරු එනකංද හිටියෙ..?, එයා කවුද..? ඔය හැම දේටම උත්තර දෙන්න වෙනවා."

මම කියද්දි බිංදු මගේ පිටට තට්ටුවක් දැම්මා. දෙක, දෙක හමාර වුණා. දෙකහමාර තුන වුණා. ස්කූල් බස් ටිකක් ඔක්කොම ගියා. ඒත් එයා නෑ.

"මාර පරිප්පුව තමයි. අද ක්ලාස් ද දන්නේ නැතෙන් බං. එහෙම නං මෙතන කට්ට කන්න වෙනවා. හය විතර වෙනකම්..."

අමිල කිව්වා.

"අනේ මේ, මට නම් හය වෙනකම් ඉන්න බෑ ගෙදර ගිහිං ඉල්ලගෙන තමයි කන්න වෙන්නෙ"

මම කිව්වහම බිංදුගෙ මූණ සත පහ වගේ වුණා.

"කමක් නෑ එහෙනං ඉතිං, ආයේ ලබන සෙනසුරාදා වෙනකම් ඉමු. වෙන මොනවා කරන්නද?."

බිංදුත් දුකෙන් වගෙ මිමිනුවා. අමිල පිටකොටුව බස් එකක නැග්ගට පස්සේ, අපි දෙන්නත් මහරගම බස් එකෙක නැග්ගා ගෙදර යන්න. මහරගමට එනකම්ම බිංදුවා ගල් ගිල්ලා වගෙ හිටියේ දුකට වෙන්න ඇති. මටත් කථා කරගන්න බෑ, බඩගිනි වැඩි කමට. සල්ලි නැති කමට, කෑවෙත් එක තෝසයයි.

ඒකත් හරියට කැළණි පාලම යටට පොඩි ඩිස්ප්‍රීන් පෙත්තක් දැම්මා වගේ. දාන්නත් ඉස්සෙල්ලා දියවෙනවනේ.......

අපි දෙන්නා මහරගමින් බැහැලා හන්දිය පැත්තට පයින් ආවා. එතකොටම ඉස්සරහා තිබුන බුක් ෂොක් එකේ ඉඳලා, එළියට බැහැපු එක්කෙනාව දැකලා මාවයි, බිංදුවයි ගල් ගැහුණා.

බිංදුගේ ට්‍රයි එක ඉසංකා.....!

එයාවත් හරියට කරකවලා අතඇරියා වගේ. අපි දෙන්නත් කන්න වගේ එයා දිහා බලාගෙන ඉන්නවා.

"හලෝ ඔයා මොකද මෙහේ කරන්නේ."

මම හිනාවෙලා, එහෙම අහගෙන ඉසංකා ළඟට ගියා.

"ඇයි මෙහෙ ඉන්න තහනම්ද?"

"අපෝ නෑ. අපි මේ බැලුවේ නුගේගොඩ පදිංචිකාරයෝ මෙහෙ මොනවද කරන්නේ කියලා".

බිංදුගෙ කටටත් පණ ඇවිල්ලා.

"නුගේගොඩ.........!", ඉසංකා පුදුම වෙලා වගේ ඇහුවා.

"අපි නුගේගොඩ නෙමෙයි, ඉන්නේ පමුණුව පාරේ..."

එයා එහෙම කියද්දි, මම හොරෙන් බිංදු දිහා බැලුවා. මූ ඉරිදා දැකලා තියෙන්නෙ වෙන කෙල්ලෙක්ද? එහෙමත් නැත්නම්, මෙයා අපිව ගොනාට අන්දන්න හදනවද ?

"ආ මම දවස් දෙක තුනක්ම ඔයාව දැක්කා විජේරාමේ හන්දියේදී...... ඒ හින්දා අපි හිතුවා..... ඔයා නුගේගොඩ කියලා..."

මෙන්න ඒ ගමන ඉසංකා හිනාවෙනවා. හෙන කැපිල්ල. මේකිට තේරිලාද මන්දා. අපි කට්ට කනවා කියලා. එක්කො දැං අපි තුන්දෙනා, විජේරාමේ වාටර් ගහනවා මෙයා දැකලද ?

"ඔයාලා මාව දකින්න ඇත්තේ නැන්දලාගේ ගෙදර යනකොට වෙන්න ඇති අම්මයි මායි ගොඩක් දවස්වලට ඉරිදා, නැන්දලගේ ගෙදර යනවා. ඒක නෙමෙයි, ඔයාලා මොනවද කළේ දැං පොඩ්ඩකට ඉස්සෙල්ලා විජේරාමේදී... මම ස්කූල් බස් එකේදි දැක්කා..."

ඉවරයි...... දැං ඉතිං වහකන එක ඇඟට ගොඩක් සනීපයි, නිකං කිංඩි වෙනවට වැඩිය. මොනවද කියන්නෙ......? බිංදුට තොල් හොල්ල

ගන්නවත් බෑ. අනේ මන්දා, හැම වෙලේම මූගෙ ලව් හින්දා මම මුසාවාදා වේරමනී..........

"අර අපිත් එක්ක හිටපු අනිත් යාළුවා, අමිලගේ අක්කා ජයවර්ධනපුර කැම්පස් එකේ, අපි එයාට පොත් වගයක් ගෙනත් දුන්නා..."

කොහෙන් එන බොරුද මන්දා, මගේ කටට. ඒ එක්කම මම අඩියක් ඉස්සරහට තිබ්බා. තවත් මේ කථා කිව්වොත් මෙතනම පොලව පැලෙනවා. ඉසංකාත් හෙමිහිට ආවා. බිංදුට එයාට ලං වෙන්න ඉඩදීලා මම පොඩ්ඩක් පස්සට වුණා.

"අද ඔයාට ක්ලාස් නැද්ද?"

බිංදු හොඳට හිනාවෙලා එහෙම ඉසංකාගෙන් ඇහුවා.

"අද නෑ. අද විතරයි සතියටම ගෙදර ඉන්නේ"

මම මොකටද උදැල්ල දාන්නෙ. මම බිංදුගෙ පිටට තට්ටුවක් දැම්මා,

"මේ මචං, මම අර ටේලර් ෂොප් එකට පොඩ්ඩක් ගිහිං එන්නම්. උඹ මෙයත් එක්ක කථා කරපං..."

එහෙම කියලා මම ඉසංකාට අතත් වනාගෙන, පාරෙන් එහා පැත්තට පැන්නා. ටික වේලාවකින් ඉසංකා පමුනුව පැත්තට යන්න හැරෙනවාත් එක්කම මම ටේලර් ෂොප් එක ඇතුලෙ ඉඳන් එළියට ආවා. මෙන්න බිංදු පාර පනිනවා විසිල් කර, කර....

"මොකද කිව්වෙ..."

මම ඇහුවා.

"මොනවා කියන්නද ? අද ක්ලාස් නැලු, හෙට හවස දෙකහමාරෙ ඉඳලා පහ වෙනකල් නුගේගොඩ සයෙක්ස් එකේ ක්ලාස්ලු. ඉතිං මම කිව්වා. හෙට අපිටත් ඒකෙම ක්ලාස් තියෙනවා කියලා..."

"උඹ මාර පොරක්නෙ. හෙට කොහෙද බං නුගේගොඩ යන්නේ. ඇයි අපි බම්බලපිටියේ ෆිසික්ස් වලට යන්නෙ නැද්ද හෙට ..."

"ෆිසික්ස්, අපිට කවදා කරන්න බැරිද බං"

එපැයි කියන්නද ?

බිංදු අත දික්කලා. මමත් ගැහුවා.

ෆිට් තමා...යි.....!

* * *

ලාස්ට් පීරියඩ් එක ප්‍රැක්ටිකල් හින්දා, වෙලාවට කලින් පැන ගන්න පුළුවන් වුණා. අපි දෙන්නත් එක්ක හෙමිහිට පාරෙන් එහා පැත්තට ඇවිත් ස්කූල් බස් එක නවත්තලා තියෙන තැනට ආවා.

"මොකද දන්නේ නෑ... අද අමිල ආවෙ නැත්තේ......!"

"ඒක තමයි, සමහර වෙලාවට ඌ ගෙදර ඉඳලා කෙළින්ම ක්ලාස් එයිද දන්නේ නෑ එහෙම වුණොත් අම්බානක චොමැක් එක..."

"මට හිනා ගියා බිංදුගේ කථාවට. කොල්ලන්ටත් කොහොම හරි අළුත් කැල්ලක් අහුවෙනවම තමයි. කලින් පරිප්පුව, දැන් චොමැක් එක වෙලා.

ස්කූල් බස් එක තිරුලපත පහුවෙද්දී, අසේලයා. මගෙන් ඇහුවා ක්ලාස් යන්නේ නැද්ද කියලා.

"නෑ බං අද අපි උඹලගෙ ක්ලාස් එකට එනවා... "

"ඒ මොන එහෙකටද... ? ෆුවර් එකටම කාට හරි පැණි පෙරන්න වෙන්න ඇති. නැත්තං මොකටද උඹලා කොමස් ක්ලාස් අස්සේ රිංගන්නේ..."

"ඒවා එහෙම තමයි ඩෝ, උඹට ඒවායින් වැඩක් නෑ. උඹට පුළුවන්ද, අපි දෙන්නව කාඩ් නැතුව කලාස් එක ඇතුලට දාන්න...?"

"ට්‍රයි කරලා බලමු. බැරිවුණොත් මගෙයි චානකගෙයි කාඩ් දෙක උඹලා දෙන්නට දෙන්නම්. ටික්කාට අපි දෙන්නගේ ඩයල් මතක හින්දා, ෂේප් එකක් දාගන්න බැරිවෙන එකක් නෑ"

අපි දෙන්නා යන්නම් අසේලගෙයි, චානකගේයි පිහිටෙන් ක්ලාස් එක ඇතුලට ආවා.

"වරෙන් මෙතැනටම..."

අසේල අපි දෙන්නවත් උං හිටපු තැනට ගත්තා. බිංදු වටේටම කැමරාව දැම්මා. මමත් බැලුවා වටපිට. ඉසංකා ඉන්නවා, ඉස්සරහම පේලියේ මැදට වෙන්න. එයාත් එක පාරටම පිටිපස්ස හැරුනා. මායි බිංදුයි අත වැනුවා ලාවට. ඉසංකා හිනාවෙලා ආයෙත් ඉස්සරහට හැරුනා. සර් පංතියට ආපු හින්දා.

සර් පංතියට ඇවිල්ල උගන්නන්න පටන් ගත්තා. අපි දෙන්නා ගල් ඉබ්බො වගේ සර් දිහා බලාගෙන හිටියා. කියන කිසිම දෙයක් තේරෙන්නෙ නෑ. හරියට එස්කිමෝලට පොල් ගස් නගින්න උගන්නනවා වගේ... මැත්ස් කරන අපි දෙන්නට කොහෙද, එකොන් කොමස් තේරෙන්නේ. බිංදු නම්

ඉසංකා ඉන්න පේළිය දිහා බලාගෙන ඉන්නවා. මට නිදිමත වගේ හින්දා මම ඩෙස් එකේ ඔලුව ගහගත්තා.

"ඒයි නැගිටපං... සර්ට හෙනට තද වෙනවා. ඔහොම ඉන්නවා. දැක්කහම....."

අසේල මට අනින් ඇනලා කිව්වාම මම අමාරුවෙන් වගේ ආයෙත් ඔලුව උස්ස ගත්තා.

ක්ලාස් ඉවරවෙලා අපි ඉක්මනටම එළියට පැන ගත්තා.

"අපෝ මට නම් නින්ද වුණා. ලව් කරන්න මොකටද බං ඔච්චර ටිංකිරි කන්නේ"

මම කියද්දි බිංදු මගෙ කකුල පෑගුවා. ඉයංකා තව යාලුවෝ දෙන්නෙකුත් එක්ක අපි ඉන්න තැනට ඇවිත්.

"ආ කොහොමද ? ඉතිං"

"ඔහේ ඉන්නවා". එයාත් ගානකට නැතිව බිංදුට කිව්වා.

"උඹ සලයන් මම අසේලලත් එක්ක එන්නම්", එහෙම කියලා මම අසේලලා ළඟට ගියා.

"අරකද බිංදුවාගේ ට්‍රයි එක" වාතක ඇහුවා.

"ඔව්..."

"ෂේප් කෙල්ල .. වැඩිය සෝබන නෑ, උණ නෑ, වාණී, ඒ වගේම අහිංසකයි, තැන්පත්..."

අසේල ලතාවකට ඉසංකාගේ චරිත සහතිකේ කියන්න වුණා. ඒ අස්සෙ ඇඟටම හිරවුන ස්කර්ට් එකකුයි, ටී ෂර්ට් එකකුයි ඇඳපු ලස්සන කෙල්ලෙක් අපිට ඉස්සර වුනා.

"මාරයිනේ, පිස්සු බෝල බෝල...... කවුද බං ඒ ...?"

මම ඒකිව පෙන්නලා වාතකයගෙන් ඇහුවා.

"ආ ඒ තමයි ඇස්ප්‍රීන්, එයාට හැම වෙලේම හොඳටම උණ. කොල්ලෙක් බැලුවත් ඇති.

"නෑ...!"

"නෑ නෙමෙයි බං ......!"

"නෑ... නෑ නෙමෙයි ඔව්, ඕනෙනම් බයිට් කරමු. කවදා හරි ඔය උණ බහිනතත් ඕනෙනෙ..."

අපි පිටකොටුව පැත්තට යන හෝල්ට් එකට ඇවිත් ඇස්ප්‍රීන් ළඟින්ම හිට ගත්තා. මෙකිට නං සහලෝලම උණ තමයි. කථාවක් බහක් නිසා හිනාවක්වත් නෑ.

"යාළුවෙක්වත් නැද්ද බං මෙයාට......?"

මම ආයෙත් වානක දිහාවට හැරුනා.

"අපෝ ඉන්නවා හෙන ගැන්සියක්. හැබැයි අද නම් උං එකෙක්වත් ඇවිත් නෑ. මොකද දන්නෙ නෑ. උං ටික ආවා නුම් මෙලහට මාර කව කවේ..."

මම ටිකක් එයා ළඟට කිට්ටු වුණා.

"ආ චූටී... ෂූටින් කොහොමද ?"

අසේල හයියෙන් කෑ ගැහුවා. ඇස්ප්‍රීන්ගේ මූණ රතු වුණා.

"ඇස්ප්‍රීන් නංගි ක්ලාස් ගිහිං වගේ" වානකත් පටන් ගත්තා. එයා එක පාරටම හැරුනා රවාගෙන. මගේ අම්මෝ .....! ඇයි ඔබ මෙතරම් දරුණු..... ?

"ඇයි මොකද අහන්නේ ?"

එයා එහෙම අහද්දි මට බකස් ගාලා හිනා ගියා...

"ආ ඔයාට ද මේ ඇස්ප්‍රීන් කියන්නෙ..."

මම හිනාවෙවී ඇහුවා. ඇස්ප්‍රීන් මූණ රතු කරගෙන අහක බලා ගත්තා. අපි කට්ටියටම හිනා. එතකොටම හෝල්ට් එකේ නවත්තපු 138 බස් එකට නැගපු ඇස්ප්‍රීන් බස් එකේ ඉඳගෙන හොඳටම රවාගෙන මගෙ දිහා බැලුවා. මම පටාස් ගාලා ඇහැක් ගැහුවා. බස් එක ඇද්දුවා.

# තුන

පෝය දවස හින්දා අද සුදු ඇඳුම් ටික ඔක්කොම හෝදන්න වුණා. රෙදි හෝදනවා කියන එක තරම් එපා කරපු වැඩක් තවත් නෑ. වෙනදා පොඩි අක්කා රෙදි හෝදලා දුන්නට, එයාටත් මේ දවස්වල විභාගේ ළඟ හින්දා කරදර කරන්න මොකක්ද වගේ.

එක්සැම් ඉවර වුණාට පස්සෙ දෙන්නම් කෝ.....

මම රෙදි ටික වැලට දාලා ගේ පැත්තට එද්දි, සාලේ දිහාවෙන් ඇහුණා හොඳට පුරුදු කට හඬක්...

අක්කාගේ යාළුවෙක් වගේ... කවුද ?

මම සාලෙට ඇතුල් වුණා, තෙත අත කලිසමේ පිහදා ගන්න ගමන්ම.

"ආ මෙයානේ මේ, මම බැලුවා කවුද කියලා උදේ පාන්දර කඩේ ඇරලා තියෙන්නෙ..."

සැටිය උඩ ඉඳගෙන හිටපු අරුණි අක්කා මූණ ඇද කළා. අද නම් අරුණි මාර ලස්සනයි. දිගම දිග නිල්පාට පුංචි මල් තියෙන ගවුමක් ඇඳලා, කොන්ඩෙ දිගට ගොතලා, හරිම අහිංසක පාටයි. එයාත් මගේ දිහා බලාගෙන ඉන්නවා, මූණේ යාන්තමට හිනාවක් ඇඳිලා.

"මොකද ගෙවල් තෙමෙනවද ? පෝය දවසෙත් රස්තියාදු ගහන්නේ..."

"අනේ නෑ, අද නිලානියි, මායි, ගණන් වගයක් හදන්න කියලා හැදුවේ. විභාගෙටත් තව දවස් කීයද තියෙන්නේ...? නිකං ෆේල් වෙන්න බෑනේ."

අරුණි බොහොම සිරා මූඩ් එකෙන් කිව්වා.

"අපිට උනත් විභාගෙ ලංවෙද්දි ඔහොම තමයි. ඔයාලාත් ඔය විජේරාමෙයි, ලයිබ්‍රරි එකෙයි වලේ වැටෙන්නේ නැතුව. පාඩම් කරන්න පටන් ගන්න. නැත්නම් ඉතින් සදාකල් ඒ ලෙවල් තමයි..."

අරුණි කියද්දිම අපේ පොඩි අක්කා පොත් වගයක් උස්සගෙන ආවා.

"ආ.., දෙන්නත් එක්ක හදන්න ගණන්, මං යනවා කාමරේට..."

මම එහෙම කියලා නැගිට්ටා. අරුණි අක්කා හිනාවුණා. අනේ මන්දා, මම ඒ හිනාවට යටි හිතින් ගොඩාක් ආසයි. අනික අරුණි අක්කා ඇවිදින විදිහ, ඇඳුම් අඳින විදිහ, ඒ හැම එකකම අමුතුම ලස්සනක් තියෙනවා. ඒ ලස්සනට ට්‍රයි කරන්න ගිහිං තේන්නම්, මම නෝන්ඩි වුණේ. කවදා හරි මට ලැබෙන්නත් ඕනෙ අරුණි අක්කා වගේ කෙල්ලෙක්. එයා ළඟ තමයි, මගෙ හිත ඉල්ලන හැම ලස්සනක්ම තියෙන්නෙ.

හවස්, වරුවේ කරන්න දෙයක් නැතිකමට, හොඳටම නිදා ගත්තා. මූණ පුරා ලාවට වතුර පාරක් ගලාගෙන යනවා වගේ තේරුණ හින්දා මාව එක පාරටම ගැස්සිලා ඇහැරුණා.

"නැගිටපන්. පුත්තලම් බූරුවා වගේ දවල් නිදාගන්නෙ නැතුව"

බිංදුවා වතුර කෝප්පෙකුත් තියාගෙන ඇඳ ළඟ හිටගෙන.

"මොන කරදරයක් ද බං. නිදහසේ ගෙදරවත් ඉන්න දීපංකො. අපායට ගිහිල්ලවත් උඹලගෙන් බේරෙන්න බෑ බං,... "

"මොකද හදිස්සියේ උඹේ විංචි මානවිකාව බලන්න යන්න අඬගහන්න ද ?. එහෙම නම් වෙරි සොරි මචං. මොකද මට දැන් හරි නිදිමතයි." මම එහෙම කියලා, අතෙන් මූනේ තිබ්බ වතුරත් පිහිදාගෙන අනිත් පැත්තට හැරුණා.

"උඹ මේ බණ කථා කරනවා. මට එදා හරියට කථා කරන්නවත් බැරිවුණා එයා එක්ක. අනික, වෙලාවකට අපි කට්ට කනවා වැඩි ද කියලත් හිතෙනවා බං"

"උඹට ඕක දැන්ද හිතුනේ, අපිට නම් ඒක හිතිලා ගොඩාක් කල්. කොහොම වුණත් උඹ දැන්මම අහන්න යන්න එපා. අපි තාම දන්නේ නැනේ බං, කෙල්ල කොයි ජාතියේ එකක් ද කියලා."

"ඒක නං ඇත්ත"

"බිංදු වතුර කෝප්පේ මගේ මේසේ උඩින් තියන ගමන් කිව්වා.

"ලව් කරනවා කියන එක, අපි හිතන තරම් ලස්සන දෙයක් නෙමේ බං. සමහරු දැකලා දවසෙන් දෙකෙන් අහනවා, යාළු වෙමුද කියලා. ඒවාට කැමති වෙන කෙල්ලොත් ඉන්නවා, උන් නම් මහ මැට් මෝල්ලු. අනික මචං.., කවදාවත් කෙල්ලක් දාගෙන රට පස්සෙ එයාව අඳුන ගන්න යන්න එපා. ඒක මහ බොරු වැඩක්. හොඳම දේ, හිතට අල්ලන කෙල්ලෙක්ව හොයාගෙන, අවුරුද්දක් දෙකක් ආශ්‍රය කරලා, ඒකි කොයි වගේ කෙල්ලෙක්ද කියලා දැනගෙන ලව් කරන එක. ඒකට තමයි බොක්කෙන් ලව් කරනවා කියන්නෙ... නැත්තම් හදිසියට දාගත්තොත් සෙට් වෙන්නේ, ලෝක මැන්ටලයක්......."

මම පෝය දවසෙ බණ කියනවා වගේ බිංදුට කිව්වා. ඌත් කථා නැතුව අහගෙන හිටියා.

"උඹ මහ සිරා ටෝක් දෙන පොරක් වෙලානේ බං... කොහොම වුණත්, දර්ශනේ නම් ඇත්ත. අනික, කෙල්ලෙක් දාගන්න ඕනෙත් ටිකක් කට්ට කාලා. නැත්තම් ඒකෙත් ආතල් එකක් නෑ"

බිංදු කිව්වා.

මම ඇඳෙන් නැඟිට්ටා. ඇඳුම් පොදි ගසලා දාලා, කොට්ටෙත් හරි ගස්සලා කාමරෙන් එළියට ආවා.

"ආ ඒක නෙමෙයි බං, ඊයේ මාර කොමිටල් කෙල්ලෙක් හම්බ වුණානේ අර ක්ලාස් එක ඇරිලා එද්දි... ඒකිගේ නම ඇස්ප්‍රීන්..."

මම බිංදුට කිව්වා.

"ඇස්ප්‍රීන් !"

"ඔව් බං. මරු කැල්ල, හැබැයි, අම්බානක ඔරොප්පු වෙනවා..."

"ඒයි, අපි පංසල් යනවා. එනවද ? යන්න අපිත් එක්ක..."

පොඩි අක්කා සාලේ ඉඳලා කෑ ගහලා ඇහුවා.

"කොහේ පන්සල් ද"

"බෙල්ලන්විල"

"යමුද ?"

මම බිංදුගෙන් ඇහුවා. ගෙදරට වෙලා නිකං වාටර් වෙනවට වැඩිය හොඳයි පංසල් යන එක. වෙන මොනවා නැති වුණත්, ලස්සන කෙල්ලෙක් හරි බලාගන්න බැරියෑ.

අපි මහරගමට ඇවිත්, දෙහිවල බස් එකක නගින්න හැදුවා.

"මාර සෙනගක් නේ බං"

බිංදු, බස් එක දිහා බලලා කිව්වා. බස් එකේ කපලා එකයි සෙනග.

"කොහොම හරි නගිමු. නැත්තං රෑ වෙනවා..." අම්මා එහෙම කියලා බස් එකට නැග්ගා. අන්තිමේදී හිරවෙලා, පැක්වෙලා ෆුට් බෝඩ් එකේ කකුලක් තියාගෙන, මමයි බිංදුයි බස් එකේ එල්ලුනා. අපේ අක්කයි, අම්මයි යන්තම් උඩට නැගලා. අරුණී අක්කා විතරක් තාම ෆුට්බෝඩ් එකේ. එයාව හතර පස් දෙනෙකුට මිරිකිලා.

"පව්..."

මට එහෙම හිතුණා. බස්එක, එක පාරටම ගැස්සිලා වලක වැටුනා. බස් එක ඇතුලේ හිටපු සෙනඟ ඔක්කොම ෆුට්බෝඩ් එක පැත්තට බරවෙලා. මගෙ අත කැඩෙන්න වගේ කැක්කුමයි. ඒ අස්සේ, බස් එක ආයෙත් බ්‍රේක් කළා. මගේ අත හිරිවැටිලා ගියා. ෆුට්බෝඩ් එකේ හිටපු දෙන්නෙක් තුන් දෙනෙක්ම මගේ කකුල උඩ. ඒ එක්කම කවුදෝ මගේ රිදෙන අත අල්ලා ගත්තා.

මම ඒ දිහා බැලුවා. අරුණී අක්කා ඇලවෙලා, අල්ල ගන්න තැනක් නැති හින්දා, මගේ අතින් අල්ලගෙන. මට එක පාරටම එයාගේ මූණ දිහා බැලුනා. අරුණී අක්කා හිනාවෙලා අත ආපහු අරගෙන, අමාරුවෙන් දොර අල්ල ගත්තා. ඒ හිනාවට ආයෙමත්... මගෙ හිත මොනවදෝ වෙලා ගියා.

# හතර

ස්කූල් බස් එක මහරගම හන්දියේ නැවැත්තුවා විතරයි, මම පොරකාගෙන නැගලා සීට් එකක් අල්ල ගත්තා. බිංදුයි, චානකයි තාමත් එළියේ.

"ඒයි, නැගපං බං ඉක්මනට. නැත්තං අදත් පපටලගෙන් පී. ටී. පාරක් දාගන්න වෙනවා."

මම කෑ ගැහුවා. හැමදාම අපේ ස්කූල් බස් එක, ස්කෝලේ ළඟට යනකොට අටවත් වෙනවා. අපි ජ්ලේන්ටියක් එහෙම ගහලා ස්කෝලෙට ඇතුල් වෙන්නේ, අටයි කාලට විතර. ඒ වෙලාවට ඔරොප්පු ශිෂ්‍ය නායකයෝ හිටියොත් ෂූවර් එකටම ඩබල් එක කන්න වෙනවා. බිංදුවාත් නැගලා, ලේන්සුව එහෙම එලලා මට එහා පැත්තෙන් ඉඳ ගත්තා.

"මොකක්ද උඹ එදා පංසලේදී කිව්වේ, පස්සෙ කියන්නම් කියලා. මටත් ඒක අහන්න මතක නැතිවුනා."

"අඩෝ සිරාවටම මටත් ඒක මතක නැති වුනානෙ. මොකක්ද දන්නවද...? අරුණී අක්කා ගැන."

"අරුණී අක්කා. මොකද උඹට ඒ ගැනවත් හිතුනද ..?

"එහෙම සීන් එකක් නෙමෙයි බං. අනේ මන්දා. මට ඒකි දැක්කම මහ පිස්සු අදහස් හිතට එනවා. සත්තයි මචං... වැඩිමල් නැත්නම් මෙලහකටත් මං ඒකිට ට්‍රයි කරනවා... ඒ තරමටම එයාව මගේ අග්න්‍යාසයටම වැදිලා තියෙන්නේ"

බිංදු පුදුම වෙලා වගේ මගේ දිහා බැලුවා.

"උඹ මේ පිස්සු කරන්න හදන්න එපා. අරුණි, උඹේ අක්කගේ යාළුවා. අනික, අපිට වැඩිය වැඩිමල් .... ඒ වගේද තෝරන්ඩිය. ට්‍රයි කළාම. යකෝ අපේ වයසෙයි, අපිට වැඩිය බාල කෙල්ලොයි ලක්ෂ ගානක් මේ ලංකාවෙ ඉන්නවා. අන්න එයින් එකකට ට්‍රයි කරපං"

"උඹට පිස්සුද බං..., මට එහෙම ලව් මෙනියාවක් නෑ, උඹට වගේ. අනික කොයි වෙලාවෙද මම උඹට කිව්වෙ, මම අරුණිට ලව් කියලා. උඹ නිකං මේ වලිගෙ පත්තු කරගෙන දඟලනවනෙ..."

මම එහෙම කිව්වෙ ඇත්තටම. මට අරුණි ගැන ආදර හිතක් ඇතිවෙලාත් නෑ. ඒත් මොකක්දෝ තේරෙන්නෙ නැති අමුතුම අමුතු, ලස්සනම ලස්සන දේවල් නම් හිතෙනවා. මේ, මී හරකාට ඒක තේරෙන්නේ නැනේ.

"අනේ, මේ මාව අන්දන්නේ නැතුව හිටපං ඩෝ. මම දන්නවනේ සතා කවුද කියලා".

බිංදු එහෙම කියද්දී, බස් එක නැවතුණා. නුගේගොඩ හන්දියේ ට්‍රැෆික් එකත් නැතිවෙන දවසක් නෑ. එතකොටම, දැකලා පුරුදු මූණක් තිබුණා, හෝල්ට් එකේ හිටපු කෙල්ලෝ ගොඩ අතරේ.

ඇස්ප්‍රීන්.....

අපේ කොමස් ක්ලාස් එකේ බයිට් එක.

"මචං, අන්න අරකට තමයි ඇස්ප්‍රීන් කියන්නේ..."

මම අපේ අනිත් එවුන්ට ඒකිව පෙන්නුවා. එහෙම කියලා, මම ඇඹිල්ල දික් කලා ඒ පැත්තට, ඔළුවත් දැම්මා වීදුරුවෙන් එළියට. කරුමෙට එයා නෙමෙයි මාව දැක්කේ, එයාගේ යාළුවෙක්. මම ඇඹිල්ලෙන් යාළුවාට කිව්වා, ඇස්ප්‍රීන් ට කථා කරන්න කියලා. යාළුවත් කථා කළා. ඇස්ප්‍රීන් බස් එක දිහා බැලුවා. එතකොටම..., බිංදු

"වන්.. ටූ.. ත්‍රී..."

කියද්දී, මුළු බස් එකම.

"ඇස්ප්‍රී...න්"

කියලා නුගේගොඩ හන්දිය දෙවනත් වෙන්න කෑ ගැහුවා.

ඒකිට මාර ලැජ්ජාව. මූණ සතපහ වගේ වුනා. මගේ දිහා රවාගෙන කන්න වගේ බලාගෙන ඉන්නවා.

ඇස්ට්‍රින්ගෙ යාළුවෝ ටික, කට කොනෙන් හිනා වෙනවා සින් එකට. අනේ දුරිත් හිටියා නම් ඒකි මාව සෙන්ටිමීටරේ කෑලි වලට කපනවා. ඒ තරමම තද ඔරොප්පුවක් තිබුනේ ඒ ඇස්වල...

ඉන්ටවල් එක වෙලාවෙදි මමයි, බිංදුයි එදා කලින් පැනපු වෙලාවෙ ලියාගන්න බැරි වෙච්ච නෝට්ස් ටික ලිය ලියා හිටියා. කොටා, සුගතදාස, රමිඳු, ගිණිකූරා කට්ටියම, පිටිපස්සෙ පේළියේ ඉඳන් සිංදු කියනවා.

**බඹර පහස ලබන මලක්දෝ ... විකිබුම්, විකිබුම...**

**බඹර සුවය සොයන මලක්දෝ විකිබුම්...**

රුකාන්ත හීනෙන්වත් හිතපු නැති තාලෙකට තමයි උං සිංදු කියන්නේ.

"ඒයි... අද ඇප්ලයිඩ් සර් නෑ..."

කොහෙද ඉඳලා ආපු ජැකා පන්තියටම කෑගැහුවා.

"නියමයිනේ..., ලාස්ට් පීරියඩ් දෙකම සොමියෙ ඉන්න පුළුවන්"

කොටා කිව්වා.

"එහෙනම් යමුද අදත් ඉක්මනට අරහේ..."

එහෙම කියලා අමිල නිකං නෝන්ඩියට වගේ බිංදු දිහා බැලුවා.

"පිස්සුද... ?, ආයෙත් සෙනසුරාදා තමයි වාටර් කන්නෙ..." බිංදු කිව්වා.

ඔය අතරෙදි, කවුදෝ කොල්ලෝ කට්ටියක් පංතියට ඇතුල් වුනා. හැමදාම වගේ, මොකක් හරි සංගමේකින් එන හන්දා මම ඔළුව උස්සලාවත් බැලුවෙ නෑ.

"මල්ලි, කවුද ඒ ලෙවල් වලට අළුතෙන් ආපු අය ඉන්නෙ...?"

අන්න එතකොට නම්, මගේ ඔළුව ඉබේම ඉස්සුනා. මූං මොකටද මෙහෙ ආවේ...? අපිට වැඩිය අවුරුද්දක් වැඩිමල්, ස්කෝලේ ඉන්න නොම්මර එකේ වලකාරයෝ ටික පන්තියට ඇවිත්. කැවුමා, බන්ටි, ලාඩා, කියලා නම් දාගෙන තිබුනට අපේ පන්තියේ එකෙක්වත්, උන්ගේ නම දන්නේ නෑ මට නම් ඕලෙවල් කරන දවස්වල ඉඳලම උන්ගේ ගැන්සිය දිරවන්නේ නෑ. පොඩ්ඩක් බැරි වුනොත්, දැලි පිහිය අදින්න තරම් කාඩ්බෝඩ් වීරයෝ ටිකක්....

මම වටපිට බලද්දී, අපේ පන්තියට අළුතෙන් ආපු පිරිස්, ගීෂාන්ත්, තාරක තුන් දෙනාම අත උස්සගෙන...

"ඉස්සරහට එනවා තුන් දෙනාම"

අපේ එවුන් තුන් දෙනාම ඉස්සරහට ගියා.

"උඩ පැනපල්ලා දහ පාරක්..."

ආ..., මුං එහෙනම් අළුත් උන්ට රැග් කරන්න ඇවිත් තියෙන්නෙ. මම කොටා දිහා බැලුවා. ඌව වෙව්ලනවා කේන්තියට. මටත් අම්බානක ඔරොප්පු වුනා, මේ බලු වැඩේට.

පිරිස්ලා උඩ පැනලා ඉවර වෙච්ච හැටියේම,

"ආ දැන් කරුණාකරලා තුන් දෙනත් එක්කම රුපියල් දහය ගානේ ගන්න එළියට ... එකෙක් එහෙම කිව්වා.

කොටා ඉස්සරහට ගියා.

"අයියේ මේ ... කැත... වැඩ කරන්න එපා ..., උනුත් අපි වගේ ම කොල්ලෝ... හැම එකා අතේම සල්ලි නැහැ. අනික මේක කැම්පස් එකක් නෙවෙයි නේ රැග් කරන්න...."

කොටාගේ කථාවට උන් කොරවුනා. උගෙත් සයිස් එකට නෙමේ වැඩ.

"අඩෝ මේ..., නිකං තියෙන පූ... ටිංකිරි ගාගන්නේ නැතිව හිටපං. මුන්ට රුපියල් දහයක් දෙන්න බැරි නම්, කොහොමද මේ ස්කෝලෙට ආවේ.......?"

මුන් හිතාගෙන ඉන්නෙ අපේ ස්කෝලේ ඉන්නේ මහ රජාලගෙ පුත්තු කියලද...?

රමිඳුටත් ඒ කථාවට තදවුනා.

"මොන බම්බුව වුනත් කමක් නෑ. අපේ පන්තියේ එකෙක්ටවත් රැග් කරන්නවත්, සල්ලි ගන්නවත් අපි දෙන්නෙ නෑ..."

"මුගේ උණ වැඩියි..."

කියාගෙන එකෙක් ඇවිත් රමිඳුගේ කොලර් එකෙන් අල්ල ගත්තා. මාව එක පාරටම නැගිටුනා. රමිඳුට අත තිබ්බොත් එහෙම.......

"අත ඇරපං යකෝ කොලර් එකෙන්"

රමිඳු එහෙම කියද්දිම ඌ රමිඳුගෙ කණට ගැහුවා. මායි, කොටායි උගේ ඇඟට පැන්නේ එක මොහොතේම. චට පට ... ගාගෙන, මම උගේ මූණට දීගෙන ගියා. අපේ අනිත් එවුන් ටික අනිත් දෙන්නට නෙලනවා. ඌ එහේ මෙහේ දඟලද්දි මගෙ ඔරලෝසුවෙ පටිය කැඩුනා. ඒත් කේන්තිය අඩුවෙනකම්ම, මමයි, කොටායි ඌට ගැහුවා.

පක පාරටම, ඌට අහුවුන කවකටු පෙට්ටියකින් ඌ අත දිග හැරලා... සොටාට ගැහුවා.

වටාස්.......!

කොටා මූණ බදාගනිද්දි, රළහට පෙට්ටිය මගේ මූණට වැදුනා. ඇස් දෙක තොරණක් වගේ පත්තු වුණා. ඌ අපි දෙන්නව තල්ලු කරලා එළියට පැන ගත්තා.

"අඩෝ මේකට රිටන් එක කන්න ලෑස්ති වෙලා හිටපං.... පස්සේ හම්බු වෙයං... පන්තියටම දෙනවා නිල් වෙන්න..."

"මොනවද පස්සේ හම්බු වෙන්නෙ, වන්ඩියා දැං වරෙං"

එහෙම කියාගෙන රමිදුත් ක්ලාස් එකෙන් එළියට බැස්සා. මාත් මූණ අල්ලගෙන එළියට පැන්නා. එතකොට උං ටික දිව්වා.

"හැබැයි මචං, මේ වලිය නම් මෙතනින් නතර වෙන්නේ නෑ. දන්නවනේ උන්ගේ හැටි. අමුම මදාවි ටිකක්"

"මොක්කු වුනත් කරන්න හැදුවේ මහ බලු වැඩක් නේ බං..., අපේ ස්කෝලේ නෝන්ඩි වෙන්නෙත් මුන් හින්දා..."

බිංදු ටැප් එක ළඟට ඇවිත්, මූණ හෝදා ගන්න ගමන් කිව්වා. උගෙත් ෂර්ට් එකේ බොත්තම් දෙකක් කැඩිලා.

"කමක් නෑ මල්ලි වලි නම් වලි..., ෂේප් නම් ෂේප්..., වලියයි ෂේප්පුයි දෙකක් බෑ..."

කොටා ඔරලෝසුවේ බෙල්ට් එක හිර කරගත්තා. ඔව් බලමු.....!

# පහ

ඇප්ලයිඩ් සර් රට ඉඳලා ඇවිල්ලා නැති එක, අපිට සිකුරාදාම ආරංචි වුණ හින්දා අපි කෙළින්ම ලයිබ්‍රරි ආවා. අද නම් එළියට බැස්සේ, කොහොම හරි හික ගැට ගහගෙන පාඩම් කරනවා කියලා හිතාගෙන. ඒත්, ඒක නම් ෂුවර් කරන්න පුළුවන් දෙයක් නෙමෙයි. මම කෙළින්ම ස්ටඩි රූම් එකට ගියා. බිංදු මටත් එක්ක සීට් එකක් අල්ලගෙන.

පිස්සු හැදෙනවා..., ඉසංකා නේද මේ ?

ඒ මේසෙම එහා පැත්තේ ඉසංකායි, එයාගේ යාළුවයි ඉඳගෙන, මේක නම් හැබැයි ගොඩක් දුර දිග යන වැඩක් වගේ.

"මෝනිං... උදේ පාන්දරම වැඩ අල්ලලා වගේ..."

මම හෙමින් එහෙම කියලා, ඉඳගෙන ෆිසික්ස් පොත පෙරළුවා.

"මෝනිං"

ඉසංකා හිනාවුණා.

"ඒක නෙමේ අර බලපං..."

"උඹේ යාළුවෙකුත් ඇවිල්ලා ලයිබ්‍රි එකට..."

"කවුද ....?"

"අර..."

බිංදු ඇඟිල්ල දික් කළා.

"අම්මට හුඩු ඇස්ප්‍රින් නේද..."

ඒකි තවත් කෙල්ලො ටිකක් එක්ක ඇවිත්. මම හිනාවෙලා ආපහු පොත පෙරලුවා, පාඩම් කරන්න හිතාගෙන.

ඒකාකාරී ප්‍රවේගයෙන් ගමන් කරන ස්කන්ධය M මත වස්තුවක... එක හුස්මට මම ගණන් හැදුවා. ටිකක් වෙලා ගිහිල්ලා වෙලාව බැලුවම තමයි දන්නේ, වෙලාව 10.45 කියලා.

"යමුද ? එළියට ටිකක්, ප්ලේන්ටියක්වත් බොන්න..."

"යමු..."

අපි කට්ටියම එළියට ආවා.

"මෙයානං මහ පව ගහක් ..."

ඉසංකා මගේ දිහා බලලා හිනාවෙවී කිව්වා.

"ඇයි..."

**"ඇයි කියලා අහන්නේ... .?, මොකටද මේ මැත්ස් කරන අය අපේ කොමර්ස් ක්ලාස්වලට රිංගන්නෙ...?"**

"ඇයි මැත්ස් කරන එවුන්ට කොමස් ඉගෙන ගත්තාම, වකුගඩු වලට අහිතකර වන්නට පුළුවන් ද ?"

"නෑ එහෙම නෙමේ. ඕනවට වැඩිය බර වැඩි වුනාම මොලේ තවත් පල්ලෙහාට බහින්න ඉඩ තියෙනවා...මොකද දැනටමත් තියෙන්නෙ ඉනෙන් පහළනේ...

ඉසංකාගේ යාළුවත් මාර කටර් එකක් වගේ. දෙයියෝ කෙල්ලන්ට මොළේ අඩුවෙනුයි, කට වැඩියෙනුයි දීපු හින්දානේ මේ කරදරේ...

කැන්ටිමේත් සූ ගාලා සෙනඟ. ඉඳගන්න ඉඩක් ඇත්තේම නෑ. සමහරු ස්ටඩි රූම් එකේ කොච්චර ඉඩ තිබුණත්, දවසම ඉන්නෙ කැන්ටිමේම නෙ. තවත් කට්ටියකට, ලියාපදිංචි මේස, පුටු එහෙමත් තියෙනවා. ඒ, පුස්තකාලේ ලයිෆ් මෙම්බර්ස්ලා.........

ඉසංකා සල්ලි දීලා ප්ලේන්ටි හතරක් අරන් ආවා. ඒකි හරි හොඳ කෙල්ලෙක් වගේ. ඕනෑවට වැඩිය ලොකු උණ නෑ. අපි කවුන්ටරේ ළඟ තියෙන ලැල්ලට හේත්තු වෙලා තේ බිව්වා.

"බිංදු මහරගම කොයි හරියෙද ?"

"පිළිකා රෝහල පාරේ..."

"ආනේ... මගෙත් යාළුවෝ ගොඩාක් ඉන්නවා ඒ පැත්තෙ..."

බිංදුයි, ඉසංකායි කතාව පටන් ගත්තා. මම වටපිට බැලුවා. එක තැනකවත් ඉඳගෙන ඉන්න එවුන් නැගිටින පාටක් නම් නෑ. සමහර තැන්වල එක පුටුවේ දෙන්නා තුන්දෙනා හවුලේ ඉඳගෙන. එතකොටම කැන්ටිමට ඇතුල්වුන කපල් එක දැකලා මාව උඩ ගියා.

"මළ කෙළියයි ... මචං අර බලපං"

මම බිංදුට ඇඟිල්ලෙන් ඇනලා ඒ ජෝඩුව පෙන්නුවා. ඇස්ප්‍රීන් කොල්ලෙක්ගේ අතක් බදාගෙන. කොල්ලා වෙන කවුරුවත් නෙමෙයි, එදා ක්ලාස් එකේ වලියේදි, මට කවකටු පෙට්ටියෙන් ගහපු ලාඩා. මාර සීන් එකනේ දැන්, එහෙං කෙල්ල ඔරොප්පු... මෙහෙන් කොල්ලාත් ඔරොප්පු. ඒ කියන්නේ ඔරොප්පුව ඩබල්.... අද නම් ජීවිතේට නොකාපු පරිප්පුවක් නොමිලේම හම්බ වෙයි වගේ. මගේ පපුව මටත් නොකියම ස්පීඩ් එක වැඩි කළා.

"දැන් මොකද කරන්නෙ... අමිලයවත් නෑ. අපි දෙන්නට තමයි ඇදගෙන නාගන්න වෙන්නෙ"

බිංදුත් අම්බානකට බයවෙලා.

"ඇයි ! මොකද කරන්නෙ ඔය දෙන්නට එක පාරටම වුනේ..."

ඉසංකා අපේ වෙනසට හේතු අහනවා. මොනවා කියන්නද ..?

"නෑ, මේ ස්කෝලේ පොඩි කවල් එකක්..."

එහෙම කිව්වහම, මෙන්න එයාගේ මූනත් ඩබල් වුනා. මම රබර් ඇහෙන් බැලුවා. අරුන් දෙන්නා දිහාව.

අනාථසාගරේ...

ඇස්ප්‍රීන් අපිව පෙන්නලා කොල්ලට මොනවද කියනවා.

"දැං ඉතිං ඉවරයි..."

මම බිංදුට වැලමිටෙන් ඇනලා බිම බලා ගත්තා.

ලාඩා උගේ ගැන්සියේ දෙන්නෙකුත් එක්ක අපි ළඟට ආවා.

"තමුසෙලා ස්කෝලෙදි අලි වත්ඩි වුනානේ. පුළුවන් නම්, දැන් දාපං ඩෝ ඒ පාට්".

"ස්කෝලෙ වලි පිටට වැඩක් නෑ..."

මම බය පැත්තකින් තියලා කිව්වා.

"එහෙනම් මොනවද ඩෝ ස්කූල් බස් එකේ යද්දි කෙල්ලන්ට අනම් මනම් කියලා කෑ ගහන්නේ."

"ඇයි... ? ඒකට තමුසෙගෙන් අවසර ගන්න ඕනෙද ?"

බිංදුත් පැන්නා. ඒ අස්සෙදි එකෙක් බිංදුට ගහන්න අත උස්සද්දි ලාඩා ඌව නැවැත්තුවා. ගැහුවොත් ගහනවා.... මම හිතා ගත්තා.

"එයා මගේ ගර්ල්. අනික එයාගේ නම ඇස්ප්‍රීන් නෙමෙයි, අංජලී. ආයේ මොනව හරි කියලා තිබුණොත්, පොලියත් එක්ක දෙනවා තොට...."

ඌ මට ඇඟිල්ල දික් කරලා කිව්වා. මගේ ඉවසීමේ කට්ට පුපුරලා ගියා.

"තමුසගේ කෙල්ල නම් මීට පස්සේ ඒ ගැන ලියලා බැනර් ගහනවා. එයාගේ පිටේ.... අනික අපිට තමුසෙගේ කෙල්ලගේ ජාතක ඕන නෑ....."

"සලාං...."

මගේ කතාව ඉවර වෙද්දිම උන් තුන්දෙනාම මගේ ඇඟට පැන්නා. අතේ තිබුණ වීදුරුව වැටුණා. මගේ ඇස්වලින් තරු පිට වෙන්න වැදෙනවා. මම ඔළුව බදා ගත්තා. බිංදුත් පැනලා, ඌට ගහනවා.

මුළු කැන්ටිමම හොල්මන් වෙලා බලාගෙන ඉන්නවා.

"අනේ ගහන්න එපා.... ඔක නවත්වන්න...."

ඉසංකා අඩ අඩා, කෑ ගහනවා. යන්තම් මගේ අතට පණ ආවා. මගේ ඇඟේ තිබ්බ හයිය ඔක්කොම බදල අරන් ලාඩාගේ මූණට කෙලලා ඇරියා. ඌව 'දඩාං....' ගාලා ළඟ තිබුණ මේසෙත් පෙරළගෙන බිම වැටුණා.

ඒ එක්කම අනිත් එකා හෙණ හයියෙන් මගේ බඩට ගැහුවා. බඩ කොරවුනා වගේ. මම අත් දෙකෙන්ම බඩ අල්ලා ගත්තා.

එනකොටම තව උස මහත කොල්ලො ගැන්සියක් අපි අතරට පැන්නා. 'උනුත් මුංගේ එවුන්ද...?'

ඒ අතරේ හිටපු කොළපාට ටී ෂර්ට් එකක් ඇඳ ගත්ත කොල්ලෙක් 'ලාඩා' වයි අනිත් එකාවයි, කවර් කළා.

"අඩෝ නිකං කෙල්ලො ඉස්සරහ වීරයෝ වෙන්න එපා. ආයේ මුන් දෙන්නට මොනවා හරි කරලා තිබුණොත් කඩනවා තොගෙ ඇට...."

ඒ පොර 'ලාඩා' ට එහෙම කිව්වහම මාව කරකෝලා අත ඇරියා වගේ වුනා.

"මුං කවුද ?"

මම බඩත් අල්ලගෙන බිත්තියට හේත්තු වුනා.

මගේ බඩ නැහැ වගේ. ඒ තරමටම රිදෙනවා, මම දෙපාරක් නැමුනා.

"මොකද වුනේ..."

අරුණි අක්කා මගේ ළඟ. අපිට සපෝට් එකට ආපු බුවාලා ටික ලාඩාවයි අනික් එකාවයි අල්ලගෙන මොනවද කියවනවා. උං දෙන්නත් බය වෙලා වගේ ඉන්නෙ.

"මේ..., ස්කෝලෙ නිකං පිචං වලියක් අක්කේ..."

මම බොහොම අමාරුවෙන් උත්තර දුන්නා.

"වෙලාවට අපි ආවෙ. නැත්තං උඹලා දෙන්නට නැව් ගුටි තමයි කන්න වෙන්නෙ උංගේ ගැන්සියක් වැඩියි. මහ කාඩ්බෝඩ් වීරයෝ ටිකක්".

අපිව බේර ගත්ත එකෙක් කිව්වා.

"මේ මගේ ක්ලාස් එකේ යාළුවෝ ටිකක්. අපි කැන්ටිමට ආවා විතරයි ඔයාලගෙ ගෝරිය පටන් ගත්තෙ..."

අරුණි අක්කා කිව්වා. ආ... එහෙනම් මෙයයි අපිව බේර ගන්න ඕඩර්ස් දීලා තියෙන්නෙ. ඒ කියන්නෙ අපිව බේර ගත්තු කට්ටිය, ලාඩාලටත් වැඩිය ලයිබ්‍රරි එකේ පදිංචිකාරයෝ වගෙයි. මොනවා වුනත් කමක් නෑ, ඔය තරම්න් ගුටි නොකා බේරුණ එක හොඳයි. වටපිට බලන්නත් මොකක්ද වගේ.

චා...චා...චා... වස ලැජ්ජාව...

එහෙත් බඩ රිදෙනවා. මෙහෙත් තෝන්ඩි වෙනවා. මම අරුණි අක්කාටයි, යාළුවෝ ටිකටයි, තැන්ක්ස්... කියලා බිංදුවත් ඇදගෙන ආපහු ආවා. උගෙන් නහයෙ ළඟ රතුවෙලා. ඉල්ලගෙන කන එකෙත් හොඳම එක... ඉසංකාත් අපේ පස්සෙන්ම ආවා. පව්... මේ කෙල්ලත් හොඳටම බය වෙලා.

"උඹට අමාරුද ...?"

මම ටැප් එකට මූණ අල්ලද්දි බිංදු ඇහුවා.

"ඔව් බං. බඩ කොර වෙලා වගේ..."

ඇත්තටම මගේ බඩ හොඳටම රිදෙනවා. අරුණි අක්කත් එතකොටම එතනට ආවා. මෙයා ආවෙත් නැත්තම් මට නැගිටින්න බැරි වෙන්න වදිනවා.

"ගොඩක් රිදෙනවද මල්ලි ..."

"ඔව්..".

මම ඔලුව වැනුවා. මට ඔලුව උස්සන්නත් ලැජ්ජයි.

"ඔයා පොඩ්ඩක් ඔහොම ඉන්න..." කියලා, එයා ඒ ගමන ඉසංකාගේ අතින් ඇදලා දුවලා ගියා. මම තාප්පෙට හේත්තු වෙලා ඇස් දෙක පියා ගත්තා.

"ආ..."

ටික වෙලාවකින් ආපු අරුණි අක්කා, මට සිද්ධාලේප එකක් දික්කලා. මාව ගොඩාක් අසරණ වුණා වගේ.

පව් අරුණි අක්කා.....! මම සිද්ධාලේප ටිකක් අතට අරං ගා ගත්තා. බිංදුයි ඉසංකායි ටිකක් ඉස්සරහට ගියා.

"බලන්න මල්ලි, මොනවද ඔයා මේ කර ගත්තෙ. ඔය පාර තවත් සැර වුනා නම් එහෙම..."

"අපේ වැරද්දක් නෑ අක්කෙ, උං ස්කෝලෙදිත් චන්ඩි වෙන්න හදනවා, කෙල්ලො ඉන්නකොට එතනත් වීරයො වෙන්න දඟලනවා. අපිටත් අකුලගෙන ඉන්න බෑනෙ..."

"එහෙම කියලා, මීට පස්සෙ රණ්ඩු වෙන්නෙ එහෙම නෑ..."

මම අරුණි අක්කගේ මූණ දිහා බැලුවා.

"අක්කගෙ යාළුවෝ අපිව බේර ගත්තට ගොඩාක් පිං..., ඒත් අක්කේ වැරැද්දක් නැතුව ආයෙත් තිරපරාදේ උං අපිට ගැහුවොත්, මැරෙන්න හරි බලාගෙන අපිත් ගහනවා..."

මම හිතේ තියෙන කේන්තිය හින්දා එහෙම කිව්වෙ. අරුණි අක්කා කෙළින්ම මගෙ මූණ දිහා බැලුවා. කිව්වට කවුද ඔහොම ගහන්නේ.....

"නිකං මුරණ්ඩු වෙලා පස්සෙ දුක් වෙන්න එපා මල්ලි..."

කියලා, එයා ආපහු හැරුණා. මම තේරුමක් නැතුව ඒ දිහා බැලුවා.

"අක්කට කියන්නද ?"

ආයෙමත් අරුණි අක්කා හිනාවෙලා ඇහුවා.

"මං දන්නවා ඔයාට ඒක කරන්න බෑ කියලා..."

මමත් හිනාවුනා.

* * *

මූළු බොරැල්ල පාරම සුදු ඇඳුමෙන් පිරිලා. අපි කහ ඉර ළඟට ආවා.

ෂා......!

පාර අයිනේ ට්‍රැෆික් එකට නවත්තලා තියෙන නිල් පාට ලයිට් ඒස් වෑන් එකක් ඇතුළෙ ඉන්නවා ලස්සන කෙල්ලක්. එක පාරටම එයා අපි ඉන්න පැත්ත බැලුවා.

හිත හීලෑ නෑ හරිම මුරණ්ඩුයිනේ...,

මගේ හිතට කලින්, ඇහැ ඉස්සර වුනා. මම ඒකිට ඇහැක් ගැහුවා. මට රැව්වා රැව්ල්ලක්... අම්මෝ ඇයි කෙල්ලො මෙච්චර වස....!

"ඊළඟට ගුටි කන්න වෙන්නෙ, ඔය වගේ පාරේ යන කෙල්ලන්ට ඇහැ දාලා..."

එහෙනම් බිංදුත් සීන් එක බලාගෙන ඉඳලා තියෙන්නෙ.

"අමිල, මොකද උඹ එදා ලයිබ්‍රරි ආවේ නැත්තෙ..."

"හොඳ වෙලාවට අය්යලා ගෙදර ආවේ..., නැත්නම් මටත් වෙන්නෙ දවස් දෙක තුනක් බඩ කොර කර ගෙන ඉන්න..."

අමිල මගෙ බඩට තට්ටුවක් දැම්මා.

එක අතකට මේ කාලෙදි ගුටි කන්නත් ඕනේ තමයි. නැත්නම් වැඩක් නෑ. කමක් නෑ. හැමදාම හැම තැනම නෑනේ... අපි තුන් දෙනා ගංසභා හන්දිය ළඟින් බැහැලා, සුභද්‍රාරාමේ පැත්තට පයින් ආවා.

"සනා අද කාඩ් ගන්න ඕනෙ නේද අලුත් මාසෙට ..."

"ඔව්... ඇයි උඹ සල්ලි ගෙනාවෙ නැද්ද ?"

"නෑනේ ..." මම කිව්වා.

"ටික්කාට ෂේප් එකක් දාමු..., මිනිහත් අකමැති වෙන එකක් නෑ. මොකද, අපි අවුරුදු හතරක් පහක්ම ඒ ලෙවල් කරන්නනෙ හිතාගෙන ඉන්නෙ..."

අපි කාඩ් පෝළිමේ ඉඳලා ක්ලාස් එක ඇතුළට ආවා. පේළි අතරින් යද්දි සුපුරුදු පරිදි හූ පාර ආවා.

"අඩෝ මොනවද එදා වුනේ..."

ඉසිපතනෙ වරුණයා කෑගැහුවා. ෂිහ් මූට තේරෙන්නෙ නැද්ද මන්දා ක්ලාස් එක මැද්දෙදි ඔය වගේ අවකැපෙන කතා කියන එක තරකයි කියලා.

"සුභද වලියක්ද... ?"

ආයෙමත් ඌ අහනවා. මම අපේ සුපුරුදු වෙන් කරපු පේළියේ කෙළවරේම ඉඳ ගත්තා.

"මේ..."

මට එහා පැත්තෙ හිටපු කෙල්ලක් කතා කළා.

"මටද ...?" මම හැරුණා.

"ඔයාගේ නම මාලින්දද ?"

"ඔව්. ඇයි ?"

"ක්ලාස් ඉවරවෙලා මාව පොඩ්ඩක් හම්බු වෙන්න පුළුවන්ද ?"

"ඇයි...?"

"එතකොට කියන්නං..."

මාව කරකෝල අත ඇරියා වගේ වුනා. ඒ ගමන මේ මොකක්ද වෙන්න යන්නෙ ?

ක්ලාස් එක ඇරෙනකම්, මම හිටියේ ඉවසිල්ලක් නැතුව. මට තාම හිතාගන්නවත් බෑ මොකක්ද කාරනේ කියලා. මම මේ කෙල්ලව අඳුනන්නෙත් නෑ.

"ඕන එකක්, උඹ ගිහිල්ලම අහගනිංකෝ.... කෙල්ල උඹට ලව්ද දන්නෙත් නෑ..."

බිංදු කියන එක ඇත්ත. ගිහිල්ලම බලා ගන්නවා. ක්ලාස් ඉවර වෙලා එළියට එද්දි එයා ඉන්නවා ක්ලාස් එක ඉස්සරහ අරලිය ගහ යටට වෙලා. මම බිංදුට ඇහෙන් කිව්වා, ඉස්සර වෙන්න කියලා.

"ඇයි..."

මම එකපාරටම ඇහුවා.

"ඔයා නේද එදා සෙනසුරාදා පබ් එකේදී අර..."

එයා වචන හොයනවා. දැං මේක නොදන්න එකෙක් නෑ වගේ. හැම තැනම ගිහිං..., නෝන්ඩියෙන් හොඳම එක.

"ඔව් මොකටද.... ඔයා සී. අයි. ඩී ද ?"

"අනේ නෑ මම අංජලීගේ යාළුවෙක්..., අර ඔයාලා ඇස්ප්‍රීන් කියන්නෙ එයාගේ, මම නිමාෂී..."

"ඉතින් දැන් මොනවද මගෙන් කෙරෙන්න ඕන..."

මම ටිකක් සිරා විදිහට කථා කළා. මොනවා වුනත් මෙයා කෙල්ලෙක්නෙ, මොනවටද මම ඇඹරෙන්නේ.

"එදා වෙච්ච එකට සොරි..., අංජලි එදා විහිළුවට වගේ එච්චර හිතන්නේ නැතුව තමයි ගිහාන්ට ඔය කතාව කිව්වෙ. එයා ඇත්තටම හිතුවෙ නෑ ඒක ඔච්චර දුර දිග යයි කියලා. අංජලිටත් හරි දුකයි වෙච්ච දේට..."

"මේකයි, නිමාෂී කතන්දරේ... ස්කූල් බස් එකේ යද්දී අපි හැම කෙල්ලටම විහිළු කරනවා. හැබැයි ඒ හැම එකා ළඟටම ගිහිං ලව් කරන්න නම් හදන්නේ නෑ. සමහරු හිතාගෙන ඇත්තේ එහෙම. අනික ඔය ගිහාන් ස්කෝලෙදිත් කරපු බලු වැඩේකට අපිත් එක්ක ඔරොප්පුවෙන් ඉන්නේ. අපිට තද වුනේ කොහෙවත් යන කෙල්ලෙක් හින්දා, තමන්ගේම ස්කෝලේ කොල්ලෙක්ට ගහන්න තරම් ඌ බූරුවෙක් වෙච්ච එක ගැන"

මමත් තදයා වගේ කිව්වා. මොන බම්බුවද... ? ඇස්ප්‍රීන්ගෙ උනත් වැඩිසිනෙ. දැං ෂේප් වෝක් දැම්මට එයා හින්දානෙ එදා මේ වලිය ෆෝම් වුනේ. මට මේ දවස්වල කෙල්ලෙක් හැතැප්මක් දුරින් ගියත් අප්ලයි. ඒ හින්දා මම නිමාෂිගෙනුත් පොඩ්ඩක් ඈත්වුනා පාර පැත්තට.

"ඒක නං එහෙම තමයි, කොහොමටත් ගිහාන් හරි අමුතු ජාතියෙ එක් කෙනෙක්... අපිටත් පුදුමයි, අංජලී ඒ වගේ කොල්ලෙක් එක්ක යාළු වෙච්ච එක ගැන..."

"අපිට නං පුදුම නෑ. අංජලීත් කොහොමත් තද උනෙන් නේ ඉන්නේ..."

"අනේ නෑ එයා හරි හොඳයි. එයා ආඩම්බරෙන් වගේ ඉන්නෙ ගිහාන් හින්දා".

"ඇයි ඒ... ?"

මම එහෙම ඇහුවට, මට මොකටද උන් දෙන්නාගේ ප්‍රේම ගීතේ.......

"ගිහාන් කැමැති නෑ, අංජලී වැඩිපුර කොල්ලොත් එක්ක කතා කරනවට... ඒ හින්දා තමයි එයා එහෙම ඉන්නෙ... අනික, අංජලි කා එක්ක හරි යන්තම් කතා කළත්, ගිහාන්ගේ යාළුවෝ එක දෙක කරලා ගිහාන්ට කියනවා..."

"අංජලී ගිහාන්ට ගොඩක් බයද...?"

මම එහෙම අහලා පාරේ නිමාෂිගේ අනිත් පැත්තට පැන්නා.

"ඔව්..."

"ඉතිං මොන බම්බුවටද බයේ බයේ ලව් කරන්නෙ...? ඊට වැඩිය හොඳයිනේ පිනක් දහමක් කරගෙන පැත්තකට වෙලා ඉන්න එක..."

එයා මගේ කතාවට හිනාවුනා විතරයි.

"තැන්ක්ස් මේ විස්තරේ කිව්වට. අංජලිට කියන්න ආයෙමත් අපි එයාට කෑ ගහන්නෙ නෑ කියලා. හැබැයි, ඒ එයාගේ වන්ඩියාට බයේ නෙමෙයි, අංජලී මේ විදියට කතා කළ හින්දා කියලත් කියන්න".

නිමාෂි මට අතවනලා පාරෙන් එහා පැත්තට පැන්නා. නුගේගොඩ පැත්තට යන්න. මම අපේ හෝල්ට් එක දිහාවට ආවා.

* * *

කාමරේ පොත් මේසෙ යකා නටලා වගේ. කොල කැලියි, පොතුයි හැම තැනම. අස් කරන්න ඕන අඳවත්. මම මේසෙ උඩ දූවිලි පිහිදාන්න හදද්දි, පොඩි අක්කා කාමරේට එබුනා.

"මේ හලෝ අද හවස ක්ලාස් ද ඔයාට....."

"නෑ. ඇයි...?

"යමුද පොඩි ගමනක් අපිත් එක්ක...?"

"කොහේද ?"

"සප්ත කන්‍යා බලන්න නුගේගොඩ යමුද..."

"තව කවුද යන්නෙ...?", මම ඇහුවේ මේසේ පිහිදාන ගමන්.

"මායි, අරුණියි, තව යාළුවෝ දෙන්නෙකුයි..."

අපේ එවුන් ටිකත් ෆිල්ම් එක බලන්න යමු කිය කියා ඉන්නේ. කමක් නෑ දෙපාරක් බැලුවට වැඩිවෙන්නෙත් නෑ. අනික පව් වැඩේ, පොඩි අක්කට මම නැතුව යන්න දෙන එකකුත් නෑ, ගෙදරින්.

"අම්මා මොකද කිව්වේ...?"

"යනවා නම් ඔයාවත් ඇදගෙන යන්න කිව්වා. අරුණිගෙයි, අනිත් එවුන්ගෙයි ගෙවල්වලට කිව්වෙත් යන්නේ ඔයා එක්ක කියලා".

"මට මාර ඉල්ලුමක්නෙ තියෙන්නෙ. මම එන්නම් හැබැයි මගේ අතේ නම් ටිකිට්ටටවත් සතයක්වත් නෑ..."

"තමුසෙට ඇති ඉල්ලුමක් නෑ හලෝ. අපිට අර, එක්කගෙන යන්න කොල්ලෙක් කියලා තමට එකෙක් ඉන්න ඕන හින්දයි අඬ ගැහුවෙ..."

"අපෝ... ඇති ඇති, යමු" මම කිව්වා.

"ඔයා තාම බැලුවෙ නැද්ද මේක...?"

අරුණි අක්කා, නුගේගොඩ හන්දියෙන් බහිද්දි මගෙන් ඇහුවා.

"කෝකද....?"

"වෙන කෝකවත් නෙවෙයි පිල්ම් එක..."

"තාම නෑ. මේ දවස්වල මහ බැංකුවෙන් මුදල් ආධාර දෙන්නේ නෑ, අපිට ආධාර දෙන කට්ටිය යන්නෙත් රිම් එකෙන් දැං..."

අරුණි අක්කා, අදත් ඇඳලා තියෙන්නෙ අර ලස්සන නිල්පාට ගවුම. ඒක ඇන්දාම එයා හරිම අහිංසකයි. ඇයි ඒ...?

අක්කාගේ යාළුවෝ කට්ටිය කලෙක්ෂන් දාලා ටිකට් ගත්තා. මම බකමූනා වගේ, ඔහේ බලාගෙන හිටියා. නැතුව වෙන මොනවා කරන්නද...? අතේ සතේ නෑ කියලාමනේ ගෙදරින් ආවෙත්. සෙනඟත් සූගාලා... හවුස් ෆුල් වගේ.

"සීට් පහක් නම් නෑ එක ළඟ..."

මම බැල්කනිය වටේටම කැමරාව දැම්මා. හැම තැනම කපල්. බලන්නත් මොකක්ද වගේ, බැරි වෙලාවත් අඳුනන එකෙක් හොර රහසේම උස්සලා නම් ඌට ලැජ්ජා හිතෙයි. ඒත් සීට් පහක් හොයා ගන්නත් ඕන එක ළඟ. එක තැනක නම් සීට් තුනක් තියෙනවා. අනිත් හැම තැනම තියෙන්නෙ එක එක. මොකද කරන්නේ...... මෙතන හිටගෙන ඉන්නත් බෑ.... අපිව නිකං ෂෝ රූම් එකක දාලා වගෙ හැමෝම බලනවා.

"මම කියන්නද... ? කවුරු හරි තුන් දෙනෙක් අතනින් වාඩි වෙමු. තව දෙන්නෙක් ඒ කිට්ටුවෙන්ම ඉඳගමමු. එහෙම නැතුව ආපහු යන්නයැ. දැන් ටිකටුත් අරන් ඉවරයිනේ..."

අක්කාගේ එක යාළුවෙක් කිව්වා.

"ඔකත් කියන්න දෙයක්ද බං ?. එහෙම නැතුව වෙන මොනවා කරන්නද...? ඔය තුන්දෙනා අතනින් ඉඳගන්න. මායි. මල්ලියි අනිත් පේළියට යන්නම්."

අරුණි අක්කා කිව්වා. අපේ අක්කා, කැපිල්ලට වගේ මගේ දිහා බලලා හිනා වුනා.

"මට උඹව නැනා කරගන්න වෙන එකක් නැනේ..."

අක්කලා එකතින් ඉඳගත්තට, එහා පේලියෙත් එක ළඟ සීට් දෙකක් හිස් තිබුනේ නෑ. හිස් සීට් දෙකක් දෙපැත්තෙ තියෙද්දි, අංකල් කෙනෙක් මැද ඉඳගෙන ඉන්නවා. යන්තම් අංකල්ට පාතිය දාලා, අපි දෙන්නා අංකල්ව එහා සීට් එකට යවා ගත්තා. එතකොටම වගේ, ෆිල්ම් එකත් පටන් ගත්තා. මෙක නම් අනිත් ඒවා වගේ නෙමේ. බලං ඉන්න පුළුවන් එකක්.

"මාලින්ද ... තාම නැද්ද ගර්ල් ෆ්‍රෙන්ඩ් කෙනෙක්...?"

අරුණි අක්කා පලවෙනි පාරට, මගේ නම කියලා කතා කළා.

"අපෝ නෑ. කෙල්ලෙක් දාගෙන, පස්සෙ පරිප්පු කනවට වැඩිය හොඳයි, මේ දවස්වල ෆුල් සොම්යෙ ඉඳලා ඊට පස්සේ මොනව හරි කර ගන්න එක."

"කෙල්ලෙක් එක්ක යාළු වුනාම ඇයි පරිප්පු කන්නේ..."

අඳුරේම අරුනි අක්කා මගේ දිහා බැලුවා. ඒ ඇස් දෙක කළුරටත් ලස්සනයි.

"කරනවා නම්, සිරාවටම ලව් කරන්න ඕනෑ. මට විහිළුවට කෙල්ලොත් එක්ක යාළුවෙන්න බෑ. එහෙම ලව් කරලත්, ඒ කෙල්ල බූට් එකක් තිබ්බොත් එහෙම, වහකන්නයි වෙන්නෙ..."

"ඉතිං අවුරුද්දක් දෙකක් හොඳට ළඟින් ආශ්‍රය කරලා ආදරේ කළොත්, ඒ වගේ ප්‍රශ්නයක් නැනේ...",

"මම නම් කොහොමත් හිතාගෙන ඉන්නෙ එහෙම තමයි. නැත්නම් දැකපු හැටියේ අහලා යාළුවුනොත්, කරගහන්න වෙන්නෙ ලෝක මැන්ටලයක්. ඊට පස්සේ, ලව් එක පටන් ගත්ත දවසේ ඉඳලාම ට්‍රයි කරන්න වෙන්නේ ඒකිගෙන් ගැලවෙන්න."

"ඉතින්, දැකපු ගමන් යාළුවෙන ජාතියේ පිස්සු කෙල්ලොත් ඉන්නවද ඔය තරම්..."

"ඕන තරම් ඉන්නවා. කොල්ලා මොකෙක්ද, දෙන්නා ගැලපෙනවද...? ඒවා මේවා කිසි එකක් උන්ට වැඩක් නෑ. ඕනේ ලව් එක විතරයි. ඉතිං... පස්සේ දාගත්ත එකා අනාථයි..."

ටික වෙලාවක් යනකම් අපි කථාව. අපි කථාව නවත්වලා තිරය දිහා බලාගෙන හිටියා.

"ලස්සනයි නේ..."

අරුණි අක්කා මගේ පැත්තට බරවෙලා හෙමිහිට ඇහුවා.

"ලස්සනයි",

මම යාන්තම් බැලුවා අරුණි අක්කා දිහා. එයා, ඇස් පියන්නේ නැතුව සිංදුව බලනවා. හෝල් එකේ එළියට, එයාගේ මූණේ පැත්තක් යාන්තම් එළිය වෙලා. නලල අගට වැටිලා තියෙන කෙස් රොද, ෆෑන් එකේ හුළඟට ලතාවකට ගැස්සෙනවා. මගේ හිතෙත්, ලස්සනම ලස්සන දේදුන්නක් පායලා වගේ. හිත ඇතුළේ දන්නෙ නැති අමුතුම සතුටක් තියෙනවා. ඒක මොන වගේ එකක්ද කියලාවත්, ඇයි ඒ ? කියලාවත්, මට තේරෙන්නේ නෑ. තේරෙන්නේ නැති දේවල් කොච්චර තියෙනවද මේ ලෝකේ.... මගේ පියාඹන හිත, මම සිංදුවට හැරෙව්වා.

"කිඳුරු කොදෙව්වේ, කසුන් කුමාරිකාවී.... සයුරු තෙරින් සැහවී ආවාදෝ..."

# හය

"උඹ එහෙනම් තනියම ෂෝ එක බැලුවා ආ..., බලූ වැඩ කරන්න එපා ඩෝ... ගැන්සියම සෙට් වෙලා යන්න හිටියනම් උන් එක්කනේ යන්න ඕනේ..."

මමත් "සප්ත කන්‍යා" බලපු එක මූන්ට කියලා නිකං ඉල්ලගෙන කෑවා. සද්ද නැතුව හිටියා නම් කිසි කතාවක් නෑ.

"මම ගියේ නැත්නම් අපේ අක්කට යන්න දෙන්නෙත් නෑ. පව්නේ බං, අපි වගේද උං. අවුරුද්දකට සැරයයිනේ ෂෝ එකක් බලන්නේ..."

මම ඩෙස් එක උඩට කකුලක් ගත්ත... සර්ලා පංතියේ නැති වුනාම මේක තමයි අපේ රාජ්පේ අමිලයා මේස ...යත් ගලවලා ඩෙස් එක උඩින් ඉදගත්තා.

"බඩගිනියි බං අම්මානෙ, උදේට කාලා ආවෙත් නෑ. කැන්ටීන් එකෙන් ගන්න යන්න විදියකුත් නෑ

මටත් බඩගිනියි වගේ. ගෙදරින් ඔතලා දෙන කෑම එක උදේ සාන්දරම කනවා. ඊට පස්සේ ගෙදර යනකං කුප්පෙටෝ වගේ බඩගින්නේ බලං ඉන්නවා. කාගේ හරි බත් එකකට තමයි වැඩක් දෙන්න වෙන්නේ...

කවුද අද අපිට දාගෙන් දෙන පින්වතා........

"මං කියන්නද වැඩේ...", කොටා පාත්වෙලා හොරෙන් කියන්න ගත්තා.

"අසංගගේ බත් එකට දෙමු වැඩේ. උගේ බත් එක හැමදාම ආතල්නේ. ඌ ගියා ලයිබ්‍රියට, පොත් වගයක් බාර දෙන්න, ඊට ඉස්සෙල්ලා ඔපරේෂන්, එක ඉවර කරන්න ඕනෑ..."

"පව් වැඩේනේ බං, එතකොට ඌ බඩගින්නෙ නේ.

"ඌටත් ටිකක් තියමු. අනික ඌ මහ ගොඩක් කන එකෙක් නෙමේ. හැමදාම ඔය බත් එක ලොකුවට ගේන්නේ අපිටත් එක්ක තමයි."

අසංගයාගේ බත් එක තමයි, පංතියට එන රසම බත් එක. ඒ හින්දා වැඩිය කන්න අඩුම ගානේ දහයක්වත් වට වෙනවා. උගේ බත් එකත් ලොකු හින්දා වැඩිය ගානකුත් නෑ."

කොටාම ගිහිං අසංගගේ බෑග් එකෙන් බත් එක අරගෙන ආවා. දිග ඇරියට පස්සේ සුවඳේ බෑ.......

"අම්මට හුඩු කුකුල් මසුත් තියෙනවා..."

එකෙක් කෑගැහුවා.

"හරි හරි, මොනව තිබ්බත්, වැද්දෝ වෙන්නේ නැතුව ෂේප් එකේ අනුභව කරමු. මතක තියාගනිල්ලා, අසංගයටත් පොඩි කෑල්ලක් හරි කුකුල් මස් තියන්න ඕනේ."

කොටා එහෙම කියලා හාපුරා කියලා අත තිබ්බා. මට දැන් බත් එකක් පේන්න නෑ. තියෙන්නේ අත් විතරයි. මමත් අත් අස්සෙන් වගේ අතදාලා අල කෑල්ලක් ගත්තා.

"ඒයි මටත් පොඩ්ඩක් ඉඩ දීපංකො බං..."

අමිල කෑ ගහනවා. "කනකොටවත් වද නොදී හිටපංකො, පැත්තකට වෙලා..."

මට කටක් වත් හරියට කන්න බැරිවුනා තාම. එතකොටම අසංග ආපහු ආවා පන්තියට.

"මචං අසංගයා ආපහු ආවා..."

මම රහසින් කිව්වා. එකෙක්ටවත් ගානක් නෑ. දැං මොනවා කරන්නද...?

"අසංග වරෙන් මචං බත් කටක් කන්න... උඹ පරක්කු වෙයි කියලා හිතාගෙන අපි බත් එක කෑවා."

"උඹ තරහා නෑනේ මචං. අනික දැං තරහා වුනත් කරන්න දෙයක් නෑ..."

කොටා මේසෙ උඩ ඉඳගෙන කීවා.

"උඹලත් එක්ක මොන එකක්වත් තියාගන්න බෑනේ. ඉතියෝපියාවේ එවුං හොඳයි උඹලට වැඩිය..."

අසංගත් එහෙම කියාගෙන ඇවිත් බත් එකට සෙට් වුනා. මොනවා වුනත් ඌ හොඳ එකා. ඒකේ තව කන්න දෙයක් ඉතුරු වෙලා නෑ.......

"එන්න රත්තරං මං ඔයාට කටක් කවන්න... මගේ කෙල්ලට අද ඉන්න වෙන්නේ බඩ ගින්නේ..."

කොටා කටහඬ වෙනස් කරලා, බත් ටිකකුත් අතට අරං අසංගට කිව්වා.

"කවපං මගේ කොල්ලෝ.........!"

කියාගෙන අසංගත් ඉස්සරහට ආවා. අපි හැම එකාටම මහ හයියෙන් හිනා ගියා සීන් එකට. මට නිකං ඉස්මොල්ලෙ යන්නත් වගේ, හිනාවෙලා. අම්මෝ නහය, කට පපුව හැම තැනම දැවිල්ලයි.

"මොකද ? අයිසේ තමුසෙලාට වෙලා තියෙන්නේ. අහල පහල පන්තිවල ළමයි වැඩ කරන්නේ නැද්ද...? පොඩ්ඩ බැරිවෙන්න බෑ, කෑ ගහනවා. මේක කෙල්ලන්ගේ ස්කෝලයක් නෙමෙයි අයිසේ..."

අපි ඔක්කොම ගැස්සිලා ගියා. ආරියතිලක සර්... අපේ සෙක්ෂන් හෙඩ්, කෑගැහිල්ල ඇහිලද කොහෙද අපේ පන්තියට කඩං පැනලා. කද්දිවත් පිස්සු කෙළින්නේ නැතිව ඉන්න බෑනේ අපිට. ඩෙස් උඩ හිටපු උං, ඔක්කොම බිම. බත් එක අමිලට කවර් වුන හන්දා සර්ට පෙනුනේ නෑ. මට තාමත් අමාරුයි, වතුර එකක් බොන්නවත් විදියක් නෑ. මේ යකා හින්දා මට සර් ගැන කරහකුත් ආවා.

අපේ හැම එකාම ඉදුල් අත් පස්සට කරගෙන පහසුවෙන් ඉන්නවා.

"හ්ම්... දැන්වත් සද්ද නොකර, පොතක් බලා ගන්නවා..."

කියලා සර් එළියට ගියා. යන්තං ඇති... මමත් දුවලා එළියට ගියා. ටැප් එක ළඟට ඉන්න බෑ. මැරෙන්න වගේ. මොළේ ඉඳලා පහලටම දැවිල්ලයි.

"මොකද බං කුළු හරකා වගේ දිව්වේ..."

මම කට හෝදද්දි බිංදුත් ආවා ටැප් එක ළඟට.

"මට කාපුවා හිරවුනා බං..."

ඒ අතරේ, අමිල තවත් පොඩි මල්ලි කෙනෙක් එක්ක අපි ළඟට ආවා.

"ආ... මල්ලි මේ ඉන්නේ, මෙයා තමයි මාලින්ද..."

ඌ මගේ දිහාට ඇඟිල්ල දික් කරලා පොඩි එකාට කිව්වා.

"ඇයි මල්ලි මොකද ?" බිංදූ නිකං කොක්කට වගේ ඇහුවා.

මම ගියා ඒ මල්ලි ළඟට.

"ඇයි මල්ලි..."

"අයියාට මේක දුන්නා අපේ අක්කා"

සාක්කුවෙන් ලියුමක් අරන් මට දුන්නා.

"මේක මොකක්ද ?"

"කවුද මල්ලි ඔයාගේ අක්කා ?"

බිංදූ පොරගෙන් ඇහුවා.

"නිමාෂි..., අයියලා එයාව හොඳට අඳුනනවා කියලා කිව්වා..."

"ආ... මේ නිමාෂිගේ මල්ලිද ? තැන්ක් යූ මල්ලි මේකට... මල්ලිගේ ක්ලාස් එක මොකක්ද...?"

"දහය වසර 5..."

නිමාෂිගේ මල්ලි කාරයා ගියාට පස්සේ, මායි බිංදූයි ලියුමත් අරගෙන ග්‍රවුන්ඩ් එකට ගියා. ඉන්ටවල් එක නිසා හැම තැනම කොල්ලො සෙල්ලං කරනවා. අපි දෙන්නා කෙලවරේ තිබුන පැවිලියන් එකේ උඩ පඩියේ ඉඳ ගත්තා.

කවරේ කැඩුවට පස්සේ ඇතුලේ තිබුනා හාප්ෂීට් කොළයක්. අකුරුනං මුතු කැට පරාදයි.

"හිතවත් මාලින්ද,

ඔයා මේ ලිපිය හීනෙකින්වත් හිතපු එකක් නෙමෙයි වෙන්න ඇති. ඒත්, එදා පුස්තකාලෙදි වෙච්ච සිද්ධියෙන් පස්සෙ, මට ඔයාලාගෙන් සමාව ඉල්ලන්න ඕන වුනා. ඒක එදා එහෙම වුනේ ඇයි කියලා මට තාමවත් හිතාගන්න බෑ.

එදා කොමස් ක්ලාස් ඉවර වෙලා ඔයයි, යාළුවො ටිකයි, විහිළු කළාම මට තරහා ගියා තමයි. ඒත් මම කොල්ලන්ගේ විහිළු අඳුනන්නේ නැති, මහ තරුම කෙල්ලෙක් නම් නෙමෙයි. මම හොඳටම දන්නවා කොල්ලො මට "ඇස්ප්‍රින්" කියන්නේ ඇයි කියලා. මම කොල්ලෙක් එක්ක නිකං මූණවත් බලලා කතා නොකරන හින්දා නේද ?

ඒත්... මාලින්ද, මම එහෙම කරන්නේ කැමැත්තකින් නෙමෙයි. ගිහාන් ආසා නෑ මම ඕනවට වැඩිය කොල්ලොත්

එක්ක කතාවට යනවට. සමහර විට, ඒ එයා මට ආදරේ වැඩි හින්දා වෙන්න ඇති. ඔයා විශ්වාස කරයිද දන්නෙත් නෑ, මම එදා ගිහාන්ට කිව්වේ ඔයාලා මට විහිළු කළා කියලා විතරයි. ඒකත් මම කිව්වේ හිනාවෙවී, විහිළුවට වගේ, එතකොට මම දැනගෙන හිටියේ නෑ, ඔයාලා එයත් එක්ක කොලේජ් එකේදිත් රණ්ඩු වුනා කියලා. එහෙම නම් මම කීයටවත් එදා ඒ කතාව කියන්නේ නෑ ගිහාන්ට.

මට තේරෙනවා සෙනග ගොඩක් ඉස්සරහදි ගුටි කෑවාම, කොල්ලෙක්ට ඇතිවෙන කේන්තිය මොකක්ද කියාලා. අනේ මාලින්ද, මට දහස් වාරයක් සමාවෙන්න, එදා ඔයාටයි, ඔයාගේ යාළුවටයි, වෙච්චදේට. ඒකමයි මම නිමාෂි අතෙත් කියලා එව්වේ. එහෙම කළත් මට ඒක හිතට මදි වගේ හින්දයි මේ ලියුම, නිමාෂිගේ මල්ලි අතේ එවන්නේ. අනේ... ප්ලීස් මේ ලියුම ගැන කිසිම යාළුවෙකුටවත් කියන්න එපා. බැරි වෙලාවත් ඕක කටින් කට ගිහින් ගිහාන්ට ආරංචි වුනොත් එහෙම...

මට ඔයා ගැන විස්තර කිව්වෙත් ගිහාන්මයි. මම එයාට අඩලා අඩලා කියලා පොරොන්දු කර ගත්තා, ආයෙත් රණ්ඩු කර ගන්නේ නෑ කියලා. මම දැන් මෙ සිද්ධිය හින්දා හැමදාම හිතෙන් තැවෙනවා. මට මේ ගැන කියන්න ඉන්නෙත් නිමාෂි විතරයි. ඒක හින්දා තරහා නැත්නම් මෙ සෙනසුරාදා පුස්තකාලෙදි මාත් එක්ක කතා නොකළාට කමක් නෑ, හිනාවෙලා හරි යන්න. මෙ සුමානෙ ගිහාන් පුස්තකාලේ එන්නේ නෑ. මම දන්නවා මේ වගේ ලියුමකින් ඔයාලට වෙච්චදේ මකන්න බෑ කියලා.

එත්... මට ආයෙත් සමාවෙන්න. ඔයාගේ යාළුවටත් කියන්න. මීට පස්සේ ඔයා ඕන දෙයක් කියලා මට විහිළු කරන්න. මම තරහා ගන්නේ නෑ හැබැයි එදා, අර මම බස් එකට නැග්ගාම කළා වගේ ඇස් ගහන්න නම් එපා හොඳේ. (විහිළුවට)

ඉතිං මම නවතින්නම්. සෙනසුරාදා ඔයා මාත් එක්ක හිනාවෙයි කියලා මම හිතනවා. නිමාෂිත් ඔයාව මතක් කළා. එයා කියනවා ඔයා හරි හොඳයි වගේලු.

මම අංජලී..."

අපි දෙන්නා එක හුස්මට ලියුම කියවලා ඉවර කළා. මම බිංදුගේ මූණ දිහා බැලුවා.

"පව් බං ඒ කෙල්ල" මමත් ඔළුව වනලා ලියුම දාගත්තා සාක්කුවට.

* * *

"ඒයි, අද දවල් යන්න ඕනෙ නේද පුස්තකාලේ..." අමිල ක්ලාස් එකේදී මගෙන් ඇහුවා. අපේ සර් රට ඉඳන් ආපු හින්දා, දැන් ඉතිං ආයෙමත් සෙනසුරාදා උදේ ක්ලාස්.

"මචං අපි උදේ වරුවේ එන්නේ නැති හින්දා අංජලී අප්සට් යයිද දන්නේ නෑ."

"මළ කෙළියයි... එහෙම වුණොත්. මට ඒක සිහියට ආවෙම නෑනේ. ගිය සෙනසුරාදා අපි උදේම ආපු හින්දා අංජලී අදත් අපි උදෙන් එයි කියලා හිතයිද... ? එහෙම වුනොත් ඔක්කොම අප්සට්. එයා හිතයි ෂුවර් එකටම අපි ඔරොප්පු හින්දා එන්නේ නෑ කියලා."

"පච් බං එහෙම වුනොත් නං. ලියුමේ හැටියට නම් ඒකි පුදුම දුකෙන් ඉන්නේ. නිමාෂි කිව්වෙත් ඒකමයි."

"කෙල්ලො ලියුම්වල ලියන ඒවා නම් තඹ සතේකට ෂුවර් කරන්න එපා."

අමිලගෙ කතාවෙත් ඇත්තක් තියෙනවා. අංජලීගේ ඇත්තම හිත මොනවගේද කියල දැන ගන්න නම් කතා කරන්නම ඕනේ. කතා කරන්න ගිහිං ගිහාන්ට මාට්ටු වුනොත්, එහෙම කෙල්ලට මාර ටොපියක් සෙට් වෙන්නේ.

මම බිංදු දිහා බැලුවා. ඌ ගිය සුමානේ ටියුට් එකේ ගණන් ආපහු හදනවා.

"ආ මල්ලි වැඩ වගේ..."

මම කෝචොක් එකට කතා කළා.

"මේ. තව පොඩ්ඩෙන් මතක නැති වෙනවා. ලබන සිකුරාදා මුකුත් වැඩ නෑනේ..."

"ඇයි ස්කෝලේ යන්නේ නැද්ද"

"ලබන සිකුරාදා නිවාඩු බං... මොන ස්කෝලෙද...?"

"ඇයි උඹ මේ ඔච්චර දහලන්නේ ගෙදර වැඩක්වත් තියෙනවද, අපිටත් පරිප්පු කන්න..."

"මට නම් කොහොමටත් එන්න වෙන්නේ නෑ. අම්මලත් එක්ක මම යනවා මාතලේ අක්කලගේ ගෙදර..."

අමිලයා එහෙම කියන ගමන් අඩි රූල ගත්තා රූප සටහනක් අඳින්න.

"නෑ බං, ඉසංකාගේ බර්ත්ඩේ එක. එදාට උඹලා දෙන්නත් එක්කම එන්න කියලා ඒකි මට කිව්වා."

"අමිලයට බැරි නං, උඹවත් වරෙන් යන්න මාත් එක්ක.... නැතුව මට නම් බෑ තනියම යන්න....

"ෂහ් මූ දැන් හරි දියුණුයිනේ. ඉසංකාගේ බර්ත්ඩේ එකට ඉන්වයිට් කරන්න තරම් ක්ලෝස් වෙලා දැන් එහෙනම්"

"පාටියක් නම් ඕන තැනක යන්න එන්නම්කො... බිංදු මේ, මට පානිය, මර්සිය දාන්නේ නැතුව කියපං උඹ ඒකිගෙන් ඇහුවද...?"

"උඹට මැන්ටල් ද බං... මම අර එදා කිව්වා වගෙ හොඳට ළඟින් ආශ්‍රය කරලා, සෑහෙන කාලයක් ගියාට පස්සෙ සීයට සීයක්ම හිතට පිට නම් අහනවා. එතකං හිතෙං ලව්..."

"මෙන්න මෙහෙමත් කතාවක් තියෙනවා මචං. ට්‍රයි කරද්දි තියෙන ආතල් එක දාගත්තට පස්සේ නෑ කියලා. ඒ හින්දා වැටුනේ නැතත් කමක් නෑ, පුළුවන් තරම් කල් ට්‍රයි කරපං..."

අපි ක්ලාස් ඉවර වෙච්ච ගමන්ම අනිත් උන්වත් පෙරලගෙනම ආවා එළියට. මට හදිස්සිය අංජලිව බලන්න, ඒ කෙල්ල මොනවා හිතලද දන්නෙත් නෑ. බිංදුටත් ඉසංකා බලන්න කලබලේ. අප දෙන්නා සමුද්‍රදේවී එක ළඟ පල්ලමේ ඉක්මනට දුවද්දි අමිලයත් අපි දෙන්නට බැන බැනම ආවා.

"මුං දෙන්නට කෙහෙවත් යන කෙල්ලො බලන්න, මගේ ඇඟේ තියෙන කැලරි ටිකනේ පිච්චෙන්නේ...."

ආපු ප්‍රයිවට් බස් එකක් හෙන හිමින් ආවා වගෙ කියලා තමයි මට හිතුනේ. අපි තුන්දෙනා පාර පැනලා පුස්තකාලෙට ඇතුළු වුණා. මගේ පපුව ගැහෙන වේගෙ වැඩියි. එක අතකට කාගෙවත් එක්ක කතා කරන්න යද්දි, මම මොකටද ගැහෙන්නේ උඩු හිතින් එහෙම හිතුවට, යටි හිතේ තියෙනවා මහ අමුතුම ගතියක්.

"මං කියන්නද බිංදු, ඉසංකා මේ වෙලාවට ඇත්තේ ස්ටඩි රූම් එකේනේ. උඹයි, අමිලයි, පලයං ස්ටඩියට, මම කැන්ටින් එකට යන්නම්... බැරි වෙලාවත් අංජලීලා උඩ හිටියොත් කියපං සීන් එක..."

මම මගේ පොත් දෙකත් බිංදුගේ අතට දීලා කැන්ටිම පැත්තට ආවා. කැන්ටිමට යන පාර දෙපැත්තෙම තැනින් තැන ආදරවන්තයෝ. ලව් කරනවා කියන එක නම් මහ පිස්සු වැඩක්.

මම කැන්ටිම ඇතුළට ඔළුව දැම්මා.

"ෂිග්..."

ජේන් තෙක් මානෙකවත් එයා නෑ. පව් වැඩේ... ගිහිල්ලද, නැත්නම් ස්ටඩි රූම් එකේද... ? හිත ඇතුළේ තිබ්බ ගැස්ම එක පාරටම හේදිලා ගියා.

මම කවුන්ටරේ ළඟට ගිහිං ප්ලේන්ටියක් [illegible]රං ආපහු හැරුනා. ඒ වෙලාවේ, එතනම තිබුන මේසේ ඔළුව ගහගෙන ඉ[illegible]පු කෙල්ලෙක් හිමිහිට ඔළුව ඉස්සුවා. අපි දෙන්නගේ ඇස් දුවගෙන ඇවිත් හැප්පුනා.

"අංජලී"

මම එයා ළඟට ගිහිං ඉඳගත්තා. මගේ මූණට ආපු හිනාව ආවේ, හිත පතුලෙන්මයි. නිමාෂිත් එතකොටම ඔළුව ඉස්සුවා.

"වෙරි සොරි අංජලී, අපිට අද උදේ ක්ලාස්. ඒ නැතුව තරහකට එහෙම නෙමෙයි, පරක්කු වුනේ"

"මං දන්නවා....", එයා හිනාවෙලා උත්තර දුන්නා.

"ඉසංකා මට කිව්වා. මම උදේම එයාගෙන් ඇහුවා."

"කෝ යාළුවා බිංදූ..."

"ස්ටඩි රූම් එකට ගියා. බිංදූගේ නම කිව්වෙත් ඉසංකාද...?"

අංජලී ඔළුව වැනුවා.

"ඉතිං..."

මම කතා කළා.

"සමාවෙන්න මාලින්ද එදා සිද්ධියට..."

එහෙම කියලා අංජලී, හරි අසරණ විදිහට මගේ දිහා බැලුවා. එයාගේ ඇස් දෙකත් පොපියනවා. අඩන්නද...?

"අපි ඒක අමතක කරමු. වෙච්ච දේ වුනා. අනික අපෙන් කට හොඳ නෑනේ අංජලී"

"ඒත් ඒක මට තාම වද දෙනවා..."

"ප්‍රොමිස් අංජලී මම ඒ ගැන හිතුවේ නෑ. හිතන්නෙත් නෑ. අනික අපේ වියසට ඔය වගේ දේවල් මොනවද...?"

පලවෙනි පාරට අංජලී කෙලින්ම මගේ මූණ දිහා බැලුවා. ඒ ඇස් දෙක මගේ හිත මොහොතකට නැවැත්තුවා.

"ඔයා දැං පාඩම් කරන්න ස්ටඩි රූම් යනවද...?"

"නැහැ..."

"කරදරයක් නැත්නම් අපි පොඩ්ඩක් එළියට යමුද මාලින්ද... ගිහාන්ගේ යාළුවෝ අපි දෙන්නව දැක්කොත් ඉවරයි... හැම තැනම ගිණි තියයි."

"යමු, මම ස්ටඩියට ගිහිං බිංදුට කියලා එන්නද...?"

අංජලී ආයෙමත් ඔළුව වැනුවා. කොච්චර වුනත් එයා ඉන්නේ නම් දුකෙන් වගේ.

"අංජලී මමත් එහෙනම් ස්ටඩියට යනවා..."

නිමාෂිත් අංජලීට අත වනලා, මාත් එක්ක ආවා ආපහු ස්ටඩි රූම් එකට. අංජලී නැවතුනා, ඉස්සරහ කොරිඩෝ එක ළඟ තියෙන පොකුණ ගාව.

"අපි දෙන්නා අද උදේ ඉඳලම හිටියේ කැන්ටිමේ... අංජලීට පාඩම් කරන්න බෑ කිව්වා." නිමාෂි එහෙම කියද්දී, මම පඩිපෙල නැග්ගා.

"ඇයි ඒ.....?"

"අනේ මන්දා..., එයා මේ දවස්වල හිටියෙත් අප්සට් එකේ..."

මට අත වනලා එයා ස්ටඩිය ඇතුළට ගියා. මම ඔළුව ඇතුළට දාලා බිංදුට කතා කළා.

"හම්බ වුනාද...?"

"ඔව්..., මචං, මම පොඩ්ඩක් එයත් එක්ක එළියට ගිහිං එන්නම්. දැන් වෙලාව එක හමාරයි. හරියටම හයට මම මහරගම බෝගහ ළඟ ඉන්නව. බැරි වෙලාවත් මම ආපහු ලයිබ්‍රියට ආවේ නැත්නම්, උඹ මගේ පොත් ටිකත් අරං එතන හිටපං..."

"ඒක හරි..., ඒත් මචං මට උඹව තනියම යවන්න බෑ. අනික මේ සීන් එක හින්දා, මට කොහොමත් බයයි. යං මාත් එන්නම් උඹත් එක්ක."

"පිස්සුද බං. ඕනේ නෑ. මම තනියම යන්නම්. කෙල්ලෙක් එක්ක යන්න ඇයි බය වෙන්නෙ..."

මම ඌට තට්ටුවක් දාලා, පල්ලෙහාට බැස්සා. ඌ කොච්චර හොඳ යාලුවෙක්ද ?

අංජලී තාමත් පොකුණ දිහා බලාගෙන ඉන්නවා. මාව දැක්කෙ නෑ.

"අංජලී..."

එයා මගේ දිහා හැරිලා බැලුවා.

"යමුද අපි"

අංජලී ගොඩාක් දුක හිතෙන විදියට මගේ දිහා බලලා ඔළුව වැනුවා. අපි දෙන්නා පුස්තකාලෙන් එළියට ආවා.

පුස්තකාලෙන් එළියට බැස්සට, යන්නේ කොහෙද...? ඇයි මෙහෙම යන්නේ කියන කිසිම දෙයක් මගේ හිතේ තිබුණේ නෑ. අංජලිටත්, ඒකේ ගානක් නෑ. ජීවිතේ හැටි එහෙම තමයි.

මම කලාභවන පැත්තට හැරුනා. මේ පැත්තේ ගිහිං නිදහසේ කථා කරන්න පුළුවන් එකම තැන පාක් එක විතරයි.

ඒත් තව එකෙක්ගේ කෙල්ලෙක් එක්ක පාක් එකට රිංගන්න... කවුරුවත් මාව දැක්කොත් ඉතිං පටී රෝල්. මම වේගෙ අඩු කළා.

"අංජලී මේ හරියේ නිදහසේ කතා කරන්න පුළුවන් එකම තැන පාක් එක විතරයි. "

"සමර්ගාඩ්න් එකට යන්න තරං මම සල්ලිකාරයෙක් නෙමෙයි. ඒත්... ඔයත් එක්ක පාක් එකට යනවා දැක්කොත්, මට කොහොම වෙතත්.... ප්‍රශ්නෙ එන්නේ ඔයාට..."

"කමක් නෑ අපි යමු. මට මේ හිතේ බර කාටහරි කියන්න ඕනේ. ඔයාට කමක් නැද්ද...?"

"අයියෝ මට ප්‍රශ්නයක් නෑ..."

තදයා වගේ මම එහෙම කිව්වට බැරි වෙලාවත් අඳුනන එකෙක් මාව දැක්කොත් නම් ඉතිං අනාථයි තමයි. කමක් නෑ කෙල්ලෙක් වෙලා අංජලිට නම් යන්න පුළුවන් නම් යන්න, ඇයි මට බැරි.

"මාලින්ද...."

"ඇයි"

මම මුහුණ හරවලා එයා දිහා බැලුවා.

"ඔයා හිතන්නේ මම මහ වනචර, පැනලා දෙන වල් කෙල්ලෙක් කියලද?"

"අපෝ නෑ.... එහෙම කෙනෙක් එක්ක නම්, මම මෙහෙම ගමනක් එන්නෙත් නෑ...."

අපි පාක් එකට ඇතුල්වෙලා ටිකක් දුර ගිහිං වැඩිපුර ගස් තියන තැනක තිබ්බ බංකුවක ඉඳගත්තා. සෙනසුරාදා වුනාට වැඩිය සෙනග නෑ වගේ.

"ඉතිං, දැං කියන්න ඔයාට මොකද තියෙන ප්‍රශ්නෙ කියලා.... අනික ඇයි මාවම මේකට ගාව ගත්තේ...."

"මට යාළුවෝ කියල ගර්ස්ලා ගොඩාක් හිටියට, එයාලට මේ වගේ දෙයක් කියන්න බෑ. මගේ එකම අයියත් දැන් ඉන්නේ ඉතාලියේ...."

"ගිහාන් හින්දා මට කිසිම කොල්ලෙක්, යාළුවෙක් වගේ තියා ගන්නත් බෑ.... ඔයා මට විහිළු කල දවසෙම ඔයා ගැන හරි පුදුම විදියේ හැඟීමක් ඇති වුණා. හරියට මගේ අය්යා මගේ ළඟ ඉන්නවා වගේ...."

"ඒත් අංජලී ඒක මහ පිස්සු හැඟීමක්නේ. ඔයා මං ගැන දන්නෙත් නැතුව කොහොමද එහෙම හිතුනේ...... එක පාරටම කොල්ලො ගැන ඔය වගේ තද විශ්වාසයක් තියන්න එපා...."

අංජලී එයාගේ බෑග් එක උකුලට අරගෙන, අත් දෙක ඒක උඩ තියාගෙන අහගෙන ඉන්නවා.

"මම බිංදුගේ යාළුවා, ඉසංකාගෙන් විස්තර ඇහුවා.... අනික මම ඔයා ගැන හිතපු විදිය වැරදි නෑ නේද.... ?"

"නෑ...."

මම එහෙම කියලා දිග හුස්මක් පිටකළා.

"මම දන්නවා මාලින්ද, ඔයාට මේක ලොකු පටලැවිල්ලක් කියලා. මටත් ඒකේ වෙනසක් නෑ. ගිහාන්ව මම ඉස්සෙල්ලාම දැක්කේ අපේ ස්කෝලේ එක්ෂිබිෂන් එකක් වෙලාවෙදි. එයා හරිම දඟයි. ඒ වගේමයි කට. මම හිතුවා එයා හරිම විනෝදෙන් ඉන්න කෙනෙක් කියලා. ටික දවසකින් එයා යාළුවෙක් අතේ අහලා එව්වා. මේක වුනේ ගිය අවුරුද්දේ අපේ ඕලෙවල් එක්සෑම් කිට්ටුව. නිමාෂි ඇර, අනෙක් අය හැම කෙනාම මට කිව්වේ යාළු වෙන්න කියලා... ඉතිං මම මගේ උත්තරේ දුන්නා."

"ගිහාන් කොයිවගේ කෙනෙක්ද කියලාවත් හෙව්වේ නැද්ද ඔයා...."

"නැහැ.... ඒ දවස්වල මට ඒවා කිසිම එකක් හිතුනේ නෑ...., මට ඔහේ වුනේ මොකක්ද ? කියලාවත් මට තේරුනේ නෑ.", ඒත් දවස්

කීපයක්ම අපි හම්බුවෙද්දි මට තේරුනා ගිහාන් කියන්නේ හොඳ කෙනෙක් නෙමෙයි කියලා.

"රණ්ඩුයි, මහා ජරා යාළුවොයි, තමයි එයාගේ ලෝකේ තියෙන්නේ."

මම සුරංගනා කථාවක් වගේ අහගෙන හිටියා. අංජලීගේ දෑස් අගිස්සේ පුංචි කඳුළු බිඳුවක් බිමට වැටෙන්න පෙරුම් පුරනවත් මම දැක්කා.

"ඒ වගේම එයාගේ ආදරේ හැම වෙලේම තිබුනෙ එක පැත්තකට විතරයි. මම කොල්ලෙක් එක්ක කථා කලොත් එදාට පැලෙන කං මට බනිනවා. ඒත් එයා හැම තැනම කෙල්ලො තියාගෙන ඉන්නවා."

"ඒ ගැන ඇහුවොත් එයා මට බැනලා විතරක් නම් ඉන්නේ නෑ."

"මේ...."

අංජලී එයාගේ බෙල්ල පිටුපස්සේ තිබුණ කොණ්ඩෙ මෑත් කළා. එතන තදින් හීරිලා රතුම රතු පාටයි. මට පුදුම දුකක් ඇතිවුනා අංජලී ගැන.

"ඔයාලගේ ගෝරිය ගැන කථා කරද්දි එයා මට ගැහුවා. ඒ වෙලාවෙ එයාගේ අතේ තිබුන මුද්දට හීරුනා...."

මෙතෙක් වේලා දහකර කර, තිබුණ කඳුළු බිංදුව එළියට ආවා. මගේ ඇඟිලි මටම අකීකරු වුනා. මම හිමින් සීරුවේ රතුපාට වුන තැනට අත තිබ්බා. අංජලී එක පාරටම මගේ අත එයාගෙ මූනට තියලා තද කරගෙන හයියෙන් අඩන්න වුණා. මුළු ලෝකෙම එක පාරටම නැවතුනා වගේ.

මට මේ කිසි එකක් තේරෙන්නේ නෑ. කොල්ලෙක් එක්ක වලියක් දාගත්තා, ඊට පස්සේ ඒ කොල්ලගේ කෙල්ලට විහිළු කළා, ගුටි කෑවා. දැන් ඒ කෙල්ලම මගේ අත බදාගෙන අඩනවා.

"ඉතිං ඇයි ඔයා ගිහාන්ගෙන් අයින් වෙන්නේ නැත්තෙ. ඔයාව බලෙන් තියාගන්න මිනිහට බෑ. අ[illegible] ආදරයක් නැතිව කොහොමද ඔහොම ඉන්නෙ. මට නම් හිතා ගන්නවත් බෑ...."

මම දුකෙන් කිව්වා. මගේ හිත ඇතුලෙත් කඳුළු ගඟක් ගලනවා. මගේ ඉස්සරහ අඩන අංජලී හින්දා මගේ හිතත් අඩනවා. කෙල්ලෙක් මේ තරම් මට සමීප වෙච්ච පළවෙනි වතාවත් මේකයි. මොන දේට හරි ඉස්ඉස්සෙල්ලාම කෙල්ලෙක් මගේ අතින් ඇල්ලුවෙත් අදමයි.

"මට අයින් වෙන්න බෑ මාලින්ද. මං ගිහාන්ට බයයි. එයා මට කිව්වා එයාගෙන් අයින් වෙලා නම් කවදාවත් ඉන්න දෙන්නෙ නෑ කියලා., මම කොහොමද ඉතිං විරුද්ධ වෙන්නේ...."

"ඉතිං ඇයි ඔයා මේක ගෙදරට කිව්වේ නැත්තෙ.... කෙල්ලෙක්ට ඉන්න හොඳම යාළුවාත් අම්මා නේද ....?"

අංජලී එක පාරටම මගේ අත අයින් කළා.

"මම දැන් කෙල්ලෙක් නෙමෙයි මාලින්ද......!"

මගේ මුළු ලෝකයම පුපුරලා ගියා වගේ. පාට පාට තරු නිවී නිවී පත්තු වුණා. ඒ එක්කම අංජලී, මුහුණ මගේ උකුළ උඩ තියාගෙන හොඳටම ඉකිගහන්න පටන් ගත්තා. මටත් නොදැනිම මගේ ඇහෙන් පුංචි කඳුළු බිංදුවක් මෝදු වෙලා. හරියට නමවත් දන්නේ නැති අහසින් පාත් වුනා වගේ හම්බු වෙච්ච මේ අහිංසක කෙල්ල ගැන මගේ ජීවිතේ මුල් වතාවට අනුකම්පාවකුයි, ආදරේකුයි, තද දුකකුයි ඇති වුණා.

"මට දැන්.... ගිහාන්ව අත අරින්න බයත් ඒකයි...."

අංජලී අඩ අඩා, කිව්වා.

මම එයාට අඩන්න ඉඩ ඇරලා, මගේ අත එයාගේ කොණ්ඩෙ උඩින් තිබ්බා.

අපි පැයක් විතර එහෙම ඉන්න ඇති. ටික වෙලාවකින් අංජලී නැගිට්ටා.

"මෙ කතා කියලා ඔයාගේ හිත රිදුනා නම් මට සමාවෙන්න මාලින්ද........"

"නැහැ අංජලී මට දුක ඔයාට කලින් විහිළු කළ එකට...."

"ඒත් දැං මගේ හිත සැහැල්ලුයි. මේවා යාළුවෙක්ටවත් කියන්න බැරි දේවල්. මම දන්නෙ නෑ ඇයි කියලා, මම ඔයාව විශ්වාස කරනවා, මේ වගේ දේවල් කියන්න තරම්...."

"බය වෙන්න එපා අංජලී අපි ප්‍රශ්නෙට උත්තර හොයමු. උත්තර නැති ප්‍රශ්න නැහැ. වෙනස තියෙන්නෙ අපිට උත්තරේ හොයාගන්න කල්ගත වෙන එක විතරයි. හැමදාම අඩන්න ඕනෙ නෑ අංජලී. ඔයා හිනාවෙන්නත් ඕනේ. ඒ දවස ඉක්මනටම එයි. අපි තව කල්පනා කරලා මෙක ලිහා ගමු කොහොම හරි...."

මම කියද්දි අංජලී ලේන්සුවෙන් කඳුළු පිහිදා ගත්තා.

"ගිහාන්ට මේවා දැනගන්න තියන්න එපා...."

මම කිව්වා.

අපි දෙන්නා එතන ඉඳල කොල්ලුපිටියට පයින් ආවා. කොල්ලුපිටියේ ඉඳලා දෙහිවලට එනකම්ම අපි අතරේ කථාවක් නෑ. මම දෙහිවල හන්දියේදී අංජලීගේ මූණ බැලුවා.

"මං යන්නං අංජලී...."

ඒ ඇස් දෙක මොහොතක් ගොළුවුණා. ඊට පස්සේ අංජලීගේ ලස්සන හිනාව මූනෙන් මතුවුණා.

මගේ හිත යකාගේ කම්මල වගේ. කෙල්ල හිතෙන් කොයි තරම් දුක් වෙනවා ඇත්ද ? පව් දෙයියනේ.... ගිහාන් ගැන හිතේ මෙතෙක් තිබ්බ කේන්තිය දෙගුණ වුණා.

මම මහරගමට එනකොට හයයි කාලයි. බිංදු ඇතදීම මාව දැකලා ළඟට ආවා.

"මොකද වුනේ.... ?"

"මට හරි දුකයි මචං අංජලී ගැන...."

අපි දෙන්නා ඇවිදගෙන එන අතරේදී මම බිංදුට විස්තරේ කිව්වා.

"ජීවිතේ කියන්නේ මහ පුදුම දෙයක් බං...."

බිංදු කිව්වෙ එච්චරයි.

# හත

හිතට වගේම ඇඟටත් අන්තිම කම්මැලියි. දවස් හයක්ම හැම තැනම ඇවිදලා ඉරිදා ඩීකරක් ගෙදරටම වෙලා ඉන්න ගියහමත්, පිස්සු වගෙයි.

මම කලිසමක් දා ගත්තා. බිංදුලගෙ ගෙදරවත් යන්න හිතාගෙන. ඌ ගෙදර ඉඳියිද? නැත්තං අදත් අවලමේ ගිහිල්ලද දන්නෙ නෑ.. කමක් නෑ යනවා.....ඌ නැති වුනත් මොකද? කටු කන්නේ පුරුදු වෙන්නයැ.

"තමුසෙට අදවත් ගෙදර නවතින්න බැ නේද.....? රස්තියාදුවෙමයි යන්න හදන්නේ....."

අපේ අක්කටත් ඕනෙ නැති එකක් නෑ. හැම එකකටම ඔළුව දානවා.

"තමුසෙලා වගේ ගෙදරටම වෙලා ඉන්න පුළුවන්ද හලෝ අපිට.... මේ කාලේ ඇවිද්ද නැති කකුල් දෙක, නාකි වුනාම අපිට බනිනවා....", මම ටී ෂර්ට් එක ඇඳගත්තා.

"කොහේ ගියත් කමක් නෑ. එන ගමන් අරුණිලගේ ගෙදරට ගිහින් ඇඳුම් වගයක් ඇති අරගෙන එනවා...."

"ට්‍රාන්ස්පෝර්ට් වලට ගෙවනවද.....?, නැත්තං බෑ. මගේ අතේ සතයක්වත් නෑ. සීසන් කට්ටෙන් තමයි මේ මේ දවස් වල සම්පූර්ණ ගමනාගමනේ..."

"දෙන්නම්..., දෙන්නම්. ඔයා ළඟ හැමවෙලේම ඉතින් නැති බණේමනේ..."

"උඹ ආපු එක නම් මලේ මල්. මම එහේ එන්න කියලා හිතාගෙන හිටියේ ..."

"ඇයි බං අත්‍යාවශ්‍ය සේවාවක්වත් සෙට් වුනාද ..."

"නෑ බං. අම්බානකට ස්ටෝරිස් තියෙනවා කියන්න. කොහෙද ර්යෙත් රෑ වෙච්චි හින්දා කියන්න බැරිවුනානේ. වරෙං...වරෙං...කාමරේටම ..."

"නංගී...අපිට තේ දෙකක් හදන්න ...", ඌ නංගිටත් කෑගහලා කිව්වා.

"උඹ ර්යේ අංජලීගේ කතාව කිව්වාම මට මතක් වුනේ ඉසංකාව ..."

"ඇයි ඒ...?", මම බිංදුගේ ඇඳේ ඉඳගත්තා.

"මට ගිය සුමානේ ඉසංකා කිව්වා අංජලී ගැන ගොඩාක් දේවල්. ඒකි මහ පුදුම චරිතයක් බං. අංජලී කලින් නම් මාර හොඳ කෙල්ලෙක්ලු. කා එක්ක උනත් හිනාවෙලා කතා කරනවාලු. ඉසංකාගේ යාළුවන්ටත් හරි පුදුමයිලු අංජලී වෙනස් වුන එක..."

"ගිහාන් හින්දානේ බං ..."

"ඒ උඹ හිතන හැටිනේ. මාත් හිතාගෙන හිටියේ එහෙම තමයි. ඒත්..., මචං ගිහාන් අංජලීට පණ වගේ ආදරෙයිලු. ඌ හැම එකකටම නීති දාන්නේ අංජලී නැතිවෙයි කියන බයට..."

"ඒ විතරක් නෙමෙයි. ඌ හැම තැනම කියලා තියෙනවා අංජලීව ෆිල්ම් වලටයි, එහේ මෙහේ උස්සපු ඒවායි හැම සීන් එකක්ම. දන් රටම දන්නවා උන් දෙන්නා මෙච්චර දවසක් කළේ මොනවද කියලා. ගිහාන් එහෙම පදේ ඇරියාම අනික් කොල්ලෝ ඒකිට ට්‍රයි කරන එකක් නෑ කියලා වෙන්න ඇති..."

"අංජලී ගෑණියෙක් වුනේ නම් ඒකිගේ අකමැත්තෙන් කියලයි මං හිතන්නේ..."

මම දිග හුස්මක් පිට කළා. බිංදුගේ කාමරේ එල්ලලා තියෙන අඩන බබාගේ පින්තූරේ මගේ දිහා බලාගෙන ඉන්නවා. අපි හැමෝම අඩන බබාලා තමයි.

"ඒක වෙලා තියෙන්නේ අංජලීගේ අකමැත්තෙන්. අරුගේ ඕනකමට. දන් ඌ හිතනවා ඇති ඒ මාර්ගෙන් අංජලීව තියාගන්න..."

"ඒත් මාලින්ද උඹ දන්නවාද..?, දවසක් අංජලීට ගෙදරින් බැනලා තියෙනවා, මේ සම්බන්දේ ආරංචි වෙලා. තාත්තා අංජලීට ගහලත් තියෙනවා. ඒක අහලා මහ පාර මැද්දේ දි ගිහාන් හොඳටම අඩලා බං...., උඹට විශ්වාස කරන්න පුළුවන්ද ඒක..."

"හිතන්න නම් අමාරුයි. ඒත් ඇත්ත වෙන්න පුළුවන්..., ඌ ඒකිට ආදරේ ඇති. ඒ වුනාට මචං..., උගේ ඒ අමුතුම මාදිලියේ ආදරේ හින්දා අර කෙල්ල හැමදාම වද විඳිනවා. එක්කෙනෙක් ගේ තනි කැමැත්තට ආදරේ කරන්න බෑ. එහෙම කළත් ඒක කවදාවත් හරියන්නෙත් නෑ..."

"ඔව්. අනික..., ඕනැවට වැඩිය ලව් කරන්න ගියත්, ඒක පවා ටික දවසකින් මළ වදයක් වෙනවා.

"උඹට ඕවා කියලා දුන්නේ ඉසංකාද...?"

"පිස්සුද බං... ඕවා මම තනියම පර්යේෂණ කරලා හොයාගත්තු ඒවා..."

අපි දෙන්නා දවල්ට කාලා එහෙම පාරට ආවා අරුණි අක්කලගේ ගෙදර යන්න.

"ඒයි අර බලපං කෝ ..."

අරුණි අක්කලාගේ ගෙදරට හැරෙන තැනදී, බිංදු ඇඟිල්ල දික් කළා. අරුණි අක්කාලගේ ගෙදරට කවුදෝ කට්ටියක් ඇවිත් වගේ. රතු පාට හොණ්ඩා සිවික් කාර් එකක්, එළියේ නවත්තලා.

'නෑදෑයෝ කට්ටියක් වගේ..., අපි වෙන වෙලාවක එමුද...?"

"අපි යමු. මොකද, අපි ගියා කියලා පැය ගාණක් ඉන්න එකක්යැ..."

බිංදුත් කියපු හින්දා අපි දෙන්නාම අරුණි අක්කාලගේ ගෙදරට ගියා.

"ඇන්ටි, අරුණි අක්කා ඉන්නවද...?", මම ඇන්ටිගෙන් ඇහුවා.

"ඔව් පුතා. ඉන්න, මම කතා කරන්නම්..."

ඇන්ටි අරුණි අක්කාත් එක්ක එළියට ආවා.

"හලෝ මල්ලි, එන්න මල්ලි ඇතුලට...., මම ඇඳුම් ටික ලෑස්ති කරලා තිබ්බා..."

අපි, ගේ ඇතුලට යද්දි ෆ්‍රෙන්ච් කට් එකක් දාපු හැන්ඩ් පොරක් සැටියේ ඉඳගෙන මැගසින් එකක් කියවනවා. මිනිහා නිකං..., සත්තු දෙන්නෙක් දිහා බලනවා වගේ අපි දිහා යටින් බැලුවා.

අනිත්ත හිතෙනවා හොම්බට....!

අපි දෙන්නාත් ඊට එහා පුටුවේ ඉඳගත්තා. මම ටික වෙලාවක් වටපිට බල බලා ඉන්න අතරේ අරුණි අක්කා ගේ ඇතුළට ගිහින් කූල් ඩ්‍රින්ක්ස් දෙකකුත් අරගෙන ආපහු එළියට ආවා.

"මල්ලි..., අක්කාට කියනවද හෙට ක්ලාස් එනකොට මගේ බොටනි පොතත් අරගෙන එන්න කියලා..."

"හා...අක්කේ..." , මම බීම එක තොල ගාන ගමන් කිව්වා. ඒ එක්කම අර පොර එකපාරටම අරුණි අක්කා දිහා බැලුවා.

"ඇයි අරුණි...., ඔයා හෙට එන්නේ නැද්ද අපිත් එක්ක කැන්ඩි යන්න...?"

"අනේ බෑ සමන් අය්යේ. තව ටික දවසනේ විභාගෙට තියෙන්නෙත්. මේ දවස්වල ක්ලාස් එකක් කට් වුනොත් අපරාදේ නේ..."

"කෙහෙල්මල් විභාගේ....විභාගේ...., මම ලංකාවේ ඉන්නෙත් සති දෙකයි තුනයි. ඒ ටිකේවත් ඔයා එන්නේ නෑ කොහේවත් යන්න. මෙයාව බැන්දට පස්සෙත්, මට තනියම තමයි ගමන් බිමන් යන්න වෙන්නේ..."

මගේ පපුව ගිණිගත්තා වගේ වුනා. කාටත් හොරෙන් මම බිංදු දිහා බැලුවා. ඌත් මගේ දිහා යටින් බලනවා. මම අරුණි අක්කා දිහාවට ඇස් විහිදෙව්වා. එයා මගේ ඇස් දිහා බැලුවේ නෑ. බිම බලාගත්තා.

වැඩි වෙලාවක් අපි එහේ හිටියේ නෑ. ඇඳුම් ටිකක් අරගෙන, අපි දෙන්නා කතා නොකර සැහෙන දුරක් පාර දිගේ ආවා....මම අරුණි අක්කාට මේ තරම් ලෙන්ගතු ඇයි කියලා මමවත් දන්නේ නෑ. ඒත් අර කතාවට පස්සේ නම්, මට මං ගැනම දුකක් හිතුනා. ඉරිසියාවක් වගේ දෙයක් හිත ඇතුලේ දහලනවා. ඇයි ඒ...?

මගේ හිත ඇතුලේ ඔටුණු පළඳපු කුමාරිය වුනේ අරුණි අක්කා. ඒ ඇස් දෙකට, කතාවට, ගමනට.... හැම දේකටම මම ආසයි. ඒක ආදරයක්ද...කියලා මම දන්නේ නෑ. ඒක ආදරයක් වුනත්, කවදාවත් හැබෑවෙන්නේ නැති හීනයක්. මට තවත් දුක ඒකයි....

ඇයි මට මේ වගේ දුකක් හිතෙන්නේ...?, මට තේරෙන්නෙ නැති එකම දේත් ඒක..., මට දන් එකම එක දෙයක් විතරක් තේරෙනවා. මම කැමති දේවල් ඒ විදියටම ලබාදෙන්න තරම්, මේ ලෝකේ ලස්සන නෑ...

"උඹට දුක හිතුනද...?"

බිංදු කිව්වේ අපි දෙන්නා අතරේ තිබුන නිහඬ බව බිඳගෙන.

"ඔව් බං..."

මම මගේ අභිජාත මිත්‍රයාට ඇත්තම කිව්වා.

# අට

හැමදාමත් ඉර පායනවා. බහිනවා. ඒත් ඒක අපිට එපා වෙන්නෙත් නෑ. ජීවිතෙත් ඒ වගේමයි. එකම දේ හැමදාම වුනත් එපා වෙන්නේ නෑ

මට ඇඳේදීම එහෙම හිතුනා. අද ස්කෝලෙ යන්න පුදුම කම්මැලියි වගේ. හිත පොඩ්ඩක්වත් නවතින්නේ නෑ,

ගිහාන්...... අංජලී..... අරුණි අක්කා.... විහාගේ.....

මගෙ හිත, ඒ සිතිවිලි දරාගෙන කැරකෙනවා. අංජලී, එදා මගෙ උකුලෙ ඔළුව ගහගෙන අඬපු දවසෙ, මගේ හිතේ ගලපු කඳුළු තවමත් වේලිලා නෑ. අරුණි අක්කාගේ සිද්ධියෙන් පස්සෙ, ඒ හිත ආයෙමත් පැරුනා. කොල්ලො වෙලාවකට කෙල්ලන්ටත් වඩා බොළඳයි....

මම කොට්ටෙ බදාගෙන මුනින් අතට හැරුනා. ඒත්..., අංජලීයි, අරුණි අක්කයි තාමත් හිත පතුලෙ ඉඳන් මගේ දිහා බලාගෙන ඉන්නවා වගේ. අරුණි අක්කා, මට වැඩිය වැඩිමල්.... ඉතිං ඇයි මට මේ වගේ දුකක් හිතෙන්නේ...? මට තේරෙන්නේ නෑ.

"ඔයා අද යන්නෙ නැද්ද....? අක්කා ටයි එක හද හදා මගේ කාමරේට ආවා.

"නෑ අක්කේ, අද කම්මැලියි.... ඇඟටත් නිකං හරි නෑ වගෙයි....."

"ඇයි ඒ.....? ඔයාගේ මූඩ් එකත් එච්චර හරි නෑ. මොකද?..... කෙල්ලෙක්වත් අප්සට් ගියාද....?"

අපේ අක්කට නම්, පොඩ්ඩ බැරි වෙන්න බෑ වෙනස තේරෙනවා.

"නෑ......!,මේ... ඒක නෙමෙයි, හන්දියෙදි බිංදු හම්බුවුනොත් කියනවද, මම හවස ක්ලාස් එකට.... එන්නම් කියලා...."

"හා....."

අක්කා එහෙම කියලා එළියට ගියා. මම ආයෙමත් මගේ කල්පනා ලෝකෙ තනි වුනා.

මට තාමත් අංජලීව තේරුම් ගන්න බෑ. ඇයි? එයා මාවම මේක කියන්න තෝර ගත්තෙ...., බැරි වෙලාවත් ගිහාන් මේවා දැනගත්තොත්..... ආයෙමත් ගුටි කන්න වෙනවා ෂුවර් එකටම. ඒත් ගුටි කෑවා වගේ නෙමෙයි, මේ කෙල්ලගෙ ප්‍රශ්නෙ. මට, මගේ හිත, තේරුම් ගන්න බෑ. මම අංජලීට ලෙන්ගතුයි..... ඒ කෙල්ල ගැන අනුකම්පාවක්, මගේ හිතේ දෝර ගලනවා. මෙතෙක් මගේ ජීවිතේට, කෙල්ලෙක් මං ඉදිරියේ දුක් වෙච්ච මුල්ම වතාව මේක...

ඒත් අරුණී අක්කා...., අංජලී වගේ නෙමෙයි නේ. මම අරුණී අක්කට ආදරෙයිද....?, මට තේරෙන්නෙ නැත්තේ ඒක තමයි. ඒත්, මම කොයි තරම් එයාට ලෙංගතුද.....? ආදරේ කියන්නෙ ඊට ගොඩාක් දුරින් තියෙන එකක්. මට ඒක කවමදාවත් ලැබෙන එකක් නෑ....., ඒ හින්දා අරුණී අක්කා ඇර මට ලැබෙන වෙන ඕනම කෙල්ලෙක්ව, මගේ හිතට අල්ලන්නෙ නැතිවෙයි කියලා මට හිතෙනවා. මගේ හිත දිග ඇරුනේ අරුණී අක්කට විතරයි. ඒක, වෙන කෙල්ලෙකුට කවදාවත් ඉඩ දෙන එකක් නෑ...

"මොකද? උඹට වුනේ...?"

බිංදු ඇතදීම අහගෙන ආවා. මම පොත් ටික ක්ලාස් එක ඇතුලෙ තියලා එළියට වෙලා හිටියේ.

"ඔළුවෙ කැක්කුමක් හැදුන බං...."

"අනේ ඩෝ, මට පානිය දාන්න එපා හරිද....?,උඹට ඊයෙ ජීන් එක, වැදුනා නේද බොක්කටම......"

"අනේ මන්දා...., හැබැයි ඔළුව කැක්කුම නම් හැදුනේ ඒ හින්ද නෙමෙයි....."

අමිලත් අපි දෙන්නා ළඟට ආවා.

"උනක්, හිසරදයක් නම්, අර ගොයම් කපන බඩුව ගන්න ඒවනෙ ගන්න ඕන....." ,ඌගේ කථාවට කට්ටියටම හිනා.

"මේ...මෙහේ වරෙන්..", බිංදු ෂේප් එකේ මට පැත්තකට කථා කළා.

"ඇයි....?"

"උඹට පතිවිඩයක් එවලා තිබ්බා අංජලී...."

"කා අතේද....?"

"අර එදා ආපු පොඩි එකා අතේමයි. ලබන 25වෙනිදා නිමාෂිගේ අක්කගේ වෙඩින් එකලු. පුළුවන් නම් අපිට එන්නලු. එහේ....."

"උඹට පිස්සුද....? බං, එහෙම කොහොමද මඟුල් ගෙවල් වල යන්නෙ, නිමාෂිව අපි අඳුන ගත්තෙත් ඊයෙ පෙරේදා... උන්ගෙ ගෙදර මිනිස්සු කළුද සුදුද කියලවත් දන්නෙ නැතුව අපි කොහොමද රිංගන්නෙ."

"ඒක ඇත්ත තමයි. ඒ වුනාට මේ වෙලාවෙදි ඒ කෙල්ලට ටිකක් හරි දුක අඩු වෙන්නෙ අපි හින්දා.... උඹ ඒක අමතක කරන්න එපා.අනික ඔච්චර කියලත් අපි ගියේ නැත්තං හරි නෑනේ බං...."

බිංදු අරලිය ගහේ අත්තකට හේත්තු වුනා.

"ඒ වුනාට උඹ පොඩ්ඩක් හිතපං බිංදු..., අපි තාම හරියට උන්ව අඳුනන්නෙත් නෑ, අනික අද කියලා. හෙට මඟුල් ගේක යන්න තරම් අපි නෑයෝද බං.... අඳින්න එකකුත් නෑ. ප්‍රසන්ට් එකකුත් නෑ. ප්‍රසන්ට් එකක් ගන්න සල්ලිත් නෑ... "

"තෑගි ගෙනියන්න ඕනේ නෑ බං.... නිමාෂියි, අංජලියි දෙන්නම දන්නවනේ අපි තාම ජොබ් කරන්නෙ නෑ කියලා. තියෙන එකක් ඇඳගෙන හවස යමු.... හැබැයි..... ඕනම පරිප්පුවක් කන්න සෙට් වෙලා වරෙං...."

මම රෑට කාලා ඉවර වෙලා, කාමරේට ඇවිත් ලයිට් එක දැම්මා. අක්කත් පාඩම් කරනවද කොහෙද...., හැම දෙයක්ම ටික දවසකට අමතක කරලා, අද ඉඳලා පාඩම් කරනවා . මම හිත හදාගත්තා. කෙල්ලො දෙන්නෙක්ට හිත බඳු දීලා. මගේ විභාගෙ අනාථ කරගන්න තමයි මට වෙන්නේ. තාම හරියට කිසිම දෙයක්, හිතට වැදිලා නෑ. ලයිබ්‍රි එක පැත්තෙ යන්නවත් හිතෙන්නෙ නෑ, එහේ ගියොත් නිකං නාගන්න වෙන්නෙ.

"මොකද? හලෝ පොත් ටික දිහා බලාගෙන අනිමිසලෝචනේද......?"

මගේ හිත හිතපු දේවල්, පුපුරලා ගියේ අක්කා කාමරේට ආපු හින්දා.

"ක්ලාස් ගිහිං, 138 බස් එකේ පොඩිවෙලා, තැම්බිලා ආවාට පස්සෙ පාඩම් කරන්න පිටි එකක් ඉතුරු වෙන්නෙ නෑ හිතේ....."

"අනේ මේ.... නිකං ඉන්නවා. ඔයා විතරක් නෙමෙයිනේ ඔය පරිප්පුව කන්නෙ... දත් ඉඳලම පාඩම් කරනවා. නැත්තං ඉතිං කණු 4ක් තමයි උස්සං එන්න වෙන්නේ......."

"මට බණ කිව්වට, තමුසෙට දත් විභාගෙ පිට්ද....?"

"අනේ මන්දා බොට්නි, සූ, නම් ටිකක් විතර ෂේප්. පියක්ස් තමයි ඉතිං ෂුවර් නැත්තෙ...."

අක්කා මගේ ඇඳ අස් කළා.

"අරුණී අක්කා නම් හෙණ බ්‍රයිටා නේද....? ඒ හතරක් ෂුවර් ද...?"

මගෙ හිතෙන් ඒ ප්‍රශ්ණෙ ආවේ ඉබේම. මට තේරෙන්නෙ නෑ, හැම වෙලේම යටි හිත හොයන්නෙ අරුණී අක්කා ගැනමයි.මේක නම් හරියන වැඩක් නෙමෙයි.....

අක්කා ඇඳේ ඉඳගෙන මගෙ දිහා බැලුවා.

"අරුණී තමයි ක්ලාස් එකටම ඉන්න, තදම බ්‍රයිට් කෙල්ල...... ඒ වුනාට....

ඇයි....!"

මම හිතට ආපු පුදුමය එළියට දැම්මා. කුතුහලය හිත ඇතුලේ පිටාර ගලනවා.

"විභාගෙ පාස් වුනත් එයාව කැම්පස් යවන්න, ගෙදර අය කැමති නෑ. ඊට කළින් එයාට ප්‍රපෝසල් එකක් ගෙනල්ලා... මැරි කරන්න...."

"එයාලගෙ අම්මට පිස්සුද.....? මෙච්චර මැරිලා මැරිලා ඉගෙන ගෙන, කැම්පස් යන්න දෙන්නෙ නැත්තේ... හැම එකාම දත කාගෙන ට්‍රයි කරන්නෙ කැම්පස් යන්න නේ...."

"අම්මලගේ පිස්සු වැඩ ගැන නම් කියලා වැඩක් නෑ හලෝ..... අපේ යාළුවෝ හැමෝටම දුකයි ඒකි ගැන. ඔයා දන්නවද අරුණීව බඳින්න ඉන්නෙ කවුද කියලා....?"

අක්කා එහෙම අහද්දි, මගෙ පපුව ඇතුලේ ඉන්ටසිටි කෝච්චි දෙක තුනක් එක සැරේම එහේ මෙහේ ගියා. හිත, සැකෙනුයි, දුකෙනුයි පිරිලා. අක්කා මේ කථාව නවත්තනවානම් හොඳයි. මට ඕනෙ දත්, ලයිට් එක නිමාගෙන ඇඳේ නිදාගෙන කල්පනා ලෝකේ දුරට යන්න.

"නෑ....", මම පෑනෙන් මේසෙ ඉරි අඳින ගමන් කිව්වා.

"ගිය ඉරිදා ඔයයි, බිංදු මල්ලියි අරුණිලගේ ගෙදර ගිය වෙලාවෙ හිටියා නේද සමන් කියලා අයියා කෙනෙක්. අන්න එයාව තමයි....."

"ඉතිං අරුණි අක්කා කැමතිද?"

මෙච්චර වෙලා හිත ඇතුලෙ හංගගෙන හිටපු මහලොකු ප්‍රශ්ණේ එළියට ආවා.

"අරුණිගේ අකමැත්තක් නෑ....."

මගේ ඉස්සරහා තරු නිවුනා. පත්තු වුනා. ලයිට් එක තිබුනට මුළු කාමරේම එකපාරට කළුවර වුනා වගේ. ලස්සනයි කියලා හිතාගෙන ඉන්න හැම දෙයක්ම ඉවර වෙන්නෙ දුකෙන්. මගේ හිත ඇතුලෙ හැමදාම දැකපු ලස්සන හීනේ රජ කරපු කුමාරි.... මට යන්තමටවත් අයිති නෑ,

අක්කට මගේ වෙනසක් තේරුනාද මන්දා....!

"සමන් අයියා හොඳයි. එයා ස්වීඩන් වල බිස්නස් කරන කෙනෙක්. ගති ගුණත් හොඳයි. ඒ වුනාට සමන් අයියා අරුණිට වැඩිය අවුරුදු 11ක් විතර වැඩිමල්. ඒ හින්දා එයාට ඕනෙ ඉක්මනටම බඳින්න......"

"ඉතිං ඒක,මිනිහගේ පැත්තෙන් සාධාරණයිනේ......"

"ඒ වුනාට......, අරුණි තාම පොඩි කෙල්ලෙක්නේ. අනික බැඳපු හැටියෙම අරුණිටත් යන්න වෙනවා ස්වීඩන් වල පදිංචියට....., සමන් අයියට එහේ පුරවැසිකම හම්බුවෙලා තියෙන්නේ. ඒත්, අරුණි චුට්ටක්වත් ආස නෑ ලංකාව දාල යන්න....."

අක්කා ඇඳෙන් නැගිට්ටා.

"ඉතිං අරුණි අක්කා මොකද කියන්නේ....?"

"එයා හරි ආසයි කැම්පස් යන්න. ඒත්.... අම්මලට.... සමන් අයියට මුකුත් කියන්නත් බයයි.....

"පව්.... අරුණි අක්කා.....", මට කියවුනා.

"මටත් හරි දුකයි.... කෙල්ල ගැන. සමන් අයියා හොඳ බවත් ඇත්ත. සල්ලි තියෙන එකත් ඇත්ත...." ඒ වුනාට මට හිතෙන්නෙ, අරුණිගෙ හිත ඉල්ලන්නෙ,ඒ ජාතියෙ කෙනෙක් නෙමෙයි කියලා...."

අක්කා කාමරෙන් එළියට ගියාට පස්සෙ,මම ලයිට් එක නිවලා, ඇඳට

ආවා. පාඩම් කරන්න හිතාගෙන. පෙරුම් පිරුවත් ඒකත් වැඩක් නෑ. හැම දෙයක්ම හරිම පුදුමයි. අපි අකමැති දේවල් වුනත් ලෝකෙට පේන්න කරන්නත් වෙනවා. මේක මහ පුදුම ලෝකයක්, අංජලියි, අරුණී අක්කයි එකම තරාදියේ දෙපැත්තට දාලා කිරන්න මට බෑ. ඒ, අරුණී අක්කගෙ පැත්ත හැමදාම බර වැඩි හින්දා. අංජලී මකුළු දැලකට අහුවුන සතෙක් වගේ. ඒ දැලෙන් ගැලවෙන්න බැරුව දඟලනවා. ඒ වගේ අරුණී අක්කා පෙරුම් පුරාගෙන යන්න හදන්නෙත් ඒ වගේ මකුළු දැලකටද....?

මම මේ කෙල්ලො දෙන්නා ගැන මෙච්චර හිතන්නේ ඇයි.....?, දෙන්නම මට අහම්බෙන් හම්බවුනේ. අංජලීව අයිති කරගන්න මට ආසාවකුත් නෑ, අරුණී අක්කව මට ලැබෙන්නෙත් නෑ.

මට තේරෙන්නෙ නෑ. ඒත් අරුණී අක්කව වෙන කොල්ලෙක් බඳින එක ගැන නම් මට දුකයි. ඉරිසියාවකුත් තියෙනවා. ඇයි.......? අපේ අක්කා අර වගේ කථාවක් කිව්වේ....

"අරුනිගේ හිත ඉල්ලන්නේ, ඒ ජාතියෙ කෙනෙක් නෙමෙයි....."

ඒ කතාව කීප පාරක්ම මගේ හිතේ දෝංකාර දුන්නා. කාමරේ තියෙන කළුවර අන්ධකාරය මාව බදා ගත්තා. අරුණී අක්කගේ ලස්සන ඇස්දෙක මට පවන් ගහනවා වගේ. හැබැහින් මගෙ ළඟට ආවේ නැති වුනාට කමක් නෑ.

හීනෙන්වත් මගෙ ළඟට එන්න..... අරුණී අක්කේ......

මම ඇස් දෙක පියා ගත්තා.

* * *

මොකද අද මූට වෙලා තියෙන්නේ....? මම බිංදු දිහා බැලුවා. උගෙ හිත නම් තියෙන්නෙ මේ ලෝකෙ නෙමෙයි. ආපු වෙලාවෙ ඉඳලම යූත් සෙන්ටර් එක දිහා බලනවා ඉවරයක් නෑ.

"ඒයි.... අර බලපන්....."

මම බැලුවා පාර දිහාවේ. ඉසංකා හිනාවෙවී පාර පනිනවා.

"අද නේද....... ඉසංකාගේ බර්ත්ඩේ එක....." මට දැනුයි ඒක මතක් වුනේ.

"ඔව්....."

අපි දෙන්නා ගැන්සියෙන් මාරුවෙලා ටිකක් පාර පැත්තට ගියා. මුං දෙන්නා මටත් හොරෙන් ලවක්වත් පටන් අරංද.....? ඒ එක්කම මට අරුණී අක්කාව මතක් වුණා. කොච්චර අමාරුවෙන් අමතක කරන්න හැදුවත් ආදරේ කියන වචනෙ හිතට එන්නෙම අරුණී අක්කත් එක්ක.

මගේ ලෝකේ නම් ආදරේ හීනයක් වෙයි.....!

"මෙනි හැපි රිටන්ස් ටූ යූ....."

බිංදුවා ඉසංකාට විෂ් කළා. එයා අතේ තිබුන පුංචි බ්‍රවුන් පේපර් බෑග් එකක් අපිට දුන්නා.

"මේ මොනවද......?"

මම බෑග් එක අතට ගත්තා. කේක් සුවඳයි. නරක නෑ එහෙනම්. අද උදේ පාන්දර බඩගින්නෙ ඉන්න වෙලාවේ, කැන්ටිමේ චන්දරේගේ ගුල්ලෝ පාන්වලට වැඩිය කේක් කොච්චර ෂෝක්ද.....?

මාළුපාන් නැත්නම්, කෑපල්ලා කේක්.....

"ඒක නෙමෙයි, මාලින්ද..... හවස ඔයාලා එනව නේද අපේ ගෙදර.... ඔන්න මම අම්මටත් කිව්වා. ආවේ නැත්නම් එහෙම මට මාර පල් එක...ප්ලීස් එන්න අනේ හරිද....?"

"ෂුවර් එකටම එනවා. අනික මට ඔයාලගේ ගේ බලාගන්නත් ඕනේ...." ඉසංකා පුදුම වුණා. ඒක පාරටම.

"ඇයි ඒ....."

"නෑ...... ඉතින් කවදහරි මල් බොකේ එකකුත් අරන්, දෙවෙනි මනමාලයා හැටියට ඔයාලගෙ ගෙදරට එන්න වෙන්නේ මටනේ...."

බිංදුවා මගේ පිට කෙනිත්තුවා, හෙන හයියෙන්.

උෆයි.....!, මුගේ ආච්චිට....

ඉසංකාගේ මූන ලැජ්ජාවෙන් රතුවෙලා, හිනාවෙලා බිම බලාගත්තා.

"මූට පිස්සු ඉසංකා.... විකාර දොඩවනවා.... ගනන් ගන්න එපා...."

"මම දන්නවනෙ මෙයාගේ හැටි.... ඔන්න දෙන්නත් එක්ක එන්න ෂුවර් එකටම...."

ඉසංකා අත වනලා එයාලගේ ස්කූල් බස් එක් නවත්තන තැනට ගියා. අපි දෙන්නත් ආපහු හැරුනා.

"එයා මොනවා හරි හිතුවද දන්නෙත් නෑ..... කොහෙද උඹටත් බ්‍රේක් තියනවයෑ. ආපු එක කියනවා මී හරකා වගේ....."

බිංදුවා කියෝනවා. මම ඉසංකා **ඩීසු ඇෂ් එ**ක ඇරියා. මාර සුවඳයි.

"යකෝ කෙල්ලෙක්ට ට්‍රයි කරන**වනම් ඉස්සෙල්ලා** ඒකි දැනගන්න ඕනෙ උඹ ට්‍රයි කියලා. නැතුව හිතෙන් විතරක් **චූයි කරලා** කෙල්ලො දාගන්න බෑ බං...."

"හරි... හරි..... ජීවිතේටම එක කෙල්ලෙක්වත් දාගන්න නැති එකෙක් මට ලව් කරන්න ඇඩ්වයිස් දෙනවා එක්ස්පීරියන්ස් නැතිව, කෑ නොගහා පල ඩෝ යන්න...."

"බිංදූ..... උඹ දැනගනිං.....ලව් කරලා නැතිවුණාට... අවුරුදු ගානක් තිස්සේ ට්‍රයි කරපු එක්ස්පීරියන්ස්, අම්බානක තියෙන කොල්ලෙක් මම. ඒ වගේ පලපුරුදු කාරයෙක් ළඟින් ඉන්න එක ගැන උඹ ආඩම්බර වෙයං...."

බිංදු බෑග් එක අතට අරං බැලුවා.

"අම්මට හුඩු.... චොක්ලට් කේක්..... කෑලි අටක්ම...."

"මජරයා වෙන්නෙ නැතිව අම්ලයටත් කෑල්ලක් තියපං...." බිංදු කෙඳිරුවා.

* * *

"මේ... උඹ ළඟ සල්ලි කීයක් විතර තියෙනවද....?"

ඉස්කෝලෙ ඇරිලා, අපි කුනට විතර මහරගමින් බහිද්දි බිංදු මගෙන් ඇහුවා.

"රුපියල් පහලොවක් විතර ඇති...... මොකටද?"

"ඇයි බං...... බර්ත්ඩේ එක දවසෙ, කොහොමද අත වන වනා ඉසංකලාගේ ගෙදර යන්නෙ...?, මගෙ ළඟ තියෙන්නෙත් රුපියල් හතලිහයි....., කාඩ් එකක් ගත්තට පස්සෙ, වෙන මුකුත් ගන්න ඉතුරු වෙන එකක් නෑ....."

"පොඩ්ඩක් හිටපං..... අපේ අක්කා අද කෙමිස්ට්‍රි ක්ලාස් යන්න දැං හන්දියට එන්න ඕනේ පොතේ හැටියට. දාමු එයාට ලෝන් එකක්...."

"ෂුවර් එකටම එයිද......?"

බිංදුයි, මායි *යුත් සෙන්ටර්* එක ඉස්සරහ තියෙන සිමෙන්ති ගැට්ටෙ ඉඳගත්තා.

"මොකද.....? අද ගෙදර යන අදහසක් නැද්ද.....?"

උඩින් ඇහුන ඒ කට හඬින් මාව එකපාරටම කරකෝලා අතඇරියා වගේ. ඒ පැත්තට හැරෙන්න ඕනෙ නෑ, මම ඒ කටහඬ අඳුන ගත්තා.

අරුණි අක්කා....!

මාව එකපාරටම නැගිට්ටුනා. නාපු ගමන්ම වගේ එයා පන්ති යන්න ඇවිත් තියෙන්නෙ. කොන්ඩෙ තාමත් තෙත පාටයි. ඒ ඇස් දෙක ඉර එළියට දිස්නෙ ගහනවා.

මට ඒ දිහා බලන් ඉන්න බෑ, හිත දුකෙන් පිරෙනවා. වචන කටට එන්නෙත් නෑ. මම එයාගේ ඇස් දෙක දිහා බැලුවා. එදා මුල් දවසේ බස් එක ඇතුලෙදි වගේ, අපි දෙන්නෙ ඇස් යාවුනා.

මගෙ හිත ඔයා දන්නවනම් අරුණි අක්කේ, ඔය ඇස්වලින් කඳුළු එයි......

"අපි දෙන්නා මේ.... අපේ.... අක්කා එනකං හිටියෙ.... පොඩි ලෝන් එකක් දාගන්න. අඳුනන ගර්ල් කෙනෙක්ගෙ බර්ත්ඩේ පාටියකට යන්න තෑග්ගක් ගන්න...."

මම අමාරුවෙන් දිවට පන අරන් දුන්නා.

"කීයක්ද....? මගේ ළඟ නම් පනහකට වැඩිය නෑ..... ඇතිවෙයිද.....?"

"කමක් නෑ අරුනි අක්කේ. මම අපේ අක්කා ආවහම ගන්නං...."

"ඇයි මගේ සල්ලි ගන්න ඔයාට ලැජ්ජද....? පිස්සු නැතුව මේක ගන්න..."

මම පනහේ කොලේ දිහාත්, බිංදු දිහාත් බැලුවා. ගන්නවද.... නැද්ද....?

මම පනහේ කොලේ අතට ගත්තා.

"අරුණි අක්කෙ... සල්ලි තිබුනට, කෙල්ලෙක්ට ගෙනියන්නෙ මොනවද කියලා අපි දන්නෙ නැනේ..., පරක්කු වෙන්නෙ නැත්තං මොනවා හරි තෝරලා දෙන්න පුළුවන්ද....?"

බිංදු කිව්වා.

"පරක්කු නම් නෑ. හැබැයි මාලින්ද.... අක්කා ඇවිල්ලා බලයි මම

නැත්තෙ ඇයි කියලා.."

"මාලින්ද... මං කියන්නද...? උඹ අරුනි අක්කත් එක්ක ගිහින් ප්‍රසන්ට් එකක් තෝරපං. මම මෙතන ඉඳලා උඹලගේ අක්කා ආවොත් පනිවිඩේ කියන්නං....."

බිංදුවා එහෙම කියලා අරුණි අක්කට හොරෙන් මට ඇහැක් ගැහුවා.

"මම තෝරලා උඹේ හිතට අල්ලයිද බිංදු....?"

ඉබ්බා දියේ දානකොට මොනවද කිව්වා වගේ තමයි.

"එක වගේ හිතන එවුන්ට තමයි බං යාළුවෝ කියන්නේ...., උඹ තෝරපං.."

මට ලැබෙන්නෙ නෑ කියලා දන දනම හිටියත්, අරුණි අක්කත් එක්ක මොහොතක් හරි ඉන්න එක වුනත් කොයි තරම් සතුටක්ද....? මගෙ හිත හැමදාම හෙව්වේ ඒ සතුට විතරයි. ඒක මට සදහටම ලැබෙන එකක් නෑ. ඒ වුනාට කමක් නෑ ඉස්සරහදි දුක් වුනත් අරුණි අක්ක එක්ක, ඒ ඇස් දෙක දිහා බලාගෙන ඉන්න විනාඩිය වුනත් මට කල්පයක්.....

"ඒ ගර්ල් ඔයාලගේ වයසෙමද....?"

අරුණි අක්කා ෂෝකේස් එක දිහා බලන ගමන් ඇහුවා..

"ඔව්...."

දිගසාය ඇඳලා, ලා රෝස පාට ෂර්ට් එක අත් නවලා ඇඳලා. පෝනි ටේල් එක බැන්දාම, අරුණි අක්කා හරියට කුමාරියක් වගේ. එයා කැග්ගක් හොයනකම් මම එයා දිහා බලාගෙන හිටියා. මගේ හිත කැමති නෑ, ඇස් දෙක මොහොතකටවත් එයාගෙන් අයින් කරනවට.

"මේක ලස්සනද....?"

පුංචිම පුංචි තිල්පාට රෙදි මල් පොකුරු දෙක තුනක් දාපු, ලස්සන මැටි මල්වාස් එකක් අතට අරන්, අරුණි අක්කා මගෙන් ඇහුවා.

"හරි ලස්සනයි. ඔයාගේ තේරීම නම් නියමයි...."

එයා හිනාවුනා විතරයි. බර්ත්ඩේ කාඩ් එකකුත් අරගෙන අපි සල්ලි ගෙවන්න කවුන්ටරේ ළඟට ගියා.

"කෙල්ලො කොහොමත් මල් වලට ආසයි...."

අරුණි අක්කා මගේ මූණ දිහා බලාගෙන කිව්වා.

"ඒ ඇයි දන්නවද....?"

"නෑ....." මම කිව්වා.

"අපේ හිතත්, කුළුඳුලේ පිපෙන්න පෙරුම් පුරාගෙන ඉන්න මල් පොහොට්ටු වගේ. පිනිවැටිලා තියෙද්දි හරිම ලස්සනයි. මල් පෙතිත්, කෙල්ලෙක්ගේ හිත වගේ සිනිඳුයි. කවදාවත් ගොඩක් ලොකු දුකක් දරන්න බෑ. හැබැයි..., පොහොට්ටුවේ ලස්සනට ආසා කරලා, පිපෙන්න කලින් කවුරු හරි පොහොට්ටුව කඩා ගත්තොත් කවදාවත් මලේ ලස්සන බලන්න බෑ, පොහොට්ටවු මලේ ලස්සන හංගගෙනම මැරෙනවා....."

"ඒක හරි පව් වැඩක් නේ......"

"පව් වුනත් පොහොට්ටුවට කියන්න බැනේ, මාව කඩාගන්න එපා කියලා....ඒකට තරම් ශක්තියක් නෑ මල්වලට. ඉතිං පොහොට්ටුවට වෙන්නෙ කවදාවත් පිපෙන්නෙ නැතිව, පෙති වහගෙනම මැරෙන්න...."

මම කථා කලේ නෑ. කථා කරන්න මට වචන නෑ, අරුණී අක්කගේ හිත මේ තරම් ලස්සනයි කියලා මම දන්නෙ ගොඩක් කල් ඉඳලා. අකීකරු මගේ හිත ඔයා ළඟ තැන්පත් වෙන්න පාරමී පිරුවට, ඒක කවදාවත් ඉටුවෙන එකක් නෑ නේද අරුණී අක්කේ....

"හැම කෙල්ලම ඔය වගේ මල් නෙමේ අරුණී අක්කේ...., ඒත් මම එකක් දන්නවා.... ඔයා ඒ හැම මලකටම වැඩිය, ලස්සන මලක්....."

අරුණී අක්කා මගේ ඇස් දෙක දිහා බැලුවා. මම අහක බලාගත්තේ නෑ. ඒ ඇස් දෙකේ එළිය දිහා මොහොතක් බලාගෙන හිටියා. ලෝකයම ගොළු වුණා වගේ. බුක් ෂොප් එකේ කවුරුවත් නෑ වගේ කියලා මට හිතුනේ. හිත ඇතුළේ කඳුළු හංගගෙන අපේ ඇස් හිනා වුණා.

"කවදාවත්, පිපෙන්න කලින් මලක් කඩන්න එපා මාලින්ද..... ඒක ජාති ජාතිත් ගෙවා ගන්න බැරි පවක්....."

එහෙම කියලා අරුණී අක්කා බිම බලාගත්තා.

අපි සල්ලි ගෙවලා එළියට බහිනකම් කථා කළේ නෑ. එයා කියපු හැමදේකම ගොඩාක් දේවල් හැංගිලා තියෙනවා කියලා මට හිතුනා. බිංදුයි, අපේ අක්කයි එතනට ආවෙත් ඒ වෙලාවෙමයි. බිංදු මගේ මූණ දිහා බැලුවා.

අපේ අක්කයි, අරුණී අක්කයි ගියාට පස්සේ, අපි දෙන්නා පමුණුව පාරට හැරුනා.

"බිංදු..." මම නිහඬබව බින්දා....

"ඇයි....?"

"මම අරුණී අක්කාට ආදරෙයි...මචං.."

මෙතුවක් කල් හිතේ දෙගිඩියාවෙන් තිබුන ඒ දේ හරියටම තේරුනේ දැන් මොහොතකට කළින්.

බිංදු එක පාරටම නැවතිලා ගල් ගැහිලා වගේ මගේ දිහා බැලුවා.

"ඔව් බං..... මම ඇත්තටම ආදරෙයි...."

# නවය

"මචං..... ඕක නම්, හෙන සිරා වැඩක්..... මට නං හිතාගන්නවත් බෑ, කොහෙන් කොහොම කෙළවර වෙයිද කියලා....."

බිංදු ප්ලේන්ටි උගුරක් බිව්වා. අපි දෙන්නම අද ස්කෝලෙ ගියේ නෑ. සුමාන ගානක් තිස්සේ, අරුණි අක්කා කියපු කතාව තාමත් හිතේ දෝංකාර දෙනවා. ඉගෙන ගන්න කිසිම දෙයක් කෙරුනේ නෑ. මගේ හිත මටම හීලෑ නෑ.

"ඇත්ත බං...., ඒත් මම කියනදේත් උඹට තේරෙනවා නේද....? මම අටේ පංතියේ ඉඳලා කෙල්ලන්ට ට්‍රයි කළා. හැබැයි ඒ එක කෙල්ලෙක්ගෙන්වත් යාළුවෙමුද කියලා අහලා නෑ...., ඒ හැම එකක්ම කළේ කොලු කමට. මේක එහෙම දෙයක් නෙමෙයි බිංදු...."

මම මේසෙ උඩ ඔළුව ගහගත්තා. ස්කෝලෙත් නොගිහිං, තෝයේ කඩේකට වෙලා සිගරැට් බි බී මම මොනවද මේ කරන්නේ....?

විභාගේ..... අනාගතේ.... ඒ හැම එකක්ම මායාවක් වගේ....

"මේ අහපං..... අරුණි අක්කා කියන්නේ උඹේ අක්කාගේ හොඳම යාළුවා. අනික එයා උඹට වැඩිය වැඩිමල්. ඒ හැම එකකටම වැඩිය, අරුණිව බඳින්න එකෙක් ඉන්නවා. උඹ මේ කිසි දෙයක් ගැන හිතන්නේ නෑ..... තෝන්ඩි වුනොත් එහෙම වහකන්නයි වෙන්නේ....."

"මට තේරෙන්නෙ නැතුව නෙමේ බං. ඒත්...., හිත කුළුඳුලේම ආදරේ කරන කෙල්ලව හිතෙන් මකලා දාන්න බෑ ජීවිතේටම.... මම කෙල්ලෙක්ගෙන් හොයන හැම දෙයක්ම අරුණි ළඟ තියෙනවා. මට අනික් කිසිම කෙල්ලෙක්ව ඒ තරම් ලස්සන නෑ....."

"උඹට ඕක ඔච්චරම තදට වැදිලා නම්, උඹ ඒකිට බොක්කෙන්ම ලව්නං.... වෙන මොනවා කරන්නද......? අපි බලමු ඉස්සරහට මොකද වෙන්නේ කියලා....."

"මට හිතෙනවා බිංදු, අරුණි අක්කාත් මොනවදෝ හිතේ හංගගෙන ඉන්නවා කියලා. සමහර විට එයාට මල්ලිලා නැති හින්දා, එයා මට ආදරේ

කරන්නේ මල්ලි කෙනෙකුට වගේ වෙන්න ඇති. ඒත් ඒ හැම දේකටම යටින් මොනවා හරි තියෙනවා...."

"හරි..... ඒ හැම දේකටම කලින් විභාගේ ගොඩ දාගන්න ඕනේ....., නැත්තං ජොබක් වත් නැතුව වේලෙන කොට, ලව් එක කන්නද....? දූං යමු ලයිබ්‍රි, ගිහිං දාමු පාඩමක්......" බිංදු මෙසෙන් නැගිට්ටා.

"යමු...."

අපි දෙන්නම එළියට බැහැලා හෝල්ට් එකට ආවා. පේනතෙක් මානෙකට සුදු යුනිෆෝම් ගහගෙන ඉන්නෙ, අපි දෙන්නා විතරයි. මටත් ඒකෙ ගානක් නෑ, තනිකරම වයසේ වැරැද්ද.....ස්කෝලේ යනවාට වැඩිය, ස්කූල් කට් කරන එක ලේසියිනේ...

"අනික මොන රෙද්දකටද බං....ඔච්චරම ඕකට මැරෙන්නේ, උඹ තිකටම හිතපං..... මූදේ ඉන්නේ, එක මාළුවද.....?"" බිංදු හෝල්ට් එකේ බාර් එක උඩ ඉඳගෙන කිව්වා.

"මුදේ ඉන්නේ නං එක මාළුවා නෙමෙයි තමයි. ඒත්...., තමන්ට හිතට වැදුන මාළුවා අල්ලගන්න බැරි නම්, අනිත් මාළුවෝ කෝටියක් හිටියත් වැඩක් නෑ බිංදු...."

අපි දෙන්නා, ස්ටඩි රූම් නොගිහිං, රෙෆරන්ස් එකට ඇවිත් ගණන් හැදුවා. වැඩිය සෙනඟකුත් හිටියෙ නැති හින්දා, ගොඩක් නිස්කලංකයි. මොළේ එක පැත්තක අරුණි අක්කාව තියලා, අනිත් පැත්තෙන් මම ගණන් හැදුවා. ගණන් හදන එකා ජීවිතේ ප්‍රශ්ණ විසඳනවා තරම් අමාරු නෑ. අපි දෙන්නා හවස දෙකහමාර විතර වෙනකම් වැඩ කළා....

අඩුගානේ මෙහෙමවත් කෙරෙන එක ලොකු දෙයක්. නැත්තං කිසි දෙයක් නෑ.

"මේ..... දන්නම් අමාරුයි බං.... ප්ලේන්ටියක් ගහලා ඇවිත් ආපහු වැඩ කරමු....."

"ඔව් බං...., නැත්තං එනර්ජිමටත් හොඳ නෑ...."

අපි දෙන්නා කැන්ටිම දිහාවට ආවා.

"ෂ්....... ෂ්........"

පිටිපස්සෙන් ඇහුන සද්දේ හින්දා, මම ආපහු හැරුනා. නිමාෂියි, අංජලියි.... දෙන්නම අපි දිහාවට එනවා.

මට එකපාරටම බිංදූ දිහා බැලුනා.

"එහෙන් අරුණි, මෙහෙන් අංජලී..... උඹට අ යන්න අන්තිම අපලයි....."

බිංදූ හෙමිහිට මිමිනුවා. මම ඒ අස්සේ වටපිට බැලුවා, ගිහාන්ගේ යාළුවෝ ඉන්නවද කියලා. වෙලාවට කවුරුවත් නෑ. එදා කාපු එක මතක් වෙනකොට තාමත් ඇඟ සීතල වෙනවා....

"හුඟ දවසකින් ඔයාව දැක්කේ..... පංඩිට්ඩේ ලැබුනද....?"

මම ඔළුව වැනුවා. අංජලී අද නම් ඇඳලා ඉන්නේ දිග සායක්. පුදුමයි මොකද දන්නේ නෑ.....

අපි හතර දෙනාම කැන්ටිම පැත්තට ඇවිදගෙන ආවා.

"අද ගිහාන් නැද්ද....?"

"එයාට අද ක්ලාස්..... ඉවර වෙලා ලයිබ්‍රි එකට එයි...... එතකං අපි දෙන්නා කැන්ටිමට යනවා...."

බිංදුයි නිමාෂියි ඉස්සර වනා. අපි දෙන්නත් ඕනකමින්ම වේගෙ අඩුකළා.

"දැං ඔයාගේ හිතේ බර අඩුද? අංජලී.....?"

"ඔයා හින්දා ඒක ටිකක් සැහැල්ලු වුනා. ඒත් මට හැමදාමත් වෙන්නෙ කුඩුවෙලා ඉන්න....."

"ගිහාන් මොකද කියන්නේ....."

"එයා මොනවා කියන්නද මාලින්ද....? මමත් එයා කියන හැම දෙයක්ම අහගෙන ඉන්නවා. මේක කවදාවත් විසඳෙන දෙයක් නෙමෙයි..... මගේ අනාගතේ ඒක තමයි..."

"බැරි වෙලාවත් ඔයාට ගැලපෙන හොඳ කොල්ලෙක්ගෙන් යෝජනාවක් ආවොත්.... එතකොට ඔයා මොකද කියන්නේ...."

"ඒක හරියන දෙයක් නෙමෙයි..... මම ගිහාන්ගෙන් අයින් වුනොත් එයා කවදාවත් මට ඉන්න දෙන එකක් නෑ..... මං එක්ක යාළුවෙන කොල්ලට වෙන්නෙත් නිකං ප්‍රශ්න බදාගන්න...."

"හැමදාමත් ඔයාට ඒ විදියේ බයේ ඉන්න බෑනේ... අනික ගිහාන් යකෙක්ද.....? ඌට ඔච්චරම බය වෙලා ඉන්න...."

මගේ ඉවසීම අන්තිමට පැනලා, කෝන්තිය ඉතිරිලා ගියා.

"ඒ වුනාට ඔයාට තේරෙන්නේ නැති පැත්තක් තියෙනවා මාලින්ද..... මම දන් හැම දෙයක්ම නැති වෙච්ච කෙල්ලෙක්. අවුරුදු දහඅට ලබනකොටම, කෙල්ලෙක්ට තියෙන වටිනාම දේ නැතිකර ගන්න තරම් මම කාලකන්නි වුනා. දනට නිමාෂියි, ගිහානුයි, මායි, ඔයයි විතරයි දන්නෙ.... මට වෙලා තියෙන දේ. බැරි වෙලාවත් මගේ අනිත් යාළුවෝ, අම්මා, තාත්තා, ටීචර්ලා මේක දැනගත්තොත්.... මට වෙන්නේ වහ බොන්න විතරයි මාලින්ද....."

අංජලී කියාගෙන යනවා. මම කිසි දෙයක් කියන්නේ නැතුව ඒක අහගෙන උන්නා.

"ගිහාන් හොඳටම දන්නවා මගේ අසරණකම..... කොච්චර සල්ලි තිබුණත් ගෙදර එකම කෙල්ල වුනත්, මම අන්තිම අසරණියක්.... මට ගිහාන්ගෙන් අයින් වෙන්න ඕනෙ. තවත් නම් මට මේ දුක උහුලගන්න බෑ, හැමදාම රෑට මම අඩනවා හොඳටෝම. ඒත් ගිහාන් මං ගැන අනිත් අයට කිව්වොත්, මට ජීවිතේ නැති කරගන්නයි වෙන්නේ."

අංජලී එක පාරමට කතාව නැවැත්තුවා. මම එයාගෙ මූණ දිහා බැලුවා. ඒ මූණ දුකින් පිරිලා, ඉතිරිලා යනවා.

"මාලින්ද...."

"ඇයි අංජලී......" මගේ කටහඬත් ගොඩාක් දුර්වල වුණා.

"මම මැරෙන්න බයයි මාලින්ද...."

මගේ පපුව හෝස් ගාලා පත්තු වුණා. අංජලීගෙ හිතේ දුක තේරුම් ගන්න බැරි තරම් අමනයෙක් නෙමෙයි මම. ඒත් මම දන් මොනවා කරන්නද....? මේ කෙල්ල දුක් විඳිනවා බලන් ඉන්න බෑ මට....

" ඔය තරම් කල්පනා කළාට, ඔයාට කරන්න දෙයක් නෑ. මේක මට ලැබුන හැටි..... මට දුක, මම මේවා කියලා ඔයාගේ ඔළුවත් අවුල් කරන එක ගැන....."

"නෑ.... අංජලී.... ඔයා ඕන ප්‍රශ්නයක් මට කියන්න.... මම පුළුවන් විදිහට උදව් කරන්නම්. අඩු ගානේ උදව්වක් කරන්න බැරිනම්, අහගෙන හරි ඉන්නම් ඔයාගෙ දුක..."

අංජලී මගෙ දිහා බලලා හිනාවුනා. ඒ හිනාව ආවේ එයාගේ හිත ඇතුලෙන්මයි. අංජලී හිනාවෙද්දි කොයිතරම් ලස්සනද....?

"අපේ යන්නම් ඇති....... සති ගානකට පස්සේ හිනාවුනා......" නිමාෂි එහෙම කියාගෙන අපි ළඟට ආවා.

නිමාෂිලගේ වෙඩින් එකට එන්න පොරොන්දුවෙලා, අපි දෙන්නා, පහ

විතර වෙනකොට එළියට ආවා ගෙදර එන්න. බිංදුයි මායි හෝල්ට් එකේ ඉන්නකොට, බස් එකෙන් බැහැපු කෙනාව දැකලා බිංදු එකපාරටම මගේ දිහා බැලුවා.

ගිහාන්......!

ඌත් අපිව දැක්කා.

ගිහාන් අපි දෙන්නා දිහා බලාගෙන ආවා, අපි ඉන්න පැත්තට. අපි දෙන්නත් ඌව තඹේකට ගනන් ගත්තේ නැතුව අපේ කථාවක් දාගෙන හිටියා. මිනිහා කන්න වගේ බලාගෙන යන්න ගියා.

"උගෙ අලි උණ. වෙලාවකට හැම එකක්ම පැත්තකට දාලා අනින්න හිතෙනවා මූණට...."

බිංදුගෙ කථාවට මම මුකුත්ම කිව්වෙ නැත්තේ, මටත් හිතුනේ ඒ ටිකම හින්දා.

* * *

පංතිය නිකං රෙකෝඩ් බාර් එකක් වගේ. ඩෙස් උඩ නැගගෙන හැම එකාම සිංදු කියනවා

දහසක් නෙතු මා වෙත..... යොමු වෙනවා.....

සිත.... මා.... පිරිලා

ලාල..... ලාල..... ලාලාලාලාලලා.....

මම කොළ කෑල්ලක් අරගෙන සපත්තුවේ දූවිල්ල පිහිදාලා දැම්මා.

"මචංලා පොඩ්ඩකට දෙන්න.... සවන්." කොටා, කොහේද ඉඳං ඇවිත් කෑ ගැහුවා.

"අද පියෝ සර්ත් නෑ, ඇප්ලයිඩ් සර්ත්.... නෑ......"

"නියමයි නේ...." ඔක්කොම වගේ එකට කෑගැහුවා.

"යමුද.....? ගෙදර..... හවස ක්ලාසුත් නැතේ....."

බිංදු පොත් ටිකත් අතට අරං ඉවරයි.

"අමිල, යමුද අපේ ගෙදර ගිහිං ගණන් හදමුද...?"

"බෑ.... බං මට අද හවස නවතින්න වෙනවා.... විවාදෙ ප්‍රැක්ටිස් කරන්න. ඔන්න... හෙට හවස උඹලා දෙන්නා ෂුවර් එකටම එනවානේ විවාදෙ බලන්න... හරිද?"

"එන්නං..... එන්නං.... අපි ආවොත්...ඒ ලක් එකට තමයි උඹලා, ඩිබෙට් දිනන්නේ...."

බිංදුයි, මායි. කොටායි ගිරි දුර්ග, තාප්ප තරණය කරලා යන්තම් එළියට පැනගත්තා.

"මාත් යනවා ගෙදර...."

කොටාත් බස් එකක් එල්ලුනා. බිංදුයි මායි පාර මැද්දෙ.

බ්‍රා.... ස්.... !

එතකොටම අපි ලඟින්ම ගිය, රතු පාට හොන්ඩා "සිවික්" කාර් එකක් බ්‍රේක් කළා. බිංදුයි මායි ගැස්සිලා ගියා.

තව පොඩ්ඩෙන් අපි දෙන්නව හැප්පෙනවා.

මූ..... මොකාද.....?

ඒ එක්කම ඩ්‍රයිවින් සීට් එක ළඟ වීදුරුව පාත් වුනා. වාහනේ ඇතුලේ එයාකන්ඩිෂන් එක හින්දා, සීතල සුළඟක් මගේ ඇඟට වැදුනා.

ඇතුලෙ හිටපු පොර සන්ග්ලාස් දාලා හිටපු හින්දා එක පාරටම අඳුනගන්නත් බෑ.

"මොකද....? මල්ලි අඳුනගන්න බැරිද....? එදා අරුනිලාගේ ගෙදර ආවේ ඕගොල්ලො නේද.....?"

"ආ.... මේ....", මට දනුයි මතක් වුනේ, මේ සමන් කියලා......

"කොහාටද යන්නේ මල්ලිලා...."

"මහරගමට...."

"යමූ. මම නුගේගොඩින් ඩ්‍රොප් කරන්නම්.."

බිංදු මගේ මූණ දිහා බලලා කකුල පෑගුවා. නගිනවා ඇර වෙන කරන්න

දෙයක් නෑ.

කාර් එක ටවුන්හෝල් එක පහුවෙනකම් අපි කවුරුවත් කථා කළේ නෑ.

"මල්ලිලා කොයි අවුරුද්දෙ ද ඒ ලෙවල් කරන්නේ...."

"ලබන අවුරුද්දෙ....."

"අරුණිව අඳුනන්නෙ කොහොමද....?"

"අරුණි අක්කා, අපේ අක්කගෙ හොඳ යාළුවෙක්.... ඒ හින්දා තමයි අඳුනන්නේ....."

"මම තමයි අරුණිව මැරි කරන්න ඉන්නේ..."

සමන් එහෙම කියලා, එලවන ගමන්ම මගේ දිහා බැලුවා.

"ලබන අවුරුද්ද වෙනකොට වෙඩින් එක ගන්නයි හිතාගෙන ඉන්නෙ..... අරුණිට එක්සෑම් එක කරන්නම ඕන කියන හින්දා තමයි පරක්කු කළේ...."

"ඉතිං.... එක්සෑම් එක පාස් වුනොත් අරුනි අක්කා යුනිවසිටි යන එකක් නැද්ද..."

"වැඩක් නැනේ මල්ලි කැම්පස් ගිහිං..... මොනවා කරන්නද. අවුරුද්දෙන් වැඩි හරිය වහලා..... අනික මගේ අදහසක් නෑ. එයාව ජොබ් එකකට අරින්න..." මම කථා කළේ නෑ.

"අපි බැඳලා, මෙහේ ඉන්න අදහසකුත් නෑ, ස්වීඩන්වල පදිංචියට යන්න ඉන්නේ.... ඉතිං එයාට කොහොමටවත් කැම්පස් යන්න වෙන්නේ නෑ....."

මගේ හිතට පුදුමාකාර දුකක් ඇතිවුනා, අරුනි අක්කා ගැන. සමන්ට සල්ලි තියෙන එක ඇත්ත. ඒත්.....

නුගේගොඩ හන්දියේ ෂෙඩ් එක ළඟ කාර් එක නතර කරනකම්, මගේ හිත ගොඩාක් දුර ගිහින් තිබුනේ. අපි දෙන්නා කාර් එකෙන් බැස්සා.

"තැන්ක් යූ සමන් අයියා...."

"ඒක මොකක්ද....., මල්ලිලාට ඕන සපෝට් එකක් තියනවනම් කියන්න.... විභාගෙ කරලා ඉවර වුනාම, ඕනේ නම් හොඳ ජොබ් එකක් සෙට් කරන්නම්...."

"තැන්ක්ස් අයියේ.... ඕන වුනොත් නම් කියන්නම්. කොහොමටත් අපි ෆුල් ට්‍රයි කරන්නේ, තුන්වෙනි පාර හරි විභාගෙ කරලා කැම්පස් යන්න..."

බිංදු එහෙම කිව්වහම, පොර හිනාවෙලා කාර් එක ඇද්දුවා. අපි දෙන්නා

හෝල්ට් එක ළඟට ආවා.

"උඹ මොකද හිතන්නෙ සමන් ගැන....." මං බිංදුගෙන් ඇහුවා.

"මොනවා හිතන්නද බං..... සමන් හොඳ බර කාරයෙක්. ඒ තරම් ජරා එකෙකුත් නෙමෙයි වගේ. අනික හැන්ඩියා....., අනේ මන්දා බං..., ඒ වුනාට උං අරුණිට ගැලපෙන්නෙ නෑ....."

"ඒක තමයි බං මටත් හිතුනෙ. අරුණි කියන්නේ ගොඩක් සංවේදී කෙල්ලෙක්.... සමන්, නරකයි කියලා කියනවා නෙමෙයි මචං. ඒ වුනාට එක ජාතියෙ කුරුල්ලො පියාඹන්න ඕනෙ එකට...., අරුණි, වෙනිං රටකට ගිහිං. තමන්ට හොඳටම අල්ලන්නෙ නැති එකෙක් එක්ක ජීවත් වෙද්දී, සෑහෙන්න දුක් විදියි හිතෙන්. මට දුක ඒ ගැන මතක් වෙද්දි...., මම හොඳටම දන්නවා බිංදු, කවදාවත් හැබෑ ලෝකෙදි මට අරුණි අක්කව මගේ ළඟට ගන්න බැරි වෙයි. ඒ හින්දම මටත් වෙන්නෙ හැමදාම හිතෙන් විඳවන්න..., මගේ හිත හැමදාම හෙව්වෙ අරුණි අක්කා වගේ කෙල්ලෙක්ව.... ඒ හැඩරුව... ඒ ගතිගුණ..., මට ඒ ජාතියෙ කෙල්ලෙක්ව ලැබුනා. ඒත් මට එයාව අයිති කරගන්න බෑ...."

"උඹ මහ පඬියෙක් වෙලානේ බං....."

මම හිනාවුනා. මේ මාස කීපෙට මාව වෙනස් වෙලා කියලා මටත් තේරෙනවා. ඒක කළේ අරුනි අක්කාද......?

"උඹට සමන් ගැන ඉරිසියාද.....?"

"ටිකක් විතර..."

"බැරි වෙලා හරි උගේ ගතිගුණත් අරුණි අක්කට ගැලපුනා නම්..., එයා සමන්ට කැමති වෙනවානේ. එහෙම වුනා නම්...."

"එහෙනම්, කොච්චර හිතෙන් ඇඩුවත්, මම කැමතියි අරුණි සමන්ව බඳිනවට.., මොකද.... මම දන්නවා කවදාවත් මට, සමන්ට තරම් සැප සම්පත් දෙන්න බෑ කියලා. උඹ දන්නවනෙ බං... අපි ඉන්නෙත් කුලියට ගත්ත ගේක..., අක්කටයි, මටයි ඉගෙන ගන්නත් සෑහෙන වියදමක් යනවා. ඉතිං ඔය හැම එකක්ම කරගෙන ඉන්න අපිට, සමන්ලා කියන්නේ ගව් ගාණක් දුරින් ඉන්න මිනිස්සු. මං වගේ හිඟන්නෙකුට නැතුව සමන් වගේ එකෙක්ට හැම අතින්ම අයිතිය තියෙනවා අරුණිව ගන්න."

"හැබැයි ගතිගුණවලින් ඇර...."

"ඔව්...."

"ඉරණම කියන්නේ මහ පුදුම දෙයක් මචං. අපේ අනාගතේ මොනවා වෙයි ද කියලා කාටවත් කියන්න බෑ..., සමහර විට උඹේ හීන, හැබෑ වෙන්නත් ඉඩ තියෙනවා...."

බිංදු එහෙම කියන ගමන්, ආපු හෝමාගම බස් එකට අත දැම්මා.

* * *

මම බත් එක දිග ඇරියා. කට්ටියම ඒකට වටවුනා.

"අමිල..., කීයටද මචං ඩිබෙට් එක පටන් ගන්නේ...", අමිලයා ස්කූල් ටයි එක හදනවා.

"දෙකහමාරට බං. ඊට කළින්, තව එක පාරක් ප්‍රැක්ටිස් කරන්නත් ඕනේ."

අපි හතර පස්දෙනාම බත් එක කන්න පටන් ගත්තා.

"අමිල උඹ වැඩිය බිත්තර කන්න එපා, එතකොට සෙම හිරවෙලා කතාකරන්න බැරිවෙයි...., ඒ හින්දා ඔය බිත්තර කෑල්ල මට තියලා උඹ ඔය එළවළු එක්ක කාපං...."

කොටා එන්න හදන්නේ නම්, අමුතුම කතන්දරේකට.....

"කතා නොකලත් කමක් නෑ, බඩ පිරෙන්න කන්න ඕනේ...."

"ඕකනේ බං රටට හෙන ගහලා තියෙන්නේ...තමාට පෙර රට නෙමේ, කෑම..."

අමිල කොටා දිහාවට හැරිලා, මහ කින්ඩිම කින්ඩි බැල්මක් දැම්මා.

"දවල්ද...?"

කොටායි, මායි, බින්දුයි හෝල් එකේ එහා කෙළවරේම තිබුන සීට්වල වාඩිවුනා. මුලින්ම කතා කරන්න පටන් ගත්තේ, අනිත් පැත්තෙන් ආපු කෙල්ලෙක්. ඒකිගේ කට නිකං කටර් එකක් වගේ.

"ඔනෙම කෙල්ලෙක් බෑ නොකියා කරන එකම වැඩේ ඕක විතරයිනේ බං. නිකං හිටියත් කව කවේ දාන එකේ, මේ වගේ එකකටවත් එන එක හොඳා..."

කොටා අනිත් පැත්තට හැරුනා. අපේ ස්කෝලේ කොල්ලෝ එක පැත්තක. එහෙන් ආපු කෙල්ලෝ අනිත් පැත්තේ. ඒ වුනාට මේ පැත්තේ ඉන්න අපේ

එවුන්ගේ හිත නම් ඒ පැත්තේ...

විවාදේ පටන් අරගෙන ටික වෙලාවකට පස්සේ, තවත් යුනිෆෝම් ඇඳගත්තු ගර්ල්ස්ලා ටිකකුයි, පාට ඇඳුම් ඇඳගත්තු හතර පස් දෙනෙකුයි හෝල් එකේ අනිත් පැත්තේ දොරෙන් ඇවිත් ඉඳගත්තා.

මම ඒ පැත්ත දිහා බලන්නේ නැතුව හිටියේ අමිලයා කතාකරන්න පටන් ගත්ත හින්දා. වැඩිවෙලාවක් ගියේ නෑ, බිංදු මගේ අතට ඇන්නා.

"ඇයි බං..."

"අර බලපං...කවුද ඇවිත් ඉන්නේ කියලා...!"

මම හැරුනා ඒ පැත්තට.

"අරුණි අක්කා නේද...?"

"ඔව් බං. එයා මොනවද මෙහේ කරන්නේ. ඩිබේට් එක තියෙන්නේ එයාලගේ ස්කෝලෙත් එක්කත් නෙමේ නේ..."

"පොඩ්ඩක් හිටපංකෝ. ඩිබේට් එක ඉවරවෙන කම්, ඊට පස්සේ කතා කරමු. "

අරුණි අක්කා මොන එකකට ආවද කියලා මට හිතාගන්නවත් බෑ. එකපාරටම අරුණි අක්කා අපේ පැත්ත දිහා බැලුවා. එයා මාව දැක්කා. අපි දෙන්නාම හිනාවුනා. මුලින්ම ඇස් දෙකෙන්.....

තුනයි හතලිස් පහ විතර වෙනකොට විවාදේ ඉවර වුනා. බිංදුයි, මායි ඉක්මණට හෝල් එකෙන් එළියට ඇවිත් පාර ළඟට ආවා. ඒ එක්කම වගේ අරුණි අක්කත්, යාළුවෝ ටිකත් එක්ක අපි ඉන්න තැනට ඇවිදගෙන එනවා මම දැක්කා.

"මොකද මේ අනුන්ගේ ස්කෝල අස්සේ රිංගන්නේ..."

"ඇයි තහනම්ද...?"

අරුණි අක්කා හිනාවේගනම මගේ ළඟට ආවා.

"මගේ යාළුවෙක් කතා කළා ඩිබේට් එකේ. ඒක බලන්නයි ආවේ..."

"දැන් ගෙදරද යන්නේ...?"

"ඔව්...යමුද..?", මම බිංදු දිහා බැලුවා.

"මාලින්ද උඹ පලයං. මම අමිලයාත් එක්ක එන්නම්, ඌයි කොටායි

දෙන්නත් තව ටිකකින් එයි...."

අපි දෙන්නා පාරෙන් එහා පැත්තට ආවා. අරුණි අක්කාගේ යාළුවො ටික එතනම නැවතුනා, බස් එකේ නගින්න...

"ටවුන් හෝල් ගිහින් 138ක නගිමු නේද...?"

"හා...."

අපි දෙන්නා විහාරමහාදේවි එකගාව හෝල්ට එක ළඟට එනකම් කතා කළේ නෑ. අඳුරන්නේ නැති නන්නාඳුනන දෙන්නෙක් වගේ....

"ඊයේ බිංදුටයි මටයි සමන් අය්යා හම්බු වුනා. එයා අපි දෙන්නාව නුගේගොඩින් ඩ්‍රොප් කළා...."

නිහඬ බව බිඳලා, මම කතාව පටන් ගත්තා.

"මම දන්නවා. මං අහගෙන එයා ඊයේ අපේ අම්මට ඕක කියනවා...", එයා ඔළුව උස්සන්නෙවත් නැතුව කිව්වා.

"ඔයා මොකද හිතන්නේ සමන් අයියා ගැන...."

"හොඳයි වගේ. ඒත් එක දවසක් යන්කම් කතා කරලා මිනිහෙක් ගැන චරිත සහතික දෙන්න මට බෑ...."

මම ඇත්තම කිව්වා. අරුණි අක්කා ඔළුව ඉස්සුවා. ඒ ඇස් දෙකේ කඳුළු බිංදු දෙකක් එළියට එන්න පොඞියනවා. මහා වැස්සකට කළින් අඳුරු වුන අහස වගේ, ඒ මුහුනත් අඳුරු වෙලා. ඇයි එයා අඬන්න හදන්නේ....?, මගේ අතින් වැරදි මුකුක්වත් කියවුනාද...අරුණි අක්කාට...

"අනේ සොරි...මම හිතලා නෙමේ කිව්වේ...."

මම එහෙම කිව්වේ, මට එයා ගැන ඇත්තටම දුක හිතුන හින්දා.

"නෑ...ඔයා නොදන්න ගොඩාක් දේවල් මෙතන තියෙනවා. ඒ සමහර දේවල් අක්කා දන්නවා. ඒත්...., ඔක්කොම දේවල් එයාවත් දන්නේ නෑ..."

මම අහගෙන හිටියා, ඇහිපිය හෙලන්නේ නැතුව.

"මේක පුංචි කතාවක් නෙමේ. මේ විදියට බස් හෝල්ට් එකක ඉඳගෙන කියන්න පුළුවන් එකකුත් නෙමේ..."

"අපි කොහාට හරි ගිහින් නිස්කලංකේ කතා කරමුද. ඔයාට පරක්කු වෙන්නේ නැතනම්......"

අරුණි අක්කා මොහොතක් මගේ දිහා බලාගෙන හිටියා.

"යමු..."

අපි දෙන්නා කතා බහක් නැතුව, ලයිබ්‍රි එක පැත්තට ඇවිදගෙන ආවා. කොහොම වුනත් පුස්තකාලෙදි නම් අපිට නිවී සැනසිල්ලේ කතා බහ කරන්න වෙන්නේ නෑ. පාක් එකට යන්නත් බෑ. ඒක අපි දෙන්නාටම හොඳ නෑ. කොහේ යන්නද කියලා මට හිතාගන්නවත් බෑ....

අරුණි අක්කා ඇහුවෙත් නෑ අපි කොහේද යන්නේ කියලා. ධර්මපාල මාවතේ ගිණියම් වෙච්ච පොළව පවා සීතල වුනා ඒ වෙලාවේ... හතර අතේ දහකරන මගේ හිතේ රස්නේ නිවන්න ඒ සීතලට බෑ...

අපේ කාලේ ගොඩාක් කෙල්ලෝ කොල්ලෝ වගේම, අපි දෙන්නත් කතාවක් නැතුව, යන්නෙ කොහේද කියලා දන්නේ නැතුව, රත්වුන ගෙන්දගම් පොළෙවේ ඇවිද්දා.

ලයිබ්‍රිය ළඟ වංගුවේදි මොන හේතුවක් හින්දද මන්දා, කහ ඉර ළඟ මම නැවතුනා. අරුණි අක්කත් නැවතිලා මගේ මූන දිහා බැලුවා. කතා කළේ අපේ ඇස් විතරයි. දිව ගොළු වෙලා.....

අපි පාර පනිද්දි, පාරේ අනිත් පැත්තේ ආපු කාර් එකක් ඇඟ ළඟින්ම ගිය හින්දා, මම එකපාරටම පස්සට වුනා. අරුණි අක්කත් බය වෙලා වගේ මගේ අත අල්ලගත්තා. හිත ගැහෙනවා හොඳටෝම..., බැරි වෙලාවත් අපේ අක්කගේ යාළුවෙක් දැක්කොත් එහෙම....!

ඒ සිතුවිල්ල තිබුනේ මොහොතකට විතරයි. අපි දෙන්නා හුණුපිටිය හරස් පාර පහු කරලා ගංගාරාමේ පැත්තට එනකම්ම, එයා මගේ අත, අත ඇරියේ නෑ..., මම මගේ අතින්, අරුණි අක්කාගේ අත අල්ලගෙන ඇඟිලි විහිදෙව්වා ඒ ඇඟිලි අතරට....., අපේ ඇඟිලි තුඩු මිරිකුනා එකටම. ලෝකෙම ආවත් කඩන්න බැරි තරම හය්යත් ඒ බැම්මේ තියෙන්න ඇති. මම අරුණි අක්කාගේ මූන දිහා බැලුවා. එයා තාමත් ඔළුව පහත් කරගෙන. කොහේදෝ ඉඳගෙන ආපු දහකාර හුළං රැල්ලත් එයාගේ කෙස් රොදක් අවුල් කළා.

සුදු ස්කූල් යුනිෆෝම් එකකුත් ඇඳගෙන, මගේම අක්කාගේ යාළුවෙක්ගේ අතින් අල්ලගෙන මේ කොන්ක්‍රීට් කාන්තාරේ ඇවිදින එක වැරැද්දක් කියලා, අපි දෙන්නාටම හිතුනේ නෑ. අපේ හිත් නැවතිලා තිබුනේ ඊට ගොඩාක් එහායින්...පාට පාට බබලන තරු අතරේ දුව පනිමින්..

ගංගාරාමේ එහා පැත්තේ බේරේ වැව අයිනේ, ගස් වැවිලා තියෙන පුංචි තණකොළ තීරුවට ඇතුළුවුන මම, ගහකට හේත්තු වුනා.. හිත අමුතුම හැඟීම්

දහස් ගණනකින් මිරිකෙන මොහොතේ, මම පොත් ටික ගහේ අත්තක රඳවලා අරුණි අක්කගේ අත් දෙකම තදින්ම අල්ල ගත්තා.

ඒ පුංචි අත්දෙක රිදුනද මන්දා.....!

කාස්ටක අව්වේ පිච්චි, පිච්චි ආපු අපි දෙන්නාගේ කෙහෙ රැළි අවුල් කරගෙන, හුළං රැල්ලත් පා වුනා. මගේ හිතත් ඒ වගේ හුළං රැල්ලක පා කරලා අරින්න පුළුවන් නම්.....

"ඉතිං..."

එහෙම කියලා මම අරුණි අක්කගේ මූනට එබුනා. අව්වට රත්වෙලා තිබුන කම්මුල් පොඩි සීතල කරගෙන, කඳුළු බිංදු දෙකක් ඒ මූන දිගේ ගලාගෙන යනවා මම දක්කේ එතකොටයි...., කඳුළු දෙපේළියක් හිත හීතල කරගෙන ගලනවා...

# දහය

මට තේරෙන්නෙ නෑ. මේක කොතනින් කොහොම පටන් ගත්තද කියලා. වෙච්ච හැම දෙයක්ම, වෙන හැම දෙයක්ම මුල, මැද අග නැති සුරංගනා කථාවක් වගේ" .

"ඔයා කියන්න.... මම අහගෙන ඉන්නම්"

අපි දෙන්නා කාත් කවුරුත් නැති තැනක අතරමං වුන දෙන්නෙක් වගේ. අරුණී අක්කා මගේ අත අල්ලගෙනම ගහට හේත්තු වුනා. පරවෙලා වැටුන මල් පෙති ගොඩක් අපි දෙන්නගෙ දෙපතුල් ලඟ විසිරිලා.

"අපේ තාත්තා කලින් වැඩ කලේ දියතලාවේ තේ වත්තක සුපිරින්ටන්ඩන් කෙනෙක් හැටියට. ඉතින් හැම නිවාඩුවකටම වගේ අපි දියතලාවෙ යනවා. තාත්තාගේ වත්තට ළඟින්ම තිබුන තේ වත්තෙ එස්. ඩී. වෙලා හිටියේ සමන් අයියා..."

කථාව නවත්තපු අරුණී අක්කා, මොහොතක් සුළඟට කැළඹෙන වතුර දිහා බලාගෙන හිටියා.

"සමන් අයියාට සෑහෙන්න සල්ලි තියෙනවා. ඒ වගේම කියන්න තරම් වරදකුත් නෑ. ඉතින්, සමන් අයියා මං ගැන ඇහුවාම අපේ අම්මලා අකමැති වෙලා නෑ, ඒ අපි දෙන්නාගේ වයස් පරතරේ හින්දා. ඒ දවස්වල මම ඕ. ලෙවල් කරනවා. ජීවිතේ ගැන මට ගොඩක් දේවල් තේරෙන්නෙත් නෑ....., මම නිවාඩුවට යන හැම වෙලේම සමන් අයියා මට ළං වෙන්න ගොඩක් උත්සාහ කෙරුවා. අපේ අම්මලගෙනුත් ඒකට බාධාවක් වුනේ නෑ. ඒ වෙනකොට සමන් අයියා ඇර, වෙන කිසිම කොල්ලෙක්ව මම ළඟින් ආශ්‍රය කරලා නෑ......, ඉතින් ටිකෙන් ටික මමත් සමන් අයියට ලංවුනා. ඒක ආදරයක් නෙමෙයි කියලා මට ඒ දවස්වල තේරුනේ නෑ මාලින්ද?...."

මම අරුණී අක්කගේ ඇස් දෙක දිහා බලාගෙන හිටියා.

"ඒත්...., ටිකෙන් ටික ස්කෝලෙ යාළුවෝ ආශ්‍රය කරද්දී, වයස වැඩි වෙද්දී

තමයි මට තේරුනේ ආදරේ කියන්නේ මේක නෙමෙයි කියලා. මට සමන් අයියා ගැන තිබුනෙ, මටත් තේරෙන්නෙ නැති හැඟීමක්. ඒත්...ඒක ආදරයක් නම් නෙමෙයි. මගේ පංතියේ යාළුවෝ ආදරේ ගැන කතා කරද්දී, මට මං ගැනම දුක හිතුනා. ඒත්..... ඒ වෙනකොටත් අපේ ගෙවල් දෙකෙන්ම අන්තිම තීන්දුව අරගෙනයි තිබුනේ.... ඒ හැම එකක්ම ලෑස්ති කරලා. තින්දු කරගෙන තමයි සමන් අයියා ස්වීඩන් ගියේ......"

අරුණී අක්කා මගේ මූණට එබුනා. අපි දෙන්නගේ ඇස් කථා කලා. හැම තැනම තිබුනේ පුදුමාකාර නිහඬ බවක්.

"ජීවිතේ හැටි එහෙම තමයි අරුණී අක්කෙ, අපි හිතන දේවල් ඒ විදියටම දෙන්න තරම් දෛවය සාධාරණ නෑ. ඔයා සමන් අයියට කියන්න බලන්න. සමහර වෙලාවට එයා තේරුම් ගනියි....."

මම මගේ කඩහඬ අවදි කරගත්තෙ බොහොම අමාරුවෙන්. මගෙ හිත ඇතුලෙ තියෙන දේවල් එළියට පනින්න තෙරපෙනවා.

"ඒක කවදාවත්ම හරියන දෙයක් නෙමෙයි මාලින්ද?. මගේ අම්මටයි, තාත්තටයි ඉන්නෙ මං විතරයි. කිසිම දවසක මට එයාලගෙ වචනෙට උඩින් යන්න බෑ..., අනික ඔයා දන්නවද? අපේ අම්මට හාට් ඇටැක් තියෙනවා....... ඒ වගේ තත්වයක් තියාගෙන මම කොහොමද හිතුවක්කාර වෙන්නේ.....? මගේ අම්මා පපුව පැලිලා මැරෙයි."

බේරේ වැවේ උඩින් ආපු කළු වළාකුළු අපේ හිස් උඩින් මෝදු වුනා. මොහොතකට කළුවර වුන හෙවනැලි අස්සෙන් මම දැක්කා අරුණී අක්කගේ කම්මුල් දිගේ ගලාගෙන යන කඳුළු බිංදු.....

"අනික මාලින්ද, සමන් අයියා කළින් බැඳපු කෙනෙක්....."

"මොනවා....!"

මාව ගැස්සුනා එක පාරටම.

"ඔයාලගේ අම්මලා දන්නේ නැද්ද ඒක....",

මට ඉබේටම අරුණී අක්කාගේ අත, අතෑරුනා.

"දන්නවා. එයා ඒකෙන් ඩිවෝස් වෙලා ඉන්නේ..... ඒ වුනාට, සමන් අයියගෙ ගති ගුණයි, කථා බහයි, පවුලේ තත්ත්වයි හින්දා අපේ අම්මලා ඒක ඒ තරම් හිතුවේ නෑ. මම, මේ හැම එකක්ම දැන ගත්තෙ ළඟදි. ඒ වගේ දෙයක් දැන දැනම මම කොහොමද දෙයියනේ සමන් අයියව බඳින්නේ....."

" මට තේරෙනවා අරුණී අක්කෙ ඔයාගේ ප්‍රශ්නෙ. ඒ වුනාට මටවත් හිතාගන්න බෑ ඕකට උත්තරේ මොකක්ද කියලා. කොහොමටත් ඔය දෙන්නගේ

වයස් පරතරයත් වැඩියි. මට හිතෙනු හැටියට, අරුණී අක්කගේ අදහසුත් එයාට ගැලපෙන්නෙ නෑ. එහෙම තියාගෙන බඳින් එකෙන් වෙන්නේ තවත් ප්‍රශ්න අළුත් වෙනවා විතරයි."

"මටත් ඒක තේරෙනවා. ටික ටික සමාජේ ගැන තේරෙන්න වුනාම යාළුවන්ගේ ආශ්‍රය දැනුනහම, මම සමන් අය්යාගෙන් තව තවත් ඈත් වෙනවා......"

මට ඕනේ දිගටම ඉගෙන ගන්න. ඒත් සමන් අයියා ඒකට කැමති නෑ. මගේ හිත අඳුනගත්තෙ නැති මගේ ආශාවන්ට ආසා නැති කොටින්ම මාව තේරුම් ගන්නෙ නැති මිනිහෙක්ගෙ ගෑනි වෙන්න මට බැහැ මාලින්ද....?"

අරුණී අක්කා ලේන්සුවෙන් මුහුණ වහගෙන අඬන්න පටන් ගත්තා. ඕනම කෙල්ලෙක්ගෙ දූකට සැපට දෙකටම තියෙන්නෙ කඳුළු විතරයි. අඬලා හිත සැනසෙනවා නම්, හැමදාම වුනත් මම අඬනවා. අංජලීට තියෙන්නෙ එක් ප්‍රශ්නයක්. අරුණී අක්කට තවත් එකක්. කොහේදෝ දන්නෙ නැති කන්දක් උඩින් ආපු හීතල සුළඟක් වගේ මේ කෙල්ලො දෙන්නම මට ලංවුනා. දෙන්නම මං ඉස්සරහා ඇඬුවා. ඒත් අරුණී අක්කා විතරයි මගෙ හිත ගොඩක් ඇඬෙව්වේ......

"සමන් කියන්නේ, අපේ අම්මලා හිතන ජාතියේ සාන්තුවරයෙක් නෙමෙයි මාලින්ද..., මිනිහා මගෙන් බලාපොරොත්තු වෙන්නේ වෙනින් දේවල්. එයා තනියම ගමන් බිමන් යන්න මට කතා කරනවා. ඒත් මම යන්නේ නෑ. අපේ අම්මලා වුනත් මාව තනියම යවන්න අකමැති නෑ. ඒගොල්ලෝ පොඩ්ඩක් හිතන්න ඕනේ නේ කෙල්ලෙක්ව තනියම යවන එක හොඳ නෑ කියලා.., මම දන්නේ නැති මොනවා හරි දේවල් මෙතන තියෙනවා කියලා මට හිතෙනවා මාලින්ද..., ඇයි මේ රටේ මේ තරම් වෙන කොල්ලෝ ඉන්දැද්දි, කළින් බැඳපු මට වැඩිය සැහෙන්න වැඩිමල් මිනිහෙක් එක්ක මාව යවන්න හදන්නේ...?, දියතලාවේ මිනිස්සු නම් සමන් ගැන කියන්නේ එච්චර හොඳ කතා නෙමෙයි..., මට දන් බයයි මාලින්ද.."

මම අහස දිහා බලාගෙන හිටියා. උත්තරයක් අහසෙන්වත් එයිද කියලා. අහස කළුවර කළා. ඒ කියන්නේ මේකට උත්තරයක් නැතුව අපි දෙන්නාට ගෙදර යන්න කියලද..?

"ඔයාගේ හිත [illegible], ඔයාට ගැලපෙන කෙනෙක් ඉන්නවාද අරුණී අක්කේ..."

"නෑ මාලින්ද..., මම හිතුවා ඔයා ඔය ප්‍රශ්නෙ මගෙන් අහයි කියලා. සමන් අයියා [illegible] හිතුවොත් අපේ අම්මලත් හිතන්නෙ ඕකමයි. ඔයා කෙල්ලො ගැන හිතන විදියටමයි, මම දැන් කොල්ලෙක් ගැන හිතන්නෙත්. ගොඩක් හොඳට දැන අඳුනගෙන කාලයක් ආශ්‍රය කරනකම්, ආදරේ කරන එක බොරුවක් මාලින්ද?. අම්මා, තාත්තා මට ආදරෙයි. ඒත් මට ඕනෙ එහෙම ආදරයක් නෙමෙයි. මට කිසිම දෙයක් කියන්න කිසිම කෙනෙක් නෑ. ඔයාගේ අක්කා විතරයි මේ විස්තර ඔක්කොම වගේ දන්නේ....,ඒත් එයා වුනත් දන්නෙ නෑ. සමන් අයියා බැඳපු කෙනෙක් වික්තියක්. මට මල්ලියෙක් හරි නංගියෙක්

හරි හිටියා නම් තනි නෑ. ඒත් මම ඒ තරමවත් පිං කරලා නෑ....."

ටිකෙන් ටික අඳුර කඩාගෙන වැටෙනවා. මම අරුණි අක්කගෙ අත හරවලා වෙලාව බැලුවා.

හයට පහයි....

"අපි යමුද අරුණි අක්කේ, තවත් රෑ වුනොත් අම්මලා ඔයා හොයයි."

අපි දෙන්නා පාර දිගේ ඇවිදගෙන ආවා. මගේ හිතේ තිබුන හැම හීනයක්ම පොඩි පට්ටම් වෙලා ඉවරයි.

"මට වෙලාවකට ඔයාගේ අක්කා ගැන ඉරිසියයි මාලින්ද...."

අපි පුස්තකාලේ ළඟ හෝල්ට් එකට ලංවෙද්දි අරුණි අක්කා කිව්වා.

"ඇයි ඒ...?"

"ඔයා වගේ මල්ලියෙක් ඉන්න එක ගැන. එයාට නම්, ඕනෙම දුකක්, ප්‍රශ්ණයක් ඔයාට කියන්න පුළුවන් නේ. ඒත් මට......"

එයා දිග හුස්මක් පිට කළා. මම එක එල්ලේම අරුණි අක්කගෙ ඇස් දෙක දිහා බැලුවා.

"ඉතින්..., අද මම ඔයගේ දුක අහ[illegible]ටියනේ. ඒ වගේ හැමදාම, ඕනෙම දුකක් මට කියන්න. මම අහගෙන [illegible]ාම්. ඔයා වෙනුවෙන් කරන්න පුළුවන් හැම දෙයක්ම මම කරනවා...."

"ඔයා මට මල්ලියෙක් වෙන්න ම[illegible] ද.....!"

මගෙ හිත ඉකිගහන්න පටන් ගත්තා. පෙරුම් පුරාගෙන, හිත කුළුඳුලේම ඉල්ලපු ආදරේවත්, මට හිමි නෑ. ඇයි මට හැම දෙයක්ම නැති වෙන්නෙ...?

"කියන්න මාලින්ද..., ඔයා මගේ පුංචිම පුංචි මල්ලි නේද..?!"

"ඔව් අක්කේ..."

මගේ හිත ඇතුලෙන් ආපු හැඟීම් ගොඩක් ඒ වචනෙ තියෙන්න ඇති.

"මගේ මල්ලි..."

අපි දෙන්නාගෙම ඇස්වලින් කඳුළු බිංදු මතුවුනා.

* * *

* * *

" ඕවා ඔහොම තමයි බං..., කල්පනා කරලා වැඩක් නෑ ලැබීම තමයි..."

බිංදු ඉන්ටවල් එක වෙලාවෙදී මට කිව්වා. පිට්ටනිය පුරාම කොල්ලො සෙල්ලම් කරනවා, සති ගානකින් පාඩම් කළේ නෑ. ඉගෙන ගන්නවා කියනකොටත් ඔළුව කැක්කුමයි.

" අනේ මන්දා බං..., මේ එක එක දේවල් ඔළුවට එද්දී වෙන කියිම දෙයක් කරන්න හිතෙන්නෙ නෑ. මට දුක, මට අරුණී අක්කව ලැබෙන්නෙ නැති එක ගැන නෙමෙයි...."

" එහෙනම්...?"

" එයා කොච්චර දුක් විඳිනවා ඇතිද...?, මට ආරංචි වුන හැටියට අගෝස්තු වල එක්සැම් ඉවර වෙලා, ඔක්තෝබර් වෙන කොට එයාලා බඳීවි..., මං කියලා ඒකට මොනවා කරන්නද...?"

" ඒක තමයි යකෝ මාත් මේ කියන්නේ...., ඒකි බඳින්නෙ කොහෙවත් යන එකෙක් නෙමෙයි නේ..., අරුණී අක්කට දුකක් නැතුව තියාගන්න ඕන තරම් සල්ලි සමන් අයියට තියෙනවා. කොටින්ම කියනවා නම් කවදාවත් අපිට බෑ ඌට ලංවෙන්න. ඉතිං එහෙම එකේ, උඹ මෙහේ පිස්සු නටනවා.තිකං මැන්ටල් ගහන්න එපා බං..."

මූත් බණ කියනවා වගේ කියෝනවා. මට දැන් ධර්මෙන් වැඩක් නෑ. මට ඕනේ දැන් මොනවා හරි කරන්න.... ඒක තේරුම් ගන්න බැනෙ මේ බූරු රජාට....

" මට උඹ කියන එක තේරෙනවා බිංදු..., ඒ වගේම මට අරුණී අක්කා කියන කතාවත් තේරෙනවා...උඹ පොඩ්ඩක් හිතපං බං, දැන දැනම මම කොහොමද ඒකීව දුකට දාන්නෙ. සමන්ට සල්ලි තියෙනවා. ඒත් උගේ සල්ලි ඇ[illegible] අරුණී අක්කාගෙ සන්තෝසෙ නෑ. මම ඉස් ඉස්සෙල්ලාම හිතෙන් හරි ලව් [illegible]ළේ, අරුණී අක්කට විතරයි. දැන් ඒක වෙන අතකට පෙරලුනාට මට ඒ [illegible]තාව කවදාවත් අමතක කරන්න බෑ...."

බිංදු, මගේ කරට අතක් දැම්මා.

" මට උඹේ දුක තේරෙනවා බං.ඒත් උඹේ ඔය ඔළු කට්ට ඇතුලේ මිලිමීටරේක හරි මොළයක් තියෙනවා නම් ඕවා පැත්තකට දාලා ඉගෙන ගනිං. නැත්නම් ඉතින්...විභාගෙන් අනාථ වෙලා, කෙල්ලත් මාරුවෙලා. පිස්සු පීකුදු තමයි අන්තිමට. ..."

" ඉගෙන ගන්න නම් ඕනෙ තමයි බං...."

මම එහෙම කිව්වෙ ඇත්තටම. නැත්නම් විභාගෙ වලේ දාගෙන, කන්න අදින්න නැතුව වේලෙද්දී කෑම ගෙනත් දෙන්නෙ පොලිසියෙන්ද....?

" එහෙම නම් ටිකක් මහන්සිවෙලා වැඩ කරමු.අනික උඹේ ඔය සහෝදර ප්‍රේමේ නම්, අමුම අමු බයිලයක් මචං..."

" ඒ මොකද උඹ එහෙම කියන්නෙ...?"

" මට දර්ශනේ එපා සනා. උඹේ හදවතේ කර්ණිකා, කෝෂිකා වල පොඩ්ඩ පොඩ්ඩ හරි අරුණි අක්කා ගැන කහටක් තියෙනවා නේ. ඇත්ත කියපං..."

" නැතුව නැතුව...", මම හිනාවෙලාම කිව්වා.

* * *

බිග්මැච් එකත් ළඟයි. අදින්න ටී ෂර්ට් එකක්වත් නෑ.. අතේ සල්ලිත් නෑ.අනාථ සාගරේ... තමයි. ගෙදරින් ඉල්ලන්න ගියොත් හම්බ බැනුම් අහගන්න තමයි වෙන්නෙ. කිසිම ස්කොලේ වැඩක් කරන්නෙ නෑ කියලා, හැමදාම බර බරේ නේ. ගාණක්වත් හදන්න ඕනේ. මම වැඩ කරනවා කියලා පෙන්නන්න...

මම මේසේ උඩ තියෙන පොත් දෙක තුනක්ම දිග ඇරලා තිබ්බා. *'ග්‍රීන්ගේ ශුද්ධ ගණිතය', 'රම්සේගේ ඛණ්ඩාංක ජ්‍යාමිතිය'* පොත් දෙකම මෙයේ උඩ. මට නම් මෙලෝ සංසාරයක් තේරෙන්නෙ නැහැ මේවා...., ඒත් ගෙදර අයට වැඩ පෙන්නන්න ඕනේ නේ....

එහෙම හිතාගෙනම මම, තවත් පොතක් දිග ඇරියා. ඒකේ මුල පිටුවේ කුරුටුගාලා තියෙන වචන ටික දක්ක ගමන්ම මට මතක් වුනේ අරුණි අක්කාව. එදා අරුණි අක්කත් එක්ක ගිහින්, ගෙදර ඇවිල්ලා මම කුරුටු ගෑවේ මේ පොතේ තමයි.

*අනාගතේ සිහිනේ...*
*නෑ, මෙදා සැබෑවන්නේ...*

ඒක නම් ඇත්ත තමයි. ඒ වුනාට තව තවත් නොලැබෙන දේකට අඬලා වැඩක් නෑනේ. මම ඒ පොත වහල දාලා පෑන අතට ගත්තා.

" අක්කේ, මට තේ එකක් ගේන්න...."

මම එහෙම කිව්වේ දර්ශනේට. දන් අක්කා තේ අරන් එනකොට මම ගණන් හදනවා. ඊට පස්සේ, ටිකෙන් ටික මගේ තත්වෙ වැඩිවෙනවා. හැබැයි ඉතින් අන්තිමට රැවටෙන්නෙ නම් මම විතරයි. ඒ වුනාට බිග්මැච් එකට කලින්, මුළු ගෙදරම ෂේප් කරගන්න ඕනෙ. නැත්නම් ඉතින්, අත දිග රෝස්පාන් තමයි...

අක්කා තේ එකක් අරන් කාමරේට ඇතුල් වුනා. මම පෑන අරගෙන, ඔළුවේ අත තියාගෙන කල්පනා කළා, අක්කාව දකපු නැති විදියට. ඒ වුනාට, මට දශමයක්වත් තේරෙන්නේ නෑ පොතේ තියෙන දේවල්...

" අන්න එහෙම, පාඩම් කරනවා. නැත්නං ඔයාට ලියන්න වෙන්නේ කෙල්ලන්ගෙ අත් අල්ලගෙන එහෙ මෙහේ ගිය ඒවා විතරයි..."

මාව කරකෝලා අත හැරියා වගේ වුනා එක පාරටම. අරුණී අක්කා මෙයාට එදා සීන් එක කියලද...?, එහෙම වුනා නම් මාර තෝන්ඩිය තමයි. තෝන්ඩිය විතරක් නෙමෙයි. අරුණී අක්කාගෙයි, අපේ අක්කගෙයි ෆ්‍රෙන්ඩ්ෂිප් එකටත් නැවතීම තමයි.

" මොකද එක පාරටම ඔයා බය වුනේ. මට ආරංචි වුනා පහුවදාම සිද්ධිය. මේ...ඒක නෙමෙයි, තුමුසෙ කෙල්ලෙක්ගෙ අතින් අල්ලගෙන, පාක් පැත්තේ කැරකනාලු නේද...?, කවුද ඒ කෙල්ල...? "

අක්කගේ ප්‍රශ්නෙට මොනවා කියලද කියන්නේ?...... ෂික්....! මේ වෙලාවට බොරුවක් වත් උගුර ඇතුලෙ නෑනේ. මට නිකං දාඩිය දානවත් වගේ.

"ආ...... මම දවසක් අපේ ක්ලාස් එකේ කෙල්ලෙක්ව බස් හෝල්ට් එකට ගෙනත් ඇරලුවා. හැබැයි මම ඒ කෙල්ලගෙ අතින් නම් අල්ලගෙන ආවේ නෑ. ඔයාගේ යාළුවා හරි, මොකා හරි දකලා ඇත්තේ වැරදි චිත්‍රපටි කැල්ලක් වෙන්න ඇති. අතින් අල්ලගෙන යන්න කෙල්ලෙක් ඉන්නවා නම්, මම මෙහෙම වේලෙනවද හලෝ..."

මම හෝල්සේල් බොරුවක් අත ඇරියා. මෙයා ඒක ගිලියිද?.... නැත්නං ආයෙමත් තොන්ඩිය අළුත් කරයිද.....?, මමත් ඉඳලා ඉඳලා කියන්නේ ජාත්‍යන්තර මට්ටමේ බොරු තමයි...

"එහෙනම් කමක් නෑ, අනික ඔයාට ගැලපෙන ගර්ල් කෙනෙක් ඉන්නව නම් ඔයා එහෙම ගියත් මම මුකුත් කියන්නෙත් නෑ. හැබැයි මොන දේ කළත් විභාගේ කරන්න ඕනේ හරියට. ගෙදර තත්ත්වෙත් ඔයාට තේරෙනවා නේද?....."

බලාගෙන ගියාම අක්කත් කොකු නෑ, ඒත් කවදාහරි අක්කට තේරුනොත් මම ට්‍රයි කරන්නේ එයාගෙම යාළුවෙකුට කියලා, එදාට නම් ඉතිං මට කන් දෙක ඇත්වෙන්න අහගන්න වෙයි. මට නම් මේ වෙන හැම දෙයක්ම, පිස්සු

බක්කි කරන්න වගේ. ඉඳලා ඉඳලා ට්‍රයි කරපු අරුණී අක්කටත් ඕනෙ මාව මල්ලියෙක් වගේ තියාගන්න. මහ බඹා නම් මාත් එක්ක ජාති ජාතිත් ඔරොප්පුවක් තියෙනවා.... සමහර වෙලාවට ගිය ආත්මෙදි, මහ බඹා බැහැපු බඩුවකටවත් බැස්සද දන්නේ නෑ..

* * *

"මේ, තියෙන දෙයක් රෝල් කරගෙන යමු මඟුල් ගෙදර. උන් දන්නව ඇතිනෙ බං අපි තාමත් රැකියා විරහිත සුමනදාසලා කියලා......"

"දන්නවනං ඇති. ඒ වුනාට රෝල් කරගෙන යන්න වෙන්නෙ කිංඩිය තමයි. අනේ සල්ලිත් නෑ. ලෝක බැංකුව වගේ ඉන්න අක්කටත් අම්බානක ණයයි. එහෙන් ලබන සුමානේ බිග්මැච් එකත් තියෙනවා. ඉතින් කොහොමද බං නිමාෂිලගේ ගෙදර යන්නේ......?

බිංදුයි, මායි ඉස්කෝලෙ ඇරිලා ආපු වෙලාවෙ ඉඳලා කල්පනා කළේ, අද හවස නිමාෂිගෙ අක්කගෙ වෙඩින් එකට මොනවා ගෙනියන්නද කියලා. ජොබ් එකක් කලේ නැති වුනාට පෙරේතයෝ පිං ඉල්ලනවා වගේ, නිකංම අත වන වනා කොහොමද පාටියකට යන්නෙ. නොගිහින් ඉන්නත් බෑ. මේ වෙලාවෙදි අංජලිට ඉන්නෙත් අපි විතරයි. මොන හේතුවක් හින්දද මන්දා මට ඒ කෙල්ලව දකින්නත් මාර ආසාවක් තියෙනවා.

"මම කියන්නද සීන් එක....." බිංදු කතාව පටන් ගත්තා.

"ගෙදරින් ඉල්ලගත්තට, මේ සුමානේ ක්ලාස් එකට සල්ලි දුන්නේ නැනේ බං තාම. ඒකෙන් වත් රෝලක් ගහමු. දෙන්නගෙන්ම රුපියල් සීයක් විතර සෙට්නේ......"

"එතකොට පංතියට සල්ලි දෙන්නෙ පොලිසියෙන්ද.....?"

"ඒක එතකොට බලමු බං. එක මාසයක් අපි දෙන්නා හොරා පොලිස් කළා කියලා, සර්ගෙ ගෙදර කස්ට්ටිය හාමතේ මැරෙන්නේ නැනේ, කාඩ් නැතුව මාට්ටු වුනත් මොකද මචං..., අපි පුරුදු වෙන්න නෝන්ඩි වෙනවයැ. දන්න කාලේ ඉඳලාම පිළිවෙලකට කළෙත්, නෝන්ඩි වෙන එක විතරයිනේ..."

නුගේගොඩින් දෙහිවල පාරේ තිබුන, නිමාෂිලගේ ගෙදර හොයාගන්න එක අමාරු වුනේ නෑ. නිමාෂිලට නම් සෑහෙන්න බර තියෙනවා වගේ. හතර වටේටම තිබුනේ පාටියට ආපු එවුන්ගෙ කාර්. බිංදුයි, මායි විතරයි ලොන්ත පැටව් දෙන්නා වගේ ප්‍රයිවට් බස් එකක ආවේ.

"අම්මෝ ඇති යන්තම්. මම හිතුවෙ කණු තියයි කියලා....."

අංජලී කිව්වෙ අපි සාලෙට ඇතුල් වෙද්දිම. හැම තැනම සෙනග පිරිලා. වැඩි හරිය හිටියෙ, ලොකු සල්ලි කාරයෝ වගේ. කෙල්ලොත් වැහි වැහැලා බිංදුවා ආපු ගමන්ම මට ඇඟිල්ලෙන් ඇන්නේ ඒ හින්දා වෙන්න ඇති. ... අනේ මන්දා අරුණි අක්කගෙ සිද්ධියෙන් පස්සෙ, මට වෙන කෙල්ලෙක්ට ට්‍රයි කරන්න තියා බලන්නවත් හිතෙන්නේ නෑ...ටැප් තියෙද්දි මොකටද නිකං ඇදගෙන නාන්නේ.....!

"අයියෝ බබා, කණු තියෙන එක අපේ ප්‍රතිපත්ති ප්‍රකාශනේ කොතනවත් නෑ. ඉතින්......"

මම කතාව පටන් ගන්දිදි අංජලී බිම බලාගත්තා.

"ඔයා වෙඩින් එකට ආපු එක ගොඩක් හොඳයි. නිවී සැනසිල්ලෙ ඔයත් එක්ක කතා කරන්න මට ලොකු ඕනකමක් තිබුනා. මේ වගේ වෙලාවක තමයි ඒක කරන්න පුළුවන්....., මාලින්ද අපි යමුද එළියට....."

මම බිංදුවා දිහා බැලුවා. ඌ නිමාෂිත් එක්ක මොනවද කතා කර කර හිනාවෙනවා. එතනත් තව කෙල්ලො රැනක්ම ඉන්නවා. මම බිංදුට ඇහැක් ගහලා එළියට ඇවිත්, වත්තේ කොනක තිබුන බංකුව උඩ ඉඳගත්තා. ගේ ඇතුලෙ සද්දෙ ... ඇහෙන්නෙ ...

"මොනවද අංජලි ඔයාට කියන්න තියෙන්නෙ. ආයෙමත් ගිහාන් බැන්නද...?"

"බැන්නෙ නම් නෑ, ඒත් ටිකෙන් ටික මට ගිහාන් එක්ක කතා කරන එක එපා වෙලා තියෙන්නෙ. ඒක එයාටත් තේරිලා තියෙන්නෙ. අපි දෙන්නා ලයිබ්‍රි ආවත් කතා කරන්නෙ එයා විතරයි. ඒ හින්දා එයා දැන් හැම වෙලේම මගේ දිහා බලන්නේ සැකෙන්...."

"මට නම් තේරෙන්නෙ නෑ. අංජලී මේකට කරන්නෙ මොනවද කියලා.."

"මටත් වෙලා තියෙන්නෙ ඒකමයි. එක වෙලාවකට මට හිතෙනවා ඕන දෙයක් වෙච්චදෙන් කියලා අම්මට මේ ගැන කියන්න. ඒත් අපේ අම්මලා හරි තද නීති කාරයෝනේ, කේන්තියට මාව මරයිද දන්නෙත් නෑ. අනික ගිහාන් කෝට්ටෙ පැත්තෙ තව ගර්ල් කෙනෙක් එක්කත් යාළුයිලු. මම ඒ ගැනත් එයාගෙන් ඇහුවා....."

"ඉතින් මිනිහ මොකද කිව්වෙ...."

"ඔව් කිව්වා. එයා කියනවා. මම වෙනස් වෙනවා වගේ හිත්දාලු එහෙම කලේ. ඒ වුනත් මට වෙන කෙනෙක්ව බඳින්න දෙන්නෙත් නැලු. ගිහාන්ගෙ යාළුවෝ හැමෝම දන්නවා මාලින්ද අපි ගිය තැන්, කරපු දේවල්, මගේ තත්වේ ඔය හැම දෙයක්ම. ඉතින් ඒ ගොල්ලො අපේ ස්කෝලෙට ආරංචි කරයිද දන්නෙත් නෑ මේක...."

"තරහා වෙන්න එපා අංජලී කිව්වට, ගිහාන් නම් මහා වල් තිරිසනෙක්. කෙල්ලෙක්ගෙ දුක තේරෙන්නෙ නැති ආත්මාර්ථකාමී පාහරයෙක්....."

මගේ ඉවසීම පුපුරලා ගියා. අපේ ස්කෝලෙ එකා වුනත් මට ගිහාන්ව තුට්ටුවකට අල්ලන්නෙ නෑ.

අංජලි එක පාරටම මගේ අතින් කෙනිත්තුවා.

"එහෙම කියන්න එපා මාලින්ද....? මුලදි ගිහාන් මට ගොඩක් ආදරෙන් හිටියා. ඒකයි මම ගිහාන් කියන හැම දේකටම ගියෙත්. ඒ දවස්වල ඉඳලම එයා හරි බයයි මම එයාගෙන් අයින් වෙයි කියලා. ඒ හින්දලු එයා මට තිබුන ලොකුම දේත් උදුරලා ගත්තෙ. ඒත්....., මට එහෙම ආදරයක් ඕනෙ නෑ, ආදරේ කරද්දි කොල්ලෙක්ගෙ හිත වුනත් බොලඳ වෙන්න ඕනෙ. එතකොටයි කෙල්ලෙක්ට බය නැතුව ලං වෙන්න පුළුවන් වෙන්නෙ. රළු විදිහට ගහගෙන, බැනගෙන ඉන්න කොල්ලෙක්ට කිසිම කෙල්ලෙක් කැමති නෑ ..."

අංජලී එයාගෙ මුහුණ මගේ උරහිසේ ඔබා ගත්තා. මට මොනවා වෙනවද කියලා මටවත් තේරෙන්නෙ නෑ, කවුරුවත් අපිව දකියිද කියලවත් මට ශූනක් නෑ. මම අංජලීගෙ අත් දෙකින් අල්ලගෙන මූණ දිහා බැලුවා. මිදුලෙ ඇත තියෙන ලයිට් එළිය, හෙවනැල්ලක් වගේ ලාවට වැටිලා ඒ මූනට. ඉක්මනට අහක බලන කෙනා පරාදයි වගේ, අපි දෙන්නත් කතා නැතුව දිගටම හිටියා. ටිකෙන් ටික අපි දෙන්නා ළංවෙනවා කියලා මට තේරුනේ නෑ. මුලින්ම අංජලීගේ මුහුන....ඇස්....මා ළඟට ආවා. ඊළඟ තත්පරේදි, අංජලීගෙ දෙතොල්වල සීතල... මගේ එක කම්මුලකට දැනුනා. මොනවද කරනවද කියලා මට තේරෙන්නෙ නෑ.

මගේ ජීවිතේ කුළුදුල් හාද්ද.....!

මේක ගන්න මම පෙරුම් පිරුවෙ අරුණි අක්කාගෙන්. මට වෙන දේවල් කිසි එකක් හිතුනෙ නෑ. යාන්තමට හිනාවෙ හින්දා වල ගැහිලා තිබුන අංජලීගෙ මූහුණ මම සිපගත්තා. අපේ දෙතොල් එක්වුනා. මුළු ඇඟම උණුසුම් වුනා. අංජලීගේ ඇඟිලි මගේ කෙස් අතරින් ඇදෙන්න පටන් ගත්තා. හෙට උදේ ලෝකේ විනාස වෙයි කියලා වගේ , වට පිටාව ගැන කිසිම හැඟීමක් නැතිව අපි දෙන්නා දිගටම සිපගත්තා.ඒ මුහුනේ උණුසුම පළවෙනි පාරට මගේ හිතට දැනුනා.

දයාබර මාලින්ද,

ඉතින් අපි දෙන්නා
වෙන්ව හිඳීමත් ගැන ඔයාට
හිතන්න පුළුවන්ද..? ඒත් එහෙම
වෙන එකක් නෑ. හැමදාමත්
මම ඔයා ළඟ, ඔයාගේ දුක
සැප බලාගෙන ඉන්නවා.
ඇත්තමයි... අම්මා කෙනෙක්
වගේ මම ඔයාව බලාගන්නම්.
කාගේ ආශිර්වාදය ලැබුනත්
නැතත්, මුළු ලෝකෙටම
හොරෙන් මම ඔයාගේ මනමාලි
වෙලා ඉන්නම්. ආ... එදාට අපි
අර කරයේ තිබූ. මතකද
දවසක් ඔයා කිව්වා, ඉහට
ඉහ බලාගෙන ඉමු.. කවුද
දිනන්නේ කියලා බලන්න. ඔන්න
පැරදුන කෙනාගෙන් හාද්දක්
හොඳේ......

මම ඉක්මනටම එන්නම්
ඔයාව බලන්න. මේ ලියුම
කාටවත් පෙන්නන්න එපා,
මට ලැජ්ජයි.

ඔයාගේම.

[signature]

# එකොළහ

"ඔය විදියට ගියොත් අර ගුටි කාපු එකේ දෙවනි කොටස ළඟදිම බලාගන්න පුළුවන් වෙයි වගේ..."

බිංදුයි, මායි, අමිලයි ස්කෝලේ ඇරිලා එළියට එද්දි අමිල කිව්වා. එදා වෙඩින් එකට ගිහින් වෙච්ච දේවල් තාමත් හීනයක් වගේ. මට මොනවා වුනාද මන්දා. මම තාම කිව්වේ එදා අංජලියි මායි කතා කරපු දේවල් විතරයි. බැරි වෙලාවත් එදා අපි දෙන්නා කරපු එක කිව්වානම් මූන් දෙන්න මාව කයි. ඒ වුනත් ඒ වගේ දෙයක් හිත ඇතුළේ හිරකරලා තියාගන්නත් බෑ. ඉබේහෙන් හරි එළියට පනිනවා.

"මම කියන්නද...?, උඹ ගිහින් අංජලීට තේරුම් කරලා දීපං, ඒකිට තේරෙන භාෂාවකින්. මේ වැඩේ මේ විදියට දුර දිග ගියොත් දෙන්නාටම වෙන්නේ හොඳි නැතුව පරිප්පු කන්න..."

බිංදු එහෙම කියන ගමන් ස්කූල් බස් එකට නැග්ගා.

"මට කියන්න පුළුවන් බං. ඒත් මේ වෙලාවෙදි මාත් ඒ වගේ කියන්න ගියාම ඒකිට මොනවා වෙයිද...?, මොනවා වුනත් අංජලීට හැම දෙයක්ම කියන්න ඉන්නේ මම විතරයි. ඉතිං... කොහොමද බං මම ඒ වගේ මෝල් ගස් කතා කියන්නේ..."

"උඹට කියන්න බැරිනම් නිකං හිටපං..., ඒත් මම එකක් කියන්නම් මචං..ඔය එක එකාගේ කෙල්ලෝ පස්සේ ගිහිං තෝන්ඩි වුනාට පස්සේ උඹට කෙල්ලෙක් දාගන්න අමාරු වෙයි හරිද...?"

"නිකං වරිතෙ සාතනේ කරගන්නෙ නැතුව, වෙනින් හොඳ කැල්ලක් බලලා ට්‍රයි කරපං. ගුටි කන්න වෙන්නේ නැති ආතල් එකකට බැහැපං..."

බිංදුගේ කතාව ඇත්ත තමයි. ඒ වුනාට මට ඔය වගේ දේවල් කිසි එකක් හිතට එන්නේ නෑ. වයසේ වැරැද්ද ද...?, මගේ කරුමේද...?

අමිල ෆුට්බෝඩ් එකට ඇස්සා.

"බිංදු මෙහේ වරෙන් පොඩි සීන් එකක් කියන්න..."

"මොකක්ද...?"

"එදා නිමාෂිලාගේ ගෙදරදි, මම අංජලීව කිස් කළා...."

"මොකක්...!", බිංදු ගැස්සිලා බැලුවා.

"උඹ නම් මහ පිස්සු මීටරයක් බං... අර ගුටි කාපු එක ඩනක් වෙනසෙට නාමත් ඇඟ ගැහෙනවා. ඒ අස්සේ උඹ මෙහේ තව ලෙඩ දාගන්නවා. ඒක යන්තම් හරි මාට්ටු වුනා නම්....,තොගේ ඉතුරු අඩුපඩු ටිකත් වෙන්දේසියේ දාන්න පුළුවන්..."

"අංජලී තමයි වැඩේට මුල පිරුවේ. ඉතිං මමත් කොල්ලෙක්නේ බං. ඕක ස්වභාව ධර්මේ හැටි.. වෙනවට කරන්න දෙයක් නෑ කිව්වාම...උඹ විශ්වාස කරන එකකුත් නෑ... කෙල්ලෙක් එහෙම කරද්දි, උඹ කියන්නේ මට මොනවා කරන්න කියලද බං. මේ සීන් එක දන්නේ උඹ විතරයි. ඒ හින්දා...ආයෙමත් ගුටිකන්න කැමති නැත්නම් මේක කාටවත් කියන්න එපා..."

මම කිව්වේ ඇත්ත. බැරි වෙලාවත් එදා අංජලී ඉස්සර වුනේ නැත්නම්, මගේ අතින් එහෙම දෙයක් වෙයිද...?, අනේ මන්දා..

දඟකාරයි මං ඔබේ එකම පුතු...
අහුවෙන්නේ නම් නෑ අම්මේ...

වියතක් හරහට සාය පලාලා දඟයුග පෙන්නා ඇවිදිද්දී..
මටම මගේ හිත කීකරු නැතිදා...
මගෙ කොළුකම, කොස් කොටන්නදෝ අම්මේ...

ප්‍රසන්නයා හැම වෙලේම කියන සිංදුවක් මට මතක් වුනා.

* * *

"ආ...දන්ද එන්නේ රස්තියාදුව ඉවරවෙලා..."

මම සාලෙට ඇතුල් වෙද්දිම අරුණී අක්කා කතා කළා. එයයි, අපේ අක්කායි දෙන්නා එක්ක මේ දවස් වල ස්කෝලේ නොගිහින් ගෙදරට වෙලා පාඩම් කරනවා. සාලේ තියෙන මේසේ පුරාම පොත්...

"ඔව් අක්කේ.."

මම ඒදෙන්නා ළඟට ගියා. කොච්චර වුනත් මට තාමත් අරුණී අක්කාගේ මූණ බලන්න අමාරුයි. මගේ ඇඹරිල්ලෙන් අපේ අක්කට වුනත් වැඩේ අහුවෙන්න ඉඩ තියෙනවා. එයාගේ හොඳම යාළුවා වෙලත් අරුණී අක්කා, තාමත් අපේ අක්කට ඒ කතාව කියලා නෑ. අපි දෙන්නාම දන්නවා දෙන්නාගේම හිත් ඇතුලේ තියෙන හොරේ....

"ඔයා දන්නවද..?, මෙයා මහ විකාර වැඩක් කරන්න නේ යන්නේ.."

අපේ අක්කා, මට අරුණී අක්කා දිහාවට ඇඟිල්ල දික්කරලා කිව්වා.

"මොකක්ද...?"
මම පුටු ඇන්දේ ඉඳගන්න ගමන් ඇහුවා.

"අරුණී මේ සැරේ විභාගේ කරන්නෙ නෑලු..."

"පිස්සුද...?", මම අරුණී අක්කාගෙන් ඇහුවා.

"ඒක තමයි මාත් කිව්වේ..මෙච්චර දවස් මහන්සි වෙලා විභාගේ නොකර ඉන්න එක නම් මහ මෝඩ වැඩක්. හරියට විභාගේ කරගත්තොත්, සමහර වෙලාවට සමන් අය්යාගේ අදහස් වුනත් වෙනස් වෙන්න ඉඩ තියෙනවා...."

"ඒක නම් හිතන්න අමාරුයි තිලාණී. මොකද, දන් අපේ විභාගේ ඉවර වුන ගමන්ම අපේ වෙඩින් එක ගන්න නැකත් බලන්න දීලා ඉවරයි. ලබන සුමානේ එයා ආපහු ස්වීඩන් යනවා. එහේ වැඩ ඉවර කරගෙන තව මාස හතකින් විතර සමන් අය්යා ආපහු ලංකාවට එන්නේ, වෙඩින් එක ගන්න බලාගෙන...."

අරුණී අක්කා මේසේ දිහා බලාගෙන හිටියා.

"කොයි මිනිහාට වුනත් තමන්ගේ අනාගතේ එක්ක සෙල්ලම් කරන්න දෙන්න එපා අරුණී අක්කේ..., කැම්පස් ගියත් නැතත් ඉගෙනගන්න එක කවදාවත් අහක යන්නේ නෑ. අනික අපි වගේ නෙමෙයි, ඔයාට ඉගෙනගන්නත් පුළුවන්...., ඉගෙනගන්න ආසාවත් තියෙනවා. තමන්ගේ හිතේ තියෙන දෙයක් ඒ විදියට කරගන්න බැරිවුනොත්, හැමදාම හිතෙන් තැවි තැවී ඉන්න තමයි වෙන්නේ. ටික දෙනෙක්ව සතුටු කරන්න ඕනේ හින්දා, තේරුමක් නැතුව තමන්ගේ

අනාගතේ බිල්ලට දෙන්න ඕනෙත් නෑ, තමත් දුක් විදින්න ඕනෙත් නෑ අරුණි අක්කා...."

මම ඒ ටික කියාගෙන ගියේ තරහෙන්ද දුකෙන්ද කියලා මංවත් දන්නේ නෑ. ඒත මම කතා කරපු විදියට අරුණි අක්කයි අපේ අක්කයි දෙන්නාම හොල්මන් වෙලා වගේ මගේ දිහා බලාගෙන ඉන්නවා. ඒ දෙන්නාටම මගේ මූණුත් වෙනසක් තේරිලාද මන්දා.....තවත් එතන ඉන්න පුළුවන් කමක් මට තිබුනේ නෑ. මට යාන්තමට ලැජ්ජාවත් හිතුනා. පොත් ටිකත් අරගෙන, මම කාමරේට ආවා

ටික වෙලාවකට පස්සේ අරුණි අක්කා මගේ කාමරේට ආවා.

"ඇයි අරුණි අක්කේ....?"

"ඇයි මාලින්ද ඔයා මට මේ තරම් ආදරේ....?"

"මම දන්නේ නෑ අරුණි අක්කේ ඇයි කියලා. සමහර වෙලාවට ඔයා අපේ අක්කා වගේ හින්දා වෙන්න ඇති. ඒ හින්දා තමයි, ඔයා විභාගේ කරන්නේ නෑ කිව්වහම මාව අප්සට් ගියේත්..., ඒ මොනවා වුනත් මොන ප්‍රශ්ණෙදි වුනත් මම ඔයා ළඟ ඉන්නවා..."

අරුණි අක්කා එක පාරටම බිම බලා ගත්තා. අරුණි අක්කාට ආදරේ ඇයි...? කියන එකට, ඇත්තම හේතුව මම කොහොමද එයාට කියන්නේ...?, සමහර වෙලාවට ඇත්ත හංගාගෙන පට්ටපල් බොරු කියන්නත් සිද්ධ වෙනවා.

"මට දැන් නම් හැම එකක්ම එපා වෙලා තියෙන්නේ. ඒත්..., මොනවා කරන්නද...?, ඉවසගෙනම ඉන්න තමයි වෙලා තියෙන්නේ...අම්මලාට වුනත් මගේ වෙනස තේරිලා වෙන්න ඇති. මට දැන් එයාලා එක්ක කතා කරන්නවත් හිතෙන්නේ නෑ..."

"එක දෙයක් හින්දා හැම දෙයක්ම අවුල් කරගන්න එපා අරුණි අක්කේ. වෙන දේවල් ගැන කලින් හිතන්න එපා. ඔක්කොටම කලින් හොඳට පාඩම් කරලා විභාගේ කරගන්න. ඊට පස්සේ අපි බලමු මොකද වෙන්නේ කියලා...."

මම අරුණි අක්කාගේ හිත හැදෙන්න කිව්වා. බණ කියලා වැඩක් නෑ මේ වෙලාවේ. වෙතින් මොකක් හරි උත්තරයක් තියෙන්න ඕනේ මේකට...

* * *

"ඒයි...පොඩි සප් එකක් දීපංකෝ මචං මේක අරින්න..."

අසංගයා ස්කූල් බස් එකේ හදිසි දොරටුව අරින්න ෆුල් ට්‍රයි එකක් දෙනවා. මේ සුමානේ අන්තිමට බිග් මැච් එක එන හින්දා, දන් ඉඳලාම බස් එකට අවුරුදු වගේ. ගෙවල් වල තියෙන ස්කෝලේ කොඩි හැම එකක්ම ගෙනත් බස් එකේ එල්ලුවා.

"රා...යිට්, ළමා...යි එහෙනම් පටන් ගම්මු කිරි ටොය්යා වගේ සිංදුවක්..."

කෝකිලයන්ගේ....මචං...
කෝකිල නාදේ...මචං...
අනේ.....ඉතින්...
පපර...පපං...පපර...පපං...පපංපාං
පපර....පපං...පපර...පපං...පපංපාං

අපේ එවුන්ට බස් එක ඇතුලේ කියවන්නේ ඉතින්, අමුතුම සිංදු තමයි. කවදාවත් නැතුව කොඩියකුත් අතට අරගෙන බිංදුවා ෆුට් බෝඩ් එකට බැහැලා.

මොකද මේ...?, මොකාටද මූ එන්න හදන්නේ...?මොකක් හරි ලොකු සීන් එකක් තියෙන්න ඕනේ මූට ෆුට් බෝඩ් එකට බහින්න.

"බිංදු...මෙහෙ වරෙංකෝ පොඩ්ඩකට..."

"මට බෑ බං..., වද නොදී උඹත් අරුන්ට සෙට් වෙලා සිංදුවක් කියපං..."

එන පොට හොඳ නෑ අංකල් කිව්වාලු. මම නිකමට ජනේලෙන් එළිය දැම්මා. ඉසංකාලගේ ස්කූල් බස් එකත් ඉස්සරහින් යනවා. ඒක තමයි මූ පැනි බෝතලේ හලාගෙනම යන්නේ...

"මොකද දන් උඹේ සීන් එකේ අළුත්ම තත්වේ...?, "

අංජලීගෙයි, අරුණි අක්කාගෙයි ප්‍රශ්ණ හින්දා මට ඉසංකාගේ වැඩේ ගැන බිංදුගෙන් අහන්නත් බැරි වුනා.

"කතාව නම් හොඳයි. ඒත් මචං...., මැද හරිය අම්බානක දුකයි. ඉසංකා කියන්නේ හෙන බ්‍රයිට් කැල්ලක්ලු..."

බිංදු ෆුට් බෝඩ් එකේ ඉඳගෙනම මගේ දිහාවට හැරුනා.

"ඉතින් හොඳයිනේ යකෝ..."

"හොඳ වෙන්නේ කොහොමද මී හරකෝ. කවදා හරි ඒකි විභාගේ දාගෙන කැම්පස් යයි. මම ඉතින් ඉතියෝපියාවේ අනාථයෙක් වගේ කට ඇරගෙන එළියේ වාටර් වෙයි..., හරියට මධූරි ඩික්සිතුයි, මොහමඩ් අසාරුදීනුයි වගේ. එක රටේ හිටියත් ගැලපෙන්නේ නෑ...."

"කෑ නොගහා හිටපං බං...තව අවුරුද්දක් තියෙනවා ගෙඩි පිටින්ම විභාගෙට. පාඩම් කරලා විභාගේ දාගම්මු අමාරුවෙන් හරි...."

"විභාගේ මොන බම්බුව වුනත් උඹ දන්නවද මාලින්ද, ඉසංකාලාගේ ගෙදරින් මට පුල් ලකුණු. හොඳට හැදුන, තැන්පත් කොල්ලෙක් වගෙයි කියලා ඉසංකාගේ අම්මා කිව්වලු..."

"අනේ පළයං බෝ යන්න. උඹ විතරක් නෙමෙයි, අවුරුදු පහළොවක් දාසයක් වෙද්දි ඕනේම කොල්ලෙක් හැම තැනින්ම හැදිලානේ ඉන්නේ..., මං වගේ හැන්ඩ්, එක්සෙකටිව් ලුක් එකක් තියෙන පොරක් එක්ක ගිය හින්දා වෙන්න ඇති අම්මාට උඹව හිතට අල්ලලා තියෙන්නේ..., අම්මා ගැන බලලා වැඩක් නෑ බිංදු. ඉස්සෙල්ලා ඉසංකාව අල්ල ගනිං. උඹ මේ..., කෙල්ලව දාගන්නෙත් නැතුවනේ හඳහන් බලන්න යන්නේ. අන්තිමේදි ඔය විදියට ගියොත් උඹට දාගන්න වෙන්නෙත් මට වගේම අති උතුම්, පරම පිවිතුරු සහෝදර ප්‍රේමයක්..."

මාගේ සුජාතා...
මාගේ විශාකා...
දේවි බාලිකා...
ඉතිං..., කෝකිලයන්ගේ මවං...
කෝකිල නාදේ...මවං
කැරකිලා...දෙකට නැවිලා...
හීන හඬින්, හීන හඬින් එයි නැගී...

බස් එක ස්කෝලේ ළඟටත් ආවා. මම බස් එකෙන් බැහැලා අසංගයත් එක්ක කැන්ටිම දිහාවට ආවා, ප්ලේන්ටියක් ගහන්න. බිංදුවා තාමත් බස් එක ඇතලේ මේක් අප් දානවා. අගේට හිටපු ඌටත් ගිය කළක්...!

"චන්දරේ මොකද අපිට දියවැඩියාව කියලා හිතුවද ප්ලේන්ටියට සීනි දාන්නේ නැත්තේ..., කටේ තියන්න බෑ. මෙන්න මේකට තව සීනි ටිකක් දාලා දීපං බං..."

ඒ අස්සෙදි එක පාරටම ආපු බිංදුවා මගේ ෂර්ට් එකෙන් ඇද්දා.
"මෙහෙ වරෙං...මී හරකා.."

"ඇයි බං...?. ෂර්ට් එකෙන් අත ඇරලා කියන රෙද්දක් කියපං..."

"ෂර්ට් එක නෙමෙයි යකෝ. මම උඹට කලිනුත් කිව්වා, මේක දිග යන බම්බුවක් වෙයි කියලා. කොහේද..., උඹටත් මොළේට කියලා යන්තම් පර්චස් කාලක්වත් නෑ නේ. එක එකාගේ කෙල්ලන්ට හොම්බ දානවා, නිකං ඉන්න බැරුවට. දාගෙන ඉවර වෙලා, ඇදගෙන නානවා. ජුවර් එකටම ආයෙත් සැරයක් අම්බානකට කාලා නවතින්න වෙන්නේ මෝචරියේ..."

මූ මොනවද මේ කියාගෙන යන්නේ...?., පිස්සුද..?
මට ප්ලේන්ටිය බොන්නවත් නෑ.

"බිංදු මේ...., වැල් බයිලා නැතුව කියන සිංදුවක් කියපං, තේරෙන බාසාවකින්.."

"එහෙමනම් අහගනිං..., අරකි අන්න ලියුමක් එවලා...."

"මොකක්ද උඹ කිව්වේ.....?" මං බිංදුගෙන් ඇහුවා.

"ඇයි උඹේ කන්දෙක පොට්ටද......? අර නිමාෂිලාගේ මල්ලි අනේ අංජලී ආපහු ලියුමක් එවලා."

ලියුමක් එවපු එක පුදුමයක් නෙමෙයි. ඒත්...., මේක මම හිතාගෙන හිටියට වැඩිය සිරා ලෙඩක්. තව ඉස්සරහට මොනවා වෙයිද දන්නෙ නෑ,

"ඉතිං දීපංකො ලියුම....."

මම ලියුම අතට ගත්තා. කෙල්ලන්ගෙ පත්තරයක් එක්ක දීපු, ලස්සන ලියුම් ලියන කොළයක් ඒක. බිංදුයි මායි ලියුම කියවන්න පටන් ගත්තෙ එකටම.

*දයාබර මාලින්ද,*

මේ ලියුම ලියන්නෙ ඇයි කියලා මමවත් දන්නෙ නෑ. එදා රෑ වුන සිද්ධියෙන් පස්සෙ ඔයාව හමුවෙන්න හිතාගෙන හිටියත්, ඒක හරිගියේ නෑ. ඔයා විශ්වාස කරනවද මාලින්ද, මට එදා රෑ පුරාවට නින්ද ගියේ නෑ, මට මොනවා වුනාද කියලා මට තේරෙන්නෙ නෑ මාලින්ද.... මෙච්චර කාලෙකට මගේ කැමැත්තෙන්, හදවතින්ම කොල්ලෙකුට ලං වුණේ එදා රෑ. ඒක ඔයා විශ්වාස කරයිද? නැද්ද කියන එක මම දන්නෙ නෑ. ඒත් ඒක එහෙම තමයි.

මට ඔයාව මුන ගැහුනේ අහම්බෙන්. ඒ වුනත් මටම තේරෙන්නෙ නැති හේතු ගොඩක් නිසා මම ඔයාට ලංවුණා. ඒ කිසිම හැඟීමක් මේ වෙන කල් මට ගිහාන් ගැන හිතිලා නෑ. මම දන්නවා මම කරන්නෙ වැරැද්දක් කියලා. ඒ වැරැද්ද මම කරන්නෙ ගිහාන්ගෙන් පලිගන්න නම් නෙමෙයි. අනේ මන්දා මාලින්ද, මට මොනවා වෙලාද කියලා....

ඔයා ගැන මගේ හිතේ තියෙන්නෙ ආදරයක්ද...., මොකක්ද කියන එක මට තේරෙන්නෙ නෑ. ඒ මොනවා වුනත් මම ඔයාට ගොඩක් ලෙංගතුයි මාලින්ද.... මට මේ හැම එකක්ම ඔයාට කියන්න ඕන. එදා රෑ සිද්ධියෙන් පස්සෙ මගේ හිතේ ලොකු බරක් තියෙන්නෙ. අනේ මාලින්ද ප්ලීස්....., අද හවසට නුගේගොඩ සුපර්මාකට් එක ගාවදි මාව මුනගැහෙනවද.....? ස්කෝලෙ ඇරිලා, මායි නිමාෂියි එතනට එන්නම්.

*- අංජලී.-*

ලියුම බලලා විනාඩි දෙක තුනක් යනකම් බිංදුවත් මාවත් කථා කළේ නෑ. මගේ ඔළුව පුපුරන්න වගේ. ජීවිත කාලෙටම පෙරුම් පිරුවේ අරුණි අක්කා ගැන. දන් මේ මොකක්ද වෙන්න යන්නේ...?, මොන දේ වුනත් මට තේරෙන්නෙ එකම එක දෙයයි. මට අංජලීට ආදරේ කරන්න බෑ, මම හොයන කෙල්ල අංජලී නෙමෙයි.

"දන් උඹ මොකද මේකට කරන්න හිතාගෙන ඉන්නෙ....."

"අනේ මන්දා බං.....මට නම් මුකුත්ම හිතාගන්න බෑ....."

"ඕකනෙ බං මම මුල ඉඳලම උඹට කිව්වෙ. දං බලපං මොකක්ද මේ වෙන්න යන්නෙ. අංජලී දන්නම් එන්න හදන්නෙ මචං, අමුතුම පොටකට... උඹ කෙලින්ම තීරණයක් ගනිං.....

"මට කෙලික් තීරණ ගන්න පුළුවන් බං..... ඒත් කෙල්ලෙක් මේ වගේ ලං වුනාම එක කොහොමද ලේසියෙන් අමතක කරන්නේ. ඒකි බොරුවක් කරනවත් නෙමෙයි. අංජලීට තියෙන ප්‍රශ්නත් මම දන්නවා."

"උඹ වැනෙනවානෙ බං. මේ වෙලාවෙදි උඹ ඔය කරන වැඩෙන් වෙන්නෙ, ඒ කෙල්ලට තියෙන ප්‍රශ්න ගොඩට තව එකක් එකතු වෙන එක විතරයි. ටිකක් මොළේ පාවිච්චි කරලා වැඩ කරමු මචං. නැත්නම් මේ පාර කන්න වෙන්නේ ඉතිහාසගත වෙන කෑමක්....."

පංතියේ ඉඳගන්න වෙලාවෙ ඉඳලා මම කල්පනා කළේ මේකට මොකද කරන්නෙ කියලා. ජේනතෙක් මානෙකවත් උත්තර නෑ, අනිත් කොල්ලන්ට නම්, කාගෙන ට්‍රයි කරන්න තරම් ලස්සනක් අංජලීගේ තියෙනවා. ඇඳුම්වලටත් මාර ලස්සනයි. ඒත් මට අංජලී ගැන කිසිම හැඟීමක් ඇතිවෙන්නෙ නෑ, මම ආසයි එයත් එක්ක කථා කරන්න. ඒ කෙල්ලගෙ දුක අහන්න..... හැබැයි ඒක එච්චරයි.

සමහර විට ගිහාන් මාත් එක්ක ඔරොප්පු වුන එකත්, මම අංජලීට ලංවෙන්න හේතුවක් වෙන්න ඇති. තමන්ගෙ වත්තෙ දොඩම්වලට වැඩිය, අනුන්ගෙ වත්තෙන් හොරෙන් කඩන නාරනුත් රහයි කියලා කියන්නේ ඒකටනේ....

"දන් මචං බිග්මැච් එකට මොකද කරන්නේ."

කොටා ඇවිත් මගේ මනෝ පාර කැඩුවා.

"බිග්මැච් එකට අපි මොනවා කරන්නද බං.... ටීම් දෙකේ එවුං මැච් එක ගහයි. අපි අපේ වැඩක් කරගම්මු.

"එහෙම නෙමෙයි මචං පිළිවෙලකට, ලාවට මොනව හරි කරන්න ඕනෙ නේ. අපි කලෙක්ෂන් එකක් දාලා ට්‍රිප් යමු..., කරන එකක් මේ කාලෙදි විතරයි මල්ලි. ස්කෝලෙන් අයින් වුනාම බරකරත්තෙකවත් නැහලා ආතල් ගන්න බෑ..."

"කොටා...උඹට කියන තැනකට පෙරලි පෙරලි වදින්නම්. මේ දවස්වල සල්ලි වියදම් වෙන ඒවනං කියන්න එපා. මැච් එක බලන්න ටිකට් එක ගන්න වෙන්නෙත් ගෙදරට වැදලා....."

බිංදු කිව්වා. මටත් ඉතිං එච්චරම තමයි. ක්ලාස් එකට දෙන්න තිබ්බ සල්ලිවලිනුත් තැගි ගත්තනේ.

"එහෙමනං පයින් ගිහිල්ලා හැට් කලෙක්ෂන් පාරක් දාලා, ඊට පස්සෙ මැච් එක බලමු."

ස්කෝලෙ ඇරෙන්නත් ලඟයි. බිංදු ඩෙස් එක උඩින් ඉඳගත්තා.

දැං මොකද කියන්නේ, හවස ක්ලාස් යනවද.....? එහෙම නැත්තම් සුපර් මාකට් එකට ගිහින් අංජලීව හම්මු වෙනවද.....?

"මං යන්නේ නෑ බිංදු අංජලීව මුණගැහෙන්න. ඒ විතරක් නෙමෙයි, මම එයා එක්ක කථා කරන එක උනත් අතේ දුරින් තියා ගන්නවා. මේක සෙල්ලමක් නෙමෙයි බං..., කවදා හරි ගිහාන්ට ආරංචි වුනොත් මොනවා වෙයද.....? මට මොනවා වුනත් කමක් නෑ. අංජලී පව් බං.... හොඳම දේ පැත්තකට වෙලා ඉන්න එක....."

අන්න නියමයි. දාපං අත...." මම අත දැම්මා.

# දොළහ

"මේ.... ඔයා ළඟ මාරු සල්ලි රුපියල් සීයක් විතර නැතුව ඇති නේද.....?"

අක්කා තේ එක මේසෙ උඩින් තියලා බිත්තියට හේත්තු වුනා.

"ඒ මොකටද.......?"

"අද බිග් මැච්නේ අක්කේ....... අම්මගෙන් ඉල්ලන්නත් බෑ, මේ දවස් ටිකේම අරවට, මේවට කිය කියා සල්ලි ගත්තා. මගේ අතේත් තියෙනවා රුපියල් සීයක් විතර..... ඒක මදි වෙනවා මයි අප්සට් එක......"

"සල්ලි නම් දෙන්නම්. හැබැයි මැච් එක බලනවා විතරයි. කට්ටියත් එක්ක සෙට් වෙලා අරක්කු බොන්න බෑ හරිද.....?"

"මොන පිස්සුද හැලේ..... අරක්කු බොන්න තියා ටිකට් එක ගන්න වෙන්නෙත් බොහොම අමාරුවෙන්. අනික අපි අමද්‍යප නේ....."

"ඇත්තට.....!"

* * *

"බලපං බං මුන් අල්ලනවා විතරයි. ගහන්නේ නැතේ...."

අම්ලයි, කොටායි හෙන කථාවක්. හතර වටේම සිංදු කියනවා. නටනවා. බෙර ගහනවා. එක විකාරයයි. මට ඉන්න බැරි බඩගින්නක් තියෙන්නේ.

"බිංදු...., එළියට ගිහින් හැට් කලෙක්ෂන් පාරක් දාලා කොහෙන් හරි කමුද..?, බඩ පැලෙන්න...."

"ඔව් බං..., මටත් අම්බානක බඩගිනියි......"

අපි ගැන්සිය දහයක් විතර පිට්ටනියෙන් එළියට ආවා. කොටා, අමිල. මම., අසංග. බිංදු.... කට්ටියම නැග්ගා, බොරැල්ලෙ සුපර් මාකට් එකට. අමිල ගෙනාපු සයිඩ් ඩ්‍රම් එක ගහන්න පටන් ගත්තා.

පාරේ නටපු බිග් මැච් එකදා......

දෙනවා බැටේ, දෙනවමයි මෙදා.....

ලනුව උඩින් ඇර සොයිසා.... ලනුව උඩින් ඇර....

හායි හායි හිප්පි හිප්පි හායි....

සිංදුවයි, නැටුමයි දෙකම එකට යන්නේ. ගෙදර තියෙන පරණ කෝට් එකක් දාගෙන මූණට ලොකු වෙස් මූනකුත් දාගෙන ඉන්න හින්දා කාටවත් එකපාරටම අඳුන ගන්න බෑ. මොනවා වුනත් නෝන්ඩියෙන් බේරෙන්න ඕනෙ නේ.

"මචං තත්වෙ හොඳයි වගේ....."

අසංග සල්ලි එකතු කරන තොප්පිය මට පෙන්නුවා. එතනත් තියෙනවා රුපියල් දෙසීයක් විතර. මගේ අතේ තියෙන පන් කොල තොප්පියෙත් රුපියල්, හැටක් විතර මාරු කාසි තියෙනවා. වැඩි වෙලාවක් ගියේ නෑ....., එකපාරටම මගේ අත උඩින් ආපු සියේ කොළයක්. තොප්පිය උඩට වැටුණා.

කවුද ඒ පින්වතා....!, මම ඔළුව හැරෙව්වා පිටිපස්සටම....

අංජලී....!

මාව එකපාරම නිල්වෙලා ගියා. වෙස් මුහුණ හින්දා තාම මාව අඳුනගෙන නැද්ද.....? මම අත වනලා අහක බලා ගත්තා. අදුන ගත්තෙ නැත්තං හොඳයි. බිංදුත් ඩිම්වෙලා වගේ මගේ දිහා බලාගෙන ඉන්නවා.

"මාලින්ද......" එයා කථා කළා. ඔක්කොම වැඩ ඉවරයි....

"ඇයි මාලින්ද ඔයා මාව මග අරින්න හදන්නේ...."

මම දාගෙන හිටපු මුහුන ගැලෙව්වා.

"ඔයා කොහොමද අංජලී මාව අඳුනගත්තේ....?"

"මොන මූනක් දාලා හිටියත් මට ඔයාව අඳුනගන්න පුළුවන්. ඒක නෙමෙයි මාලින්ද...., ඇයි ඔයා එදා නුග්ගොඩට ආවෙ නැත්තේ. මම හවස හතර වෙනකම් බලාගෙන හිටියා තනියම..... ඔයාට මම එවපු ලියුම හම්බ වුනේ නැද්ද....?"

"මට ඒක හම්බවුනා අංජලී....."

අංජලීගේ ඇස්දෙක, අඬන්න ඔන්න මෙන්න වගේ. මම.., දාගෙන හිටපු කෝට් එක ගැලෙව්වා. මල පෙරේතයා වගේ කොහොමද කෙල්ලෙක් එක්ක කථා කරන්නේ.

"ඔයාට තේරෙන්නෙ නැද්ද අංජලී... අපි මේ කරන්නෙ නිකං පරිප්පු කන වැඩක් කියලා. එදා රෑ මම දන්නෙත් නෑ, මට මොනවා වුනාද කියලා. තේරුමක් නැතිව අපි දෙන්නා මෙහෙම ලංවෙලා වැඩක් නෑ අංජලී.... ඔයාගෙයි, ගිහාන්ගෙයි ප්‍රශ්ණෙ මැද්දට පැනලා, මම තුන්වැනියෙක් වුණා. මට ඔයාගෙ ප්‍රශ්නෙ නොතේරෙනවා නෙමෙයි. මට ඔයා ගැන දුකයි අංජලී...... ඒ වුනත් අපි දෙන්නම දන්නෙ නැතිව හරි මේ කරන්නෙ වැරැද්දක්....."

මම කථාව නවත්තලා අංජලී දිහා බැලුවා. එයා බිම බලාගෙන. මම යාන්තමට දක්කා හීන් කඳුළු බිංදුවක් එයාගේ කම්මුල දිගේ ඇදෙනවා. පාරේ දිගටම අපේ එවුන් ට්‍රක්වල යනවා. පයිනුත් යනවා, කොඩි අරන්. එකෙක් හරි දැක්කොත් වහ කන්න වෙන්නෙ.

"අනේ මාලින්ද...... ඔයා විතරයි මගෙ දුක කියන්නෙ ඉන්නෙ. ඇයි ඔයාටවත් මාව තේරුම් ගන්න බැරි....? මම මහා වල් කෙල්ලෙක් නෙමෙයි

එයා මගේ අතින් අල්ල ගත්තා

බ්‍රා...ස්...!

බිග් මැච් එකට ගිය ට්‍රක් [illegible] නැව [illegible] කොල්ලෝ ටිකක් ඒකෙන් පැන්න ඒ එක්කම වගේ උන් [illegible] ාව වටකර ගත්තා

"උඹ මාව කෑවා යකෝ. !"

ගිහාන්ගේ අතේ තිබුණ යකඩ පොල්ල, හෙන හයියෙන් මගේ දණහිස්සට වැදුණා. මට කෙලින් ඉන්න පණ නෑ. මාව බිමට වැටුණා උං ටික හතර වටෙන්ම ගහනවා. මාව පාවෙනවා වගෙයි, පාට පාට තරු වීසි වෙනවා. ජීවිතේ පලවෙනි පාරට මැරෙයි.....! කියන බය හිතට ආවා. ආයෙමත් ගිහාන් අතේ තිබුණ යකඩ පොල්ල ඉස්සෙනවා මම දැක්කා. ඒ එක්කම මගේ හතර වටේම කළුවර වුනා. එච්චරයි මට මතක.....

* * *

මහා රෝහලේ හදිසි අනතුරු වාට්ටුවේදී තමයි මට සිහිය ආවේ. වේදනාව කියන එකේ ඉවරයක් නෑ, එක තැනක් නෙමෙයි, මුළු ඇඟම එක විදියට රිදෙනවා. වම් කකුලේ දණහිස්ස හරිය හිරිවැටිලා වගේ....

මගේ කකුල කපලද...?

හිත ගැස්සුනා මහ භයියෙන්. යාන්තම් කොට්ටෙන් ඉස්සිලා මම දණහිස්ස දිහා බැලුවා. කකුල බැන්ඩේජ් කරලා විතරයි. මම අත උස්සන්න බැලුවත්, අත පන නෑ වගේ. දකුණු කම්මුල පැත්තේ ලොකු වේදනාවක් තියෙනවා. අන්තිමට වැදුන යකඩ පොලු පාර ආවේ, කෙලින්ම මගේ මූණට....

දවල් ලෙඩ්ඩු බලන වෙලාවෙදි අම්මා, අරුණි අක්කා, තාත්තා, අපේ අක්කා, ස්කෝර්ලෙ එවුන් ටික ආවා.

"මොකක්ද මේ කරගත්තේ....."

අක්කා ඇහුවා. අම්මයි, අරුණි අක්කයි අඬනවා හොඳටම.

"ඒක දන් ඉවරයි අක්කේ.....මේ තරමින් බේරුනා ඇති....."

"බය වෙන්න දෙයක් නෑ. ඔයාගේ දණහිස්ස ළඟ තමයි ටිකක් අමාරු වගේ. ඒක ඉක්මනට හොඳවෙයි. අනිත් තැන්වල තියෙන්නේ පොඩි පොඩි තැලීම් විතරයි. හැබැයි නළලට නම් මැහුම් දාලා තියෙන්නේ, වැඩිය දහලන්න යන්න එපා...."

මම අමාරුවෙන් හිනාවුනා. අම්මයි තාත්තයි ගියා දොස්තරව මුන ගැහෙන්න. අරුණි අක්කා මගේ දිහා බැලුවා. කොල්ලො ටිකත් කිසිම කථාවක් නෑ. අම්මලා ගිය හැටියෙම, බිංදුගෙන් අහගන්න ඕනේ සම්පූර්ණ විස්තරේ. මමවත් දන්නේ නෑ මට මොකද වුනේ කියලා...., අංජලීට මොකද වුනේ කියලා දන්නෙත් නෑ.... ,මට සිහි නැති වුනාට පස්සේ වෙච්ච හැම දෙයක්ම අහගන්න වෙනවා.

"ගොඩක් රිදෙනවද මල්ලී...."

අරුණි අක්කා ඇහුවා. අපේ අක්කයි, අරුණි අක්කගෙයි දෙන්නගෙම ඇස්වල කඳුළු.

"ටිකක් විතර තමයි අක්කේ... දන් නම් කලින් තරම් නෑ. ඇඟම නිකං හිරිවැටිලා වගේ."

"දන් ගිය දේවල් ගැන කථා කරලා වැඩක් නෑ. මීට පස්සෙවත් පාඩමක් ඉගෙනගෙන ඉන්න. ඔයාට මතකද ගහපු කට්ටිය...?"

මම මොකක්ද දෙන උත්තරේ.... බැරි වෙලාවත් මේ සිද්ධිය දැනටම පොලීසියට ගිහිල්ලා නම්, මාර වැඩේ තමයි. එහෙම වුනොත් මම මොකද කරන්නේ...? බිංදුගෙන් තමයි විස්තරේ අහන්න වෙන්නෙ.

"කවුද කියලා දන්නෙ නෑ අක්කේ. කාගෙවත් මූණු මතක තියාගන්න තරම් වෙලාවක් තිබුනෙ නෑ. මට හතරවටින්ම ගැහුවා. ඒ අස්සේ වුන කිසිම දෙයක් මතක නෑ....."

මම දෙපැත්තටම නැති උත්තරයක් දුන්නා. අරුණී අක්කා විශ්වාස කරයිද? නැද්ද? කියන එක මම දන්නෙ නෑ. එයා අහක බලා ගත්තා.

"කොහොම වුනත් හෙට අනිද්දා වෙනකොට, ගෙදර යන්න පුළුවන් වෙයි. ටික දවසක් යනකම් මහන්සි නොවී, වැඩිය ඇවිදින්න යන්නේ නැතුව තමයි ඉන්න වෙන්නේ.... ඩොක්ටර් අහනවා ඇත්තටම මොකද වුනේ කියලා...?"

තාත්තා බිංදු දිහා බලලා ඇහුවා.

"අපිත් ආවේ උන් ටික යනවත් එක්කම වගේ අංකල්... මෙහෙම දෙයක් වුනාලු කියලා දැන ගත්තෙත් එතකොට..... අපිටත් තාම තේරෙන්නෙ නෑ මොකද වුනේ කියලා....."

යන්තම් ඇති. මම හිතුවේ බිංදු ඇත්ත විස්තරේ කියලා දායි කියලා. එහෙම වුනානම් කාඩ් කුඩු...., අම්මලා යන්න ගියා. යන්න කලින් අරුණී අක්කා ආයෙමත් සැරයක් දුක හිතෙන විදියට මාත් එක්ක හිනාවුනා. ඇඟ ඇතුලෙ තියෙන වේදනාව දරා ගත්තත්, මට ඒ හිනාව දරාගන්න බැරිවුනා.

"ඉතිං...."

මම බිංදුට කතා කළා. අමිල, කොටා, අසංග කට්ටියම ලං වුනා.

"මම උඹට මේ ටික කිව්වා මාලින්ද. අංජලී හින්දා කවදාහරි හොඳ පරිප්පුවක් කනවා කියලා... අපි අඩි දෙක තුනට දුවගෙන එද්දි, ගිහාන්ගේ යාළුවෝ ටික උඹවත් අරගෙන දිව්වා. නැත්තං උඹට මොනවා වෙයිද දන්නෙ නෑ..."

"මේ කේස් එක ෂේප් එකේ තියාගෙන ඉන්න තමයි වෙන්නෙ. නැත්නම් මොනවා වුනත්, අර කෙල්ලටනෙ බං හරි නැත්තෙ. පොලීසි ගානෙයි අරහෙයි මෙහෙයි යන්න වුනොත් හෙන ලෙඩ්ඩනෙ මචං...."

"මෙච්චර කාලා ඉවර වෙලත් උඹ හදන්නෙ අරකිව ෂේප් කරන්නනෙ. හැමදාම මොනවා හරි කොක්කක් සෙට් වුනේ අංජලී හින්දා නේද....?, ඉතිං මොන රෙද්දකටද බං තාමත් ඒකිගේ කේස් වලට උඹ ඔළුව දාන්න යන්නේ...

අමිලයත් පටන් ගත්තා

"ඒ කථාව හරි. ඒ වුනාට මේක දුර දිග ගෙනියන්න නම් හොඳ නෑ, එහෙම වුනොත් ස්කෝලෙටත් හරි නෑ බං. ඒ මොන දේ වුනත්, ගිහාන්ට ගහන්න ඕනෙ. තනි එකෙක්ට වට කරලා ගහන්න තරං ඌ පීචං වුනානේ.... අන්න ඒක හින්දා ඌට දෙකක් අනින්නම ඕනෙ...."

කොටා එහෙම කියලා මගේ දිහා බැලුවා මම මුකුත් කිව්වෙ නෑ, ගිහාන් ගැන නම් හිතේ තියෙන්නේ අම්බානක තරහක්. දැන් නම් ඉවසීමේ කට්ට පැනලා තියෙන්නෙ. හැම දේකටම සීමාවක් තියෙනවා. එක්කෝ අංජලී දැනගන්න ඕනේ මේක ගිහාන්ට තේරුම් කරලා දෙන්න. එහෙමත් නැත්නම් ඌට සත දෙකහමාරකවත් මොළේ තියෙන්න ඕනේ.

"ඉස්සෙල්ලා උඹ සනීප වෙයං. ඊට පස්සෙ ඉතුරු ටික බලාගන්න පුළුවන්.... හැමදාම සද්ද නැතිව ඉන්න කොට අපි මොක්කු කියලා හිතනවද දන්නෙ නෑ ඌටයි උගේ ගැන්සියටයි දෙන්න ඕනේ මූනේ පාරවල් හිටින්නම....."

එතකොටම වගේ ලෙඩ්ඩු බලන වෙලාව ඉවර කරන බෙල් එක ගැහුවා.

"හවස එද්දී මොනවද ගේන්න ඕනෙ උඹට....." චිංඳු ඇහුවා.

"මුකුත් එපා බං. කන්න බොන්න කිසිමදෙයක් බෑ..." ඇත්තටම වේදනාව වැඩිකමට මට කන්න බොන්න කිසිම ආශාවක් නෑ... කෑම මතක් වෙනකොටත් බඩ දඟලනවා වගේ..., කොහොම කන්න හිටපු කොල්ලෙක්ද..., දැන් ඉතින් ඉල්ලගෙන කාලා බූරුවා වගේ වැටිලා ඉන්නවා...

පේමතෝ ජායතී සෝකෝ...සුමනෝ...විමලෝ...

"එහෙනං අපි ගිහින් ආපහු හවස එන්නම්....." උං ටිකක් යන්න ගියා. ප්ලාස්ටර් සේලයින්, දොස්තරලා, නර්ස්ලා අතරේ ආයෙම මම තනිවුනා.

* * *

ඉස්පිරිතාලෙක ඉන්න කොට වෙලාව යන්නෙත් නෑ. මම ඔහේ වට පිට බල බලා හිටියා. ආපහු දවල් දොළහ වෙනකම් ඉන්න වෙනවා කවුරුහරි එනකම්. එතකම් කරන්න දේකුත් නෑ, සමහර වෙලාවට අද දවල් ටිකටි කපන්නත් ඉඩ තියෙනවා. මම ඇඳෙන් පොඩ්ඩක් ඉස්සිලා කොරිඩෝවෙන් එළිය දිහා බලාගෙන හිටියා. කොරිඩෝව අයිනේ දිගටම තියෙන්නේ රෝද පුටු. මගේ ජීවිතෙත්, වෙලාවකට රෝද පුටුවක් වගෙයි. කවුරු හරි ඇවිත් කරකවන්න ඕන ඉස්සරහට යන්න.

"මාලින්ද....." මම ගැස්සුනා එකපාරටම.

අරුණි අක්කා මේ වෙලාවේ....!, මට හරි පුදුමයි.

" ඔයා කොහොමද අරුණි අක්කේ ඇතුළට ආවෙ. මේ වෙලාවට ලේඩීවු බලන්න එන්න දෙන්නේ නැනේ.

"මම අඳුනන ලේඩි ඩොක්ටර් කෙනෙක් ඉන්නවා. එයත් එක්ක තමයි ඇතුළට ආවේ. එයා අන්න, එයාගේ පිස්තර හොයනවා. මේ වෝඩ් එකේ ඩොක්ටර්ගෙන්...."

"ඔයා ආපු එක ගොඩක් හොඳයි අරුණි අක්කෙ, නැතිනම් මට මහා පාළුවෙන් තමයි ඉන්න වෙන්නේ...."

ඒකෙනේ මම අමාරුවෙන් හරි ආවේ. දැන් කොහොමද ඇහේ අමාරුව.."

"එච්චරම නෑ, ටිකක් අඩුයි..."

අරුණි අක්කගේ ඇස්දෙක නිල්පාටට දිලිසෙනවා. මගේ ජීවිතේට දකපු ලස්සනම ඇස්දෙක....

"මට ඇත්ත කියන්න මාලින්ද...., මේකත් අර ලයිට් එකේදි වෙච්ච ගෝරියෙම කැල්ලක් නේද....?,මොකක්ද මේකෙ මුල. ? ඇයි ඔයාලා හැමදාම මේ විදියට ගහගන්නේ...?"

අංජලී ගිහාන් අතින් විනාශ වුන එක ඇර අනිත් කතාව ඔක්කොම මම අරුණි අක්කට කිව්වා. එයා කිසිම සද්දයක් නැතිව මගෙ දිහා බලාගෙනම ඒ කතාව ඇහුවා.

"අරුණි අක්කෙ, මේ කතාව තාම දන්නෙ බොහොම ටික දෙනයි. ඒ හින්දා මේ ගැන කාටවත්ම කියන්න එපා. කොටින්ම මම අපේ අක්කටවත් කිව්වෙ නෑ. එතකොට ඒ ගර්ල්ට හරි නැතේ අක්කෙ..."

"මම කියන්නෙ නෑ කාටවත්... ඔයා ඒ ගර්ල්ට ආදරෙයිද මාලින්ද....?"

අරුණි අක්කා ඒක ඇහුවෙ හරිම අමුතු විදියට.... දුක, පුදුමය, කුතුහලය හැම දෙයක්ම ඒ ප්‍රශ්නෙ ඇතුලෙ තිබුණා.

"ආදරයක් නෑ. ඒත් ලොකු දුකක් නම් තියෙනවා.... වෙන කෙල්ලෙක් හින්දා මට මේ වගේ දෙයක් වුනානම්, මම මෙච්චර ඉවසන්නේ නෑ. අංජලීගේ සමහර ගතිගුණ මට අල්ලන්නෙ නෑ තමයි. ඒත් ඒ කෙල්ල අසරණ වෙලා ඉන්නකොට, කර ඇරලා යන්න පුළුවන් කමක් මට නෑ..."

මේ ප්‍රශ්ණේ තව දුර දිග ගෙනියන්න එපා. දැනට වුණත් මේක හින්දා වෙච්ච දේවල් හොඳටම ඇති. ඒ දෙන්නගෙ ප්‍රශ්ණ, එයාලා බලාගත්තුදෙන්..., ඔයා පැත්තකට වෙලා ඉගෙනගන්න එක හරියට කරගෙන යන්න මාලින්ද..."

"මම පුළුවන් තරම්, අංජලීගෙන් මගඇරලා ඉන්නෙ අරුණි අක්කේ. එදා වුනත් අපි දෙන්නා මුණගැහුනේ අහම්බෙන්. මීට පස්සෙ නම් ඒ තරමටවත් කථා කරන්නෙ නෑ..."

අරුණි අක්කා හිනාවුණා.

"ඔය කිව්වට, මෙයා ඉතින් ආපහු සැරයක් යයි ඔය ගෝරි වලට..පණ්ඩිතයා වගේ....."

"ප්‍රොමිස්.... අරුණි අක්කේ, ආපහු නම් මම මේ වගේ ගොන් වැඩ කරන්නේ නෑ."

මම අරුණි අක්කගේ අත උඩින් අත තිබ්බා. එයා මගේ අත අල්ලා ගත්තා. ආයෙමත් සැරයක් මගේ හිත නැවතුණා. කොයිතරම් හීලෑ කරගන්න හැදුවත් මගෙ හිත නම්, කිසිම දෙයක් අහන්නෙ නෑ. අපි දෙන්නා ඇස් අහකට ගත්තෙ නෑ. මම අරුණි අක්කගෙ ඇඟිලි මිරිකගත්තා. මේ අත කවමදාවත් මට ලැබෙන එකක් නෑ කියලා මම හොඳටම දන්නවා. මට දැන් එකම එක දෙයක් විතරක් තේරෙනවා. මගේ හිත ආදරේ කරන්නෙ අරුණි අක්කට විතරයි. ඒත් ඒක හීනයක් විතරයි කියන එකත් මම දන්නවා.

"ඔයා උදේට කෑවද...?" අරුණි අක්කා මගෙන් ඇහුවා.

"නෑ. අක්කෙ කන්න කිසිම පිරියක් නෑ,... රිදෙනවා වැඩි හින්දා වෙන්න ඇති."

"එහෙම කියලා කොහොමද ළමයෝ. මේ දවස් ටිකේ ඇඟට පණ එන්නත් එක්ක කන්න ඕනෙ. නැත්නම් ඇඟ දුර්වල වුනොත්, ඔයාට තව අමාරු වෙයි. ඉන්න..., මම මොනවා හරි අරන් එන්නම් කැන්ටින් එකෙන්...."

මට කථාකරන්න ඉඩ තියන්නේ නැතුවම, අරුණි අක්කා දුවලා යන්න ගියා. එයා ආපහු ආවේ අයිස්ක්‍රීම් කප් එකකුත් අරගෙන.

"ඔයා ඉන්න මම කවන්නම්..."

අම්මා කෙනෙක් පොඩි දරුවෙක්ට බත් කවනවා වගේ, අරුණි අක්කා මට අයිස් ක්‍රීම් කැව්වා. මේ වෙන හැම දේකින්ම තව තවත් මම අරුණි අක්කට ලං වෙනවා. ඒ ලංවෙන එකේ අවසානය, කඳුළු පිරිච්ච වෙන්වීමක් කියන එක මම නොදන්නවා නෙමෙයි. අපි හිතන දේවල් ඒ විදියටම නොදෙන්න තරම් මේ ලෝකේ අසාධාරණ ඇයි....?, ආදරේ කියන්නේ වයස් සීමා දාලා දුවන තරගයක් නෙමෙයි කියලා මිනිස්සුන්ට තේරෙන්නෙ නැත්තේ ඇයි..? ජීවිත කාලේ පුරාවටම හිත ගියේ එකම එක කෙල්ලෙක්ට විතරක් නම්, ඒක අමතක කරන එක ගොඩක් අමාරු වැඩක්. මොනතරම් කෙල්ලෝ දැක්කත්, ඒ වගේ ආදරයක් නම් ආයේ ඇතිවෙන එකක් නෑ. ඒකෙන් දනෙන දුක තියේවි සදහටම. මේකට කරන්න... වෙන කිසිම දෙයක් නෑ.

අරුණි අක්කත් එක්ක ආපු ලේඩි ඩොක්ටර්, අපි ළඟට ආවා හිනා වෙවෙන,

"අරුණි නංගි..., මෙයාද ඔයා කිව්ව මල්ලි..."

"ඔව් අක්කෙ...."

"ගොඩක් ලොකු අමාරුවක් නෑ. එක්ස්රේ රිපෝට්වලත් කිසි දෙයක් නෑ, දවල්, අව්ව වෙලාවේ වෙච්ච නිසා තමයි තුවාල වලට ඒ වෙලාවෙ අමාරු වෙලා තියෙන්නෙ. අද දවල්ට ටිකට් කපනවා කියලා කිව්වා. හැබැයි සතියක් විතර යනකම් වැඩිය ඇවිදින්නෙ නැතුව ඉන්න වෙයි..."

"තැන්ක්ස් ඩොක්ටර්...."

"එහෙනම් මාලින්ද මම ඉක්මනට අම්මලට පණිවිඩේ දියන්නම්. අක්කත් ගෙදර ඇති, අම්මලත් එක්ක එන්න බලාගෙන....."

ඒ ඇස්දෙක, මාව ආයෙත් සැරයක් ගොළුකළා.

# දහතුන

අවුරුදු නිවාඩුවත් ඉවර වුනා. වැඩිය වැඩක් කොරුනෙත් නෑ. ක්ලාස් ගියෙත් නෑ. ඉඳලා හිටලා. දන් මාව පංති යවන්නවත් ගෙදරින බයයි. බිංදුයි, මායි මේ දවස් ටිකේ අපේ අක්කාගෙන් පහුවුන පාඩම් ටිකක් අහගත්තා.

" අම්මලා හිතන්නේ මම මේ වලියට විහින්ම පැටලුනා කියලා. මම කොයි තරම් කිව්වත් පිළිගන්නේ නැනේ..."

" එහෙම තමයි බං....., ඕක තේරුම් කරලා දෙක්නත් බැනේ. අනික. තේරුම් කරන්න ගියොත් පහුගිය සීන් පවා ඇදෙනවා. එතකොට නිකං තෝන්ඩිනේ. රට වැඩිය හොඳයි ටික දවසක් හරි මේ විදියට නිවාය අඩස්සියෙ ඉන්න එක .."

" බිංදු.... "

" ඇයි...?"

" උඹ මොකද හිතන්නෙ අංජලී ගැන...."

" උඹට තාමත් ඔය කෙහෙල්මලද ඔළුවෙ තියෙන්නෙ......, ඒකි ගැන මොනවා හිතන්නද...? යන්තම් අංජලීගේ නම මතක් කළත්, අපිට වුනේ නිකං මජං නාගන්න අනික, අපි අංජලී ගැන දුක් වුනා කියලා මොකද උඹ ඒකිව දාගන්නද...? නෑ නේ බං. ඉතිං ඒ හින්දා අපි ඕකට හොම්බ දාන්න ගියාම වෙන්නෙ නැති ප්‍රශ්ණ ඇතිවෙන එක...."

" මට නං වෙලාවකට ඔරොප්පුත් හිතෙනවා බං. මේ කේස් එක වෙලා මාසෙකටත් වැඩියි. එයා නිකංවත් බැලුවේ නෑ නේ, මම උන්නද මළාද කියලාවත්..."

" ඕවා ගණන් ගන්න එපා බං....., දෑං ඔය අනං.. මනං සේරම පැත්තකට දාලා විභාගෙ කරමු...."

මම ආපහු පාඩම් කරන්න පටන් ගත්තා. අපි දෙන්නා එකතු වුනොත් පාඩමට වැඩිය කතාවම තමයි. කොහොම හරි කරලා, වාර විභාගෙ පාස් වෙන්න ඕනෙ.....

" මාලින්ද......?"

" මොකද බං......."

" මට දැන් හිතෙනවා ඉසංකාගෙන් අහන්න....."

" ඇයි..., දැන් සීයට සීයක් හිතට අල්ලලාද තියෙන්නේ....."

" ඒවා හරි බං. මට මේ දවස් ටිකේම ඉසංකාව හම්බුවුනා. දැන් එයාගෙ යාළුවෝ හිතාගෙන ඉන්නේ, අපි දෙන්නා අතරේ එහෙම එෆෙයාර් එකක් තියෙනවා කියලා තමයි. දිගටම මේ විදියට ගියොත් එයා හිතයිද දන්නෙ නෑ, මේක නිකං යාළුකමක් විතරයි කියලා....."

" අනේ පලයං බං යන්න. ඉසංකා හිතන්නෙ කොහොමද කියලා මම නොදන්නවාද....? උඹ, ඒකිත් එක්ක කතා කරද්දි යෝගට් එකක් කන්න ඇතිවෙන්න, පැනි හලනවා. ඉතිං එයා කොත්ත බබෙක්යෑ. ඒවා නොතේරෙන්න.... මොනවා වුනත්, උඹ අහන එක නම් හොඳයි වගේ. මොකද දැනුත් ඕක තියෙනවායි නැහැයි කියලා කිසිම වෙනසක් නෑ..නේ...."

" ඒ වුනාට කොහොමද බං එකපාරටම අහන්නේ...? තදයා වගේ හිටියට බයෙ බෑ. බැරි වෙලාවත් වෙනදා පුරුද්දට එයාට බෑ කියව්ලා, තියෙන යාළුකමත් නැතිවුනොත්...."

" ෂුවර් එකට වැඩේ හරියනවා. උඹ බය නැතිව හිටපං... ඕනෙ නම් මම ගිහින් ඉසංකාගෙන් අහන්නම්...."

" අනේ මේ උඹ පැත්තකට වෙලා හිටපං.... මෙච්චර හරියක් කරගත්තු මට, ඉතුරු ටික වැඩක්ද මල්ලි..."

බිංදුට ඉසංකාගේ කැමැත්ත ලැබෙයි. කෙල්ලගෙත් කියන්න තරම් වැරැද්දක් නෑ නේ...

“ බිංදු....”, මම හොරෙන් වගේ කතා කළා.

“ මට නම් දැන්, අරුණි අක්කව අමතක කරලා දාන්න බැරි තරමටම වැදිලා තියෙන්නේ මචං. පහුගිය මාස ටිකේම මම ෆුල් ට්‍රයි එකක් දුන්නා, මේ වැඩේ කවදාවත් හරි යන්නේ නැති වැඩක් කියලා හිතලා අමතක කරන්න... ඒත්..., ඒක වැඩක් වුනේ නෑ.... මම අංජලී එක්ක කතා කළේ එයාට තියෙන කැමැත්තට නෙමෙයි. අරුණි අක්කව අමතක කරන්න පුළුවන්ද කියලා බලන්න. ඒකෙන් වුනේ කකුල කඩා ගත්ත එක විතරයි. මට තේරෙන්නෙ නැත්තෙ මචං, මෙච්චර කෙල්ලො ඉන්න රටේ, වෙන කෙල්ලෙක් ගැන මට හිතන්න බැරි ඇයි කියලා....? ”

“ මටත් තේරෙන්නෙ නැත්තෙ ඒක තමයි බං.. උඹ හැම වෙලේම දගලන්නේ අයිතිකාරයෝ ඉන්න කාර් එලවන්නමනේ... කොහොම වුනත්, උඹට අරුණි අක්කව බොක්කටම වැදිලා තියෙන්නෙ කියන එකනම් මම දන්නවා. එහෙම වුනා කියලා මොනවා කරන්නද බං... බැරි වෙලාවත් සමන් අය්යා අරුණි අක්කාගෙ අදහස්වලට කැමති වුනොත්, එදාට උං දෙන්නා කසාද බඳීවි. එහෙම වුනොත් උඹ මොකද කරන්නේ...? අනික එහෙම නුනත් අරුණි අක්කට සමන්ව බඳින්නම වෙනවා. ඉතිං මොකටද තව තවත් ඒක ගැන හිතලා දුක් විඳින්නෙ.....?”

මටත් ඒ විදිහට හිතෙනවා තමයි. ඒත් ඒක බොහොම පොඩි වෙලාවකට විතරයි. ආයෙමත් කොහෙන් හරි ඉඳලා අරුණි අක්කා මගේ ලෝකෙට එබිකම් කළාම, හදාගත්ත හිත කැඩෙනවා.

“ මම කියන්නද මාලින්ද....” උඹ ඔය කතාව අරුණි අක්කට ඇහවෙන්න ඇරපං. එහෙම නැත්නම්, කෙලින්ම කියලා දාපං. එතකොට උඹේ හිතේ බරවත් අඩුවෙයිනේ....”

“ දැනටමත් එයාට මොනවා තේරිලාද දන්නෙ නෑ. අරුණි අක්කා ළඟ ඉන්නකොට මගේ වෙනසක් තියෙනවා කියන එක මටම තේරෙනවා බං... ඒ හින්දම තමයි මට බය, මේ සීන් එක අපේ අක්කට නෝන්ඩි වෙයි කියලා. උඹ පොඩ්ඩක් හිතපං බිංදු..., මගේම මල්ලි වෙන්න කියලා කියපු එයාගෙන් මම කොහොමද ආදරයක් ගැන අහන්නෙ කියලා. එතකොට සමහර වෙලාවට එයා හිතයිද දන්නෙ නෑ, මම මුල ඉඳලම ආශ්‍රය කළේ කැත හිතින් කියලා....”

“ ඕකනෙ මම මුල ඉඳලාම උඹට කිව්වෙ, ඔය සහෝදර ප්‍රේමය නම් අමු [redacted]යක් කියලා. හැබැයි උඹට මෙහෙම කරන්නත් පුළුවන්... අපි උඹලංග අක්කට කියමු මේක ගැන....”

" අපේ අක්කාට කියන්න...! උඹට පිස්සුද.....? ඊටවැඩිය හොඳයි වහ බීලා, එල්ලිලා මැරෙන එක. මම කොහෙමද එයාගේ මූණ බලන්නෙ....."

" පස් මහ බැලුම් බලලා ලව් කරන්න බෑ මචං. කරන දෙයක් ඉක්මණට කරපං, අක්කලගෙ විභාගෙ ඉවර වෙන්න කළින්. එහෙම නැත්නම් ඕක හිතින් අත ඇරලා දාලා වෙනින් කර්මාන්තයක් පටන් ගනිං....."

" මොකද මේ දෙන්නාගේ රහස් කුමන්ත්‍රණේ...? හොරෙන්, හොරෙන් මොනවද මේ කතා කරන්නේ...."

අපේ අක්කා කාමරේට එනවා අපි දක්කේ නෑ. එයාට ඇහුනද මන්දා.....

"අන්න ඔයාගෙ යාළුවෙක් ඇවිත්...."

අක්කා ඒක කිව්වෙ නම් ටිකක් එක විදියකට. මගේ යාළුවෝ කවුරුවත් සාලේ නවතින්නෙ නෑ, කෙලින්ම කාමරේට එනවා.

" කොටා ඇවිත් අපි දෙන්නව බයිට් කරන්න හදනවද දන්නෙ නෑ..." එහෙම කියාගෙන අපි දෙන්නා සාලෙට ආවා.

" අංජලී...!."

අංජලීයි, නිමාෂියි සාලේ වාඩිවෙලා. බිංදුයි මායි මූණට මූණ බලා ගත්තා. අක්කා අපිට කථා කරන්න දීලා ගේ ඇතුලට ගියා.

" මම දන්නවා මාලින්ද, ඔයා මාත් එක්ක කථා කරන්නවත් ආසා නැතුව ඇති. මම මගේ කරදර වලට ඔයාවත් ගාවගෙන, ඔයාවත් කරදර ගොඩකට අත ඇරියා කියලා ඔයා හිතනවා ඇති. අනික. මම හින්දා මේ තරම් වේදනා විඳින, ඔයාව බලන්නවත් ආවේ නෑ කියලා ඔයා හිතනවා ඇති..."

මම මුකුත්ම කිව්වේ නෑ. බිම බලාගෙන හිටියා. මට කතා කරන්න කිසිම දෙයක් නෑ. හිටි හැටියේ අහසින් පාත් වුනා වගේ අංජලී අපේ ගෙදරට ආපු එකෙන්, මාව දන් කරකෝලා අත ඇරියා වගේ...,අක්කා මොනවා හිතනවද දන්නෙත් නෑ. බැරි වෙලාවත් අරුණි අක්කාත් දන් ආවොත් නම්, තවත් අනාථයි.

" එදා වෙච්චි දේට, මට ඔයාගෙන් සමාව ඉල්ලන්න බෑ. මොකද..., මම දන්නවා ඒක සමාව දෙන්න පුළුවන් වරදක් නෙමෙයි කියලා. එක පාරක්

නෙමෙයි, දෙපාරක්ම මම හින්දා ඔයාට ඒ මිනිහාගෙන් ගුටි කන්න වුනා. කොල්ලෙක් වෙලත්, මෙච්චර දෙයක් වෙලත් ඔයා ඉවසුවේ මම හින්දා කියලා, මම දන්නවා මාලින්ද. ඒ වුනත් ඔයාගේ දුකට, ඔයා වේදනා විදිනකොට මට ඔයා ළඟට එන්න බැරි වුනා..."

ඔයාටත් කරදර තියෙන්න ඇති කියලා මට තේරෙනවා අංජලී. මම එදාත් ඔයාට කිව්වනේ, මේක හින්දා අපි දෙන්නා ලොකු අමාරුවක වැටෙනවා කියලා.ගිහාන් ඔයාට ගොඩාක් ආදරේ කරනවා වෙන්න පුළුවන්. ඒ හින්දම මිනිහා බය ඇති එයාට ඔයාව නැති වෙයි කියලා. ඒ ඉරිසියාවට වෙන්න ඇති මේ බලු වැඩ හැම එකක්ම කරනවා ඇත්තේ..., ඉතිං ඒක එහෙම වුනා කියලා තව තවත් මට මේ විදියට උගේ බයිට් එක වෙන්න බෑ...."

වෙන්න ඕනේ විදියටම අංජලී ඉකිගහන්න පටන් ගත්තා. නිමාෂි මගේ දිහා බලලා අංජලීව අල්ල ගත්තා. මගේ හිතටත් ගොඩාක් ලොකු දුකක් තියෙනවා. ඒ වුනත් මේක තවත් දුර ගෙනියන්න නම් බෑ...

"ඊට පස්සේ දවසක ගිහාන් හොඳටම ගහලා තියෙනවා අංජලීට. යාළුවෝ අතේ මටත් පණිවිඩ එවලා තිබුනා කපුකම් නොකර පරිස්සම් වෙලා ඉන්න කියලා...ඒකෙන් පස්සෙ මටත් හරි බයයි."

නිමාෂිත් අමාරුවෙන් වචන එකතු කරගෙන, කථා කළා.මමදිග හුස්මක් පිට කළා. මේක පැටලුන නූල් බෝලයක් වගේ. ඒකෙ පැටළුම් අරින්න මම උත්සාහ කළොත් වෙන්නේ තව තවත් ගැට ගැහෙන එක විතරයි. ඒ හින්දා හොඳම දේ, නූල් පන්දුව අයිතිකාරයාටම දෙන එක තමයි.

අපේ අක්කා බීම වගයකුත් අරගෙන ආවේ ඒ වෙලාවෙ. මම අක්කාගේ මූණ දිහාවත් බැලුවේ නෑ.

"තව පොඩ්ඩෙන් එදා අපි නොඑන්න, මූට මොනවා වෙයිද දන්නෙත් නෑ. ඔයා පොඩ්ඩක් හරි මේකත් තේරුම් ගන්න..., තව තවත් ඔය දෙන්නා කථා කරන්න යන එකෙන් වෙන්නේ, දෙපැත්තෙම ඉන්න එවුන් ගහගන්න එක විතරයි. අපි ටිකක් ෂේප් එකේ ඉන්න හැදුවාම ගිහාන් එන්නෝ කරට...,මේ පාරනම් ඌට කියලා දෙනවා කට වහගෙන හිටපං කියලා. කිව්වට තරහා වෙන්න එපා අංජලී...,මීට පස්සේ ඔයා වුනත් අපිත් එක්ක කථා කරන්න එන්නෙ නැත්තම් හොඳයි. ඔයාගේ වැරැද්දක් නෙමෙයි, ඒ වුනත් මීට පස්සේ නම් අපි බලා ඉන්නේ නෑ..."

මම බිංදුගේ කථාවට මුකුත් කියන්න ගියේ නෑ. අංජලී එක පාරටම ඔළුව ඉස්සුවා. ඒ ඇස් දෙක හොඳටම රතු වෙලා.

"මං හින්දා ඔයාට ආයෙත් කරදර වෙන්න, මම ඉඩ තියන්නේ නෑ. ඔයා ඕන තීරණයක් ගන්න මාලින්ද, මම තරහා නෑ."

"අපි ආයේ මූණ ගැහෙන්නෙ නැතුව ඉඳිමු අංජලී..., ඒක තමයි කරන්න තියෙන හොඳම දේ..."

අංජලී මගේ දිහා බැලුවා. කිසිම දවසක, කිසිම වෙලාවක බලපු නැති විදියට එයා මගේ දිහා බලාගෙන හිටියා.බිංදුයි, නිමාෂියි කරගන්න දෙයක් නැතුව බිම බලා ගත්තා. තාමත් අංජලීගේ ඇස් වලින් කඳුළු ගලනවා. එයා ඒ විදියටම ටික වෙලාවක් හිටියා.

"අපි යන්නම් මාලින්ද...., කාත් කවුරුවත් නැතුව හිටපු වෙලාවක ඔයා මට උදව් කළා. ඒකට ගොඩාක් පිං.... ඒ වුනත්, ඒක හින්දාම ඔයාටගුටි කන්නත් වුනා. මම දන්නවා ජාති ජාතිවත් මම කරපු ඒ පවට වන්දි ගෙවන්න මට බෑ...., මේක මට ලැබුන හැටි මාලින්ද..., දැන් ඔක්කොම ඉවරයි... ."

ටික වෙලාවකින් නිමාෂියි, අංජලීයි යන්න ගියා. මට කිසිම දෙයක් හිතා ගන්න බෑ.

"දැන් ඒක ඉවරයිනේ බං. දුක තමයි...., ඒත් මොනවා කරන්නද?..,ලෝකේ හැටි එහෙම තමයි...."

මහ රෑ ගොඩාක් වෙලා යනකම් නින්ද කියන එක ජේන තෙක් මානෙකටවත් ආවේ නෑ. අංජලීව පළවෙනි පාරට මූණ ගැහුන හැටි. එයාට පුස්තකාලෙදි විහිළු කරපු එක, පුස්තකාලෙදි ගුටිකාපු එක..., හැම දෙයක්ම මුල ඉඳලා හිතට ආවා. කිසිම දවසක මට අංජලීව අමතක කරන්න බෑ. මගේ ජීවිත කාලෙදි කුළුඳුලේම හාද්දක් දුන්නේ එයා. මටම නොතේරෙන විදියට මම අංජලීට ළං වුනා. අංජලීව අයිති කරගන්නවත්, ගිහාන්ගෙයි එයාගෙයි ආදරේ කඩලා දාන්නවත් මට ඕනේ වුනේ නෑ. ඒ වුනත්....අනේ මන්දා, හැම වෙලේම අංජලීට ළං වෙලා එයාගේ දුක අහන්න මගේ හිත ආසා කරපු විත්තිය මම දන්නවා. ඒක හින්දා වෙන්න ඇති, මගේ හිතට මේ තරම් අංජලී ගැන දුක හිතෙන්නෙ. අරුණි අක්කාගෙයි, සමන්ගෙයි සම්බන්දෙ දැනගත්ත දවසෙ ඉඳලා මට ඕනෙ වුනෙ අංජලීට ළංවෙන්න. ඒ විදියට හරි මගේ පාළුව නැති කරගන්න මට ඕනේ වුනා. දැන් ඒ හැම දෙයක්ම ඉවරයි.

කාමරේ ජනේලෙන් හීතල සුළං රැල්ලක් ඇවිත් මගේ ඇඟේ වැදුනා. අංජලීත් ඒ සුළඟ වගේද..?, කොහේදෝ දන්නේ නැති තැනක ඉඳන් ඇවිත් මට ළං වුනා. ඒත්, මගේ හිත ඇතුලේ සුළං රොදක් වගේ දැවටි, දැවටි තියෙන්නේ අරුණිගේ සුවඳ විතරයි. වෙන කාටවත් හිත ඇතුලේ ඉඩ නෑ. ඒක සුළඟක් වගේම පිට වෙලා ගියත්, මම දන්නවා අරුණි අක්කාගේ සුවඳ විතරක් හැමදාමත් මගේ හිත ඇතුලේ රැඳිලා තියෙනවා.

රත්තරන් අරුණි..අක්කේ., ඒ සුවඳ විතරක්, මගෙන් උදුරගන්න නම් එපා....!

# දාහතර

තත්පර, විනාඩි, දවස්, සති, මාස මේ හැම එකක්ම ගලාගෙන යන්නේ අපි හැමෝටම හොරෙන්. අපේ අක්කලාගේ විභාගෙට තියෙන්නෙ තව මාසයක් විතරයි. අක්කා නම් නිදිමරාගෙන පාඩම් කරනවා. මටත් නිදිමත කියන නාමයක් ඇහට එන්නේ නෑ. ඔළුව එක,එක විකාරවලින් පිරිලා ඉතිරිලා යනවා....

"අක්කේ..."

"ඇයි...?" , අක්කා පොතෙන් ඔළුව අරගෙන මගේ දිහා බැලුවා.

"තව ගොඩක් තියෙනවද පාඩම් කරන්න...?"

"ඔව්..., තාම බොට්නි වලට අතවත් තියලා නෑ. ෆිසික්ස් වල ගණන් හදන්න තේරෙන්නෙත් නෑ..., අනේ මන්දා තව තියෙන්නෙත් මාසයයි..."

"අරුණි අක්කා මොකද කරන්නේ...?, ළඟකදි මම ලයිබ්‍රි එකේදිවත් දැක්කේ නෑ..."

මෙච්චර වෙලා මගේ හිත ඇතුලේ හිරකරගෙන හිටිය ප්‍රශ්නෙ, මගේ දිව ඇතුලෙන් එළියට පැන්නා. මේ තරම් වෙලා මම වටේ කැරකුනේ ඕකටමයි. අක්කා ඒක අහපු ගමන් ආපහු බිම බලාගත්තා.

"අනේ මන්දා, මට තේරෙන්නෙ නෑ ඒ කෙල්ලට මොනවා වෙලාද කියලා. දැන් ඉන්නේ විභාගේ අත ඇරපු ගානට. ගෙදරටත් තේරිලා එයාගේ වෙනස..., සමන් අය්යාගේ ප්‍රශ්නෙත් ආපහු මතුවෙලා මේ ළඟදි දවසක..."

"ඉතිං...?"

„ඒ වෙලාවෙදි අරුණි කෙළින්ම කියලා තියෙනවා, එයා සමන් අය්යාට කැමති නෑ කියලා…„

"නෑ..හ්..!" , මාව පුදුම වෙලා ගියා.
"අම්මයි, තාත්තයි දෙන්නාම, ඒ වෙලාවෙදි අරුණිට බැනලා තියෙනවා. කෙල්ල හොඳටම අඬලා…, වෙන මොනවා කරන්නද..?, ඊට පස්සේ ස්කෝලෙ එන එකත් අඩු වුනා. ක්ලාස් වලට විතරයි එන්නේ. මට නම් තේරෙන්නේ නෑ මේකට මොනවා කරන්නද කියලා. මම විතරයි යාළුවන්ගෙන් මේක දැනගෙන ඉන්නෙ. අරුණි තමයි මට ඉන්න හොඳම යාළුවා. ඒ කෙල්ලගේ දුකක් වෙලාවෙදි මට කර කියාගන්න දෙයක් නෑ…,කොහොම හරි දැන් තියෙන තත්වෙ හැටියට විභාගේ කරන පාටකුත් නෑ. ගෙදර ඉන්නත් එයා ආසා නෑ…"

මම මේ කිසි දෙයක් දැනගෙන හිටියෙ නෑ. දැනගෙන හිටියත් අපිට කරන්න දෙයක් ඉතුරුවෙලා තියෙනවාද..?, කොහොම වුනත් මේ හැම දුකක්ම දරාගෙන අරුණි අක්කා ඉන්නවා කියන එකත් මට පුදුමයි. කිසිම දවසක නැති විදියට අරුණි අක්කාගේ මූණ දැකගන්න මට ලොකු ආශාවක් ඇතිවුනා. ඒ ඇයි කියලා මට තේරෙන්නේ නෑ. කොහොම වුනත් එයා දැන් ඉන්න තත්වේ හැටියට මට නිකං බලාගෙන නම් ඉන්න බෑ.

"මම කියන්නද අක්කේ…, විභාගේ ඉවර වෙනකම් අපි අරුණි අක්කාව අපේ ගෙදර නවත්තාගමු. එතකොටවත් එයාට මොනවා හරි නිදහසේ කරගන්න පුළුවන් වෙයිනේ.."

"මමත් ඔය කතාව කිව්වා. ඒත් එයා ඒකටවත් කැමති නෑ.."

"මම කියන්නම් එයාට…"
මම ඒක කියපු විදියේ වෙනසක් තිබුණ හින්දද මන්දා, අක්කා මගේ දිහා අමුතු විදියට බලාගෙන හිටියා. මම එතනින් නැගිටලා ආවා.

බිංදුයි මායි හෙමින්, හෙමින් ප්‍රයිවට් බස් නවත්තන තැනට ආවා.

"බිංදු…, අද නම් ස්කූල් බස් එකේ යන්න බෑ…"

"ඇයි ඒ…?"

"අද නම් කීයට හරි, අරුණි අක්කා එනකම් ඉඳලා තමයි මම ස්කෝලේ යන්නේ…"

"ඒ ගමන මොකක්ද උඹට මේ හදිසියේම ඔළුවට වැදුන පිස්සුව..."

මම යන ගමන්ම බිංදුට කිව්වා අක්කා කියපු සේරම දේවල් ටික..., අපි දෙන්නා හෝල්ට් එක ළඟට එද්දි ඉසංකා අපේ ඉස්සරහට එනවා.

"අම්මෝ දැන් මාලින්දව දකින්න තියෙන අමාරුව...!"

"එහෙම තමයි හලෝ, කාර්ය බහුල පුද්ගලයෝ වුනාම ඉල්ලුම වැඩියිනේ. මුල්ගල් තැබීම්ද, අරවද, මේවද වැඩ වැහි වැහැලා..."

"අපෝ... ඇති ඇති."
ඉසංකා හිනාවෙවී කිව්වා. මුන් දෙන්නත් මේ විදියටම පිස්සුවෙන් ඉන්නවා මිසක්, ඉක්මණටම පිළිවෙලක් වෙන පාටක් නෑ වගේ..

"ඒක නෙමෙයි ඉසංකා, දැන් බිංදු එක්කම තමයි ගමන් බිමන් නේද..?, මට නම් වැඩේ ඒ තරම් අල්ලන්නෙ නෑ..."

ඉසංකාගේ මූණ ඇදවෙලා, රතුවෙලා ගියා. බිංදු වෙනදා විදියටම, මට ඇඟිල්ලෙන් ඇන්නා. මූ ඉස්සර වෙන්න බය නම් මම හරි තල්ලුවක් දෙන්න එපායැ...

"ඕවා ඉක්මණටම මොනවා හරි වෙනවා නම්, අපිටත් ඇඟට ගුණයි..."

"ඒවට තව කල් තියෙනවා නේද ඉසංකා..."
බිංදු එහෙම අහද්දි ඉසංකාත් ඔළුව වැනුවා.

"අඩෝ..., අද ස්කූල් බස් යන්නේ නැතුව උදේ ඉඳලාම පැණි පෙරන්නද හදන්නේ..."

අපිටත් හොරෙන්, ස්කූල් බස් එක හෝල්ට් එකට ඇවිත්. දැන් ඉතිං වහ කැවා වගේ තමයි. මුළු බස් එකම අපිට කෑ ගහනවා. ඉසංකා හෙමිහිට මාරුවෙලා ගියා. වටේම සෙනඟ අපි දෙන්නා දිහා බලනවා. හරියට ෂෝ කේස් එකක් ඇතුලට දැම්මා වගේ. මාර නෝන්ඩිය....

ස්කූල් බස් එක අදිනකොටම, ඈත ඉඳලා බිම බලාගෙන එන අරුණි අක්කාව මගේ ඇස් දෙකට වැටුණා. දවස් ගාණක් තිස්සේ මගේ හිත පෙරුම් පිරුවේ මෙ ගමන දකින්න නේද...?, මම එයා දිහා බලාගෙන හිටියා. එයාගේ ඇස් දෙක, මගේ ඇස් දෙකත් එක්ක යා වුණා. අපි දෙන්නාට ඉඩ දීලා, බිංදු ප්‍රයිවට් බස් පෝලිමට ගියා.

"අරුණි අක්කේ..."

එයා මගේ ළඟ නැවතුනා. මොහොතකට අපි දෙන්නාගෙම හිත් පවා නැවතුනා. ටික වෙලාවකට පස්සේ එයා කථා කළා.

"මාලින්ද..."

"කොහොමද ඉතින්...", අරුණි අක්කා හිනාවුණා.

"ඇත්තද... ඔයා විභාගේ අත ඇරලා දාලා වගේ ඉන්නවා කියන්නේ...?"

"අත ඇරලා දාලා නෙමෙයි, මම මේ පාර විභාගේ කරන්නේ නෑ..."

"ඔයා හොඳටම දන්නවනේ...මේ පාර කරන්න බැරි වුනොත්, ඔයාට ලබන පාර කොහොමටවත් විභාගේ කරන්න බෑ කියලා. ඉතින් ඒක දන දනත් ඇයි ඔයා මේ පිස්සු නටන්නේ..."

"ඔයාට තේරෙන්නෙ නෑ මාලින්ද. විභාගේ කරලා ඒක පාස් වුනත් මට කැම්පස් යන්න ඉඩක් ලැබෙන්නේ නෑ. මේ දවස් වල ගෙදර ඉඳගෙන පාඩම් කරන්න පුළුවන් තත්වයක් නෑ. කවුරුවත් මාත් එක්ක වැඩි කතාවක් නෑ. දන් ඒ අය හැම එක්කෙනාම දන්නවා මම සමන් අය්යාට කැමති නෑ කියලා. ඒ වුනත්, මාව බලෙන් හරි එයාට බන්දලා දෙන්නයි හදන්නේ. ඒ වගේ ජීවිතේටම බලපාන ප්‍රශ්ණයක් ඔළුව ඇතුලේ පුපුරු ගහද්දි..., මම කොහොමද පාඩම් කරන්නේ මාලින්ද...?"

ඒ කතාවට දෙන්න උත්තරයක් මගේ ළඟ තිබුනේ නෑ. මුළු ලෝකෙම ඉන්න අය, තමන්ට නැතිවෙලා වගේ කියලා හිතෙන එක පුදුමයක් නෙමෙයි. අරුණි අක්කා අන්තිමටම අසරණ වෙලා ඉන්නකොට මගේ හිතත් අඩනවා කියලා එයා දන්නවා නම්...?,

මොහොතකට කතා නැතිවුණ අපි දෙන්නත් ප්‍රයිවට් බස් හෝල්ට් එකේ පෝලිමට එකතු වුණා. බිංදු අපි දෙන්නාට ඉස්සරහින් පෝලිමට ආවා. කිසිම කතාවක් නැතිව පෝලිම ඉස්සරහට ඇදෙනවා. අපි දෙන්නත් නොදැනුවත්වම වගේ ඉස්සරහට යැවෙනවා. අරුණි අක්කාගෙයි, මගෙයි ඇස් දෙක ආයෙමත් සැරයක් යා වුණේ ඒ වෙලාවෙදි....

"ඔයාට දන් තියෙන ප්‍රශ්ණෙ, මට නොතේරෙනවා නෙමෙයි..., ඒ වුනාට අනිත් දේවල් හැම එකක්ම ඒකට බිලි කරන්න නම් එපා. මම බණ කියනවා

කියලා හිතන්න එපා අරුණි අක්කෙ. විභාගේ කරනවා කියන එක හැම දේකටම උත්තරයකුත් නෙමෙයි. ඒ වුනත්..., ඔයා ගොඩාක් ආසාවෙන් මෙච්චර කාලයක් කරපු දේවල් අත ඇරලා, ඔයාගේ මුළු අනාගතේම ටික දෙනෙක්ව සන්තෝස කරන්න ඇරලා ඔයා දුක් විඳිනවා බලාගෙන ඉන්න මට බෑ..."

අරුණි අක්කා කතා කළේ නෑ. එයාගේ බිමට බරවුන ඇස් දෙකේ දුක පිරිලා ඉකිරිලා යනවා. කොයි තරම් හංගන්න හැදුවත්, එයාගේ හිත ඇතුලේ තියෙන හැම දෙයක්ම කවියක පදවැල් වගේ ඒ මූනට ගලාගෙන එනවා. ඒ හැම අකුරක්ම, බහ තෝරන පොඩි එකෙක් වගේ කියවන්න මම ආසයි...

"මාලින්ද..."

"ඇයි..?", අපි දෙන්නා මූණට මූණ බලාගත්තා.

"මට අද ස්කෝලෙ යන්න බැහැ මාලින්ද. මේ දවස් ටිකේම ස්කෝලෙ ගියා කියලා කිසිම වැඩක් කෙරුනේ නෑ. මම අක්කා එක්කත් වැඩිය කතා කළේ නෑ. මම හොඳටම දන්නවා ඔයාලා දෙන්නා විතරයි මං ගැන දුක් වෙන්න ඉන්නේ කියලා. ඉතිං..., අක්කත් එක්ක කතා කරන්න ගිහින්, එයා පාඩම් කරන එකට බාධා කරන්න මට බැහැනේ. ඒ වුනත්, මට හැමදාම මේ දුක හිතේ තද කරගෙන ඉන්න බෑ මාලින්ද..."

"ස්කෝලේ යන්න බැරි නම්, අපි යමුද අපේ ගෙදර...., එතකොට ඔයාටයි, අක්කටයි පාඩම් කරන්නත් පුළුවන්..."

"බැහැ...!, අද මට කිසිම දෙයක් කරන්න හිතක් නෑ. මට ඕනෙ කාට හරි මගේ දුක කියලා, හිත සැහැල්ලු කරගන්න. ප්ලීස්...මාලින්ද, අපි වෙන කොහාට හරි යමු..."

අංජලීගෙන්වත්, අරුණි අක්කාගෙන්වත් මට ලැබුනේ බලාපොරොත්තු වෙච්ච දේවල් නෙමෙයි. අහම්බෙන් ලැබෙන හැම දේකම තියෙන්නේ, තේරුම් ගන්න බැරි දේවල් විතරයි.

"අපි යමු පුස්තකාලෙට..."

හොඳට, නරකට, දුකට, සැපට පිහිට වෙන්නේ එතන විතරයි.

"යුනිෆෝම් පිටින් යන එක හරි නෑනේ..., ටයි එක ගලවමු..."

බිංදු ස්කෝලෙ ගියා. අපි දෙන්නා, පුස්තකාලේ කැන්ටීන් එකට යන පාරේ එහා පැත්තේ තියෙන ගහක් යටින් වාඩි වුනා.

"මට හිත එක තැනක තියාගෙන පාඩම් කරන්න බෑ මාලින්ද..."

"කොයි තරම් අමාරු වුනත්, දැන් ඒක කරන්න සිද්ධ වෙලා තියෙනවා. ඔයා අපේ ගෙදර නවතින්න එන්න. මම අක්කාට කියන්නම් ඔයාලගේ අම්මා එක්ක කතා කරන්න කියලා..., මේ වෙලාවෙදි ඒ වගේ දෙයක් හරි තියෙන එක ඔයාට සැහැල්ලුවක් වෙයි. විභාගේ ඉවර වෙනකම් ඔයා අපේ ගෙදර ඉන්න..."

"ඊට පස්සේ මොකද වෙන්නේ...?", අරුණි අක්කා මගේ මූණට එබුනා.

"ඔරලෝසු වල කටු කැරකෙන්නේ නිකම්ම නෙමෙයි අරුණි අක්කේ. ඒ වීකට ගොඩාක් දේවල් සිද්ධ වෙයි..., මට අංජනම් බලන්න නම් බෑ, ඉස්සරහට මොකද වෙන්නේ කියලා..."

"ඒක තමයි මාලින්ද මමත් කියන්නේ. කාත් කවුරුවත් නැතිව අතරමං වෙලා ඉන්න මට මොනවා වෙයිද...?"

අරුණි අක්කා ඈත ජේත විහාර මහාදේවී උද්‍යානය දිහා බලාගෙන උන්නා.

"ඔයාට මුළු ලෝකෙම නැති වෙන්නේ නෑ අරුණි අක්කේ. කවුරු නැති වුනත්, මම ඔයාට ආදරෙයි ...."

මගේ හිත පතුලේ හිරවෙලා තිබුන ඒ කතාව එළියට ආවා. අරුණි අක්කා ගැස්සිලා වගේ මගේ මූණ දිහා බැලුවා. මගේ කටින් කියවුනේ, කියන්න ඕනේ නැති දෙයක්ද...?

"ඔව් අරුණි අක්කේ, ඒක අද ඊයේ හිතන දෙයක් නෙමෙයි. ඔයාගේ තියෙන හැම දේකටම මම ආදරෙයි. ගතිගුණ, ගමන, බිමන ...., මට එතනින් එහාට තව කෙල්ලෙක් ගැන හිතන්න තරම් හිතේ ඉඩ නෑ. මටම තේරෙන්නෙ නෑ, ඇයි මම මේ තරම් ඔයාට ළංවුනේ කියලා. හැමදාමත් මගේ හිතේ හිටියේ ඔයා විතරයි. මම ඔයාට ආදරේ කරන එක වැරැද්දක් වෙන්න පුළුවන්. ඔයා වුනත් ඒක එහෙම හිතනවා ඇති. ඒ වුනත්, මට ඒ වැරැද්ද කරන්න එපා කියලා, ඔයා කියන්න එපා....! ඔයාට මේ වෙන කරදර හැම දේකින්ම ඔයා තරමටම මමත් දුක් විදිනවා කියලා, ඔයා දන්නේ නැතුව ඇති..., මටත් මේවා තව හිතේ හංගාගෙන ඉන්න බෑ..., ඔයා මට බනින්න..., අපේ අක්කාට වුනත් කියන්න..., ඒත් ඔයාට ආදරේ කරන්න මට තියෙන අයිතිය උදුරලා පොඩි කරන්න එපා...!"

අරුණි අක්කා , තිගැස්සිලා බයවෙච්ච් මුව පැටියෙක් වගේ, මගේ දිහා බලා උන්නා. ලෝකයම නැවතුනා. අපේ හිත් ගැහෙන වේගේ ..., මගේ ඇස් දෙක මොහොතකට පියවුනා. අරුණි අක්කාගේ ඇස් දෙක දිහා බලාගෙන එයාගේ හිත කියන්න මට පුළුවන් වුනත්.., අද ඒ ඇස් දෙක මටත් මොනවදෝ හංගනවා.

අරුණි අක්කා එක පාරටම ඒ පුංචි අත් දෙක, මගේ අත් දෙක උඩින් තියා ගත්තා. ඒ ඇස් දෙක කඳුළු වලි... පිරිලා. මගේ ඇස් දෙකත් තෙත් කරගෙන කඳුළු මතුවුනා.

"ආයේ කවමදාවත් මාව තනි කරන්න එපා මාලින්ද..."

අරුණි අක්කාට කියාගන්න ලැබුනේ එච්චරයි. එයා ඉකි ගහන්න පටන් ගත්තා. කිසිම දවසක, කාටවත් වෙන් කරන්න බැරි වෙන බැම්මක් වගේ, මම ඒ පුංචි ඇඟිලි තුඩු මිරිකා ගත්තා.

"සත්තයි...., කාටවත් ඔයාව මගෙන් උදුරගන්න දෙන්නේ නෑ .."

ඇස් දෙකේ කඳුළු පුරෝගෙන, මගේ කඳුළු කතාවේ පුංචි කුමාරිට මම පොරොන්දු වුනා.

* * *

"එහෙනම් උඹ මට ඉස්සර වුණා..., හොදයි සනා බලා ගම්මු කවුද ඉස්සෙල්ලා බඳින්නේ කියලා..."

බිංදු කැපිල්ල දාන්න පටන් ගත්තා.

"උඹ මේ බණ කතා කරනවා බං. පටන් ගත්තා වගේ නෙමෙයි, ගමන දුරයි සුමනා කිව්වලු..., මට දැන් බය මචං අක්කට මාට්ටු වෙයි කියලා. එහෙම වුනොත් ඉතින්..., නැවතීමේ තිත තමයි..."

"බය වෙන්න එපා උඹලාගේ අක්කා කවදාවත් ඕකට අකමැති වෙන්නේ නෑ..."

බිංදු මගේ පිටට තට්ටුවක් දාලා කිව්වා.

ආදරේ ලස්සන වෙන්න නම්, හැම වෙලේම කුතුහලයක්, බයක් තියෙන්න ඕනේ. දියාරු විදියට ගලාගෙන යන ආදරෙන් වැඩක් නෑ. ඒ වුනත් මට දැන් තියෙන බය ඕනැවට වැඩියි. අපේ ගෙදර, අරුණි අක්කලාගේ ගෙදර, සමන්, අපේ අක්කා මොනවා හිතයිද මේ ගැන...?, අනාගතේට ප්ලෑන් ගහන්න බෑ.

වෙන්න ඕනේ දේවල්, ඒ විදියට සිද්ධ වෙයි. ලෝකේ කැරකුනත්, නැතත් අරුණී අක්කා මගේ ළඟ ඉන්නවා කියන එක මට විශ්වාසයි.

"හවසට නුගේගොඩින් බහිමුද...?", මම ඇහුවා.

"බහිමු. දන් ඉතින් බැඳගත්ත බෙරේ ගහපං...,ඉස්සෙල්ලා අර කොහේද යන කැල්ලකට හොම්බ දාලා කකුල මසාජ් කර ගත්තා. මේ පාර නම් ෂුවර් එකටම බෙල්ල තමයි..."

"කෑ නොගහා හිටපං බං..., උඹ මේ ළමයි ඉපදෙන්න කලින් මොන්ටිසෝරි දාන්න හදනවනේ. මට වැඩිය බය වෙලා තියෙන්නේ උඹනේ..."

"උඹ නම් කියයි..., පරිප්පු වල රහ මම හොඳට දන්නවනේ මල්ලී..,දන් උඹ විතරක් ලව් කළාට, පරිප්පු කන්න වෙද්දි අපිටත් එක්කනේ බෙදන්නේ. ඕකට තමයි අර අලි මොනවද කරද්දි, වඳුරෝ මැරෙනවා කියන්නේ..."

* * *

"අක්කලා ස්කෝලේ ඉඳගෙන ගණන් හදනවා. මම ඒ ගොල්ලන්ට බොරුවක් දාලා මාරුවුනා ඒත්.. ඔයාලගේ අක්කා මට නෑගෑහුවා පාඩම් කරන්නේ නෑ කියලා..."

"ආවා වගේ නෙමෙයි, පාඩම් කරන එක නම් අත අරින්න එපා. අනිත් හැම දෙයක්ම තියෙන්නේ අපි දෙන්නාගේ අවාසියට. විභාගේ විතරයි වාසනාවකට තියෙන්නේ. ඒකට නම් පයින් ගහන්න එපා. බෙල්ල කඩාගෙන හරි කමක් නෑ, විභාගේ පාස් වෙන්න..."

අපි දෙන්නා, රේල් පාර ළඟ තිබුන කූල් ස්පොට් එක ඇතුළට ඇවිත් අලිගැට පේර බීම දෙකක් ගත්තා.

"අක්කා දන ගත්තොත් අපිට මොනවා කියයිද...?, මගේ ජීවිතේ පළවෙනි පාරට මම ඔයාගේ අක්කාට බොරුවක් කළේ අද. මට හරිම දුකයි මාලින්ද, එයා මං ගැන කොයි තරම් මහන්සි වෙනවද...?"

"අක්කා මොනවා කියයිද කියලා මම දන්නෙත් නෑ. අරුණී අක්කේ, ඒ වුනත් එයා මොනවා කිව්වත් මට ඔයාව දාලා යන්න බෑ. එහෙම කරන්න කියලා මට කියන්නත් එපා..."

"කවදාවත්ම නෑ මාලින්ද..., මම හොඳට දන්නවා අපේ සම්බන්දේ හින්දා ඔයාට ගොඩාක් ප්‍රශ්ණ තියෙනවා කියලා. ඒ හැම දෙයක්ම අමතක කරලා, ඔයා මාව ඔයාගේ ළඟට ගත්තේ කොයි තරම් ආදරෙන් ද කියලත් මම දන්නවා. එකම එක දේකදි ඇර, වෙන මොනවා වුනත්, කවුරු බැන්නත්, මම ඔයාව තනි කරන්නේ නෑ. ඔයත් මාව දාලා යන්න එපා..."

අරුණී අක්කා එහෙම කියලා මගේ දිහා බැලුවා. මට මගේ මුළු ජීවිතේම ඒ ඇස් දෙකෙන් පේනවා.

"පව් කතා කියන්න එපා අරුණී අක්කේ..., මගේ ජීවිත කාලෙම හිත ආදරේ කළේ ඔයාට. ඒ හිත හැමදාම ආදරේ කරන්නෙත් ඔයාට විතරයි. එතනින් එහාට හිතන්න තරම් මගේ හිත ඉඩ දෙන්නෙ නෑ. ඒ ආදරේ මරලා දාන්න එපා අරුණී අක්කේ..."

මම ඒ ඇස් දෙක දිහා බලාගෙනම කිව්වා. ඇහිපිය වැටෙන සද්දේ පවා ඇහෙන තරමට ආයෙමත් අපි නිශ්ශබ්ද වුනා. ඊළඟ මොහොතෙදි මගේ ඇඟිලි තුඩු අරුණී අක්කාගේ දෙඅත් පොඩ්වලට හිරවුනා.

"ඒ ගැන හිතන්න එපා ආයෙමත්. මම කවදාවත් ඔයාගේ ආදරේ මරලා දාන්නෙ නෑ. එහෙම කළොත්, ඒ පව ගෙවා ගන්න මට මේ කල්පෙම මදි වේවි. ඔයා විතරක් නෙමෙයි මාලින්ද..., මගේ හිතත් කුළුඳුලේම ආදරේ කළේ ඔයාට විතරයි. ආදරේ කියන්නේ මොකක්ද කියලා මට කියලා දුන්නේ ඔයා. සල්ලි වලට, අම්මලා තාත්තලා කියන කියන අයට බලෙන් ආදරේ කරවන්න හදපු මට ඇත්තටම ළං වුනේ ඔයා. සත්තයි..., මම ආයෙමත් ඒ වගේ කතා කියන්නේ නෑ..."

යාන්තම් ඒ මුනේ හිනාවක් මතුවුනා. කම්මුල් වලගැහිලා හිනාවෙන අරුණී අක්කා දිහා කල්පාන්තරයක් බලන් ඉන්න තරම් ලස්සනක් තියෙනවා. මම හොඳටම දන්නවා අරුණී අක්කා රූප රැජිනක් නෙමෙයි කියලා. ඒ වුනත්, මගේ හිත ඉල්ලන අහිංසක කම, ඒ ලස්සන, මුළු ලෝකෙම තියෙන්නේ එයාට විතරයි.

"මාලින්ද..., පොඩි බඩුවක් කියන්නද..?"

අපි දෙන්නා නුගේගොඩ හන්දිය පැත්තට ආයෙමත් ඇවිද ගෙන ආවා.

"මොකක්ද..?"

"ඔයා මට අරුණී අක්කා කියනකොට මට හරි ලැජ්ජයි මාලින්ද, එතකොට

මට හිතෙනවා, මම මේ කරන්නේ වැරැද්දක් කියලා. අනේ මගේ මූණත් රතු වෙනවා..."

"ඔයා අද ඉඳලා මට අරුණී. හැබැයි අරුණී..., අපේ අක්කා ඉන්න වෙලාවට නම් මූණ රතු නෙමේ දම් පාට වුනත්, කට පුරෝලා අරුණී අක්කේ කියලා කියන්න වෙනවා. මම එහෙම කිව්වට, මගේ දිව තාම නැමෙන්නෙ නෑ නිකම්ම නිකං අරුණී කැල්ල විතරක් කියන්න.ඉපදුන ගමන්, පොඩි එවුන් මෝටර් සයිකල් පදින්නේ නෑනේ..., ඕවා හරියයි අරුණී..."

මම අරුණී කැල්ල බර කරලා කියද්දි එයාට එක පාරටම හිනා ගියා. වටේ පිටේ කවුද ඉන්නේ, අපි දෙන්නා දිහා කවුද බලාගෙන ඉන්නේ, ඒ කිසිම දෙයක් ගැන තඹ දොයිතුවක ගාණක් නැතුව අපි දෙන්නාම හිනාවුනා.

"ඒක නෙමෙයි..., දන් කවදා ඉඳලද ඔයා අපේ ගෙදර නවතින්න එන්නේ. තාමත් ඔයා අම්මාගෙන් ඇහුවේ නැද්ද අරුණී...?"

"මම ඇහුවා. අම්මාගේ කැමැත්ත නම් ගන්න බැරි වෙන එකක් නෑ. තාත්තාගෙන් තමයි අමාරු. මේ වෙනකම් කිසිම දවසක එයාලා මාව එක රැයක්වත් පිට තියලා නෑ. සමහර වෙලාවට තාත්තා කියයි, ඔයාලගේ අක්කාටත් අපේ ගෙදර ඇවිත් දෙන්නාත් එක්ක එහේ පාඩම්කරන්න කියලා..."

"ඇත්තටම එහෙම කියයිද...?, එහෙම වුනොත් නම් මාර සීන් එක තමයි..."

"ඒක කිව්වහම මූනේ හැටි.., සමහර වෙලාවට එහෙමත් කියයි. කොහොම වුනත් මම තවත් පාරක් අම්මට කියන්නම්. අනේ මාලින්ද...ඒක නෙමෙයි, මම ඔයාලගේ ගෙදර ආවොත් අක්කාට තේරෙයිනේ අපේ එෆෙයාර් එක. ආදරෙයි කැස්සයි හංගන්න බැහැලුනේ...., එහෙම වුනොත් ප්‍රශ්ණ මදිවට තව ඒවා එයි. මට බයයි..."

"ඔයා එන්න අරුණී..., ඔයාලගේ විභාගේ ඉවර වෙනකම් මම බිංදුලගේ ගෙදර නවතින්නම්. කොහොමටත් ඒක දෙන්නාටම හොඳයි. එතකොට ඔයාට නිස්කලංකේ පාඩම් කරන්නත් පුළුවන්..."

"ප්ලී...ස්, ඒක නම් කරන්න එපා...!, මට ඔයාව දකින්නෙ නැතුව ඉන්න බෑ මාලින්ද..."

අරුණී පුංචි දරුවෙක් වගේ මගේ දිහා බැලුවා.

# පහළොව

අරුණි අක්කා අපේ ගෙදර නවතින්න ආවා. කොහොම වුනත් එයා දන් හැම ප්‍රශ්ණයක්ම අමතක කරපු විදියට පාඩම් කරනවා. ඒකත් ලොකු දෙයක්. ඒත්..., විභාගෙ ඉවර වුනාට පස්සේ අරුණි අක්කා ආයෙමත් එයාලගේ ගෙදරට යයි. ඊට පස්සේ......, එතකොට තමයි ප්‍රශ්ණ ආපහු මතු වෙන්නේ.

මේ ටික දවසට මාව කොයි තරම් වෙනස් වුනාද..?, අරුණි අක්කා මගේ ලෝකෙට ආවට පස්සේ, මටම මගේ වෙනස තේරුනා.

"ඕක තමයි මචං ලව් එක කියන්නේ. හරියට හුරන ලොතරැයි ටිකට් එකක් වගේ. ආවොත් එන්නේ ලක්ෂ ගණන් වලින්. වැරදුනොත් ඉතින්, අතේ තිබුන රුපියල් දහයවත් නෑ..."

අමිලයට ආදරේ ගැන වුනත් හැම වෙලේම හිතෙන්නේ, ඔය වගේ මැන්ටල් අදහස් විතරයි.

"ඒක නෙමෙයි මචං.., තව දවස් හතරයිනේ එයාගේ විභාගෙට තියෙන්නේ. උඹ වැඩිය කතා කරන්න යන්න එපා. විභාගෙන් පස්සේ වෙන දේකට ඒ විදියට මුන දෙමු. ඕවා ගැන වැඩිය හිතන්න යන්න එපා බං.."

"මම ඕනැවට වඩා හිතන්නේ නෑ බිංදු. අමුතුවෙන් හිතලා ගන්න තරම් අළුත් තීරණයක් මට නෑ. මොන දේ වුනත් මම මේක නවත්තන්නේ නෑ..."

අපි කට්ටිය නුගේගොඩ හන්දියෙන් බැහැලා ක්ලාස් එක දිහාවට ඇවිදගෙන ආවා. අක්කලාගෙන් පස්සේ, ඊළඟ අගෝස්තු වෙනකොට අපිත් රෙඩි වෙලා ඉන්න ඕනේ ඒ ලෙවල් වලට. ඒක මතක් වෙනකොට නම්. පිස්සු පවා හැදෙනවා...

"ඒක නෙමෙයි මචං.., දන් ලබන සුමානේ ඉඳලා අපිටත් නිවාඩුනේ. අපි යමුද පොඩි ට්‍රිප් එකක්. ඊට පස්සේ ඉතිං, දිගට හරහට ක්ලාස් දැම්මට නම් පස්සේ ට්‍රිප් යන එක අමු බොරුවක්. ගන්න ආතල් එකක් අදම ගන්න, හෙටට

කල් දමා පසුතැවිලි නොවන්න කියලනේ, සුද්දා කියලා තියෙන්නේ..."

"යමු. හැබැයි ඉතිං මහා භාණ්ඩාගාරේ තමයි අප්සට්. ලෝන් එකක් දාගෙන හරි වැඩේ කරමු...."

"හැබැයි කොහේ ගියත් එක දවසකට වැඩිය නම් බෑ..", බිංදු කිව්වා.

"ඇයි...උඹ අරකත් ඇදගෙනද එන්න හදන්නේ...?"
කොටා බිංදු දිහා බලලා, කින්ඩියට වගේ ඇහුවා.

"ඇයි නරකද...?, තනියම නෙමෙයි ඉසංකාගේ යාළුවොත් එයි. පුළුවන් නම් වැඩ පෙන්නලා එකක් කරගනිං...,අනිත් එවුන්ට ඉරිසියා නොකර.."

"අනේ මේ පලයං බං..., වැඩ පෙන්නන්න උං බඩුද බං. ඉන්න යාළුවෝ ටිකත්, ඉසංකා වගේම වාටර් කැලිනේ. ඕවට ට්‍රයි කරනවට වැඩිය හොඳයි, සෝමාලියාවට ගිහින්, එහේ බඩුවකට ට්‍රයි කරන එක. උන්ගේ අඩු ගානේ කටු ටිකවත් තියෙනවා. අනික..., කෙල්ලෝ ටික ආවට පස්සේ උඹත් ඇඹලයා වගේ උන් එක්ක යයි. එතකොට අපිට බයිට් කරන්නවත් එකෙක් නෑනේ බං...".

කොටාගේ කෙරවලක් නැති කැපිල්ලට බිංදු කතා තරන්න ගියේ නැත්තේ, කොටා එක්ක කතා කරලා කැපෙනවාට වැඩිය, සද්ද නැතුව ඉන්න එක ඇඟට ගුණ හන්දා වෙන්න ඇති.

"හලෝ මාලින්ද..., හුඟ දවසකින් දැක්කේ. ඔයාව හම්බු වෙන්න කොච්චර බලාගෙන හිටියද..?"

කොහේ ඉඳලාද මන්දා, ක්ලාස් එක ළඟදි නිමාෂිත් අපේ ඉස්සරහට ආවා.

"මෙයාව හම්බු වෙලා දැන් සෑහෙන කල්නේ. අනික ඔයාට ළමයි හම්බු වෙන්නෙ කොහොමද...?, ඔයා තාම බැඳලත් නෑනේ. බලපං බං..., ස්කෝලෙ යන කාලේ ඉඳලම, මුන් හිතන්නෙ ළමයි හදන එක ගැන. වල් පඳුරු..."
කොටාටත් කට වහගෙන ඉන්නම බෑ. හොඳ වෙලාවට හෙමින් කියපු හින්දා නිමාෂිට ඔක්කොම ඇහුනේ නෑ...

"ඇයි නිමාෂි...හදිස්සියේම...?"

"අළුත් විස්තර ගොඩාක් තියෙනවා කියන්න..."
අපේ එවුන් ටික ක්ලාස් එකට යද්දි, මායි නිමාෂියි වතුර පයිප්පෙ ළඟ නතර වුනා.

"ඉතිං..."

"අංජලීගේ ප්‍රශ්ණ ඔක්කොම වගේ ඉවරයි දැන්. ගිහාන් අංජලීගේ අම්මව හම්බු වෙලා හැම දෙයක්ම කියලා..."

" නෑ...හ්..!", මම එක පාරට නතර වෙලා නිමාෂි දිහා බැලුවා.

"ඉතිං, ඇන්ටිලා කැමති වෙලා තියෙනවා. ගිහාන්ගේ විභාගේ ඉවර වන හැටියේම ඒ දෙන්නාගේ වෙඩින් එක ගන්න හදන්නේ ..., අංජලීත් විභාගේ කරන එකක් නෑ..."

"කොහොමද මේ දවස් ටිකට ඔය ඔක්කොම හරි ගියේ. ගිහාන් හිටියේ අංජලීව මරාගෙන කන කේන්තියකින් නේ..."

"ඒවා එහෙම තමයි. ගිහාන් ගොඩාක් බය වෙලා, ඔයාට ගහපු එක ගැන. මිනිහා දවසක් මං ඉස්සරහ පිටදිම, අංජලිට හැම දෙයක් කිව්වා. එයාට ඉරිසියයිලු අංජලී වෙන කොල්ලො එක්ක කතා කරන කොට..., ගිහාන්ගේ තියෙන්නේ පුදුම ආත්මාර්ථකාමී ආදරයක් මාලින්ද..., මිනිහා ඔය ටික ඔක්කොම කියලා ඊට පස්සේ අංජලීගේ අත අල්ලගෙන ඇඬුවා...."

"මොන දේ වුනත් කමක් නෑ නිමාෂි...,ඒ දෙන්නා සන්තෝසෙන් ඉන්නවා නම් එච්චරයි. එදා ඔයාලා දෙන්නා අපේ ගෙදර ආපු වෙලාවේ මම අර විදියට තදින් කතා කළේ හිතකින් නෙමෙයි. ඒ වුනත්, ඒක ඒ විදියට නොවුනා නම් අපේ ලෝකෙට තව තවත් ප්‍රශ්ණ එනවා. මට දුකයි අංජලී ගැන. ඔයාත් දන්නවා ඇතිනේ, අපි දෙන්නා නොහිතපු විදියට ගොඩාක් ළං වුනා. ඒ වුනත්..."

" මම ඔය හැම එකක්ම දන්නවා මාලින්ද..., අංජලී එදා ඔයාලගේ ගෙදර ගිය වෙලාවේ ඉඳලාම මාත් එක්ක පරණ දේවල් හැම එකක්ම කිය කියා ඇඬුවා. එයා ඔයාගෙන් විතරයි හැම ප්‍රශ්ණෙකටම උත්තර හෙව්වෙ. ඔයා එයාට අනුකම්පා කරන එකත්, අංජලීගේ හිතට තදින්ම වැදිලයි තිබුනේ...."

"ඒක අනුකම්පාවක් විතරක් නෙමෙයි නිමාෂි, මට නංගියෙක් හිටියා නම් එදාට මම එයාට ආදරේ කරන විදියටයි මම එයාට ආදරේ කළේ...."

මම එහෙම කිව්වා විතරයි, නිමාෂිගේ මූන වෙනස් වුනා. ඇයි ඒ....?

"අංජලී ඔයාට ආදරේ කළා මාලින්ද..., සමහර වෙලාවට ගිහාන්ටත් වැඩියෙන්. ඔයාටත් ඒක තේරෙන්න ඇතිනේ..."

මම මුකුත් කිව්වෙ නෑ. මට කියන්න දෙයක් තිබුනෙත් නෑ. නිමාෂිලා, ගිහාන්ලා දන්නේ වෙච්ච දේවල් වලින් ටිකක් විතරයි. අපි දෙන්නාගෙම හිත් වලට එබිකම් කරලා බලන්න එයාලට බෑ. ඒත් ..., අංජලීයි ගිහානුයි බඳින්න යනවා කිව්වහම නම් පුංචි දුකක්, ඉරිසියාවක් හිතට ආවා.

"ගිහාන්ට ජොබ් එකක් හම්බු වෙනවා, නුවර හොටෙල් එකක. විභාගේ ඉවර වුන ගමන්ම එයා ඒකට යනවා. ඒ එක්කම වගේ වෙඩින් එකත් අරගෙන, දෙන්නාම පේරාදෙණියේ පදිංචියට යනවා...."

"ගිහාන්ගේ ගම නුවරද...?"

"ඔව්. එයාලගේ තාත්තට පේරාදෙණියේ ටුවරිස්ට් හොටෙල්ස් දෙක තුනක්ම තියෙනවා. දැන් ඒ අයත් දන්නවා මේක. තාත්තා ගිහාන්ට වෙනම ගෙයක් හදලා තියෙන්නේ පේරාදෙණියෙම...."

"කොහොම හරි කමක් නෑ, අංජලී සන්තෝසෙන් ඉන්නවා නම් ඒ ඇති. පහුවෙලා හරි, කරපු මෝඩකම් ටික ගිහාන්ටත් තේරෙනවා නම් හොඳයි..."

"ඒත්.... අංජලීගේ හිත හැදෙන්න නම් ගොඩාක් කල් යයි මාලින්ද..."

මම ඒකට උත්තර දුන්නේ නෑ. එහෙම කියලා, නිමාෂි හිනාවෙලා පන්තිය ඇතුලට යන්න ගියා.

පංති ඇරිලා හවස ගෙදර එනකොට මෙච්චර දවස් හිත ඇතුලේ තිබුන බරක් අඩුවෙලා වගේ දැනුනා. අරුණිවත්, අපේ අක්කාවත් සාලේ හරියේ පේන්න හටියේ නෑ. හිත පෙරුම් පුරාගෙන ආවේ එයාව දැකගන්න. කාමරේ මගේ මේසේ උඩ අරුණිගේ පොතක් තිබුනා. ඇයි මේ...?, මම ඒක පෙරලද්දී මුල් පිටුවෙම තිබුනා එයාගේ පුංචි අත් අකුරෙන් ලියවුන රෝස පාට කොළ කැල්ලක්...

අනෙකෙකු නෙලා ගනිතැයි බියෙන්,
හතික ඔබ නෙලූ මල...
මිලින වන්නට නොදී රැකගනු මැනවි ඉතින්,

සෙනේහයේ පිණී ඉස...
මා ලොවම එළිය කළ
සුමුදු සඳ එළිය ඔබ...
එසඳ කිරණින් මෙසේ,
විකසිතව හිඳින්නම සදාකල්...
ලැබෙන තුරාවට
සඳ සිසිල මා වෙත..

මගේ හිත ආදරෙන් පිරිලා, ඉතිරිලා ගියා. මට එයාව නොදක ඉන්න බැරිවුනා. මම අරුණි අක්කයි, අපේ අක්කයි පාඩම් කරන කාමරේට ගියා. හොඳ වෙලාවට අපේ අක්කා කාමරේ නෑ. අරුණී පොතකට ඔළුව ඔබාගෙන ඉන්නවා. එයා මාව දක්කේ නෑ. මම හෙමින් අඩි තියලා පිටිපස්සෙන් ගිහින් එයාගේ ඇස්දෙක වැහුවා. එයා මගේ අත්දෙක අල්ලගත්තා. ඒ අත්දෙක සීතලම සීතලයි....

"ම්.....ම්....ඒයි....මාලින්ද..."

මම අත අහකට ගත්තා.

"කවුද මේ කඩදාසි කෑලි පොත් අස්සේ දාලා යන හොරා....?"

අරුණී ලැජ්ජාවෙන් මූන වහගත්තා. ඒ මූන 'රතු වෙලා.

"අරුණී..."

"ම්....ම්....."

"කවිය හරිම ලස්සනයි....."

"බොරු...."

"සත්තයි...ලස්සනම ලස්සනයි...."

මම එකපාරටම පහත් වෙලා, එයාගේ දෙතොල් සිපගත්තා..

"ඒයි...අක්කා එයි..."

අරුණීගේ දෙතොල් වෙව්ලනවා. කම්මුල් දෙක...රතු පාට වුනා. මගේ හිත පිරිලා. අරුණී ඇස්පිය නොගහා මගේ දිහා බලාගෙන උන්නා....ඒ ඇස් දෙක දිලිසෙන තරම්....

"මොකද අපිට පාඩම් කරන්න දෙන්නෙත් නැද්ද...?"

මට හැරෙන්න ඉඩක් ලැබුනේ නෑ, අපේ අක්කා කාමරේට ආවා. එයාට මූකුත් තේරුනාද මන්දා...

"මම මේ රසායනික ප්‍රතික්‍රියා වගයක් අහගන්න ආවා. හෙට අපිට පොඩි ටෙස්ට් එකක් තියෙනවා..."

මම එළියට ආවා. හිත ඇතුලේ වෙන කිසිම දෙයක් තිබුනේ නෑ. තිබුනේ එකම එකම දෙයයි.

අරුණී...

* * *

"කොහොමද විභාගේ..."

"විභාගේ නම් හොඳයි. අපේ වැරැද්ද විතරයිනේ හැමදාම තියෙන්නේ..."

අපේ අක්කායි, බිංදුයි බර කතාවකට වැටිලා. අරුණී අක්කා එහා පැත්තේ පුටුවට බරදීලා කතාව අහගෙන ඉන්නවා. අපේ අක්කා ඉන්න තැන මට අරුණී අක්කාගේ මූණ දිහා බලන්න, තිකං මොකක්ද මොකක්ද වගේ..., අපේ අක්කාට තියෙන්නෙත් අරුම පුදුම [illegible] ඇහිපිල්ලක් යාන්තමට එහාට මෙහාට එයාට තේරෙනවා. ඉතිං..., මොකටද අමාරුවෙන් ලව් කරන්න ගිහින් තිකං නාගන්නේ...

"ඒක නෙමෙයි..., නිවාඩු කාලේ [illegible]ර වෙන්න කලින් අපි ගැන්සිය ට්‍රිප් එකක් යන්නයි හදන්නේ. නැත්නම් ඉතින්.., ආයේ යන්න වෙන්නේ අපේ විභාගෙත් ඉවර වුනාට පස්සේ තමයි..."

"ෂෝක්නේ..., ඔයාලා කොහෙද ඉතින් යන්නේ..."

"හන්තානේ..." , මම කිව්වෙ අරුණී දිහා බලාගෙන. එයා හිනාවෙලා බිම බලාගත්තා.

"අක්කලාත් එනවා නම් යමු අපිත් එක්ක. තව යාළුවෝ එහෙමත් ඉන්නවා නම් එක්කගෙන එන්න. යාළුවෝ කිව්වට, කව කවේ දාන අය නම් එපා. ටිකක් පෙනුමකට ඉන්න අය විතරක් අරගෙන එන්න. නැත්නම් ඉතින් ට්‍රිප් එකේ ආතල් එකත් ඉවරයි, අපේ තත්වෙටත් හොඳ මදි..."

"අනේ මේ යනවා යන්න. අපි ආශ්‍රය කරන්නේ මැන්ටල් කෙල්ලෝ කියලා හිතුවද...?, ඔක්කොම නිකං රූප රාජිණියෝ වගේ ලස්සන, බෝ පැළ වගේ ගුණ යහපත් කම් වලින් පිරිච්ච කෙල්ලෝ...හරිද...?"

"නැද්ද..., අරුණි...?"

අරුණි හිනාවුනා.

අක්කා එහෙම කියලා අරුණි දිහා බැලුවා.

"අරුණි අක්කේ එනවද ට්‍රිප් එක යන්න..?, වැඩිය පිට කට්ටිය යන්නේ නෑ. ස්කෝලේ අපිත් එක්ක එකටම ඉන්න කට්ටිය විතරයි"

මම බිංදු දිහා බැලුවා. ඕක ෂේප් එකේ කතා කළා නම් තමයි හොඳ. ඒ වුනත් එක අතකට අක්කා ඉන්න වෙලාවේ අහන එකත් හොඳයි. එතකොට සැකේ නැතිවෙනවා. අපේ සම්බන්ධෙ හැමදාමත් රහසක් හැටියට තියාගෙන ඉන්න නම් කවදාවත් බෑ. හැබැයි..., ඒක එළි වෙන දවසට අපේ අක්කා මොන වගේ තීරණයක් ගනියිද කියලා මට හිතාගන්නවත් බෑ. වෙන කෙල්ලෙක් එක්ක යාළු වුනා නම්. මම ඒක ඉස්සෙල්ලාම කියන්නේ අපේ අක්කාට. ඒත්...., මම කොහොමද අරුණිගේ සම්බන්ධෙ ගැන කටක් ඇරලා එයාට කියන්නේ. තමන්ගේ හොඳම යාළුවයි, එකම මල්ලියි ආදරේ කරනවා කියලා දැනගත්තොත්....., අරුණිට වෙලා තියෙන්නේ මට වුන දේමයි. මට නම් අඩුම ගානේ බිංදු. අමිල, කොටා හරි ඉන්නවා ගැන කියන්න. ඒත්..., අරුණිට ඉන්නේ මම විතරයි.

"මම අම්මාගෙන් අහන්නම්. බෑ කියන එකක් නම් නෑ. ඒ වුනත්, මොනවා මොනවා හරි අවවාද හොණ්ඩරයක් විතර දීලා තමයි අවසරේ දෙන්නේ...., ඒක නම් හොඳටම ෂුවර්..."

" එත් කමක් නෑ අඩලා හරි යන්න දෙනවානම්...,අම්මාගෙන් නෙමෙයි ප්‍රශ්ණෙ එන්නෙ... තාත්තාගෙන්. අම්මා මොනවා කිව්වත් වැඩක් නෑ. විධායක බලතල තාත්තාටනේ තියෙන්නේ...."

එතකොටම බිංදු මගේ දිහා බැලුවා.

"ඔයා බය නැතුව ඉන්න අරුණි. මම කොහොම හරි ඔයාව ට්‍රිප් එක අරගෙන යන්නම්කෝ..., බිංදු මල්ලි ඔන්න අපේ කට්ටියත් හයක්, හතක් විතර එනවා..."

මට අක්කාව අල්ලගෙන බදාගන්න හිතුනා. දැනුවත්ව හරි, නොදැනුවත්ව හරි අක්කා කරන්නේ නම් මාර කුසල කර්මයක්.

"යාන්තම් ඇති. දැන් ඉතින් ඒකත් හරි. අපිම ඉන්න ඕනේ නේ උඹලට

වැඩක් කරගන්න. දැන් ඉතිං.., උඹට හිත හදාගෙන, පෙම්වතියගේ අතින් අල්ලගෙන, හින්දි පිල්ම් එකක පෙම්වතා වගේ හන්තානේ නහින්න පුළුවන්නේ..."

"අනේ පලයං බිංදු යන්න. උඹ කිව්වත් නැතත් අරුණී ට්‍රිප් එක යන්න එනවා. මගේ සිංදු මට කියන්න තියලා, උඹ පුළුවන් නම් ඉසංකාව අඩ ගහගෙන වරෙන්. නැත්තං ඉතිං..., අනුන්ට ඉරිසියා කර, කර හූල්ල, හූල්ල තමයි උඹට නහින්න වෙන්නේ..."

"අනේ මන්දා බං.., ඉසංකා එන එකනම් ෂුවර් නෑ. කෙල්ල නම් කැමතියි එන්න. ඒ වුනත්, ගෙදර අයට තියෙන බය තමයි ප්‍රශ්ණෙ..."

"කොයි තරම් පව් සිද්ධ වුනත්, ලව් කරද්දි නම් අම්බානකට බොරු අත අරින්න වෙනවා..., ඒ හින්දා හෙමිහිට පුංචි බොරුවක් දාලා හරි එන්න කියපං..."

"බලමු. තව ටික දවසක් තියෙනවානේ..., ඒක නෙමෙයි මාලින්ද, උඹ දන්නවද අළුත්ම ආරංචිය...?"

"නැතේ බං....,මොකක්ද..?"

"අංජලීගේ වෙඩින් එක නොවැම්බර් 26 වෙනිදාට දාගෙන . කොටාට [illegible] යන්නෙ ඉසංකාගෙත් යාළුවෙක්. ඊට පස්සේ දෙන්නාම පේරාදෙණියේ පදිංචියට යනවලු. ගිහාන් දැනටමත් ගෙයක් අරගෙන. මිනිහාට, තාත්තාගේ එක හෝටලයකුත් බාරදීලා නුවර...."

"එහෙම වෙලා හරි ඒ ප්‍රශ්ණෙ නැතිවුන එකනම් ලොකු හිසරදයක් හොඳ වුනා වගේ...., නැත්නම් අන්තිමේදි බෙල්ලත් නැතුව තමයි ඉන්න වෙන්නෙ...."

"ඇත්තම කියපං මාලින්ද..., උඹ ඔය මොන බයිලා කිව්වත් උඹේ හිතට ටිකක් හරි දුකයි නේද...?"
මම බිංදු දිහා බැලුවා.

"නෑ...බං..,මට කවමදාවත් එයාව මගේම කියලා කරගන්න ආසාවක් තිබුනේ නෑ. ඒක එහෙම වුනත් අංජලී ටිකෙන් ටික මට ළං වෙන කොට නම් මගේ හිත යට ලොකු සතුටක් තිබුනා. ඒක එච්චරයි...., හැබැයි ලාවට නිකං ඉරිසියාවක් නම් තියෙනවා. තාම මම රහත් වෙලා නැනේ මචං..."

"හොඳයි එහෙමනං බැරි වෙලා හරි අංජලීයි, ගිහානුයි උන්ගේ වෙඩින් එකට එන්න කියලා, උඹට කිව්වොත්...., එතකොට උඹ මොකද කරන්නේ..."

"ඒක ඒ වෙලාවට බලමුකෝ. ඊට කළින් මොනවා වෙයිද කියලා කාටද කියන්න පුළුවන්..."

අංජලීගේ අනාගතේ කොයි විදියට විසඳෙයිද කියලා මට හිතන්න බෑ. මොන හේතුව හින්දද මන්දා, මට වැඩිය හොඳින් අනාගතේදි අංජලී ජීවත් වෙයි කියලා මට හිතෙනවා. අරුණිටයි, මටයි හිමාල කන්දෙන් වහලා නවත්තගන්න බැරි තරමට ප්‍රශ්ණ එයි. ඒවට උත්තර හොයන එක, අංජලීගේ ප්‍රශ්ණ වලට උත්තර ලැබුන තරම් ලේසි වෙන එකක් නෑ. අංජලී බඳින එක ගැන නම් ඇත්තටම මට සතුටුයි. සමන් ආයෙමත් ලංකාවට ආපු දවසට, මට මාරක ළිදේ බයිසිකල් පදිනවා වගේ තමයි ඉන්න වෙන්නේ.

කමක් නෑ..., ඕනෙම දෙයක් වුනාදෙන්, මට මුළු ලෝකෙම නැති වෙලා ගියත් කමක් නෑ. අරුණියි, එයාගේ ආදරෙයි හැමදාටම මගේ ළඟ තියෙනවා නම්...., මට ඒ ඇති. ඒක වෙනස් වෙන්නේ නෑ කියලත් මගේ හිත දන්නවා....

* * *

මම පන්ති ගිහින් ආවා විතරයි, අපේ අක්කා කාමරේට එබුනා. දන් තියෙන තත්වෙ හැටියට, අක්කා තේ එකක් අරගෙන කාමරේට ආවත් මගේ පපුව අම්බානකට ගැහෙනවා. ආදරේ කරද්දි ඒක හිත ඇතුලේ හංගාගෙන ඉන්න එක කොයි තරම් අමාරු වැඩක්ද...?

"මල්ලි..."

"ඇයි...?"

"මාර වැඩේ නේ. අපි අර කතාකර ගත්තු ට්‍රිප් එකට අරුණිට එන්න හම්බුවෙන්නෙ නෑ. එයාගේ අම්මා ඇවිත් අරුණිව ගෙදර එක්කාගෙන ගියා. මම නාහෙන් අඬලා හරි ඇන්ටිට කියන්න හැදුවේ..., ඒත් වැඩක් වුනේ නෑ. එයාට වැඩිය නිදහස දෙන පාටක් නෑ. මමත් එතනින් එහාට මුකුත් කතා කරන්න ගියේ නෑ...."

අක්කා මගේ දිහා බැලුවා. මොනවා කියන්නද කියලා මටම හිතාගන්න බෑ.

"එහෙම' කරන්න පුළුවන්. ඒ වුනත් කවුරු හරි දක්කොත් තමයි ප්‍රශ්ණෙ. ඊට පස්සේ අරුණීට මෙහේ එන්න දෙන එකත් නවත්තලා දායි. එතකොට මොකද වෙන්නේ...?"

"එහෙමනම් ඔයයි, අනිත් යාළුවෝ ටිකයි එන්න. වෙන මොනවා කරන්නද...?"

"මට නම් අරුණී නැතුව එන්න බෑ මල්ලී. මේ වෙලාවෙදි මම එහෙම කළොත්, කෙල්ලගේ හිතට තවත් අප්සට් යයි. අනික ඇන්ටි එදා කිව්වා. ජනවාරි මුල වෙන කොට සමන් අය්යත් ආපහු ලංකාවට එනවා කියලා. ඒක හින්දා, අරුණීගේ අම්මලා දැන් ඉඳලාම වෙඩින් එකට ලැස්ති වෙනවා. කිසිම දෙයක් අරුණීගේ කැමැත්තට සිද්ධ වෙන්නේ නෑ. එයා දැන් අන්තිම අසරණ වෙලා ඉන්නේ..."

අක්කා නොකීවත් මම ඒක දන්නවා. විහාගේ ඉවරවෙලා මෙච්චර ඉක්මනට ආපහු එයාව ගෙදර එක්කාගෙන යයි කියලා මම හිතුවේ නෑ. දැන් ඉතින්, අරුණීව හම්බු වෙන එකත් යුද්ධයක් කරනවා වගේ වැඩක්. ඒ වුනත් මට දැන් අරුණීව නොදැක ඉන්න බෑ. මගේ ලෝකේ පිරිලා තියෙන්නේ එයාගෙන්. මේ දවස් විසේ දිගටම මූන ගැහිලා අරුණීගේ ඇස් දෙක නොදැක ඉන්න එක දවසත්, මහා ලොකු කාලයක් වගේ. ආදරේ කියන්නේ මහා පුදුම දෙයක්.

දැන් ඉතින් කොහොම හරි, මොන බොරුවක් දාලා හරි අරුණීව මූන ගැහෙන්න ප්ලෑන් එකක් ගහන්න ඕනේ.

* * *

"උඹලට අපි වගේ යාළුවෝ ඉන්න එක ගැන, මහ බඹාට පින් දීපං. බෙල්ල කඩාගෙන හරි යාළුවන්ට සපෝට් කරන්න ගිහින් තමයි, අපි හැමදාම ඇදගෙන නාන්නේ..."

"මේ... වැල් බයිලා නැතුව, කෙලින්ම ඩිරෙක්ට් සීන් එකට බැහැපං බිංදු..., මොකද වුනේ...?, ගිය වැඩේ හරිද...?"

බිංදු අරුණී අක්කාව හම්බු වෙන්න එයාගේ ගෙදර ගියා. මම ගියොත් ඇන්ටි මොන මොන ප්‍රශ්ණ අහයිද කියලා විශ්වාස නැති හින්දයි මම බිංදුට යන්න කිව්වේ.

"අඩන්නේ නැතුව හිටපං. උඹ නිකං අර, දොර අරින්න බැරි කුකුල් කොටුවක් දිහා බලාගෙන ඉන්න හෝතම්බු පැටියෙක් වගේනෙ බං..., පොඩ්ඩක් ඉවසලා හිටපං. අන්න හෙට උදේ නමය විතර වෙන කොට අරුණි අක්කා ලයිබ්‍රරි එකට එන්නම් කිව්වා. මේ දවස් ටිකේ ඇන්ටි නම් ඉන්නේ ෂේප් මූඩ් එකේ. මාත් එක්කත් හිනාවෙලා කතා කළා. හැබැයි සනා, වැඩිය හිනාවෙන එකත් ශරීර සෞඛ්‍යයට එච්චරම ආතල් නම් නෑ...."

"අනේ මන්දා බං..., ඇන්ටිලා එන්න හදන්නේ මොකාටද කියලා හිතාගන්නවත් බෑ..."

පහුවෙනිදා උදේම මම ලයිබ්‍රරි එකට ඇවිත් පත්තර තියෙන පැත්තට ගියා. වෙනදට අරුණි අක්කා ඉන්නේ එතන. ඒත්..., අද එයා එතනත් නෑ. මම ආපහු ඇවිත් කැන්ටින් එකට ඇතුල් වනා. කැන්ටිමේ එහා පැත්තේ කෙළවරේම මේසේ ළඟ ඉඳගෙන, අරුණි අක්කා පොතක් කියවනවා. ඇස් දෙක බිමට හරවාගෙන, දිග කොන්ඩේ පිට මැද්දට දාලා....,මම ආසම කරන නිල් පාට පුංචි මල් තියෙන ගවුම ඇඳගෙන ඉන්න අරුණිගේ දිහා මම ඇස් පිය හෙලන්නෙ නැතුව බලාගෙන හිටියා. ජීවිත කාලේ පුරාම හිත හොයපු ලස්සන... එක තැනකට ඇවිත්. ළඟින් ඉන්න බැරි වුනත්, දුර ඉඳගෙන හරි ඒ ඇස් දෙක දිහා බලාගෙන ඉන්න මම කොයි තරම් පෙරුම් පිරුවද..?

මම හිතුවේ නෑ ඒ දේ මට ලැබෙයි කියලා. දැන් ඉතින්, අරුණිව හම්බු වෙන එකත් යුද්ධයක් කරනවා වගේ වැඩක්. ඒ වුනත් මට දැන් අරුණිව නොදැක ඉන්න බෑ. මගේ ලෝකේ පිරිලා තියෙන්නේ එයාගෙන්. මෙ දවස් ටිකේ දිගටම මූන ගැහිලා අරුණිගේ ඇස් දෙක නොදැක ඉන්න එක දවසත්, මහා ලොකු කාලයක් වගේ. ආදරේ කියන්නේ මහා පුදුම දෙයක්.

දැන් ඉතින්, කොහොම හරි මොන බොරුවක් දාලා හරි අරුණිව මූන ගැහෙන්න ප්ලෑන් එකක් ගහන්න ඕනේ. මම හෙමින්ම ගිහින් එයා ළඟින් ඉඳගත්තා.

"අරුණි...."

අපි දෙන්නාගේ ඇස් එකට එකතු වුනෙත්, ඇහිලි තුඩු එකට මිරිකුනෙත් එකම මොහොතේ.

"ඉතින්..."

එයා එහෙම අහද්දි, හැමදාම වෙන විදියටම මගේ ඇස් දෙක ගොළු වුනා.

"ඉතින් තමයි. මට කියන්නෙම නැතුව ගෙදර ගියා නේද...?, ගෙදර ඇවිල්ලා මම හොයන කොට අක්කයි කිව්වෙ..."

"ඒකනේ..., අපේ අම්මා ඇවිත් කිව්වා බඳින්න කලින් මනමාලයාගේ ගෙදර නවතින එක හොඳ නෑ..., ඒ හින්දා අපි යමු දුව කියලා..."

"ආ...ඒකද ගියේ...?, අද ගිහින් අම්මාගෙන් අහන්න මනමාලයා ඇවිත් මනමාලිගේ ගෙදර නැවතුනාට කමක් නැද්ද කියලා. අදම උත්තරයක් ගත්තොත්, මට අද රෑ ඉඳලම එහේ නවතින්න පුළුවන්...."

"හිතේ ඇති.."
එහෙම කියලා අරුණී අක්කා හිනා වුනා. අරුණී හිනාවෙනකොට පොඩි එකෙක් වගේ.

"ඔයාට හන්තානේ යන්න දෙන්නේ නෑ කියලා අක්කා මට කිව්වා. ඔයා එන්නේ නැති හින්දා අක්කා යන්නෙත් නෑ. මටත් ට්‍රිප් එක යන්න හිතක් නෑ..."

"ඔව් මාලින්ද, අම්මා කැමති නෑ මම කොහෙවත් යනවට. දැන් අවසර තියෙන්නේ ඔයාලගේ ගෙදරටයි, ලයිබ්‍රරි එකටයි එන්න විතරයි. දැන් එයාලා මටත් නොකියාම වෙඩින් එකට ලෑස්ති වෙනවා. මම කියන දෙයක් කවුරුවත් අහන්නේ නෑ. ඒ හින්දාම. මම මුකුත් කියන්නෙත් නෑ. ඔයා විතරයි මාලින්ද මට දැන් ඉන්නේ..."

මම අරුණීගෙ අත අල්ලගෙන, ඒ නිල් පාට පුංචි ඇස් දෙකට එබුනා.

"ඔයා දුක් වෙන්න එපා. මොන දේ වුනත් මම ඔයා ළඟ ඉන්නවා අරුණී. හා පැටව් කූඩුවක දාලා හදනවා වගේ, කෙල්ලෙක්ව හිර කරලා හදන්න බෑ කියලා අම්මලාට කවදා හරි දවසක තේරේවි. එදාට සමහර වෙලාවට අම්මලා ප්‍රමාද වැඩිවෙයි, නැත්නම් අපි ප්‍රමාද වැඩිවෙයි..."

අරුණී අක්කා කතා කළේ නෑ. මගේ දිහා බලාගෙන උන්නා.

"අපි දෙන්නා තනියම යමුද නුවර...?, උදේ ගිහින් හවස එමු. අක්කා මේක දනගෙන හිටියා නම්, එයාටත් කතා කරන්න තිබුනා. ඒත්..., දැන් ඒක කරන්න බෑ නේ. ඒ හින්දා අපි දෙන්නා යමු..."

"කවදද යන්නේ...?"

"ලබන සිකුරාදා යමුද...?, සතියේ දවසක යන එක හොඳයි. සෙනගත්

වැඩිය නැතේ. කොහොම වුනත් හවස් වෙන්න කලින් එමු. ඒත් ඔයා මොනවා කියලද එන්නේ...?"

"මම කියන්නම් ගම්පහ ඉන්න යාළුවෙකුගේ බර්ත්ඩේ පාටි එකක් කියලා. අනේ මාලින්ද..., හවස් වෙන්න කලින් එමු. නැත්නම් මට මෙහෙමවත් එළියට බහින්න දෙන එකක් නෑ..."

"ඒක තමයි මටත් තියෙන ප්‍රශ්ණෙ. අපි උදෙන්ම ගිහින් ඉක්මණටම එහෙත් එමු. ඔයා සිකුරාදා උදේම කොටුව ස්ටේෂන් එක ළඟට එන්න. මහරගම ඉඳලා යද්දි කවුරු හරි දැක්කොත් එහෙම...?"

අරුණී හිනාවෙලා, මගේ අත් දෙක තදින් අල්ල ගත්තා.

# දහසය

"චණ්ඩියා වගේ ආවට මට නම් හරි බයයි මාලින්ද...,යාන්තමට හරි අඳුනන කවුරුවත් දැක්කොත් ඉඳලා ඉවරයි. ඊට වැඩිය හොඳයි වහබොන එක..."

"ඔව්...ඉතින්, වහ බිව්වාට පස්සේ ප්‍රශ්ණ වලට උත්තර හම්බු වෙනවානේ. බය නැතුව ඉන්න බබා..., පස් මහ බැලුම් බලලා, රැවුලයි කැඳයි ෂේප් කරගෙන ආදරේ කරන්න බෑ..."

මම අරුණීගේ අත අල්ලගෙන වීදුරුවෙන් එහා පැත්ත බැලුවා. අමිල, බිංදු හැම එකාගෙන්ම ලෝන් දාගත්ත හින්දා ඉන්ටසිටි ට්‍රේන් එකේ එන්න පුළුවන් වුනා. අරුණීත් සල්ලි ටිකක් ගෙනත් තිබුණා. අපි උදෙන්ම කොළඹින් පිටත් වුණ එක හොඳයි. නැත්නම් ආපහු යනකොට තමයි ලෙඩේ. මොකද..., ලංකාවේ බස් කෝච්චි ගැන විශ්වාසයක් තියාගෙන ලව් කරන්න බෑනේ....

"මාලින්ද..."

"ඇයි...?"

"හැමදාමත් මේක අක්කාටවත්, අපේ ගෙවල්වලටවත් හොරෙන් කරන්න බෑනේ..., කවදා හරි දවසක අහුවෙනවා. එදාට ඔයාගේ අක්කාට දුක හිතෙයි, මම හොඳම යාළුවා වෙලත් එහෙම කරපු එක ගැන. සමහර වෙලාවට එයා මා එක්ක කතා කරන්නේ නැතුව, තරහා වෙන්නත් ඉඩ තියෙනවා. ඒ විතරක් නෙමෙයි මාලින්ද..., අක්කාට ඉන්නෙත් ඔයා විතරයි..."

"මට ඒක නොතේරෙනවා නෙමෙයි..., ඒත් මට මගේ දිව හදාගන්න බෑ අක්කාට කතා කරන්න. කොච්චර කට ගහගෙන ගියත් මම කොහොමද අරුණී මේ වගේ දෙයක් අක්කාට කියන්නේ..."

"ඒ කොච්චර අමාරු වුනත් අපි අක්කාට කියමු මාලින්ද..., නැත්නම් මොනවා හරි ප්‍රශ්ණයක් ආවත් අපි දෙන්නාට කියන්න කෙනෙකුත් නෑ නේ. මම කියන්නද...?, අපි දෙන්නාම ගිහින් අක්කාට කතා කරලා මේ ගැන කියමු. එතකොට හරිනේ...."

"නෑ.., නෑ ඔය පැහිච්ච ආච්චි ඉන්න. මම ගිහින් කියන්නම් තනියම..., දන ගන්නවා මෙහෙම හිටියට මම නිකං රොබින් හුඩ් වගේ නිර්භීත පොරක්. අක්කා ළඟට ගිහින් කතාව කියලා කැමැත්ත අරගෙන තමයි පස්ස බලන්නේ...."

"ඇත්තට....!"

අරුණි ඒක කිව්වේ ඇඳලා... ඇස් දෙකත් පුංචි කරලා බලලා. අපි දෙන්නා දන් ඉන්නේ අපේම ලෝකෙක..., වෙලාවකට මට හිතෙනවා කෝච්චියේ වේගේ වැඩිද කියලා... අපි දෙන්නාගේ හිත්වලට වැඩියෙන් කෝච්චියට තියා කිසිම දේකට යන්න බෑ.

මම අරුණි දිහා බැලුවා. එයා කවුළුවෙන් එහා පැත්තේ ඈතින් පේන කඳු දිහා බලාගන ඉන්නවා. ඒ කඳුමුදුන් උඩින් ගලාගෙන, මීදුම බිංදු අරගෙන එන සුළඟ අපි දෙන්නාව සීතල කරගෙන ඈතට යනවා. ඒ සුළඟ ඇතුලේ කොයි තරම් ආදරයක් හැංගිලා ඇද්ද...?, ඒ ආදරේ සුළඟත් එක්ක පාවෙලා යන්නේ නැතුව අපි දෙන්නා ළඟම දවටී, දවටී තියෙනවා නම් මම ආසයි. ඒත්..., අපි ආසා කරන දේවල් ඒ විදියටම ලබා දෙන්න තරම්, මේ ලෝකේ ලස්සන නෑ නේ...

"අරුණි..., ඇයි ඔයා කතා නැත්තේ...?"

"මට කතා කරගන්න වචන නෑ මාලින්ද...., මම කවමදාවත් හිතුවේ නෑ මේ තරම් ලස්සනයි කියලා. හිත ඉල්ලපු ආදරේ මට ලැබුනේ ඔයාගෙන් විතරයි. අම්මලා තාත්තලා පවා මට ආදරේ නැතුව, මගේ හිත තේරුම් ගන්නේ නැතුව ඉන්න කොට ඔයාගේ ආදරේ මට කොච්චර වටිනවාද කියලා ඔයාටවත් තේරෙන්නේ නැතුව ඇති මාලින්ද...."

"මටත් ඊට වැඩි වෙනසක් නෑ අරුණි..., මම අනාථවත් කෙල්ලන්ට විහිළු රලා ඇති, ළං වෙලා ඇති. ඒත් හිත ආදරේ කළේ ඔයාට විතරයි. මට ඒක කියා ගන්න බැරිව කොයි තරම් දුක් වින්දද....?"

"දැන් ඒවා ඉවරයිනේ. මම හැමදාමත් ඔයා ළඟ ඉන්නවා. කිසිමදාක මාව තනි කරන්න එපා මාලින්ද...., මාව මැරිලා යයි. අපි දෙන්නා ඉස්සරහා කොයි තරම් ප්‍රශ්ණ තියෙනවාද...?, ඒවාට උත්තර අපිම හොයා ගමු. මට දැන් තේරෙනවා මාලින්ද.... ආදරේ කරද්දි මුළු ලෝකේ ගැනම හිත හිතා ඉන්න බෑ. ගොඩාක්

දේවල් ඒ හින්දා කැප කරන්න වෙනවා. ඔයා මගේ ළඟ ඉන්නවා නම්, මට ඕනෙම දුකක් දරා ගන්න පුළුවන්..."

අරුණී මගේ උරහිස්සට ඔළුව ඔබා ගත්තා. මගේ හිතුවක්කාර ඇඟිලි තුඩු, ලතාවකට වගේ එයාගේ හිසකෙස් අතරේ දිව්වා.මගේ ජීවිත කාලේ පුරාම හොයාපු ඒ උණුසුම..., දැන් මගේ පපුවට දැනෙනවා. අරුණී අක්කාගේ සුවඳත් මගේ හදවත ඇතුලේ පැතිරිලා ගියා. අපි දෙන්නාගේ හදවත් ගැහෙන්නෙත් එකම වේගෙට..., ඇස් පියාගෙන ඉන්න අරුණීගේ ලස්සන.....

පණ්ඩිතයෝ මොනවා කිව්වත්, ස්කෝලෙ යන කාලේ ආදරේ කවමදාවත් අමතක කරන්න බෑ. හිත ආදරෙන් පිරෙන්නේ ජීවිතේ එකම එක වතාවක්, එකම එක්කෙනෙක් හින්දා විතරයි. ඒ ආදරේ හැංගුනත් හිත වෙනින් දේකට ළං වෙන්නේ නෑ. කුළුඳුලේම හිත ඇතුලේ පුදින ලෙංගතුකම අයිති එකම එක කෙනාටයි. ඒ හිත බිඳුනොත්...., හිත ආදරෙන් සතපපු කුළුඳුල් ආදරේ හිත ඇතුලේ හංගාගෙන. මම හැමදාමත් අඬනවා. සත්තයි...

අරුණී එක පාරටම ගැස්සිලා වගේ මගේ ඇඟිලි තුඩු මිරිකා ගෙන මගේ ඇස් වලට එබිකම් කළා. අපි දෙන්නාගෙම ඇස් වල කඳුළු.....

අපි දෙන්නා මාළිගාව වැඳලා පේරාදෙණිය බස් එකක නැග්ගා. වැඩිය දවල් වෙලා නැති හින්දා බස් එකේ සෙනඟත් නෑ.

"මට නම් හරි තිබහයි. පේරාදෙණියට ගිය ගමන්ම මොනවා හරි බොන්න ඕනේ... "

"මම කියන්නද....මොනවාද අපි බොන්නේ කියලා..."

"හා..."

"අලිගැට පේර..."

අලිගැට පේර බීම බොන්න මම වගේම අරුණීත් හරිම ආසයි. දැන් තියෙන තිබහේ හැටියට අලිගැට පේර මතක් කරන කොටත් කටට කෙළ උනනවා. හිත සන්තෝසෙන් පිරිලා හින්දද මන්දා...,බඩගින්න පේන තෙක් මානෙකවත් නෑ. ස්කෝලෙ හිටියා නම්, මෙලහකටත් තුන්හතර පාරක් කැන්ටිමට

රිංගලා...

"කොළඹ එක්ක බලන කොට පේරාදෙණිය කොයි තරම් ලස්සනද..?, මම නම් කවදා හරි විභාගේ පාස් වුනොත් නම් එන්නේ පේරාදෙණියේ කැම්පස් එකට. අනේ මන්දා මම හරි ආසයි මේ පැත්තට..."

"හොඳට කට ඇරගෙන බලාගෙන ඉන්න...,මෙහේ ඇවිල්ලා ඉන්න ලැබෙනකම්. ඔයා මෙහේ ආවාම කොළඹ මගේ තනියට ළඟ ඉන්නේ පොලීසියෙන්ද..?"

"ඉතින් අපි දෙන්නාම නුවර එමු...."

"ලව් කරන එවුන්ට කෑම, බීම, නවාතැන් පහසුකම් යමඟ අතට සල්ලිද ආණ්ඩුවෙන් දෙනවා කියලා කිව්වොත් එමු. නැත්නම් රස්සාවක් නැතිව නුවර එනවාට වැඩිය හොඳයි, බොස්නියාවට හරි සයිබීරියාවට හරි යන එක..., එහේ දුක මෙච්චර දරුණු නෑ.."

හිනාවෙවී, අත් අල්ලගෙන අපි පාක් එක පැත්තට පාර මාරු වුනා. හැම දේකම තියෙන්නේ සුදුමාකාර සැහැල්ලුකමක්. දැන් නම් ගෙදර යන්න පරක්කු වෙනවා කියලා තිකමටවත් හිතෙන්නේ නෑ.

"අලිගැට පේර දෙකයි..."
අපි දෙන්නා පුංචි බංකුවක ඉඳගත්තා.

"ඔන්න මට මදි වුනොත්..., මම ඔයාගේ එකෙනුත් බොනවා..."

"දෙන්නම්..., බලාගෙන ඉන්න..."
අරුණි මූන පැත්තකට ඇල කරලා හිනාවෙවී කිව්වා. මගේ උරහිස්සට කාගේද මන්දා අතක් වැටුනේ එතකොටමයි. ගැස්සිලා වගේ මම පිටිපස්සට හැරුනා.

ගිහාන්....!

අරුණි මගේ අත මිරිකගත්තා. මොනවා වෙන්න යනවද..., මොනවා කරනවාද..., කියලා මට හිතා ගන්නවත් බෑ. පේරාදෙණිය මිනිහාගේ ගම. මොන දේ වුනත් අරුණි ඉන්න හින්දා ඉවසන්නත් වෙනවා....

"ඇයි උඹ බය වෙලා වගේ....?"
ගිහාන් එහෙම කියාගෙන මගේ ළඟට ආවා,

"නැහැ...."
අරුණි මගේ අත තදින් මිරිකා ගත්තා.

"මම මාලින්දව හම්බු වෙන්න කියලාමයි හිටියේ. ඒත්..., මේ වගේ අහම්බෙන් මූණ ගැහෙයි කියලා, මම හිතුවේ නෑ..., මම විහාගේ ඉවර වුන දවස්වලමයි නුවර ආවේ. ගම මෙහේනේ...."

ගිහාන් හිනාවෙවී කියාගෙන යනවා. මාව නිකං කරකවලා අත ඇරියා වගේ. දනට මාස ගාණකට උඩදි අපි දෙන්නා අම්බානකට ගහගත්තා. මට හොස්පිට්ල් එකේ නවතින්න වුනෙත් මූ හින්දා...., දන් උට ගාණක් නෑ වගේ කතා කරනවා.කමක් නෑ..., එක ස්කෝලේ එකෙක්නේ....මමත් කතා කරනවා.

"මටනම් පුදුමයි....මෙහෙදි මූණ ගැහුන එක ගැන. ඉතින් උඹ මොනවද පේරාදෙණියේ කරන්නේ...?"

මම කිසි දෙයක් දන්නේ නෑ වගේ කතා කළා. අරුණිත් පුදුම වෙලා වගේ බලාගෙන ඉන්නවා.

"අපේ අප්පච්චිට මෙහේ ගෙස්ට් හවුස් දෙකක් තියෙනවා.දැන් මම තමයි එකක් බලාගන්නේ. විහාගේ වුනත් මම හරියට කළේ නෑ. පිස්සු නට නටා හිටියා මිසක්. වැඩකට ගියාම තමයි ඒකෙ පාඩුව තේරෙන්නේ. දන් ඉතින් මොනවා කරන්නද...?, පහුගිය දේවල් හැම එකක්ම අමතක කරලා දාන්න තියෙන්නේ..."

මම මුකුත්ම කිව්වේ නෑ. ගිහාන් වගේ එකෙක්ට මම මොකටද අවවාද දෙන්නේ....?

"අංජලීමට පහුගිය දේවල් හැම එකක් ගැනම කිව්වා. මම ඒවා ගැන නොදන හිටියා නෙමෙයි මාලින්ද.මටම තේරෙන්නේ නෑ මචං..., ඇයි මම මේ තරම් එයාට ආදරේ කියලා. ඕනෙම ආදරයක් වැඩි වුනාම මතුවෙන්නේ ඊර්සියාවක්ලු නේ. ඒ හින්දද මන්දා අංජලී වෙන කොල්ලෙක් එක්ක කතා කරද්දි වුනත් මට තරහා ආවේ. ඒ ආදරේ වැඩිකම හින්දාමඅංජලීගේ හිත රිදෙන දේවල් පවා මම කළා. මම නාවල පැත්තේ ගර්ල් කෙනෙක් එක්ක යාළු වෙලා හිටියේ නෑ. ඒ වුනාට..., ඒ වගේ බොරු කතාවක් හදලා අංජලීගේ යාළුවන්ට දන ගන්න ඇරියෙත් මම...., දන් මට මේ හැම දෙයක් ගැනම තේරෙනවා මචං...."

"උඹටම ඒවා තේරුනා නම් හොඳයි. කොහාමටත් කවුරුව ත් තේරුම් කරලා දෙනවට වැඩිය හොඳයි අමාරුවෙන් හරි තමන්ගේ වැරදි තමන්ම හොයා ගන්න එක..."

"උඹත් එක්ක මම වලි දාගත්තෙත් ඒකමයි. මම කොළඹ හිටියේ නිදහසේ මං ගැන හොයන්න බලන්න කවුරුවත් හිටියේ නෑ. මමත් ඒ නිදහසෙන් හොඳට වැඩගත්තා. එදා බිග් මැච් එක දවසේ දවල් මම බීලා හිටියේ..., උඹ එයා එක්ක කතා කර කර ඉන්නවා දක්කහම මට මොනවා වුනාද දන්නේ නෑ. ඒ වෙලාවේ කරපු කිසිම දෙයක් මම දන්නේ නෑ... ඒකෙන් පස්සේ තමයි මට පළවෙනි පාරට බය හිතුණත්..., උඹ ඒ වෙලාවෙදිවත් මං ගැන පොලිසියට කිව්වේ නෑ. පහුවෙනිදම මං ඇංජලී මූණ ගැහුනා. අංජලී මා එක්ක කතා කළේ නෑ. ජීවිතේ පළවෙනි පාරට මම එයාට එදා ගැහුවා...."

ගිහාන් දිග හුස්මක් ගත්තා. අරුණිවත්, මමවත් එයාට බාධා කළේ නෑ.

"ඊට පස්සේ මට ඒකෙන් ටික හැම දෙයක්ම තේරුණා. කොටින්ම මම ඇංජලී ගෙන් සමාවත් ගත්තා. දන් ඒවා ඉවරයි. ජනවාරි මුල සතියේ අපි බඳිනවා. මොන දේවල් තිබුනත් උඹ එදාට එන්නම ඕනේ...."

මම ඔළුව වැනුවා. ගිහාන් කියපු හැම දෙයක්ම මට හරි පුදුමයි. මිනිහෙක්ට මේ තරම් ඉක්මනට වෙනස් වෙන්න පුළුවන්ද...?, ජීවිතේ කියන්නේ මහා පුදුම දෙයක්.

"ඉතින් මාලින්ද... නුවර ආපු එකේ යමු අපේ හොටෙල් එකට. තාම දවල්ට කාලත් නැතුව ඇතිනේ...,කෑම කාලා ටිකක් ඉඳලා යමු...."
මම අරුණිගේ මූණ දිහා බැලුවා.

"තැන්ක්ස් මචං...., තරහා වෙන්න එපා අද නම් බෑ. මොකද අපි දෙන්නා ඉක්මණටම ගෙදර යන්න හදන්නේ. වෙනින් දවසක එන්නම්... ෂුවර් එකටම..."

"එහෙම නම්, මට කලින් දන්වලා වරෙන්..."

අපි දෙන්නා පාක් එකට ඇතුල් වෙන්න ගිහාන් එක්ක ඉස්සරහට ඇවිදගෙන ආවා.

"එහෙම නම් ගිහාන්..., අපි පොඩ්ඩක් වෙලා පාක් එකෙත් ඇවිදලා ආපහු කොළඹ යනවා. ආයේ දවසක හම්බු වෙමු..."
ගිහාන් මගේ දිහා බැලුවා.
"මාලින්ද පොඩ්ඩක් මෙහාට එනවද..." , මිනිහා මට අතින් කතා කළා. මම අරුණිගේ අත, අත ඇරලා ගිහාන් එක්ක පැත්තකට වුනා. අරුණි තාමත් ඉන්නේ තිගැස්සිලා වගේ.

"පහුගිය දවස්වල වුන දේවල් වලට මට සමාවෙයං මචං..." , ගිහාන් එකපාරටම මගේ අත් දෙකෙන් අල්ල ගත්තා.

"එයා පස්සෙ තමයි මට උඹ ගැන කිව්වේ. මම තනිකරම වැරදි විදියටයි උඹ ගැන හිතාගෙන හිටියේ. සමාව ඉල්ලලා මම කරපු වැරදි මකාගන්න හදනවා නෙමෙයි. ඒත්..., මම වෙන මොනවා කරන්නද මාලින්ද....."

"දැන් ඒවා අමතක කරමු. පහුගිය දේවල් ඉවරයි. බැඳලා ඉවර වෙලා උඹලා දෙන්නාට හොඳින් ඉන්න පුළුවන්..., අංජලී හොඳ කෙල්ලෙක් ගිහාන්. එයාව තේරුමක් නැතුව සැක කරන්න එපා. පව්..., එයාට ඒ වගේ දේවල් දරාගන්න බැ....."

"මං කරපු ගොංකම් හදන්න බෑ. දැන් ඉඳලාවත් හැදෙන්න බලන්න ඕනේ. උඹගේ යාළුවෝ සෙට් එකටත් කියපං...., ඕන වෙලාවක, ඕනෙම උදව්වක් ඕනේ නම කියන්න මාලින්ද..., අපි දෙන්නාට කරන්න පුළුවන් හැම දෙයක්ම අපි උඹ වෙනුවෙන් කරන්නම්....."

ගිහාන්ට අත වනලා අපි දෙන්නා පාක් එක ඇතුලට ආවා. මගේ හිත පුළුන් බෝලයක් වගේ සැහැල්ලු වෙලා.

"අනේ මාලින්ද... මට නම් බයයි...!"

අරුණි මගේ උරහිස්සට හේත්තු වුනා. අපි දෙන්නා පාක් එක ඇතුලේ ගොඩාක් වෙලා හිටියා. දෙන්නාටම තේරුනේ නැ...වෙලාව යනවා කියලා. අන්තිමේදි නුවරින් බස් එකට නගින කොටත් පහ පහු වෙලා. මගේ පපුවත් ගැහෙනවා. ගිහාන් එක්කත් අපි දෙන්නා කොයි තරම් වෙලා කතා කර කර හිටියද...?, ඒ මදිවට බස් එකට නැගපු වෙලාවේ ඉඳලා ධාරාණිපාත වැස්සක් පටන් ගත්තා. ඒ හින්දා බස් එක වැඩි හයියෙන් යන්නෙත් නැ.

"බය වෙන්න එපා අරුණි..."

"මම අම්මාට කිව්වා රෑ වුනොත්, බර්ත් ඩේ පාටි එක තියෙන ගෙදරින් මාව ගෙනත් ඇරලවයි කියලා. ඒත්..., බැරි වෙලාවත් අපේ අම්මා ඔයාලගේ ගෙදර ගියොත් ඔක්කොම ඉවරයි. ....."

අරුණි මගේ පපුවට ඔළුව ඔබාගෙන ඇස් පියා ගත්තා. අපි දෙන්නාගෙම

හිත් බයේ ගැහෙනවා කියලා දෙන්නාම දන්නවා.

අපි පිටකොටුවෙන් බහින කොටත් වැස්ස අඩුවෙලා නෑ. වෙලාව අටහමාරත් පහු වෙලා. ලෝකේ වටේම ඉන්න හැම දෙවියෙක්ම, හිත ඇතුලට ආවා. අපි දෙන්නා තෙමීගෙනම දුවලා ඇවිත් මහරගම බස් එකක එල්ලුනා. බස් එක ඇතුලේ අඳුනන අය ඉඳීද...?, මගදි කවුරුවත් නගියිද...?, කියලා මට හිතුනේ නෑ. මහරගමට එනකම් මම අරුණිගෙ අත තදින් මිරිකාගෙන හිටියා. බය වැඩි කමටද මන්දා, දෙන්නාට දෙන්නා මූණට මූණ බලාගෙන හිටියා මිසක් වැඩිය කතා කලෙත් නෑ.

මහරගමින් බස් එක නවත්තද්දිත් ධාරාණිපාත වැස්ස එහෙමමයි.

"දන් මොකද කරන්නේ මාලින්ද....?, තනියම ගෙදර ගියොත් අම්මා බනිනවා විතරක් නෙමෙයි, හැම දෙයක් ගැනම අවුස්සයි. ඊට පස්සේ.....!"

අරුණිගෙ ඇස් ගදක අගිස්සේ කඳුළු බිංදු දෙකක් දහ කරනවා. මම වැඩිය හිත හිතා හිටියේ නෑ. අරුණිවත් ඇදගෙන, ත්‍රීවීල් එකකට ගොඩවුනා.

"අපි යමු අපේ ගෙදර. මම අක්කාව ෂේප් කරගන්නම්. ඊට පස්සේ එයාවත් අරගෙන ඔයාලගේ ගෙදර යමු...."

අරුණි ඇස් ලොකු කරගෙන බලාගෙන හිටියා.

"බය වෙන්න එපා අරුණි, අම්මලාගෙන් බැනුම් අහලා ගුටි කනවට වැඩිය, අපේ අක්කාට කියන එක හොඳයිනේ..."

අපි දෙන්නා හැම දෙයක්ම ඉන්පසු ගාණකට අමතක කරලා හිනා වුනා.

අපේ අම්මාටත් බොරු දාහක් විතර කියලා, අක්කාවත් ඇදගෙන අපි ආපහු ආවා. අරුණිලාගේ ගෙදරට එනකම් අපේ අක්කාගේ ප්‍රශ්ණ වැල නතර වුනේ නෑ. අරුණිටවත්, මටවත් ඒවාට උත්තර තිබුනේ නෑ. අරුණිගේ අම්මාටත් බොරු අත ඇරලා ෂේප් කරගෙන එන්න හදනකොට, අරුණි අපේ අක්කාගේ අත මිරිකලා අල්ලා ගත්තා. ආපහු ගෙට එනකම් මම කළේ, මූණ වහගෙන හිටපු එක විතරයි. එළියේ වහිනවට වැඩිය හයියෙන් මගේ පපුව හෝ....හෝ ගානවා.

මට ඉඩ ලැබුනේ කාමරේට ඇවිත් ඇඳුම් මාරු කරලා තුවාය අතට ගන්න විතරයි.

"මල්ලී...., මොකක්ද මේකේ තේරුම....?"

ප්‍රශ්ණ දසදහස් ගාණක් දෝර ගලන ඇස් දෙකෙන් අක්කා මගේ දිහා

බලාගෙන ඉන්නවා. මගේ පපුව ගැහෙන එකත් මොහොතකට නතර වුනා වගේ....

අක්කා ඇඳ උඩින් ඉඳගත්තා. අක්කාගේ හිත ඇතුලේ ප්‍රශ්ණ කෝටියක් විතර තියෙනවා කියලා මට තේරෙනවා. ඒත්..., මම කොහොමද ඒ හැම එකකටම උත්තර හොයන්නේ. පපුව කෝච්චියක් වගේ ගැහි ගැහි දුවන මේ මොහොත මෙච්චර ඉක්මණට එයි කියලා මට තිකමටවත් හිතුනේ නෑ.

"මොකද වුනේ...?, මට මේ කිසිම දේක අගක් මුලක් තේරෙන්නේ නෑ. එහෙන් අම්මා මගෙන් රටේ නැති ප්‍රශ්ණ අහනවා. අම්මාට වුනත් බොරු කියන එකේ සීමාවක් තියෙනවා. අරහේ...., අරුණිලාගේ අම්මා හොඳටම බයවෙලා. දැන් වෙලාව දහයාමාරටත් කිට්ටුයි. ඔයා කොහේද මේ තරම් රෑ වෙනකම් ගියේ...?, කොහොමද අරුණිව හම්බවුනේ......?"

මම පුටුව උඩින් ඉඳගත්තා, නෙමෙයි ඉන්දවුනා. මම මේ කතාව කොතනින්, කොහොම පටන් අරගන්නද....?

"මට මේ කතාව අක්කාට මුල ඉඳලාම කියන්න බැරිවුණා. බැරිවුණා නෙමෙයි, මම අක්කාට මේ දේ කියන්න බය වුණා. දැන් ඉතින් මේ කිසි දෙයක් තවත් හංගාගෙන ඉන්න එකේ තේරුමක් නෑ. අක්කා මාත් එක්ක තරහා වෙන්න එපා...!, මායි...., අරුණියි අතරේ ලව් එෆෙයාර් එකක් තියෙනවා...."

"මොකක්....!"

අක්කාගේ මූණ වෙනස් වුනේ හිතාගන්න බැරි තරම් ඉක්මණට. දුක, කේන්තිය හැම එකක්ම එකට කළවම් වෙලා උතුරලා ගියා.

"ඔව් අක්කේ..., ගොඩාක් කල් නම් නෑ. ඒ වුනත් මම කොහොමද කටක් ඇරලා ඔයාට මේ වගේ දෙයක් කියන්නේ. අරුණිට වුනෙත් ඒකමයි. අක්කාට තේරෙනවා නේද ඒ ඇයි කියලා..., මම දන්නවා අපි කළේ වැරැද්දක් කියලා. ඒ වුනත් මම ඒ වැරැද්ද හරි ගස්සගන්න ආසා නෑ අක්කේ. අක්කා මට සමාවෙන්න...., ඔයාට ගොඩාක් තරහා ඇති අපි දෙන්නා එක්කම. මම ඔයාගේ එකම මල්ලි..., අරුණි ඔයාගේ හොඳම යාළුවා. ඒ වුනත්......"

මගේ දිව ගොළුවුනා. අක්කා ඉකිගහන්න පටන් ගත්තේ ඒ එක්කම වගේ. කවදාවත් අක්කා අඬනවා දකින්න මම ආසා නෑ. අද අක්කා අඬන්නේ මං හින්දා. ඒ හින්දා මට ඒක තවත් දරා ගන්න බෑ. මම මගේ ඔළුව මේසේ ඔබාගත්තා. මගේ ඇස් පියන් කෙළවර රත්වෙිගෙන කඳුළු බිංදුවක් මතු වුනා.

"ඇයි...අරුණි මට බොරු කළේ...?, ඇයි...ඔයා මට බොරු කළේ...?, මට

තාමත් අදහාගන්න බෑ මේ කතාව ඇත්තද කියලා. ඔය දෙන්නා එකට කතාකරන කොට, විහිළු කරනකොට මට හීනෙකින්වත් ඔය දෙන්නා ගැන සැක හිතුනේ නෑ. මම ඔයා එක්ක තරහා නෑ මල්ලී..."

මාව එකපාරටම නැගිටුණා. මගේ දුකට සැපට හැම දේකටම මෙච්චර කල් මගේ ළඟින් හිටපු අක්කාගෙන් කියවුණ ඒ කතාව මට වාවගන්න බැරි වුණා. මගේ ඇහැ පාලනය කරගන්න තරම් ශක්තියක් මට තිබුනේ නෑ. හිත ඇතුලේ තියෙන හැම දුකක්ම පිටාර ගලාගෙන ඇස් දෙක දිගේ ආවා. මම අක්කාගේ ඔළුව බදාගෙන ඇඬුවා.

"අරුණිට තියෙන ප්‍රශ්ණ මදිවට ඔය දෙන්නා තවත් අවුලක් පටන් අරගෙන. මේක අපේ ගෙවල් දෙකෙන් දැනගත්තාට පස්සේ මොකද වෙන්නේ...., අරුණිත් දුර දිග බලන්නේ නැතුව..."

"නෑ අක්කේ, මේක අපි දෙන්නා හොඳට හිතලා බලලා ගත්ත තීරණයක්. අක්කා මට ඕනේ දෙයක් කියලා බනින්න...., ඒකට කමක් නෑ මම ඔයාගේ මල්ලිනේ. ඒත් මං හින්දා අරුණිට බනින්න එපා. එයා පව්..."
මම කඳුළු අතරින්ම කිව්වා.

"කියනවා තරම් හැම දෙයක්ම ලේසි නෑ. අනික අරුණි ඔයාට වැඩිය වැඩිමල්. ඔය දෙන්නා ඒවා ගැනවත් හිතුවද...?, මේ වගේ දෙයක් දැනගත්තොත් යාළුවෝ, අම්මලා තාත්තලා මොනවා කියයිද...?, මොනවා හරි දෙයක් කරන්න කළින් හැම දෙයක් ගැනම හිතන්න ඕනේ...."

"මම දන්නවා. ඒ වුනත්...., මම පස් මහ බැලුම් බලලා ලව් කරන්න ගියා නම් සමහර විට අරුණි විභාගේ කරන එකකුත් නෑ. මගේ හිතට සැනසීමකුත් නෑ. අපි දෙන්නාට අනන්තවත් ප්‍රශ්ණ එයි කියන එකත් අපි දන්නවා. ඒත්...., ආදරේ කරද්දි ප්‍රශ්ණ නිසා කාටවත් ආදරේ අමතක කරන එක ලේසි නෑ. අපි දෙන්නා අපි දෙන්නා ගැන දන්නවා. මට අරුණිගෙන් එහාට කෙල්ලෙක් ගැන හිතන්න බෑ. හැම ප්‍රශ්ණයකටම උත්තර හොයන්න වෙන්නෙත් අපි දෙන්නාට. මගේ යාළුවෝ ටිකත් ළඟම ඉන්න එක සහනයක්. ඒ වුනත්...., අක්කාවත් අපේ පැත්තට ඉන්නවානම්...."

"අනේ මන්දා මොනවා කරන්නේ කියලා මට නම් හිතාගන්නවත් බෑ. දැන දැනම මම කොහොමද ඔය දෙන්නාව ප්‍රශ්ණ ගොඩකට තල්ලු කරන්නේ...., අනික මම දන්නවා ඔය දෙන්නා ගැනම හොඳට. ඔයාලට කොයි තරම් කිව්වත් ඔය සම්බන්ධෙ නවත්තන එකක් නෑ. ඉතින්.... මම ඔයාලගේ පැත්ත ගන්නේ නැතුව වෙන මොනවා කියලා කරන්නද....?"

මම අක්කාගේ අත අල්ල ගත්තා. මේ වගේ වෙලාවක, අක්කා ළඟ ඉන්න එක අරුණිටත් සැනසීමක්.

"මම හෙටම ගිහින් අරුණිව හම්බුවෙන්නම්...", අක්කා යන්න ගියා. අද දවසේ සතුට, දුක, කුතුහලය හැම දෙයක්ම පිරිලා...., ඒ සතුට විතරක් මගේ ළඟ හැමදාමත් තියෙයිද කියලා මම දන්නේ නෑ, ඒ මොනවා වුනත් අද දවස නම් මැරෙන තුරාවට මටවත්, අරුණිටවත් අමතක වෙන්නේ නෑ...., ඒක ඒ තරම්ම සුන්දරයි.

* * *

"ඕකනේ බං...උඹලට වැප් දාලා දුන්නත්, ඇඳගෙනමනේ නාන්නෙ..., ඇති ඔය තරමට ෂේප් වුණා. නැත්නම් අර කෙල්ලව ගෙදරින් එළියට දානවා..."

"වෙලාවට අක්කා සෙට් වුණේ. එයා අගක් මුලක් දන්නේ නෑ නේ..., අරුණිගේ ගෙදරට යනකම් අපි දෙන්නාගෙන් රටේ නැති ප්‍රශ්ණ ඇහුවා. කොහොම හරි කමක් නෑ..., ඒකත් යන්තම් ෂේප් වුනානේ...."

"ඒක නෙමෙයි...., මොනවද උඹට ගිහාන් කාරයා කිව්වේ. ඌට රහත් වෙන්න හිතිලද ...?, මට නම් ඌට දෙකක් අනින කම් හිතට කිසි ගතියක් එන්නේ නෑ..."

කොටා බස් හෝල්ට් එකේ බාර් එක උඩ ඉඳගත්තා.

"ඔන්න ඌ වෙඩින් එකට අපිට එන්න කියනවා කියලා කිව්වා ඕනේ නම් එදාට අනිමු කැලි ගැලවෙන්න...."

"ඔය කිව්වට, ඇත්තටම ඌ අපිට එන්න කියයිද බං...?", අමිල පුදුම වෙලා වගේ ඇහුවා.

"ඔව් ඌට ඕනේ දන් අපිව කොහොම හරි ෂේප් කරගන්න. උගේ ගොං වැඩ ඌටම තේරිලා..."

"ඒක නෙමෙයි බං...,මේ දවස් වල තරහා කාරයෙකුගේ මඟුල් ගේකවත් යන්න අතේ සතේ නෑ. ඒ හින්දා වෙඩින් එක වර්ජනය කරන්න තමයි වෙන්නේ..."

"අනේ පළයං ඩෝ යන්න. කවදාවත් උඹේ අතේ රුපියල් දෙකකට වැඩිය

නෑ නේ. ගිහාන්ලා බරකාරයොලු...., ඉතින් සල්ලි ඕනේ නෑ....."

කොටා අම්ලට කට අරින්න දෙන්නෙම නෑ. මොනවා වුනත් මේංග කැපිල්ල දම්මත්, මෙච්චර ප්‍රශ්ණ ඔළුවේ තියාගෙන ඉන්න පුළුවන් වුනේ මුං ටිකගේ පිට් එක හින්දා. කෙල්ලෝ සෙට් කරන්න බැරි වුනත් උපදිනකොටම මහා බ්‍රහ්මයා මට හොඳ යාළුවෝ ටිකක් නම් සෙට් කරලා තියෙනවා.

"මාලින්ද..., මම අරක අහන්න ඉන්නේ ඉසංකාගෙන්. මේ දවස් ටිකේම අපි කතා කළේ ඒ වගේ දේවල්මයි. තවත් පහු කරන්න ඕනේ නෑ කියලා මට හිතුනා...."

"ඒක හොඳයි. නැත්තං...පස්සේ මොන මොන දේවල් වෙයිද කියන්න බෑ..."

බිංදුයි මමයි මහරගමින් බැහැලා දෙපැත්තට මාරුවුණා. දවස් දෙක තුනකින් කෑවේ නෑ වගේ, අම්බානක බඩගින්නක් තියෙන්නෙ. ගෙට ඇතුල් වෙනකොටම අම්මාත් එක්ක සාලේ ඉඳගෙන හිටපු අක්කා, මගේ ළඟට ආවා.

"ඕකනේ මම කිව්වේ...., නිකං ප්‍රශ්ණ චවාගන්නවා කියලා..."

අක්කා රහසින් වගේ කණට කෙඳිරුවා. අම්මාටත් හොරෙන් මෙයා මොකක්ද මේ කියන්න යන්නේ...?

"අන්න සමන් අය්යා ලියුමක් එවලා....!"

"මිනිහා ජනවාරි හරි පෙබරවාරි මැද විතරනේ ලංකාවට එන්න හිටියේ. ඒත් දැන් ටිකක් ඒක පහුවෙයිලු. කොහොමටත් ලබන අවුරුද්දෙ මැයි, ජූනි විතර වෙනකොට වෙඩින් එක ලෑස්ති කරන්න කියලා තියෙනවා. සමන් අය්යාට එහේ අළුත් ජොබ් එකකුත් හම්බ වෙලා. අරුණිගේ අම්මලා අද ගියා හඳහන් බලන්න දීලා නැකැත් හදාගන්න..."

මම ගොළු වුනා. පෙරුම් පුරලා පුරලා හිත ආදරේ කරපු අරුණි අක්කාව මගෙන් ඈත් කරන්න හැම දෙයක්ම ලෑස්ති වෙනවා. සමහර ප්‍රශ්ණ වලට උත්තර තියෙන්නේ කාලයට විතරයිලු නේ...., මේකත් එහෙම එකක්ද...?

" ඒ විතරක් නෙමෙයි ඔය දෙන්නා එකට යනවා, කවුරු හරි දැකලා වෙන්න ඇති. එයාට ඒකත් ලියලා යවලා. සමන් අය්යා ඇන්ටිට ලියුමේ කියලා

තිබුණා, අරුණි ගැන ටිකක් වැඩියෙන් හොයන්න කියලා. අපි ලියුම බැලුවා කියලා ඇන්ටි දන්නේ නෑ...."

"ඉතිං....., මාව අඳුනාගෙනද ඒ දකපු එකා....?"

"නැහැ. කවුද කොල්ලෙක් එක්ක නිතර නිතර, කතා කර කර ඉන්නවා කියලා තමයි ආරංචි වෙලා තියෙන්නේ......, කෝකටත් ටිකක් ෂේප් එකේ ඉන්න එක හොඳයි. ඔයාට නෙමෙයි මේකෙන් ප්‍රශ්ණ මතුවෙන්නේ අරුණිට. ඒ කෙල්ලට මේවා හින්දා කවදා හරි ගෙදරටම කොටු වෙලා ඉන්න තමයි වෙන්නේ...."

"මටත් තේරෙනවා අක්කේ, කවදා හරි දවසක සමන් ඇවිත් අරුණිව බඳින්න යද්දි මම මොනවා කියලා කරන්නද...?, සමන්ලා එක්ක බලනකොට මම මොකෙක්ද...?, අරුණි එයා අකමැති කෙනෙක් එක්ක ගිහින්, මුළු ජීවිත කාලේ දුක් විඳිනවා බලාගෙන ඉන්න මට බෑ. ඒක එහෙම වුනා කියලා මට එයාව ඒකෙන් බේරගන්න ක්‍රමේකුත් නෑ....."

අක්කා මගේ දිහා බලාගෙන උන්නා.

"මටත් දුකයි අරුණි ගැන. මේ ප්‍රශ්ණෙට කරන්න තියෙන එකම දේ, ඔය දෙන්නාගේ සම්බන්ධෙ නවත්තන එක නෙමෙයි කියලා මට තේරෙනවා. අනික..., එකම උත්තරේ ඒක වුනත්, ඒ දේ කරන්න කියලා මට ඔයාටවත් අරුණිටවත් කියන්න බෑ. මම දන්නවා අරුණි ඔයාට කොයි කරම් ආදරේද කියලා. එදා මම අරුණි හම්බුවුන වෙලාවේ මට මුල ඉඳලාම වුන හැම දෙයක් ගැනම කියලා ඇඬුවා. මමත් ඔය දෙන්නාටම ආදරෙයි. ඒ හින්දා මම කොහොමද මල්ලි, ඔයාලගේ හිත රිද්දන්නේ....?"

අක්කා යන්න ගියා. අක්කා කොයි තරම් දුක් වුනත්, මේ වගේ වෙලාවක එයාට වුනත් කරන්න දෙයක් නෑ. ආදරේ කියන එක ලස්සන දෙයක් නම්, ලෝකේ මේ තරම් කඳුළු මතු වෙන්නේ නෑ. මේ තරම් බෙල්ල ළඟට ප්‍රශ්ණවලින් මිරිකිලා හිටියත් මට හිතේ සැනසීමකට තියෙන එකම දේ, අරුණිගේ ආදරේ විතරයි. අපි දෙන්නාව කවදාවත් තනි නොකරන අක්කායි, යාළුවෝ ටිකයි විතරක් අපේ පැත්ත ගනීවි. විභාගේ කරන්නේ නැතුව, රස්සාවක් නැතුව, ඉන්න හිටින්න තැනක් නැතුව මම කොහොමද අරුණිව බලාගන්නේ.....?, මට කළින් සමන් ඉස්සර වෙන්නේ, ලෝකෙම කැමැත්ත අරගෙන හැම සැප සම්පතක්මත් ළඟ තියාගෙන....

ඒත්...මම කොහොමද අරුණිව අමතක කරන්නේ....?, මම දැන් කරන හැම දෙයක්ම කරන්නේ එයා ගැන හිතලා. මතක ඇති කාලෙකින් ස්කෝලෙන් ඉක්මණට පැන්නේ නෑ. පාඩම් කරන එක, ක්ලාස් යන එක වුනත් මෙච්චර උනන්දුවකින් ෟරෙන්නේ ඒ හින්දා...

දැන් ඒ හැම දෙයක්ම වතුරේ ගහගෙන යයිද...?

* * *

"මොකද දන්නේ නෑ අරුගේ වැඩේට වුනේ....?" , සර් රූප සටහනක් බෝඩ් එකේ අඳිද්දි, කොටා මගේ කනට ළං වුනා.

"හරි යයි. බලපං....දැන් නමයටත් ළඟයි. මූ තාම ආවේ නෑ නේ. ඊයේ හවසත් ඌ ඉසංකා එක්ක ගෙදර ගියේ..."

මට කතාව ඉවර කරන්න ලැබුනේ නෑ. බිංදුවා පංතියට ඇතුල් වුනා. ෂුං....,මූනේ තියෙන හිනාව..

"ආ මොකද අද වේලාසනම...?, වෙනදා වගේම බස් එක කැඩුනද...?"
සර් කැපිල්ලට වගේ එහෙම අහද්දි, ඌ බොහොම අහිංසක හිනාවක් දාගෙන ඇවිත් ඉඳගත්තා.

"වැඩේ හරිද...?, ප්‍රේම පූජාව කළාද...?, ප්‍රේමය හිට් වුනාද...?"
බිංදු ඔළුව වැනුවා.

"දාපං මචං අත...., එකට ඉන්න එකෙක්ට හරි යනවා. කියන්නේ නිකං අපිට හරි ගියා වගේ......"
අම්ලයක් එහා පැත්තේ ඉඳන් අතිනුයි, ඔළුවෙනුයි කතා කරනවා.

"අපි දෙන්නා ස්කූල් බස් එකේ එන්නෙ නැතුව ප්‍රයිවට් බස් එකක ආවේ. මාර වැඩේ නුගේගොඩ ඉඳලාම ට්‍රැෆික්. ඉසංකාව ස්කෝලෙට ගත්තද දන්නෙත් නෑ...."

"එයාව ගත්තත් නැතත් අපිට වැඩක් නෑ. මේ පීරියඩ් එක ඉවර වුන ගමන්ම පනිමු එළියට. ඊට පස්සේ උඹගේ ලව් පාටිය දීපං...., නැත්තං ඔවා කල් දාගත්තොත් ජීවිතේට හම්බු වෙන්නෙ නෑ. උඹ ළඟ මේ දවස්වල සල්ලිත් ගැවසෙනවානේ...., ඒ හින්දා තෝසේ කන්න නම් බෑ. අර සතොස ඉස්සරහා දෙමළ කඩේට ගිහින්, වෙන මොනවා හරි කමු බඩ පිරෙන්න..."

කොටා කෙළින්ම කතාවට බැස්සා.

"උඹ ළඟ අද සල්ලි තියෙනවද...?", මම බිංදුගෙන් ඇහුවා.

"රුපියල් සීයක් විතර තියෙනවා. ඇතිවෙයි නේ....?, කෙල්ලෙක් දා ගත්තා කියලා උඹලා මාව මරාගෙන කන්නනේ හදන්නේ.."

ඒ පීරියඩ් එක ඉවර වුන හැටියේම අපි කෙළින්ම නතර වුනේ ග්‍රවුන්ඩ් එක කෙළවරේ තාප්පේ ළඟ. හුඟ දවසකින් තාප්පෙන් පැනපු නැති හින්දා, අළුත් තාක්ෂණික උපක්‍රම දාන්න වෙනවා.

"ඕකනේ මම උඹලට කියන්නේ, අඩුම ගානේ සුමානෙකට දවස් දෙකක්වත් තාප්පෙන් පැනලා පුරුදු වෙමු කියලා. දැන් පේනවා නේද ප්‍රැක්ටිස් නැතුව පනින්න ගියාම කන්න වෙන කට්ට..."

අමිල එහෙම කිය කියා අමාරුවෙන් තාප්පෙන් එහා පැත්තට පැන්නා.

"අපිට ගේන්න බිත්තර රොටියි, කුකුල් මසුයි....."
කොටා කෑගහලා වේටර් කෙනෙකුට කිව්වා.

"උඹ ළඟ සීයක් තියෙනවා නේ..., අපි ගාණට අනුනමයක කන්නම්. හවස කොහොමත් ස්කූල් බස්නේ යන්නේ...."

ප්‍රසන්නයාත් රොටියක් කඩලා කටට දාගත්තා.

අපේ මේසෙට බිත්තර රොටියි, නිකං රොටියි ගේනවා විතරයි පේන්නේ. ඊට පස්සේ ඒවා වාෂ්ප වෙනවා වගේ. උදේටත් කාලා හිටපු නැති හින්දා, බඩ නිකං රබර් වගේ....දාන්න දාන්න ඇදෙනවා. යුද්ධයක් කළා වගේ යාන්තම් කාලා ඉවර වුනා. අපි ප්ලේන්ටි බිබී ඉන්න කොට තමයි, වේටර් අතින් බිල මේසේ උඩට ආවේ.

එකසිය දහතරයි පණහයි...!
"පිස්සු හැදෙනවා මචං..., අපි මොනවද මෙච්චර කෑවේ....?"

"ඇයි මහත්තයා චිකන් කරි දෙකක් ගත්තේ. එතනටම පණහයි."

වේටර්ගේ උත්තරෙන් කොටා කට වහගත්තා. මම හොඳටම දන්නවා බිංදුගේ රුපියල් සීය දැම්මත්, ඉතුරු දාහතරයි පනහා අපි ළඟ නැති විත්තිය.

මම දන්නවා. මගේ ළඟ තියෙන්නේ රුපියල් තුනයි, අමිල ළඟ නම් හැමදාම තියෙන එකයි පනහා විතරයි

"මම කියන්නද බිංදු..., උඹේ රුපියල් සීය දාපං. ඉතුරු ටික වේටර් එක්ක කතා කරලා ෂේප් කර ගම්මු....."

බිංදු පර්ස් එක ඇද්දා. පර්ස් එක ඇරපු හැටියේ උගේ මූණ අටපට්ටමක් වගේ වුනා.

"මළ කෙළියයි. රුපියල් සීය නෑ.....!"

"හොඳට බලපං..., අස්සේ හිරවෙලා ඇති....", කොටා බිංදු දිහාවට හැරිලා කිව්වා.

"දැනුයි බං මතක් වුනේ චිහ්...." , බිංදු ඔළුවේ ගහගත්තා.

"ඇයි...?"

"මම ප්‍රයිවට් බස් එකට ටිකට් ගන්න අතේ තිබුණ රුපියල් සීය දුන්නා. අම්බානක පරක්කු වුන හින්දා මම තදියමේ බැහැලා ආවනේ...., ඉතුරු සල්ලි කොන්දා ළඟ...."

"ඉවරයි...!, දැන් ඉතින් මොකද කරන්නේ...?, උඹලට ලව් කරන්න ගියාම පර්ස් එක තියා කලිසම ගලවගෙන ගියත් දන්නේ නෑ..."
අමිලයා මූන ඇද කරගෙන එහෙම කියලා, වටපිට බැලුවා.

"අයිඩෙන්ටි කාඩ් එක තියලා ගිහින් වෙන දවසක සල්ලි ගෙනත් දෙමුද...?", බිංදු බොහොම අසරණ විදියට ඇහුවා.

"ලැජ්ජා නැද්ද බං.., එතකොට මාර නෝන්ඩියනේ. වෙන කරන්න දෙයක් නෑ, මුදලාලිට බම්බු ගහගන්න කියලා එකා එකා මාරු වෙමු...."

අමිලයි, බිංදුයි පොත් ටිකක් අරගෙන කඩෙන් පිටවුනා. කොටයි, මායි හෙමින් හෙමින් දොර ළඟට ආවා. බිලත් කොටා ළඟ..., පපුව නිකං ජම්බෝ ජෙට් එකක් වගේ. ඇහත් සීතල වෙලා. මම කඩෙන් එළියට අඩිය තිබ්බා. කොටාත් මගේ පිටි පස්සේ...

"මහත්තයලා බිල ගෙව්වේ නෑ නේද..?", මුදලාලි කොටා ළඟට ආවා.

"ඇයි අර කලින් ගිය දෙන්නා ගෙව්වේ...", කොටාත් ඇහට පතට නොදනී කිව්වා. අදින්නාදානා...විතරක් නෙමෙයි, මුසාවාදා වේරමණීත් බලාගෙන ඉන්දැද්දිම කැඩෙනවා.

"පිස්සුද...?"

තත්පරයක් ගියේ නෑ. මුදලාලි කොටා ළඟට අඩියක් තිබ්බා. එතකොටම කොටා මාව එළියට තල්ලු කළා.

"දුවපං යකෝ......"

කාල් ලුවිස්, බෙන් ජොන්සන්ලගේ වාර්තා කඩාගෙන, ඇගේ තියෙන හැම රොටියකම ශක්තිය කකුල් දෙකට දීලා, අපි දෙන්නා කඩේ ඉස්සරහ තියෙන පුංචි පාර දිගේ දිව්වා. මුදලාලිගේ කටින් දෙමළ, සිංහල බේදයක් නැතුව අමු අමුවේ කුනු හරුප පිටවෙනවා අපි දෙන්නාට ඈතට යනකම්ම ඇහුනා.

# දාහත

උදේ ඉඳන් හවස් වෙනකම් ස්කෝලෙයි, ටියුෂන් පන්ති වලයි හිරවෙලා ඉන්න කොට කාලය ගතවෙලා යනවා තේරෙන්නේ නෑ. මේ අවුරුද්ද ඉවර වෙන්න තියෙන්නෙත් තව දවස් කීයද...?, ඔර්ලෝසුවේ කටු අල්ලලා හිරකරන්න පුළුවන් නම් කොයි තරම් හොඳද..., ටිකෙන් ටික දවස් ගතවෙලා ස්කෝලෙන් අයින් වෙන දවසත් ළංවෙනවා. ඊට වැඩිය දුකක් තවත් කොයින්ද..?, ජීවිතේ ලස්සනම කාලේ ආයේ ඉතින් එන්නේ නෑ..කුරුල්ලෝ වගේ සැහැල්ලුවෙන් පියාඹපු කාලේ ඉවරයි. මගේ කල්පනා ලෝකේ කැඩිලා ගියේ අක්කා සාලෙට ආපු හින්දා. හුඟ දවසකින් අද උදේ පාන්දර අක්කා සුදු ගවුම ඇඳගෙන ටයි එක දානවා.

"ඇයි අද සුදු ඇඳගෙන ස්කෝලේ යන්නේ...?"

" අද අපේ රිසල්ට්ස් එනවලු. ඊයේ රෑ ප්‍රවෘත්ති වලට කිව්වේ. මගේ පපුව නම් දන් ඉඳලම ගැහෙනවා. මොනවා වෙලාද දන්නෙ නෑ...."

"බය වෙන්න එපා, ඔයා පාස් වෙලා ඇති. අරුණී අක්කාත් යනවද..?"

" ඔව් අරුණී අක්කාත් යනවා..."

එයා නිකං ' අරුණී අක්කා' කෑල්ල කිව්වේ බර කරලා. ඇදලා පැදලා කැපිල්ලට වගේ. මොන කැපිල්ල දැම්මත්, මම කොහොමද මෙයා ඉස්සරහ නිකංම නිකං අරුණී කියලා කියන්නේ...?

" ආ....මට තව පොඩ්ඩෙන් මතක නැති වෙනවා. ඊයේ හවස අර අංජලී කියන ගර්ල් මෙහේ ආවා. ඔයාට අද හවස කොහෙම හරි ලයිබ්‍රි එකට ඇවිත් යන්න කිව්වා තුනට විතර...., එයා නම් කිව්වා ඔයාට අද ක්ලාස් නෑ කියලා...."

" අංජලී.....!"

" ඔව්. අංජලී තමයි. අර දවසක් අපේ ගෙදරත් ආවේ...."

අංජලී මොකටද මේ හදිසියේ මාව බලන්න ආවේ. ආපහු මොනවා හරි ලෙඩක්ද දන්නෙත් නෑ. එයාට මුකුත් නැති වුනත්, යාන්තමට අංජලීව දැක්කත් මාස ගාණක් යනකම් මට නම් හොඳටම අපලයි. ඕනේ දෙයක් වුනාදෙන්...., අද හවසට ගිහින් බලනවා. කර ළඟටම ගිලිලා ඉන්න මට, තව අහලක් දෙකක් ගිලෙන එක මොකක්ද...?

* * *

"උඹට නම් ලැජ්ජාව කියලා මිලි මීටර් දෙක තුනක්වත් තියෙනවා නම්, ආයෙම යනවද බං අංජලීව මුන ගැහෙන්න. තාමත් ඇඟ වෙව්ලනවා පහුගිය දවස්වල කාපු පරිප්පු මතක් වෙන කොට. කොහෙද ඉතින්...., උඹටත් මේ ලෝකේ දෙයක්, කියලා දීලා ලේසියෙන් තේරුම් කරන්න බෑ නේ..., ගුටි කන්නම ඕනේ අම්බානක. එතකොට තමයි මී හරකෙක්ට වගේ තේරෙන්නේ.."

" කෑ නොගහා වරෙන්කෝ. උඹ දඟලන්නේ හරියට මම අංජලීට පණිවිඩ යවලා ගෙන්න ගත්තා වගේ නේ...."

ඉසංකා, අමිල, කොටා, අසංගලා ස්ටඩි රූම් එකේ පාඩම් කරද්දි බිංදුයි. මායි විතරක් පල්ලෙහාට ආවා. අපිට කැන්ටින් එකට හැරෙද්දිම අංජලීව හම්බුවුනා.

" ගොඩාක් දවසකට පස්සේ....", මම අමාරුවෙන් වචන හෙව්වා.

" ඒක තමයි, ඔයා වැඩිය ලයිබ්‍රි එක පැත්තේ එන්නේ නෑ නේද...?"

" නෑ අංජලී...., ගෙදර ඉඳගෙන පාඩම් කරන එක ඇඟට ගුණයි. මෙහේ ආවොත් ඉතින් පාඩමට කළින්, වලට නේ බහින්නේ. ඒක නෙමෙයි, ඔයා මොකද හදිසියේම අපේ ගෙදර ආවේ....?"

" වැදගත් වැඩකට. ඔයාට ගිහාන් වත් හම්බුවුනාලු නේද පේරාදෙණියෙදි ...."

" ඔව්. දැන් ගොඩක් දවස්නේ..."

අංජලී බිංදු දිහාවට හැරුනා.

" සමහරු ගොඩාක් දේවල් අළුතෙන් පටන් අරගෙනලු. මෙහෙදී අපි දකියි කියලා වෙන්න ඇති නුවර යන්නේ...., අපිට කියන්නෙත් නෑ, පාටියකුත් නෑ..."

මම හිනාවුනා.

" ඒවා කියන්න, ඔයාව මට හම්බු වුනේ නැනේ අංජලී. ඔයා දන්නවානේ අරුණිව..."

අංජලී හිනාවෙලා ඔළුව වැනුවා. කොයි තරම් හිනාවුනත්, ඒ මූනේ යාන්තම් හරි දුකක් තියෙනවා කියලා මට හිතුනා.

" අනික අංජලී, දැනගත්තත් ඔය වගේ දේවල් වලට පාටි දාන එක හොඳ නෑ. අපේ හොඳම යාළුවෙක්, ඔය විදියට කෙල්ලෙක් එක්ක යාළුවුන ප්‍රීතියට කොල්ලන්ට පාටියක් දෙන්න ගිහින් තව පොඩ්ඩෙන් පොලීසි නොගිහින් බේරුනේ යාන්තම්..."

බිංදු නිකං ඇහට පතට නොදැනි ඌට නෙමෙයි වගේ උගේම කතාව කිව්වා. දන්නෝ දනිති, නොදන්නෝ කට ඇරන් බලා සිටිති.....කියලා කියන්නෙ ඕවට තමයි.

" ඒක නෙමෙයි මාලින්ද, මගෙයි ගිහාන්ගෙයි වෙඩින් එක ජනවාරි මාසේ දාසය වෙනිදා ගන්නයි ඉන්නේ. එදාටයි නැකැත් තියෙන්නේ. යාළුවන්ට අපි ඉන්වයිට් කළේ..., අපේ පේරාදෙණියේ ගෙදරට. ඔන්න කට්ටිය ඔක්කොම එහේ එන්න ඕනේ. වෙඩින් එකට ඇවිත් දවස් දෙක තුනක්ම නතර වෙලා යන්න බලාගෙන එන්න කියලා ගිහානුත් කිව්වා...."

" බොහොම ස්තුතියි... ආරාධනාවට. අපි එන්නම්. හැබැයි ඉතින් දවස් දෙක තුනක් නම් නවතින්න පුළුවන් වෙයිද කියලා නම් කියන්න බෑ..."

" අනේ... එහෙම කරන්න එපා....! "

අපි තුන්දෙනා කැන්ටීම ඇතුලට ආවා. බිංදු ගියා තේ අරගෙන එන්න.

" මට දවසක් ඉසංකා හම්බුවෙලා ඔක්කොම විස්තර කිව්වා. ඉතුරු ටික අහගන්න ලැබුනේ ගිහාන්ගෙන්. මට ගොඩාක් සන්තෝසයි මේක මේ තරම් හොඳට ඉවර වුන එක ගැන. පරණ දේවල් හැම එකක්ම දැන් අමතක කරන්න...."

අංජලී ඇස් දෙක දල්වාගෙන මගේ දිහා බලාගෙන ඉන්නවා.

" ඔව්...., මම දැනටමත් ඒවා අමතක කරලා ඉවරයි. මම නම් කිව්වේ මගේ විභාගේ ඉවර වෙලාම වෙඩින් එක ගමු කියලා. ඒත් ඉතින්, ජේල් වෙන විභාගයක් කරනවාට වැඩිය, මේක හොඳයි. ගිහානුත් දැන් ඉස්සර වගේ නෙමෙයි...., ගොඩාක් වෙනස් වෙලා.....හරි හොඳයි. මම කොච්චර නම් දුක් වින්දද ඔය තත්වෙට එයාව අරන් එන්න...., අන්තිමේදි, මම බලාපොරොත්තු අත ඇරලා තියෙන වෙලාවක තමයි එයාටම පේරුම් ගියේ..."

" ඒකනේ අංජලී, දැන් ඔය දෙන්නා හොඳින් ඉන්න..., වෙනින් ප්‍රශ්ණත් නෑ නේ..."

" ප්‍රශ්ණ නම් නෑ. අතීතයත් අමතක කරන්න පුළුවන්. ඒත්....මාලින්ද...., කවදාවත් කියා ගන්න බැරිවුන, කවමදාවත් අමතක කරගන්න බැරි දේවලුත් තියෙනවා මේ ලෝකේ. ඔයාට ඒවා තේරෙන්න ඇති. දැන් ඉතින්, ඒ හැම දෙයක්ම ඉවරයි. ඔයාටයි, අරුණිටයි, මොන ප්‍රශ්ණ ආවත් අපි ළඟට එන්න. මටත් වැඩිය, ගිහානුයි ඒක කියන්න කිව්වේ. පහුගිය දවස්වල වුන දේවල් වලට එයාට දැන් හොඳටම හිතට අමාරුයි. ඒ හින්දම එයාට ලැජ්ජයිලු ඔයා එක්ක මේවා කතා කරන්න..."

" අපි දෙන්නාට තියෙන ප්‍රශ්ණ වලට උත්තර, ඔයාලා ළඟවත් නෑ අංජලී..."

" මොනවද ඔච්චර තියෙන ප්‍රශ්ණ...?"

" ඒවා මෙහෙම ටිකකින් කියන්න බෑ. පුළුවන් වුනොත්. වෙලාවක් තිබුනොත් මම පස්සේ කියන්නම්...."

" වෙඩින් එකට කළින් අපි ආපහු හම්බුවෙයිද කියන්න බෑ නේ...., ඊට පස්සේ මගේ මුළු ජීවිතේම ගතවෙන්නේ නුවර. අම්මා තාත්තා අරුනාම,කොළඹින් මට අමතක කරන්න බැරි ඔයාව විතරයි. මං වෙනුවෙන් ඔයා කොයි තරම් දුක් වින්දාද..?, ඒ පව නම්, මට කවදාවත් ගෙවා ගන්න බැරිවෙයි...."

" දැන් ඒවා ඉවරයි අංජලී. ඔය දෙන්නා හොඳින් ඉන්න. අපිත් නුවර ආවහම ඔයාලගේ ගෙදර එන්නම්...", මම අංජලීගේ ඇස් දෙකෙන් මිදිලා, මේසේ දිහා බලාගෙන කිව්වා.

තේ බීලා ඉවර වෙලා, අංජලීගේ වෙඩින් කාඩ් එකත් අරගෙන බිංදුයි, මායි ආපහු හෝල්ට් එකට ආවා.

" උඹට දුකයි නේද..?", බිංදු මගේදිහා බලලා ඇහුවා. මම ඔළුව වැනුවා.

ඒක අංජලී මට නැති වුන හින්දා ඇතිවුන දුකක් නම් නෙමෙයි. එහෙනම් මොන වගේ දුකක්ද...?,මටවත් තේරෙන්නේ නෑ. සමහර වෙලාවට ඉරිසියාවක්ද දන්නෙත් නෑ. මම මොකටද එයාට ඉරිසියා කරන්නේ....?, මට ඉන්නේ රත්තරන් කෙල්ලෙක්. මම හිතු හදාගත්තා.

මට ගෙදර ඇවිත් ගේට්ටුව අරින්නවත් ලැබුනේ නෑ. අක්කා ගේ ඇතුලේ ඉඳලා දුවගෙන කඩාගෙන ආවා. මූනේ තියෙන සන්තෝසේ......

" ඔයා පාස් නේද...?", මම හිනාවෙලා ඇහුවා.

" ඔව්. හිතුවටත් වැඩිය හොඳට පාස් මල්ලි..., A තුනයි B එකයි. අරුණිටත් A එකයි, B දෙකයි, C එකයි. දෙන්නාම කැම්පස් තේරිලා ..."

මටත් අවුරුදු වගේ. අක්කා මහන්සි වුන තරමටම අක්කාට ප්‍රතිඵල ලැබිලා. අවුරුදු ගාණක් තිස්සේ බලාපොරොත්තු වුන මල් වැහි වැටිලා. ප්‍රශ්ණ ඔලුවේ තියාගෙනත් අරුණි කැම්පස් තේරුණ එක කොයි තරම් හොඳද..?, මගේ කතාව, මහන්සිය අහක ගිහින් නෑ...

" ඉතින් අනාගත දොස්තර නෝනා....., අපිට මොනවද දුන් දෙන්නේ..?"

මම අක්කාව සන්තෝසෙන් බදාගත්තා.

* * *

ප්‍රතිඵල ඇවිත් දවස් දෙක තුනකට පස්සේ අරුණියි මායි නුගේගොඩදි හම්බු වුනා.

" අම්මෝ..., තාමත් බය හිතෙනවා එදා සිද්ධිය මතක් වෙනකොට. සැහෙන බොරු තොගයක් කියන්න වුනා ඒකෙන් ගැලවෙන්න. මොකද මෙච්චර රෑ වුනේ...?, ඇයි යාලුවගේ ගෙදරින් ගෙනල්ලා දම්මේ නැත්තේ...? ඔය වගේ රටේ නැති ප්‍රශ්න තමයි අපේ අම්මාටත් තිබුනේ..."

අරුණියි, මායි නුගේගොඩ හන්දියට ආවා. වැඩිය මේ හරියේ කැරකෙන

එක ඇහට ගුණ නෑ. සමන්ගේ යාලුවොත් හතර වටේම ඉන්නවා ඇති.

" ඉතිං..දන් නුගේගොඩ එහාටයි මෙහාටයි ගිහින් වැඩක් නම් නෑ. කොහාට හරි ගිහින් ඉඳගෙන කතා කර කර ඉමු. ඔයා ගෙදරට කිව්වේ හවස් වෙලා එනවා කියලා නේද...?"

" ඔව්. හැබැයි..., අර තරම් හවස් වෙන්න නම් එපා කියලා අම්මා සැරෙන් කිව්වා...."

යන්න තැනකුත් නෑ. සරණාගතයෝ දෙන්නෙක් වගේ අපි දෙන්නාත් අත් පටලවාගෙන එහාට මෙහාට යනවා.

මේ අයුරින් අපි සංසාරේ...., මේ ලෙස වාටර් වෙන්න ඇති...
මේ අයුරින් අපි දවසක්දා තැනක් නැතුව ඇවිදින්න ඇති...

මට කොටාගේ සිංදුවක කෑල්ලක් මතක් වුනා.

" නෑදෑ ගෙයක් නම් තියෙනවා අරුණි මේ කිට්ටුව..., අපි එහේවත් යමුද...?"

" අනේ බෑ මාලින්ද.... ඔයාලගේ ගෙදරට ආරංචි වුනොත් එහෙම ඔයාටමනේ හොඳ නැත්තේ.."

" මට නම් ප්‍රශ්නයක් නෑ. අපේ ළඟම නෑදෑයොත් නෙමෙයි. ටිකක් දුරින් තමයි නෑයෝ වෙන්නේ.., ඒ වුනාට හරි හොඳයි. මට ගොඩාක් හිතවත්. යමු..., එහේ ගිහින් හවස් වෙනකම් ඉඳලා එමු. නැතුව අපි දෙන්නා වෙන කොහේ යන්නද...?, තැනකුත් නෑ නේ..."

" ඒ වුනාට මාලින්ද.., දන්මම අපි එහේ යන එක හොඳ මදි නේද...?, බඳින්න කළින්ම මම ඒ විදියට එන එක ගැන ඔයාගේ නෑදෑයෝ මොනවා හරි හිතුවොත්.....?"

" බය වෙන්න එපා...,මම ඔයා ගැනත් එයාලට කියලයි තියෙන්නේ. ඒ අය ඔයාවත් හොඳට දන්නවා...."

"මාවත් දන්නවා..!, කවුද ඒ...?", අරුණී පුදුම වෙලා වගේ මගේ දිහා බැලුවා.

"එන්නකෝ යන්න. ගිහිල්ලාම මම අඳුන්නලා දෙන්නම්. ඔයාටවත්, මටවත්

කිසිම ප්‍රශ්නයක් වෙන්නේ නෑ ඒ ගොල්ලන්ගෙන්. ඉතින්..., මාව විශ්වාස කරලා එන්නකෝ...."

"කොහේ ගියත් ඔයා එක්කනේ...., මට ඔයාව විශ්වාසයි. යමු...ඕනෙම තැනකට...",

අරුණි මගේ දිහා බැලුවා. මම හිනාව බොහොම අමාරුවෙන් නවත්තගෙන 176 කරගම්පිටිය බස් එකකට අත දැම්මා.

බස් එක සත්තුවත්ත ළඟින් නවත්තනකොටම අරුණිට තේරුණා කොහාටද යන්නේ කියලා. මෙච්චර වෙලා රවට්ලා හිටිය එක ගැන ලැජ්ජා හිතිලද මන්දා, එයා මගේ අතට ගැහුවා.

"අනේ හරි නරකයි මාලින්ද. ඔයා මාව මෙච්චර වෙලාම මැඩෙව්වා. ඉන්නකෝ..., මමත් ඔයාට දෙන්නම් තියම ලණුවක් කවදා හරි....., දිරවන්න බැරි වෙන්නම..."

"හරි..හරි... බලමුකෝ, ඊට කලින් දැන් අපි දෙන්නා යමු ඇතුලට...."

අපි දෙන්නා සත්තුවත්තට ඇතුල් වුනා. අද සතියේ දවසක් හින්දාද මන්දා, වැඩිය සෙනඟත් නෑ. මුලුම නිස්කලංකයි.

මම අරුණිගේ කොණ්ඩේ අතරින් ඇඟිලි කිඹ්බා. මේ ලෝකේ කිසිම තැනක නැති අමුතුම සුවඳක් අරුණිගේ හිසකෙස් අතරින් විහිදෙනවා. මගේ උරහිස්සට ඔලුව තියාගෙන ඇස් දෙක පියාගෙන ඉන්න අරුණි දක්කහම මුලු ලෝකෙම අමතක වෙලා යනවා. මගේ ජීවිත කාලේ පුරාවට මම හෙව්වේ ඒ සුවඳ විතරයි. දැන් ඒ සුවඳ මගේ ළඟ. ඒත් එක හැමදාටම මගේ ළඟ තියේවිද...?, අරුණිව නැති වෙන එක මට දරාගන්න බෑ. අරුණි නැතුව ජීවත් වෙන්නේ කොහොමද කියලා, මට හිතාගන්නවත් බෑ...

" මාලින්ද..."

" ඇයි...?"

" මම කතා නොකර ඉන්නකොට ඔයාට කේන්ති යනවද...?"

" නෑ. කවදාවත් මට ඔයා එක්ක කේන්ති යන එකක් නෑ. කිසිමදාක මම ඔයාට බනින්නෙත් නෑ. මම ඔයාට ආදරේ කරන්නේ මුලු හිතින්ම...., ඉතින් ඒ

හිතින්ම මම කොහොමද ඔයාට බනින්නේ....?, කතා කරනවට වැඩිය මෙහෙම ඉන්න මමත් ආසයි. කොහොමටත් මට වචන එන්නෙත් නෑ. හිත ආදරෙන් පිරිලා..."

" මම දන්නේ නෑ....මම මේ තරම් ඔයාට ළං වුනේ කොහොමද කියලා. ඔයා දන්නවද මාලින්ද, මම ඔයාට කොච්චර ආදරේද කියලා.."

" ඔව්...."

" කොච්චරද...?"

" මේ...ච...ච...ර....විතර..." , මම අත් දෙක ඈතට දික්කරලා පෙන්නුවා. අපි දෙන්නාටම එක සැරේටම හිනාගියා.

" හරියට පොඩි බබාලා වගේ. ඒත් පොඩි අයට වගේම මටත් ඒ ආදරේ නැතුව ඉන්න බෑ. ඔයාගේ ආදරේ නැති වුනොත් මට මේ ලෝකේ තවත් නැති වෙන්න කිසිම දෙයක් නෑ මාලින්ද...."

"ඒක කවදාවත්ම වෙන්නේ නෑ අරුණි. සමහර වෙලාවට, සමන්ට පුලුවන් වෙයි ටික දවසකට ඔයාව මගෙන් උදුර ගන්න. ඒත්..., එයාට ඔයාගෙවත්, මගේවත් ආදරේ උදුරගන්න බෑ...."

අපිමොහොතකට ගොලුවුනා. ආදරේ කරනවා කියන්නේ බොළඳ දෙයක් තමයි. පන්ඩිතයෝ වගේ ආදරේ කරන්න මට බෑ....,ඒ බොළඳකම ඇතුලේ කොයිතරම් දුක, කඳුල හැංගිලා තියෙනවාද...?, අපි දෙන්නාගේ හිත් වුනත් හඩන තරම් මේ ලෝකේ අනිත් අය දන්නවා නම්....?

වැඩියෙන්ම හිනාවෙන්නේ, විහිලු කරන්නේ හිත ඇතුලෙන් ගොඩාක්ම අඩන අය....,කියලා මැක්සිම් ගෝර්කිගේ ' අම්මා' පොතේ තියෙනවා. අපි දෙන්නා ගැන නම් ඒක සීයට සීයක්ම හරි. හිත ඇතුලේ කඳුලු පොදි ගහගෙන, පිටින් හිනවෙනවා. ඒ හිනාවට යටින්, හිත ඇතුලේ තියෙන දුක......

" ඔයා අම්මාගෙන් ඇහුවේ නැද්ද කැම්පස් යන එක ගැන..., මේ තරම් ඔලුව අවුල් වුන වෙලාවක වුනත්, ඔය තරමට ප්‍රතිඵල අරගෙනත් කැම්පස් යන්න බැරි නම්, ඒක හරි අපරාදයක්...."

" මම හිතන්නෙ නෑ මාලින්ද මට එයාලා යන්න දෙයි කියලා. ප්‍රතිඵල ආවට පස්සේ, මට හිතුනා බලෙන් හරි යන්න ඕනේ කියලා...."

" ඔයා ගෙදරට හොරෙන් ඇප්ලිකේෂන් දාන්න. පේරාදෙණියට දානවා නම් වැඩිය හොඳයි. එතකොට මේ කරදර වලින් ටිකක් හරි මහ ඇරගන්න පුලුවන් වෙයි. අනික, මම අංජලීටයි ගිහාන්ටයි කියන්නම්. එතකොට ඔයාට එහේ ඉඳලම කැම්පස් යන්න පුලුවන්. උන් දෙන්නාත් ගොඩාක් කැමති වෙයි ඔයාව එහේ නවත්ත ගන්න..."

" එතකොට ඔයාට මොකද වෙන්නෙ...?, ඔයා මෙහේ තනිවෙනවා.අපි දෙන්නාට වැඩිය මුණ ගැහෙන්න ලැබෙන්නෙත් නෑ....නේ.."

" ටික දවසකට දුක් විඳින්න වෙනවා අරුණී. සදහටම අපි දෙන්නා වෙන් වෙලා ඉන්නවාට වැඩිය දුක් විඳලා හරි මට ඕනේ හැමදාමත් ඔයාව මගේ ළඟ තියාගන්න. අම්මලාට ඕනේ දෙයක් කියන්න ඉඩ අරින්න. ඒකට කමක් නෑ...., ඔයා කැම්පස් යන්න...."

" ඇප්ලිකේෂන් එක දානවා. පේරාදෙණිය කැම්පස් එක විතරයි ඉල්ලන්නෙ. කොහොමත් මම එහාට හරි ආසයි. හන්තානේ කන්ද.., නුවර..., මාළිගාව...,මල් වත්ත.....කොච්චර ලස්සනද...?"

"ලස්සන නමක් තමයි, ඒ හින්දානේ එදා අනුනමයයි දශම නමයෙන් පරිප්පු කන එක පෙප් කරගත්තේ...."

අරුණී මගේ පපුවට තුරුලු වුනා. ඇස් දෙක පියාගෙන ඉන්න අරුණීගේ ලස්සන....

" ඔයා මට හොරෙන් හීන බලනවද....?", මම අරුණීගේ කණට කෙඳිරුවා. අරුණීගේ සුවඳ මට දැනුනා. ඒ සුවඳ මගේ හිත පුරාම පැතිරිලා. මම.....; වැහිලා තිබුන අරුණීගේ දෙඇස් පෙති මගේ දෙතොල් වලින් සිපගත්තා. එයා ඇස් වහගෙනම හිනාවුනා.

" ලස්සන හීනයක්ද අරුණී..."

" හ්ම්..."

" අරුණී ඔයා අහලා තියෙනවද මිල්ටන්ගේ අර සිංදුව....අරුණී"

" මොකක්ද...?", අරුණී හෙමින් ඇස් ඇරියා. ඒ ඇස් දෙක, මගේ හිත පතුලේම නැවතුනා.

සිහිනෙන් ඔබ මට පෙනෙනවානම්....
අවදී නොවී ඉන්නම්...
කිසිදා ඔබේ අත නොලැබේ නම්....
සැමදා තනිවෙන්නම්...

ආසිරි ගී මැද පෝරුව මත හිඳ..
මහපටැඟිලි බැඳ, අතපැන් වත්කර...
ඔබ කැඳවා යන්නම්....
නැතිනම් තනිවෙන්නම්...

ජීවන ගමනේ බාධක දුක සැප...
එකසේ විඳ ගෙන හිනැහෙනු මැන ඔබ...
තනියට ළඟ ඉන්නම්...
නැතිනම් තනි වෙන්නම්..

" මාලින්ද..."

" ඇයි...?", මම අරුණී දිහා බැලුවා. ඒ ඇස් දෙක කඳුලු වලින් පිරිලා....

" ආයේ කවදාවත් ඒ සිංදුව මතක් කරන්න එපා මාලින්ද..."

අරුණී මගේ පපුවේ ඔලුව තියාගෙන ඉකි ගහන්න පටන් ගත්තා.

# දහඅට

"ඇංජලීගේ අද සුදුම ලස්සනක්නෙ බං තියෙන්නෙ. මම හිතුවේ නෑ. කෙල්ල සාරිය ඇන්දාම මෙ තරම් ලස්සනයි කියලා. ක්ලාස් යද්දි ඇඳගෙන ආවෙම, අර අහල් හයක්වත් උසැ නැති ස්කර්ට් නෙ..."

"එහෙම තමයි බං. මිනිස්සු එන්න එන්නම දියුණු වෙනවා. ඉස්සර විදියට හිතුන හිතුන දෙවල් කරන්න බෑ, බැන්දට පස්සේ....., දන් ඉතින් බෑකුවේ දාපු ජම්ර තැන්පත් ගිණුමක් වගේ තැන්පත්ව, සුවිනීතව, කීකරුව වාසය කරන්න ඕනේ...."

අපි ගැන්සියම එක මේසෙක ඉඳගත්තා. අංජලී මුලින්ම ඉන්විටේෂන් කාඩ් එක දීපු වෙලාවේ නම් මට හිතුනෙ නෑ වෙඩින් එකට එන්න. ඒත්...., අංජලීගෙයි මගෙයි තියෙන්නේ ලේසියෙන් අමතක කරලා දාන්න පුලුවන් තරම් පුංචි මතකයක් නෙමෙයිනේ. ගිහානුත් කීප සැරයක්ම කියපු එකේ, මම මොකටද තදයා වගේ වෙඩින් එකට නොගිහින් ඉන්නේ කියලා මට හිතුනා.

"කොටා....මොකෑ කියන්නේ..,රටත් කාලාම යමුද...?"

අමිල වටපිට බලලා හොරෙන් ඇහුවා. අංජලීගේ යාලුවොයි, ගිහාන්ගේ පැන්නෙනුයි, කෙල්ලෝ අම්බානක ඇවිත් හිටපු හින්දා වෙන්න ඇති ඌ එහෙම ඇහුවේ. හරියට ඊකං මල්වත්තක් වගේ..., පාට පාට මල්....

"රෑ නෙමෙයි බං. සුමාන දෙකතුනක් නොකා නොබී ඉන්න හිතෙනවා දක්කහම. කවුද දන්නේ නුවර කෙල්ලෝ මෙච්චර ලස්සනයි කියලා. දන්නවා නම් නුවර ටවුන් එකේ පර්චස් එකක් අරගෙන කුඩයක් ඉහලාගෙන, හිටගෙන ඉන්නවා..."

"බිංදු මොකෝ උඹ තිකං...කොකටුවෙක් වගේ සද්ද නැතුව කැරකි කැරකි ඉන්නේ..."

"වෙන මොනවා කරන්නද මචං. වචන එන්නේ නෑ [illegible] [illegible]ලා..."

අංජලී ගිහාන්ගේ අතින් අල්ලගෙන හැලියෝ ළඟට ගිහින් කතා කරනවා. අංජලීගේ හිත ඇතුලේ සන්තෝසේ මුන පුරා ඉතිරිලා යනවා. ගිහාන් නිසා එයා කොයි තරම් පාඩුක් වින්දද...? [illegible]න් ඒ හැම දෙයක්ම ඉවරයි.

"අනේ මාලින්ද තරහා වෙන්න එපා. ඇතුලේ වැඩ වගයක් තිබුනා. ඒවාට හිරවෙලා හිටියා. ඒකයි ඔයාලා එක්ක කතා කරන්නවත් එන්න බැරි වුනේ...". නිමාෂිත් අපේ ළඟින්ම ඉඳගත්තා.

"දැන් ඔයාට තමයි තනියම ලයිබ්‍රි අදින්න වෙන්නේ. තනියම යන්න නිකං පාලුයි පාලුයි වගේ නම් ඉතිං...", මම කතාව බාගෙට නවත්තලා නිමාෂි දිහා කැපිල්ලට වගේ බැලුවා.

"අය්යෝ.....කොල්ලෝ නම් එපා. පේනවා නේද වෙන කරදර. කොහෙන් පටන් අරන්, කොහෙන් නවත්තන්න වෙයිද කියලා දන්නේ නෑ. අර සනිල් එදිරිසිංහගේ සිංදුවකුත් තියෙන්නේ තනිකඩකම කොච්චරද අගේ.. කියලා....."

"ඔහොම කියලා ඉතින් විහාගේ ඉවර වුන හැටියෙම කොහෙන් හර [illegible] අහිංසක කොල්ලෙක්ව අල්ලගෙන යදාකාලින ප්‍රාණ ඇපකාරයෙක් කර ගනී[illegible]..."

ගිහාන් යාලුවෝ ටිකත් එක්ක කතා කරන අතරේ අංජලී අපි ළඟට ආවා. අංජලීව මට අයිති කරගන්න ආසාවක් කිසිම දවසක මගේ හිතේ තිබුණේ නැති වුනාට..., අනේ මන්දා අද නම් මනමාලියක් වගේ ඉන්න අංජලීව දැක්කහම පුංචි ඉරිසියාවක් ඇතිවුනා. අපි දෙන්නා අතරේ තිබුනේ මොන වගේ සම්බන්ධයක්ද කියලා විස්තර කරන්න මටවත් එයාටවත් බෑ....."

"ඉතිං..." . අංජලී මගේ දිහා බලාගෙන හිටියා.

"මනමාළී අද හරි ලස්සනයි.... මට ඉරිසියාවේ බෑ.."

අංජලී මුකුත්ම කිව්වේ නෑ. බිම බලාගත්තා. අපි දෙන්නාට කතා කරගන්න ඉඩ දීලා නිමාෂි, බිංදුලා එක්ක කතාවට වැටුනා.

"මම ඇත්තටම හිතුවේ නෑ අංජලී ඔයා මේ තරම් ඉක්මණට බඳීවි කියලා. ..."

"අපි නොහිතන දේවල් විතරයි මාලින්ද මේ ලෝකේ හරියන්නේ...., මම හිතාගෙන හිටපු දේවලුත් ඒ විදියටම හරි ගියා නම්...."

"දැන් ඒවා ඉවරයිනේ අංජලී, ගිහාන් ඔයාට ගොඩාක් ආදරෙයි. දැන් ආයෙමත් ඉස්සර වගේ ප්‍රශ්ණ ඇතිවෙන එකක් නෑ..."

"මාලින්ද...", ගොඩාක් වෙලා කතා නැතුව හිටපු අංජලී හෙමින් මිමිනුවා.

"ඇයි...?"

"ඔයාගෙයි, අරුණි ගෙයි සම්බන්ධෙ දැනගත්ත දවසේ, මට හරියට දුක හිතුනා. ඒ ඇයි කියලා මට තේරෙන්නේ නෑ. සමහර වෙලාවට, අපි දෙන්නා සෑහෙන්න ළංවෙලා හිටපු හින්දා වෙන්න ඇති...."

ගිහානුත් අපේ ළඟට ඇවිත්, මගේ කරවටේ අතක් දැම්මා. මේ අතෙන්ම නේද..., මගේ කකුල කැඩෙන්න යකඩ පොල්ලකින් ගැහුවේ. ලෝකේ හැටි එහෙම තමයි. අද තෝසේ....හෙට වඩේ වෙනවාලු...

"ඉතිං...මචං..., උඹලා අද රෑට මෙහේ ඉන්නවා නේද..?, රෑට ඉන්නෙ මගේ යාලුවෝ ටික විතරයි. රෑ ඉඳලා හෙට උදේ යමු...."

ගිහාන් එහෙම කියද්දි, බිංදුවා මගේ කකුල පාගනවා. ගිහාන් දකියිද මන්දා...,හෙමින් පාගපං යකෝ...!

"අනේ බෑ මචං..ගෙවල්වලට අපි කියලා ආවේ හවස් වෙන කොට එනවා කියලා. දන්නවනේ... මේ දවස් වල ගෙදරින් වීසා කැන්සල් කරන තත්වයක් තියෙන්නේ. අපි පස්සේ දවසක එන්නම්, සුමානයක් දෙකක් නවතින්න වුනත්..."

"එනකොට අරයාවත් එක්කගෙනම වරෙන්. දැන් ඉතින් තනියම නෙමෙයිනේ...., නේද අංජලී...?"

"ඒක තමයි මාත් කිව්වේ...", අංජලී බිම බලාගෙනම කිව්වා.

කවුද කට්ටියක් ආපු හින්දා අංජලීයි, ගිහානුයි නැඟිටලා යද්දි, බිංදු මගේ කණට ළං වුනා.

"දුක තමයි රංජනී....,උඹ කොච්චර කිව්වත් ඇත්ත තත්වේ ඒකයි. අංජලීටත් අප්සට් වගේ..."

මම ඔළුව වැනුවා. කොටා නිමාෂිව බර කතාවකට අල්ලගෙන. දෙන්නා එක්ක හිනාවෙනවා, දඟලනවා. අතපය වීසි කරනවා....ඒක විකාරයයි. දුන් යන්නත් පරක්කු වෙනවා.

"කොටා....අද ගෙදර යන අදහසක් නැද්ද...?"

"නෑ වගේ බං...." , එතකොට නිමාෂිත් මගේ පැත්තට හැරුනා.

"ඇයි....අද ඉන්නේ නැද්ද...?, මම නම් තව සුමානයක් විතර මෙහේ නැවතිලා තමයි ගෙදර යන්නේ..."

"අනේ නිමාෂි එච්චර වද දෙන්න එපා. අලුත් ජෝඩුවනේ..., මේ බැඳපු අලුත කොච්චර දේවල් කරන්න තියෙනවද...?, තනිකරම අනාගතේ තීරණේ කරන්නේ මේ දවස් ටිකේදිනේ..."

අමිලයාගේ කතාව නිමාෂිට තේරුනාද මන්දා. තවත් මේතන හිටියොත්, හොඳටම පරක්කු වෙනවා විතරක් නෙමෙයි අමිලයාගේ සංස්කරණය කරන්න බැරි කටෙන් ඔයිට වැඩිය දේවලුත් කියවෙන්න ඉඩ තියෙනවා. එහෙම වුනොත් නිකං නාගත්ත තමයි වෙන්නේ....

"මාලින්ද යන්න කලින් පොඩ්ඩක් ආයේ අංජලීව මුණ ගැහිලා යන්න...", මම නැගිට්ටද්දි නිමාෂි හොරෙන් වගේ කිව්වා. මම එකපාරටම නිමාෂි දිහා බැලුවා. එයා මගේ බැල්ම මඟ ඇරලා, ඉස්සරහට යන්න ගියා.

"එන්න..."

ටික වෙලාවකින් ආපහු ආපු නිමාෂි මාවත් ඇදගෙන ගිහාන්ලාගේ ගෙදර කෙලවරේම තිබුණ පුංචි කාමරයක් ඇතුලට ගියා. සෙනඟ ඔක්කොම ඉස්සරහා හින්දා, ගෙයි මේ හරියේ කවුරුවත් නෑ. මට කාමරේ ඉන්න කියලා, නිමාෂි එළියට ආවා. කාමරේ එක බිත්තියක ගහලා තිබුනා ලස්සන දිය ඇල්ලක පින්තූරයක්...

"මාලින්ද..." , අංජලී මගේ ළඟ...

"අපි යන්නයි හැදුවේ අංජලී..."

"මට යන්න එපා කියන්න බෑ..නේ දුන්. ඔයා අද ඉන්නවා නම්, මම ගොඩාක් ආසයි මාලින්ද. ඒත්...ඉතින් ඔයාට යන්නම ඕනේ නම්..."

"මම ගෙදරට කිව්වේ නෑ අංජලී....ඒකයි..."

"ඒකමද.....? නැත්නම් හෙට අරුණි අක්කාව හම්බුවෙන්න තියෙනවාද..?" මම හිතාවුනා විතරයි.

"ඔය දෙන්නා වෙනුවෙන් කරන්න පුලුවන් ඕනෙම දෙයක් අපි කරන්නම් මාලින්ද...., ඒත් අපි දෙන්නාට ඉස්සර වගේ කතා කරන්න බැරි වෙයි. දැන් පොඩි ප්‍රශ්ණයක් ආවත් මට තනියම දරාගෙන ඉන්න වෙනවා. කොළඹදි නම්, මට ඕනෙම දුකක් කියන්න ඔයා හිටියා. ඒත්..., දැන් මට එහෙම කවුරුවත් නෑ.."

අංජලීගේ ඇස් දෙක කඳුළු වලින් තෙත් වෙලා. එයා තව මොහොතකින් අඩන විත්තිය මම දන්නවා. මම අංජලීගේ අත් දෙක අල්ල ගත්තා. අපි දෙන්නා එකිනෙකාව බදා ගත්තේ එක පාරටම වගේ. අංජලී මගේ උරහිස්සේ ඔලුව ඔබා ගෙන, ඉකි ගහන්න පටන් ගත්තා.

"මම ඔයාට ආදරේ කළා මාලින්ද. මේක නැවත් හංගාගෙන හිටියොත්, මං පැලිලා මැරෙයි. ඒත්..., දැන් අපි දෙන්නා දෙන්නෙකුගේ. මොන දේ වුනත්, මැරෙන තුරාවටම ඔයාට තිබුණ ඒ ආදරේ මට අමතක කරන්න බෑ. දැන් ඒවා හැම එකක්ම ඉවරයි..."

මම ගොලු වුනා. අපි දෙන්නා තව තවත් ළං වුනා.

"අංජලී..."

ඉකිගහන ගමන්ම අංජලී මුහුණ ඉස්සුවා. එදා නිමාෂිලාගේ ගෙදර වගේම, මගේ දෙතොල් වලට අංජලීගේ සීතල දෙතොල් වල පහස දැනෙන්න පටන් ගත්තා. එයාගේ අතක් මගේ පිට හරහා ගිහින් ආයෙ තවත් තදින් එයා ළඟට ඇද ගත්තා. මේ කරන වැඩේ බරපතලකම දෙන්නාටම තේරුනේ නෑ. [illegible] වෙනවා [illegible]. අංජලී තව නැවත් ඒ දෙතොල් තද [illegible] දතොල් වල සීතල කපාගෙන උණුසුමක් මතුවුනා.

අරුණි අක්කා. !

මගේ ඔලුව ඇතුලේ එක පාරටම ඒ නම විදුලියක් වගේ ගියා. මමත් විදුලියක් වගේ ඒ එක්කම අංජලීගෙන් මෑත් වුණා.

"මම වල් කෙල්ලෙක් නෙමෙයි මාලින්ද. ඒත් ආයේ කිසිව දවසක අපි දෙන්නා ඉස්සර තරම් ළං වෙන්නේ නෑ කියලා හිතුනාම......, අනේ මන්දා මට මොනවා වුනාද කියලා....මට සමාවෙන්න...."

"ඔයා වැරැද්දක් කළේ නෑ අංජලී. මේ ගැන ආයේ හිතන්න එපා. ඔයා හොඳ කෙල්ලෙක් කියලා මම දන්නවා...,මටත් දුකයි අංජලී...."

ගැස්සිලා වගේ මගේ දිහා බලාගෙන ඉන්න අංජලීගේ අත මම සිප ගත්තා.

# දහනවය

"එදා එනකොට ගොඩාක් රෑ වුනාද...?", අරුණියි මමයි පුස්තකාලෙන් එළියට ආවා.

"ඔව්. දහයාමාර එකොළහ විතර වුනා. ගිහාන් නම් කිව්වා රෑ එහේ නැවතිලා පහුවෙනිදා උදේම එන්න කියලා. ඒත්..., තාමත් අර පහුගිය දේවල් මට කොහොම වුනත් අනිත් එවුන්ට නම් අමතක කරන්න බෑ නේ. ඒ හින්දාම රෑ ඉන්නේ නැතුව අපි ආවා....."

"ඒක නම් හොඳයි. මොකද ගිහාන්ගේ යාලුවොත් රෑ හිටියා නම්, විහිලුවටත් මොනවා හරි ප්‍රශ්ණයක් වුනා නම් එහෙම...."

අපි දෙන්නා කැන්ටින් එකේ ඉඳගන්න පුටු දෙකක් හෙව්වා. එක තැනකින් පුටු දෙකක් හොයා ගන්න එක හරි අමාරු වැඩක්. අපි දෙන්නා මූණ ගැහුනෙත් සති ගාණකට පස්සේ. එදාටවත් නිස්කලංකේ කතා කරන්න බෑ.

අපි ප්ලාස්ටික් ගහක් හැදුවොත් ඒකෙත් දෙබලක්ලු...!

"අර අමිල නේද...?, මොකද දන්නේ නෑ කලබලේ කැරකෙන්නේ...?, අපිවද දන්නේ නෑ හොයන්නේ..."

මම, අරුණි කියපු දිහා බැලුවා. අමිල හතර අතට කැමරාව දානවා.

"අමිල.....", ඌ මාව දැක්කා.

"කොහෙද බං යන්නේ...?, මම හැම තැනම උඹලාව හෙව්වා. පිනා චාන්ස් එකක් වැදුනා මනමේ නාට්ටිය බලන්න. අපේ ගෙවල් ළඟ පොරක් මට දුන්නා ටිකට් වගයක් නිකං.., අනිත් එවුන් ඔක්කොම එනවා. කිංදූටයි, ඉසංකාටයි මම කිව්වා. උඹලා දෙන්නාව හෙව්වේ ඇදගෙන යන්න.."

අමිලයා බ්‍රේක් නැතුව වගේ එකසිය ගාණට කියාගෙන යනවා.

"ඉතිං...කවදද බං ඕක තියෙන්නේ...?"

"අද බං..., තුනයි තිහට ලුම්බිනි එකේ..."

මම වෙලාව බැලුවා. දැන් දෙකයි කාලයි. ගහෙන් ගෙඩි එනවා වගේ වැඩනේ අමිලට තියෙන්නේ..., හදට යන්න හදන්නෙත් පැය බාගෙන්...

"කොහොමද යන්නේ....?, අරුණිට ගෙදර යන්නත් පරක්කු වෙයිනේ...",
මම, අරුණි දිහා බැලුවා.

"කමක් නෑ මාලින්ද. කට්ටියම එනවා නම් අපි දෙන්නත් යමු. වැඩිය රෑ වෙන්නේ නැතුව ආපහු එමු. මටත් හරි ආසයි මනමේ බලන්න...., හැබැයි ඉතින් අඳුනන කවුරු හරි දැක්කොත් තමයි වැඩේ...."

"ඒකට තමයි බං ලව් කරනවා කියන්නේ. හිත හිතා ඉන්න ඕනේ නෑ, යමු යන්න. අරුන් ටික, දෙකහමාර වෙනකොට ලයිබ්‍රි එක ඉස්සරහට එනවා කිව්වා..., උඹලා දෙන්නාත් එතනට වරෙල්ලා..."

අමිලයා යන්න ගියා.

"මෙහෙම ගියොත් මිසක්, ගෙදරින් නම් කිසිම දවසක මට ෆිල්ම් එකක්වත්, ඩ්‍රාමා එකක්වත් බලන්න වෙන්න නෑ. අනික මාලින්ද, ඔයාගේ විභාගෙත් ටිකෙන් ටික කිට්ටු වෙනවා. ඒ දවස් වල නම් අපි මූණ ගැහෙන්නෙ නැතුව ඉමු. ඔයාට පාඩම් කරන්න තියෙනවා නේ..., ඊට කළින් හම්බු වෙන මේ දවස් ටිකේ මුළු දවසම ඔයා මාත් එක්ක ඉන්න..."

මම අරුණිගේ අතින් අල්ල ගත්තා.

"මේ අරුණි නංගී...එකක් කියන්නම්. විභාගේ තියා මොනවා තිබුනත්. මට දැන් ඔයාව දකින්නේ නැතුව නම් ඉන්න බෑ. ඒ හින්දා බලෙන් නීති දාගෙන අපි දෙන්නාම දුක් විඳින්න ඕනේ නෑ නේ..."
අරුණි හිනාවෙලා දිව දික් කළා.

"මාර සෙනඟක් නේ බං ඉන්නේ...", කොටා පෝලිම දිහා බලලා කිව්වා. අපි කට්ටියම පෝලිමේ කෙළවරට සෙට් වුනා.

"අද නම් ඔන්න හය හත වෙන කොට ගෙදර යමු. නැත්නම් ඉතින් ආපහු එළියට බහින එක බොරු..., ඊට පස්සෙ විහාගේ ෆේල් වුනාම ඕවාටත් එක්ක තමයි ගෙදරින් බහින්නේ..."

හෝල් එකට ඇතුල් වෙද්දී බිංදු කිව්වා.

"බිංදුයි, මාලින්දයි ඕනේ තැනක හිටපු දෙන්. අපි දැන් උන් ගැන බලන්න ඕනේ නෑ. වරෙන්, අපි ඉස්සරහා පේළියේ ඉඳගමු...."

කොටා, අමිල, අසංක තුන්දෙනාම ඉස්සරහට එනවා.. බිංදුයි., ඉසංකායි අපිට සීට් හයක්, හතක් එහාට ගියා.

"අම්මලා මොකද කියන්නේ...අරුණි..?"
"අනේ මන්දා ඒගොල්ලෝ දැන් වෙඩින් එකට ලෑස්ති වෙනවා. හැබැයි දැන් ටිකක් වැඩේ පස්සට ගිහින් තියෙන්නේ, සමන්ට මේ දවස් වල වැඩ වැඩියි කියලා. කොහොම වුනත්. මේ අවුරුද්ද ඉවර වෙන්න කළින් වෙඩින් එක ෂුවර් එකටම ගනියි..."

ලුම්බිනි හෝල් එක, කළුවරම කළුවර වුනා. වේදිකාවේ මනමේ පෙන්නනවා. අපි දෙන්නා අපේම ලෝකෙක තනිවුනා. අරුණිගේ උනුසුම මට දැනෙනවා.

"ඊට කළින් අපිට මොනවා හරි කරන්න වෙනවා. ඒත්, මට තාමත් හිතාගන්න බෑ.., මොනවා කරන්නද කියලා. විහාගෙටත් තව මාස දෙක තුනකට වැඩිය නෑ. ළඟදිම ඔයාලගේ කැම්පස් තෝරගන්න එකත් කෙරෙයි..."

"ඕවා ගැන ඔච්චර හිතන්න නැතුව ඉමු මාලින්ද. මොන දේ වුනත් මම සමන්ව බඳින්නේ නෑ. මම ඒක ගැන තීරණයක් අරගෙන තියෙන්නේ. අම්මලා මට ගහයි, බනියි. මම ඒකත් දන්නවා. වෙන ඕනෑම දෙයක් වුනා දෙන්...., ඔයා මාත් එක්ක ඉන්න මාලින්ද. ඉස්සරහට වෙන දේවල් ඒ වෙලාවට බලාගමු. අපි දෙන්නාට හිතන්න ඉඩ තියලා අපේ අම්මලා තීරණ ගන්න එකක් නෑ..."

අපි දෙන්නා එකිනෙකාට කොයි තරම් ආදරේ වුනත් මේ වගේ තීරණ ගන්න වුනාම, අපි කොයි තරම් අසරණ වෙනවාද..?, මේ ප්‍රශ්නෙ ගැන හිතන්න හිතන්න දුක වැඩිවෙනවා වගේම ඒකට උත්තරයක් හොයා ගන්නත් බෑ...; ඒ හින්දා අරුණි කියනවා වගේම, කරන්න තියෙන හොඳම වැඩේ වැඩිය හිතන්නේ නැතුව ඉන්න එක. ඒත්...., තව කී දවසක් ඒ විදියට නොහිතා, කල්පනා නොකර ඉන්නද...?, ජීවිතේ පුරාවටම හිත ආදරේ කරපු එකම කෙනා අරුණි විතරයි. ඉතිං..., ඒ ආදරෙත් මගෙන් උදුරලා දාන්න මුළු ලෝකෙම දඟලද්දි, මම විතරක් කොහොමද කල්පනා නොකර ඉන්නේ....?

"මාලින්ද...."
අරුණී රහසින් වගේ මිමිනුවා.

"ඇයි අරුණී. .?"

කතා නැතුව ඉන්න එපා මාලින්ද. සති ගාණකට පස්සේ මුණ ගැහිලත් ඔයා කතා නැතුව ඉන්නකොට මට හරි දුකයි..."

මම අරුණීගේ ඇඟිලි තුඩු මිරිකගත්තා.

මනමේ බලලා ඉවර වෙලා අපි ලුම්බිණියෙන් එළියට බහින කොට 5.45 ට විතර ඇති. අපි දෙන්නා අත් පටලවාගෙන අනිත් උන් එක්ක පාරේ ඇවිදගෙන ආවා.

ඔබ රූ සිරියෙන් මත්මත් වී මම්, නොකෙළෙමි අණුවන කම්....
මුලා වුනේ ඔබ...,මුලා නොවෙමි මම...
මනමේ කුමාරියේ.....

අමිලයා සිංදුව මුමුණන්න පටන් ගත්තා.
"කොහොමත් උඹ වැද්දානේ බං....", කොටා අමිලයාට සිංදුවක් කියන්න දෙන්නෙම නෑ. ඒක නම් ඇත්ත..., ඌ සිංදු කියද්දි අහගෙන ඉන්න එක ටිකක් කේස් වැඩක්.
අපි හයිලෙවල් පාරට ආවා.

"ප්ලේන්ටියක්වත් ගහන්නේ නැතුව අමුවෙන්ම යන්න හදන්නේ..?", අමිල මගේ මූණ දිහා බැලුවා.

"බෑ මචං..., දැන් පරක්කු වෙලා තියෙන්නේ. දන්නවානේ මම මේ දවස් ටිකේ කාලා තියෙන පරිප්පු. තවත් මොකටද ඇදගෙන නාන්නේ...., උඹලා යනවා නම් පලයල්ලා. අපි දෙන්නා ගෙදර යනවා..."

"එහෙම නම් ඉතින් අපිට ඕනෙත් නෑ. ඉසංකාටත් පරක්කු වෙයි...", බිංදු එහෙම කිව්වහම කොටා කැපිල්ලට වගේ හිනාවුනා.

"අමිල ඔන්න බලපං.., වෙනදාට රෑ දහය එකොළහ වෙනකම් අපිව වාටර් වලට ඇදගෙන ගිය එවුන් දැන් හය වෙනකොට ගෙදර යනවා, පරක්කු වෙනවා කියලා...., ආදරේ කටුකයි කියන්නේ ඕකනේ..."

"අනේ මාලින්ද....!"

මගේ අත අල්ලාගෙන හිටපු අරුණී විදුලි සැරයක් වැදුනා වගේ බයවෙලා එයාගේ අත අහකට ගත්තා. අරුණී ඇස් පිය හොලවන්නේ නැතුව බලාගෙන ඉන්නවා.

එකපාරටම මොකද මේ වුනේ....?

"ඇයි අරුණී...", මම එයාගේ මූණට එබුනා. බිංදුලාත් පුදුම වෙලා වගෙ බලාගෙන ඉන්නවා.

"අම්මා...!"

මම ගැස්සිලා පාර දිහා බැලුවා. පාරෙන් එහා පැත්තේ ට්‍රැෆික් එකට නැවතිලා තියෙන බස් එකක් ඇතුළේ ඉඳන්, අරුණීගේ අම්මා අපි දිහා බලාගෙන ඉන්නවා. ගිණි පුපුරු පිටවෙන ඒ ඇස් දෙක දිහා බලාගෙන ඉන්න බැරි හින්දා, මම අහක බලාගත්තා. අරුණීගේ ඇස් දෙකේ කඳුළු පිරිලා. අමිල මගේ කරට අතක් දැම්මා. මට කිසි දෙයක් හිතාගන්න බෑ. විනාඩි ගාණකට අපි හැම දෙනාම ගොළු වුනා.

"දැන් මොකද කරන්නේ මචං..... බිංදු අමාරුවෙන් වචන පිට කළා.

"දැන් ඉතින් වෙච්ච දේ ගැන කල්පනා කරලා වැඩක් නෑ. මම නම් ඔය දේ ගැන මුළ ඉඳලම හිතුවා. ඔය දෙන්නාටම කොයි තරම් තේරුම් කළත් වැඩක් වුනේ නෑ නෙ

අක්කා කියන කිසි දෙයක් දැන් මගේ ඔළුවට වදින්නේ නෑ. මට ඊයේ රෑ පුරාවටම නින්ද ගියේ නෑ. වෙන කරන්න කිසිම දෙයක් තිබුනෙත් නෑ. බිංදුයි, මමයි අරුණීව එයාලගේ ගේ ළඟටම ගිහින් ඇරලවලා ආවා. අරුණීට තියා මටවත් කතා කරන්න බෑ. ප්‍රශ්ණයක් දරුණු විදියට ආවාහම අපි කොයි තරම් අසරණ වෙනවද...?, අරුණීට මොනවා වුනාද...?, එයාගේ අම්මා මොනවා කිව්වද...?, ඒ කිසිම දෙයක් දැනගන්න ක්‍රමයක් නෑ.

"අනේ මන්දා අක්කේ..., මට කිසිම දෙයක් හිතාගන්න බෑ. දැන් ඉතින් කොහොමද අරුණීලාගේ ගෙදර තත්වේ බලා ගන්නේ...?, එයා දුක් විඳිනවා තවත් මට බලාගෙන ඉන්න බෑ. ඒත්...අරුණීව එක්කගෙන ඇවිත් මම මොනවා කරන්නද...?,"

මම අත් දෙකෙන් ඔළුව බදාගත්තා. හතර වටේම වැහි බීරුම වගේ. කාමරේ පුරාම අඳුරු මූසල ගතියක් ඉතිරිලා යනවා..

"දන් ගියොත් මටත් හොඳට දෙක තුනක් අහගන්න පුළුවන්. ඔයා දන්නවානේ අරුණිගේ අම්මාගේ හැටි. සැර කියන්නේ හොඳම එක. වෙන මොනවා හරි ක්‍රමයකින් දනගත්තොත් තමයි. අනික බැරි වෙලාවත් මේ කතාව අපේ අම්මාට ආරංචි වුනොත් මොනවා වෙයිද...?, අම්මාත් උදේම මහරගම හන්දියට ගියා. එහේදිවත් අරුණිලාගේ අම්මා මුණගැහුනොත් එහෙම.."

බිංදුයි, අමිලයි, කොටායි සාලෙට ඇතුල් වුනා. ඒ කියන්නේ මම විතරක් නෙමෙයි මුන් එකෙක්වත් අද ස්කෝලේ ගිහින් නෑ....
"මොනවාද අළුත් ආරංචි...?,"
බිංදු පුටුවකට බර වුනා.

"මුකුත් නෑ බං. බලපං මේ තරම් දවස් ඉවසලා ඊයේම ඕක මාට්ටු වුනානේ..."

"මම බලෙන් උඹලාව ඇදගෙන ආවේ නැත්නම්, මේ මුකුත් වෙන්නේ නෑ. මටත් හෙණ අප්සට් ඒක මතක් වෙනකොට..."

අමිලයා එහෙම කිව්වේ මූඩ් එකත් අඹරවාගෙන.

"පිස්සුද බං...උඹ මේ විකාරනේ හිතන්නේ..."

අක්කා ගේ ඇතුළට ගියා. කොටා හෙමින් මගේ කණට ළං වුනා.

"අපි මුකුත් දන්නේ නෑ වගේ, ඉසංකාව අරිමුද එහේ...., එතකොට විස්තර ඔක්කොම බලාගන්න පුළුවන්. ඇන්ටි ළඟටම වෙලා හිටියත්, ඒ දෙන්නාට වචනයක් හරි කතා කරගන්න පුළුවන් වෙයිනේ හොරෙන්. නැතුව වෙන නම් කරන්න දෙයක් ඇත්තෙම නෑ.. මචං...."

"ඒත් බං...,ඇන්ටි ඊයේ ඉසංකාවත් දැක්කානේ. එයාගේ මූන මතක තිබුනොත් එහෙම ඒකත් අනාථයි...,"

ඒකත් ඇත්ත තමයි. ඔළුව ඇතුලේ කිසිම අදහසක් නෑ. ඔළුව ඇතුල හතර වටේටම හය්යෙන් කැරකෙනවා. එළියේ ගේට්ටුව ඇරෙන සද්දේ ඇහුනේ ඒ එක්කම වගේ. අම්මා වෙන්න ඇති කියලා මට හිතුනා. ඒත්..., අම්මා මහරගමට ගිය ගමන්ම වගේ ආපහු එන්නේ...,මොනවා හරි දනගෙනද...?, මගේ පපුව ගැහෙන වේගේ ඩබල් කළා. අපි කට්ටියම එක පාරට සද්ද නැතුව,

දොර දිහා බලාගෙන හිටියා.

ඇන්ටී....!

මාව එකපාරටම ගැස්සිලා පුටුවෙන් නැගිටුනා. අරුණිගේ අම්මා, අපේ දොර ළඟ. අම්ල, කොටා, බිංදු යකෙක් දකලා වගේ එයා දිහා බලාගෙන ඉන්නවා.

"ඉඳගන්න ඇන්ටී...", මට ඒ වචන දෙක කොහෙන් ආවද මන්දා.

"කෝ අම්මා...?, මට අම්මාව හම්බු වෙන්න ඕනේ..."

"අ[illegible] නෑ ඇන්ටී. සුපර් මාකට් එකට ගිහින් එන්න ගියා...", අක්කා එළියට ඇවිත් එහෙම කියද්දි, ඇන්ටිගේ ඇස් දෙක උඩ ගියා.

"[illegible]යි මේ හැම එකකටම වග කියන්න ඕනේ. පොඩි දවස් වල ඉඳලා එකට හිටපු යාළුවෝ දෙන්නා හින්දා මම කිසි දෙයක දුර දිග හිතුවේ නෑ. මෙච්චර දෙයක් වෙන විත්තිය මම දනගෙන හිටියා නම්, මම අරුණිව මෙහේ පැත්ත පළාතක එවන්නේ නෑ. හොඳම යාළුවා කියලා විශ්වාස කළා මදෑ...."

ඇන්ටිගේ මූණ දිහා බලන්නත් බයයි.

"ඇන්ටී මොකක් ගැනද මේ කියන්නේ...?", මම ඇහුවා.

"නිකං තොත්ත බබෙක් වගේ කතා කරන්න එපා ළමයෝ. මම දන් ඔක්කොම ගැන දන්නවා. සමන් ස්විඩන් වල ඉඳගෙන දන්න දේවල්, මම දන ගත්තේ ඊයේ. අක්කා අක්කාකිය කියා එනකොට, මෙහෙම දෙයක් මම හිතුවේ නෑ. නිකං ජීවිතේටවත් හරි යන්නේ නැති දේවල් කරන්න එපා..."

මගේ ඉවසීමේ සීමාව ටිකෙන් ටික අඩුවෙනවා. අරුණි ආදරේ කරන දේවල් එයාගෙන් උදුරාගෙන, කොහේදෝ නොදන්නා ලෝකෙකට එයාව තල්ලු කරලා දාන්න හදන්නේ ඇයි...?, ඒත් මේ වෙලාවෙදි මම අරුණිගේ පැත්ත ගන්න ඕනේ.

"අපි දෙන්නා අතරේ ඇන්ටී හිතන විදියේ සම්බන්ධයක් නෑ...", මම බිම බලාගෙනම කිව්වා.

"ඔයා නිකං අරුණිව ෂේප් කරන්න හදන්න එපා. මමත් ඔය වයස පහු

කරලා තමයි ළමයෝ නාකි වුනේ. ඊයේ අරුණි මට ඔක්කොම කිව්වා. මම එයාගේ හිතුවක්කාරකම් වලට බය නෑ. අපි එයාට ඕනේ විදියට දඟලන්න දෙන්නෙත් නෑ. මේ අවුරුද්ද ඉවර වෙන්න කළින්, අපි එයාගේ වෙඩින් එක ලෑස්ති කරනවා. ඔය වයසට දුරදිග බලන්නේ නැතුව කරන වැඩවල මෝඩකම් තේරෙන්නෙ පස්සේ තමයි. දන් නම් හිතන්නේ "ආදරේ විතරක් තිබුනොත් ඇති කියලා. මට ඉන්නේ අරුණි විතරයි. මම එයාට කිසිම දවසක නරක ... කරන්නේ නෑ. කොයි අම්මා තාත්තා වුනත් කැමති තමන්ගේ දරුවා සතුටින් ඉන්නවා බලන්න..."

"ඇන්ටිලා අරුණිව සන්තෝසෙන් තියන්න හදන්නේ එයා අකමැති දේවල් කරලා. කෙනෙක් අකමැති දේවල් කරලා කොහොමද සන්තෝසෙන් ඉන්නේ...?, සල්ලි තියෙනවා කියන්නේ හැම දේම තියෙනවා කියන එක නෙමෙයි ඇන්ටි..."

මම හැම හැම්මක්ම පුපුරවලා දැම්මා. තවත් වැනී වැනී ඉන්න ගියොත් මම කොන්ද නැති මිනිහෙක් වෙනවා. අරුණිට අර තරම් දෙයක් කියන්න ශක්තිය තිබුනා නම් ඇයි මම බය වෙන්නේ...?

"නිකං නවකතා වල තියෙන වගේ දෙබස් කියන්න එපා. ස්කෝලේ යන කාලේ තමයි ඔය වගේ ආදරේ තියෙන්නේ. අර චිත්‍රපටිවල ඉන්නෙත් ඔය වගේ අය...තමයි. සමන්ට සල්ලි තියෙනවා, සමන් අරුණිට ආදරෙයි. ඒ දෙන්නාට කරදරයක් නැතුව හැමදාටම සන්තෝසෙන් ජීවත් වෙන්න පුළුවන් හැම දෙයක්ම එයාට තියෙනවා. ඔයාට මොනවද තියෙන්නේ...?, අඩු ගානේ ඉන්න ගෙයක්වත් නෑ. අනික අරුණි ගැන ඔයා නොදන්න ගොඩාක් දේවල් තියෙනවා. එයාට ඉස්සරහට සල්ලි සෑහෙන්න ඕනේ කරනවා. ඒ දේ කවදාවත් ඔයාට කරන්න බෑ. ඔය ළමයි දෙන්නා ලෝකේ ගැන විතරක් නෙමෙයි, අඩු තරමේ ඔයාලා ගැනවත් නොදන්න ගොඩාක් දේවලුත් තව තියෙනවා. අනික..., තමන්ට වැඩිය වැඩිමල්, තමන්ගේ අක්කාගේ වයසේ ඉන්න අරුණි එක්ක යාළුවුනේ, ලැජ්ජාවක් නැතුවද...?"

මට කතා නැති වුනා. කියනවානම් ගොඩාක් දේවල් තියෙනවා කියන්න. ඒත් මම කට ඇරලා ඒකෙනුත් අරුණිට ප්‍රශ්ණයක් වුනොත්......?

"වෙච්ච දේවල් ගැන මම කතා කරන්නේ නෑ. ඒත්...ඇන්ටිත් ඔය තරම් තදින් ඉන්නවා නම් මමත් කවදාවත් මේ සම්බන්ධෙ නවත්තන්නේ නෑ. ඇන්ටිලාට පුළුවන් අරුණිව සමන්ට බන්දලා දෙන්න, එහෙම කරලා එයාගේ අනාගතේ කාලකන්නි කරලා දාන්නත් පුළුවන්. ඒත්..., අපි දෙන්නාගේ ආදරේ නවත්තන්න බෑ..."

මම එක හුස්මට කියාගෙන ගියා.

"කවදාවත් වෙන්නේ නැති දේවල් ගැන මෝඩ කතා කියන්න එපා. මම මේ ආවේ කිසිම දවසක අපේ ගෙදර එන්න එපා කියන්න. ඔයාටත් එක්කයි මං මේ ටික කිව්වේ..."

ඇන්ටි අක්කා දිහා බැලුවා.

"ඕක කියන්නම නම් ඇන්ටි මෙච්චරවෙලා රස්තියාදු වුනේ අපරාදේ. බයවෙන්න එපා ඇන්ටි, මමවත් මල්ලිවත් ආපහු එන්නේ නෑ. ඒත් ඒක හින්දා මේ හැම දෙයක්ම ඉවරයි කියලා හිතන්නත් එපා.කවදාවත් මගෙයි, අරුණිගෙයි යාළුකම නැතිවෙන්නේ නෑ. ගොඩාක් දේවල් පටන් ගන්නෙත් දන් වෙන්න පුළුවන් ඇන්ටි. අපිට සල්ලි නෑ තමයි. අපි ඉන්නෙත් කුලියට..., ඒත් ඇන්ටි මගේ මල්ලිටත් ආත්ම ගරුත්වයක් තියෙනවා. කොච්චර සල්ලි තිබුනත්, මිනිස්සුන්ට හරියට කතා කරන්න ඉගෙන ගන්න..."

"තව දුරටත් මේසා දිගට ගෙනිහින් සමන්ට ආරංචි වුනොත් එහෙම..., මොනවා වෙයිද කියන එක මම දන්නේ නෑ. අන්තිමේදි අපි නරක මිනිස්සු කියලා විතරක් කියන්න එපා..."

ඇන්ටි ඒක නිකං කිව්වේ...අපිව බය කරන්න වගේ, ඇඟිල්ලත් දික් කරලා. ඒක ඇහුන ගමන් එකපාරටම කොටා නැගිට්ටා.

"මෙච්චර වෙලා මනුස්සකමටනේ අපි කතා කළේ. ඇන්ටිලාට එහෙම කතා කරලා තේරෙන්නේ නෑ වගේ. ඇන්ටිලා වෙනින් විදියකට එනවා නම් අපිත් කැමතියි. සමන් නෙමෙයි, මොන යකා ආවත් අපි අත අරින්නෙත් නෑ. ඇන්ටිගේ මහ ලොකු චන්ඩියාට කියලා, පුළුවන් දෙයක් කරන්න බලන්න..., හැබැයි... මේක විතරක් හොඳට මතක තියා ගන්න ඇන්ටි..., යාළුවෙක් වෙනුවෙන් දළිපිහියක් අදින්න විතරක් නෙමෙයි මැරෙන්න වුනත් සෙට්වෙච්ච කොල්ලෝ සෙට් එකක් අපිට ඉන්නවා. ඒ වගේ දේවල් අපිට පුරුදු නැති දේවලුත් නෙමෙයි..."

කොටාගේ කතාවට ඇන්ටි උත්තර දුන්නේ නෑ. කවදාවත් ඇන්ටි ඒවගේ උත්තරයක් නම් බලාපොරොත්තු වෙන්නත් නැතුව ඇති. එයා එක පාරටම පුටුවෙන් නැගිටලා යන්න ගියා. අපි කට්ටියම කතා නැතුව ආපහු ඉඳගත්තා.

"කොටා..."

"ඇයි...?"

"දළිපිහි වලින් වලි වලට බහින්න උඹ ලෑස්තිවුනාට, උඹ දළිපිහියක් අල්ලලාවත් නෑ නේ ඩෝ...."

"එහෙම තමයි ඩෝ කියනකොට කියන්නේ. ඇඟ නැති අපි වගේ එවුන්ට දෙය්යෝ කට දීලා තියෙන්නේ, ඒකෙන් ගහන්න...."

"හැබැයි කොටා..., කටේ හැටියට වැඩත් තිබුනා නම් ඇමරිකන් කාරයට කළින් උඹ හඳට යනවා..."

අපේ එවුන් කියන කිසිම දෙයක් මට ඇහෙන්නේ නැති ගාණයි. මගේ හිත දිව්වේ අරුණි ළඟට. මට මෙහෙම බැනපු එයාගේ අම්මා, එයාට කොහොම බනිනවා ඇතිද...?, අරුණි තව දවස් කීයක් නම් ඒ බැනුම් ඉවසාගෙන ඉඳීවිද...?

# විස්ස

ජීවිතේ කියන්නේ පාළුවෙන්, තනිකමෙන් පිරිලා ඉතිරිලා යන එකක්. අපේ විභාගෙට තියෙන්නේ තව සති දෙක තුනයි. අරුණිව නොදැක, එයාගෙන් ලියුමක්වත් නැතිව, අඩුම ගානේ අරුණිට මොනවද වෙලා තියෙන්නේ කියලා නොදැන ගතවෙන තුන්වෙනි මාසේ තමයි මේ. ගෙදර ඉඳගෙන කිසිම දෙයක් කරන්න හිත නිදහස් කරගන්න බෑ. අවුරුදු දෙකක් මහන්සි වුන විභාගේ වතුරේ යයිද...?, පාඩම් කරන්න හිත හදාගන්නම බැරි හින්දා මම බිංදුලාගේ ගෙදර නතරවුනා.

ආදරේ කියන අකුරු හතර මට දුන්න තරම් ඉක්මණින් ආපහු උදුරගන්න තරම්, දෛවය අකාරුණික ඇයි...?

"මචං...මේ ඔය විදියට නම් මෙ බම්බුව කරන්න බෑ. අරුණිගේ ප්‍රශ්නේ ගැන හිතන්න ඕනේ තමයි. ඒත් ඊට කලින් විභාගේ කරගෙන හිටපං....,අනාගතේ ගැන හිතන්න ඕනේ බං...උඹ මේ විදියට පිස්සු කෙළින්න ගියොත් වෙන්නේ, විභාගේ අනාථ වෙන එක විතරයි. ඊට පස්සේ අරුණිලාගේ අම්මලාට වුනත් උඹට ඕනේ දෙයක් කියලා බනින්න හේතු තියෙනවා....."

බිංදු කියාගෙන යනවා. මම කොට්ටේ ඔළුව ඔබාගත්තා.

"ඇත්ත මචං. උඹ කියන හැම එකක්ම ඇත්ත...බං. ඒත් අරුණි මේ තරම් අසරණ වෙලා ඉන්නකොටවත් මට එයාගේ දුක සැප බලන්න විදියක් නෑ. එයාව ගෙදරින් පිට කොහාටවත් එක්කාගෙන යන්නේ නෑ. සමන් දන්මම ලංකාවට එන පාටකුත් නෑ. ඌ කවදා හරි එනකම් එයාට ඉන්න වෙන්නේ මේ විදියට නම්....මට අරුණි ගැන බයයි බිංදු...."

"බය නොවී හිටපං. අරුණි කිසිම මෝඩ වැඩක් කරන ජාතියේ කෙල්ලෙක් නෙමෙයි. තව සති දෙකයි විභාගෙට. ඔක්කොමට ඉස්සෙල්ලා ඒක ඉවරයක් කරගමු. ඊට පස්සේ බය නැතුව ඕනෙම දෙයක් කරමු. මම හිතන්නේ නෑ සමන්

කාරයා මේ අවුරුද්ද ඉවර වෙන්න කළින් ආපහු එයි කියලා. ඇන්ටි අපිට නොකිව්වාට, මිනිහාටත් මොනවා හරි ප්‍රශ්ණ තියෙනවා කියලයි මට හිතෙන්නේ....."

"ඇන්ටිටවත්, සමන්ටවත් මොන බම්බුවක් වුනත් මට කමක් නෑ බං. උන් හැම එකාම එකතු වෙලා මගේ අරුණිව හිර කරගෙන ඉන්න එක මට තවත් ඉවසන්න බෑ මචං. එයා කරපු එකම වැරැද්ද, මට ආදරේ කරපු එක විතරයි. ඒ වැරැද්දට උන් එකතු වෙලා අරුණිගෙන් පළිගන්නවා...."

මම ආයෙමත්, මූන කොට්ටේ අස්සේ හංගා ගත්තා. හිතේ තියෙන වේදනාව එළියට ගන්න පුළුවන් නම්...., මට කඳුළු මදි වේවි. ඒ වගේම මේ දුක තව තවත් හිතේ තියා ගත්තොත් මාව පැළිලා මැරේවි.

බිංදු මගේ ඔළුව උඩින් අතක් තිබ්බා.

"දැනට ඕවා අමතක කරමු. දන් වරෙන් යන්න, ගණන් ටිකක් හදන්න. මේසති දෙක ඇතුළත දාන්න පුළුවන් හැම පාඩමක්ම දාමු. දන් කොටායි, අම්ලයි එනවත් ඇති. උන් දෙන්නාත් අද රෑ මෙහේ ඉන්නවා කිව්වා...."

"මට බෑ බං..., උඹලා පාඩම් කරපං. ගණන් හදනවා කියලා ඔතනට ආවොත් මට වෙන්නේ පොත දිහා බලාගෙන භාවනා කරන්න විතරයි. අද හවස ඉඳලා, මට ඒ තරමටම අප්සට්. මම ආවොත් උඹලාත් නිකං අනාථයි..."

බිංදු ලයිට් එක නිවලා යාලෙට ගියා. පාළුවයි, තනිකමයි අතරේ මිරිකිලා ඉන්න වෙලාවට හිත කෑ ගහලා ඉල්ලන්නේ තව තවත් තනි වෙන්නමයි. අඳුර, කැලි කපන තරමට ඝණ වුනත් මගේ හිතේ තාමත් පුංචි එළියක් තියෙනවා. ඒ අරුණි..., ජීවිත කාලයක් පෙරුම් පුරාගෙන, පැතුම් පොදි ගහගෙන මගේ ළඟට ආපු අරුණිව මට ලැබෙයිද...?, මගෙන් උදුරලා දායිද...? කියන එක මම දන්නේ නෑ. ඒත් මම එකම එක දෙයක් දන්නවා. මට අරුණිව වත්, අරුණිට මාව වත් නැතිව වෙන ලෝකයක් ගැන හිතන්න බෑ..., එකට පියාඹන්න ඕනේ එක ජාතියේ කුරුල්ලෝ..., එකට පිපෙන්න ඕනේ සුවඳ හමන මල්. ඒ මල් පොඩි කරලා පාගන ලෝකෙක මේ තරම් ලස්සනට ඒ මල් පිපුනේ ඇයි...?

ස්කෝලේ යන කාලේ ඇති වෙන, නැතිවෙන හැම දෙයක්ම ඇඟ ඇතුලේ ලේ වල හැමදාමත් තියෙනවා. අරුණි අක්කා වෙනුවෙන් මගේ හිත කුළුඳුලේම හිතපු ආදරේත් ඒ වගෙයි. ඒත්...ඒක හීනයක් නම් වෙන්න එපා. ආදරේ අහිමි වෙන එක නෙමෙයි මට දරාගන්න බැරි..., අරුණි වෙන කොහේද ලෝකෙකට වෙලා දුක් විඳින එක. කරුවලේ තනියම, මගේම ලෝකේ පාවී...පාවී හිටපු මගේ ඇස් දෙක පියවෙද්දි මට මතක් වුනා මම අරුණිට ලියපු කවියක්.

සීත සඳු හඬවන්නෙපා
තරු කැකුළු ඉකි ගසාවී......
මිදුම් සළු ඉරන්නෙපා
පිණි බිංදු කඳුළු වේවි......
ඔබ දෙනෙතු තෙමන්නෙපා
අනේ මහිතට දුක හිතේවි......
ඔබ මගෙන් මිදෙන්නෙපා
මගේ හිත මියැදේවී...

* * *

"උඹ තව දවස් කීයක් ඔය සෙල්ලම කරන්නද හිතාගෙන ඉන්නේ...?, යකෝ මෝඩයෙක් වෙන්නෙ නැතුව, පාඩම් කරපං...,"

අමිලයා මට කෑ ගහලා පුස්තකාලේ කැන්ටීමේ පෝලිමට ගියා. අමිලයි, කොටායි ඊයේ රෑ කීයටද දන්නේ නෑ බිංදුලාගේ ගෙදර ආවේ. මම දන්නේ උදේ පාන්දර නැගිටින කොට උන් දෙන්නාත් මගේ කාමරේම නිදාගෙන හිටපු එක විතරයි.

"ඔව් බං...මටත් දන් ඒක හිතිලා තියෙන්නේ. උඹලත් වරෙල්ලා රෑ වෙලා. මම හවස ගෙදර ගිහින් ඉතුරු පොත් ටිකත් අරගෙන එන්නම්. දවස් ගාණකින් මම ගෙදර ගියෙත් නෑ..."

"මමත් නිකං...වටෙන් පිටෙන් හොයලා බැලුවා. සමන් ලංකාවට එන්නේ දෙසැම්බර් අගදි විතරලු. අරුණිව ගෙදරින් පිට කොහේ වත් යවන්නේ නෑ. අඩුම තරමේ කඩේකටවත් යවන්නේ නෑ. මේ ළඟදි අරුණිලාගේ ගෙදර තිබිලා තියෙනවා ලොකු පාටියක්. ඔක්කොම වගේ නෑදෑයෝ ඇවිත්. හැබැයි..., පාටිය දාපු හේතුව නම් මට හොයා ගන්න බැරි වුනා. ඒ මොකටද කියන එක තමයි ප්‍රශ්ණෙ..."

කොටා කියාගෙන යද්දි, මාව ගැස්සුනා.
"උඹ කොහොමද ඔච්චර විස්තර හොයා ගත්තේ...?"

"මම ඔය ටික හොයාගත්තෙත්, බොහොම අමාරුවෙන් එක එකාට වැදලා. උඹ කෙළින් හිටපං..., අරුණි පිට් නම් උඹ පිට් නම්, ඉතුරු ටිකට ගහමු මාස්ටර් ප්ලෑන් එකක්..."

"මොන දේ කරන්නත්, අරුණිගෙන් විස්තරයක් දනගන්න එපායැ...."

අපි කට්ටියම ජ්ලේන්ට් බීලා ඉවරවෙලා, කතා කර කරම ලයිබ්‍රියෙන් එළියට ආවා. පව්...! මුත් ටිකටත් මම හිත්දා මේ ප්‍රශ්ණ ඔළුවට දාගන්න වෙලා. යාළුකම කියන්නේ ඒක තමයි. ඒ වුනත් අපි මේ තරම් දුක් මහන්සි වෙන එක, ගහේ පා කරලා අරින්න අරුණිලාගේ අම්මලාට ගතවෙන්නේ පැය කීයද...?

"දන් නම් මචං ලයිබ්‍රි එන එකත් කරදරයක්. මේකෙනුත් වැඩක් නෑ. බස් එකටයි, පාරටයි රස්තියාදු වුනාට පස්සේ පාඩම් කරන්න වෙන්නේ පැය කීයද...?, ඒ ටික වෙලාවටත් අපි කී පාරක්නම් වලට සෙට් වෙනවද...? "

"ඒක තමයි බං මාත් හිතුවේ. අපි එහෙනම් මීට පස්සේ ගෙදරට සෙට්වෙලා පාඩම් කරමු. ඇත්තටම දන් නම් ලයිබ්‍රි එන එක තේරුමක් ඇති දෙයක් නෙමෙයි..."

බිංදු කතාව නවත්තන්න කළින් 138 බස් එකක් ආවා.

"ඔව් කොහොමටත් දන් උඹට ඉස්සර වගේ ලයිබ්‍රි එයෝ චාටර් කාලා වැඩක් නෑ නේ. ඉසංකාත් සෙට් වුනානේ. මෙච්චර දවස් ඕකටනේ කටු කෑවේ..."

කෙටා ෆුට් බෝඩ් එකේ එල්ලුනා. මම බස් එකේ උඩට නැග්ගා. කටුගේ පහු කරලා, වංගුව ළඟදිම බිංදු බස් එකෙන් බිමට පැන්නේ කොටාවත් ඇදගෙනමයි. මාව කොරවුනා. මුන් දෙන්නාට මොකක්ද මේ එකපාරටම හදිසියේ හැදුන තදියම...?

"මාලින්ද ඉක්මණට බැහැපං...!", බිංදු දුවන ගමන් කිව්වා. මාත් හිත හිතා හිටියේ නෑ. අමිලගේ අතින් ඇදගෙන පැන්නා. හොඳ වෙලාවට අහල පහළින් වාහනයක් ගියේ නෑ...

"මොකක්ද බං, එක පාරටම හැදුන අමාරුව..."

කොටා ගහකට මුවාවෙලා, මට ග්ලාස් හවුස් එක දිහා පෙන්නුවා.

අරුණි...!

අරුණි එයාලගේ කාර් එකේ පිටි පස්සේ සීට් එකේ ඉන්නවා අම්මාත් එක්ක..., මගේ පපුව නැවතුනා වගේ වුනා. තත්පරයක් ගියේ නෑ, කාර් පාක් එකේ තිබුණ කාර් එක ඉස්සරහට ඇවිත් වංගුවෙන් හැරවුනා.

ඒ මොහොතට, අපි දෙන්නාගේ ඇස් කතා කළා. අරුණි බය වෙලා තිගැස්සුන මුව පැටියෙක් වගේ, මගේ දිහා බලාගෙන උන්නා.

අරුණිගේ මූනේ තිබුන දුක......

# විසිඑක

එළියේ රතිඤ්ඤා පත්තු වෙන සද්දේ පංතියටත් ඇහෙනවා. ඒ ලෙවල් ඉවරයි. හිතේ බරෙන් ටිකක් ඒ එක්කම සුළඟේ පා වෙලා ගියා. කොහොමටත් ප්‍රශ්ණ පත්තර වල තිබුනේ, මට තියෙන තරමේ බෙල්ල කැඩිලා යන ප්‍රශ්ණ නම් නෙමෙයි. ප්‍රශ්ණ පත්තරේ නම් හැම ප්‍රශ්ණෙකටම උත්තර තියෙන විත්තිය මම දන්නවා. ඒත්..., මට තියෙන ප්‍රශ්ණ...?

"වරෙන් බං එළියට යන්න..., මෙතන මනෝ ගහගෙන හිටියා කියලා විභාගෙට ඒ හතරක් එන්නේ නෑ. වරෙන්...කොහාට හරි ගිහින් ගමමු, නියම ආතල් එකක්..."

කොටා මගේ පිටට තට්ටුවක් දාලා කිව්වා. ආතල් එකක් ගන්න තරම් පිට් එකේ තියෙන ඔළුවක් මට නෑ. උඹලා යන ඕනෙම තැනකට මම එන්නම්. ඒත්..., මගේ ඔළුව හොඳ නෑ බං. උඹට තේරෙන්නේ නෑ කොටා, එදා අහම්බෙන් අරුණිව දකපු වෙලාවේ ඉඳලා මට පිස්සු වගේ මචං. එයා කොහේද ගියේ...?,, ඇයි එහෙම ගියේ...? කියන එක මට තාමත් හෙණ ප්‍රශ්ණයක්..."

බිංදුයි, අමිලයි, අසංගයි මගේ ළඟට ඇවිත් ඉඳගත්තා. එදා අරුණිව දකපු වෙලාවේ එයාගේ ඇස් දෙකේ තිබුන දුක..., ඒ තත්පර ගාණට අපි දෙන්නා කොච්චර අඬන්න ඇතිද...?ඒ මොහොතේ එකපාරට හීනෙකින් නැගිටුනා වගේ අරුණි ගැස්සිලා මගේ දිහා බලාගෙන හිටපු හැටි, ඒ ඇස් දෙක, ඒ බැල්ම මගේ ජීවිතේට අමතක වෙන්නේ නෑ. මුන් ටික ළඟින් හිටියේ නැත්නම්, මම විභාගේ කරන්නෙත් නෑ.

අපි මහ රෑ වෙනකම් පාඩම් කරපු දවස්වලදී, සමහර වෙලාවට මටත් හොරෙන් මගේ ඇස්දෙකෙන් කඳුළු ගලාගෙන ආවා. ඒ අරුණි හින්දා..., කෙල්ලෙක් හින්දා කොල්ලෙක් අඬන එක මහ බොළඳ වැඩක් කියලා සමහරුන්ට හිතෙනවා ඇති. ඒත්..., මේ තරමට මාව සංවේදී කළේ, මගේ හිත අඬවන්නේ අරුණි

විතරයි. ඒ බොළඳකමට මම ආදරෙයි. මහා පණ්ඩිතයෙක් වගේ හැඟීම් වහගෙන, බොරුවට පිටින් ආදරේ කරනවාට වැඩිය ඒ බොළඳකම අවංකයි...

"දැන් ඉතින් දිග නිවාඩුවක් තියෙනවානේ බං. අපි කට්ටියම සෙට් වෙලා මොනවා හරි කරමු. අරුණිව හැමදාම ඔය විදියට හිර කරගෙන ඉන්න අරුණිලාගේ අම්මලාට බෑ නේ බං..., කොයි වෙලාවේ හරි අපිටත් චාන්ස් එකක් එයි. එතකං පපුව කෙළින් තියාගෙන ඉවසාගෙන හිටපං. උඹටත් මේ පුංචි දෙයක් තිබුනාම ඇති, දවස් ගණන් මනෝ ගහගෙන ඉන්න..."

"ඔය බණ කියන එක නවත්ත ගනින් බිංදු. වරෙන් යන්න මරදානට. නියම ෂෝ එකක් දාලා තියෙනවා. අනිත් එවුන් ඔක්කොම යන්න ගියා. ෂෝ එක බලලා, ඊට පස්සේ කොහේ හරි තෝසේ කඩේකින් කාලා බීච් යමු. ඊට පස්සේ එතනත් ඉඳලා..."

අමිලත් කියවන්න ගියාම නවත්තන්නේ නෑ. අතේ තියෙන තුට්ටු දෙකෙන් මූ කියන හැම දෙයක්ම කරන්න නම්, කොහේ හරි තියෙන ලොකු බැංකුවක් මංකොල්ල කන්න ඕනේ.එහෙම නැත්නම් පික් පොකට් ගහන්න ඕනේ....

"හරි බං..., කොහාට හරි ගිහින් කරන බම්බුවක් ඉක්මණටම කරමු. දැන් යමු මෙතනින්. මාලින්ද... මේ උඹට කියන්නේ මචං, අදවත් හිටපං ටිකක් මූඩ් එක හොඳට හදාගෙන. ප්‍රශ්ණ ඉවරයි. නැත්නම් මචං...ප්‍රශ්ණයි ආතලුයි එකට හැප්පිලා ෆුල් අනාත වෙනවා..."

"හරි දැන් යං..."

මමත් නැගිට්ටා.අපි කට්ටියම මරදාන දිහාවට ඇවිදගෙන ආවා. විභාගේ ඉවර වුන හින්දා, හැම එකාම කොහේ හරි හෝල් එකකට රිංගනවා වගේ...., අවුරුදු දෙකක් තිස්සේ කාපු කටු වමාරන එකත් එක්තරා සැපක්නේ...

"දැන් අපේ වැඩ නම් ඉවරයි. ඊළඟට තියෙන්නේ පේපර්ස් බලන එවුන්ගේ වැඩ. උන්ටත් හිතක් පපුවක් තියෙනවා නම්, අපිට මොනවා හරි කරයි. නැත්තං ඉතිං උඩ ඉන්න දෙය්යන්ට හරි, වෙන කාට හරි තමයි සපෝට් එක දෙන්න වෙන්නේ..."

"කොයි එකටත් කියලා තව මාසයක් දෙකක් ගිහින් ෂේප් එකේ රිවිෂන් ක්ලාස් එකකට රිංගන එක හොඳයි වගේ. නැත්නම් ඉතින් රටටත් නෝන්ඩි..., ගෙදරිනුත් පරිප්පු..."

"රිසල්ට් ආවට පස්සෙම බලලා, ක්ලාස් යනවානම් යමු. ආයෙමත් ක්ලාස්

යනවා කියන එක මතක් වෙනකොටත් ඇඟ හීතල වෙනවා. අවුරුදු දෙකක්ම උදේ ඉඳන් හවස් වෙනකම්ම ඇද්දානේ බං. දැන් ටිකක් රෙස්ට් කරමු. අනික...සල්ලි වුනත් නිකංම වතුරේ දාන්න ඕනේ නෑ නේ..., ඒ ලෙවල් කියන්නේ සෙල්ලම් වැඩක්ද...?"

අමිල කියන කතාව නම් ඇත්ත. ආයෙමත් විභාගේ කරන්න වෙයිද...?, එහෙම නැත්නම් මේ පාරම ගොඩ ගිහින් තියෙයිද...?, මට නම් කිසිම දෙයක් හිතාගන්න බෑ. වෙන දෙයක් වුනාවේ. රිසල්ට්ස් එන්න නව මාස ගාණක් තියෙනවා. ඒ මාස ගාණට මොන මොන දේවල් සිද්ධ වෙයිද කියලා කවුද දන්නේ...?

කතාවෙන් කතාවෙන් අපි හෝල් එක ළඟට ළං වුනා. පෝලිමෙන් භාගයක්ම ඉන්නේ විභාගේ ඉවර වෙලා ආපු එවුන්. අපිත් පෝලිමේ කොණකට සෙට් වුනා.

"අඩෝ අමිල.. උඹලත් නැති තැනක් නෑ නේද...?"

පෝලිමේ ඉස්සරහින් සද්දයක් ආවා.. අපේ ඇප්ලයිඩ් ක්ලාස් ආපු එවුන් ටිකක්, පෝලිමේ ඉස්සරහම කවුන්ටරේ ළඟ...

"ඇයි උඹලා මෙහෙ රිංගන්නේ...?, උඹලාගේ ස්කෝලේ හරියේ හෝල් ඇතුලේ ගං වතුරද...?", බිංදුත් දුන්නා රිටන් එක.

"ඒයි අමිල...", ඒ අස්සේ මෙච්චර වෙලා වටපිට බල බලා හිටපු කොටා, අමිලගේ කණට ළං වුනා.

"ඇයි බං...?"

"මේක අම්බානක වැඩිහිටියන්ට පමණයිලුනේ බං. අර බෝඩ් එකකුත් දාල තියෙන්නේ. නිකං නෝන්ඩි නොවී, ආපහු යමුද...?"

මම බෝඩ් එක දිහා බැලුවා.

**වැඩිහිටියන්ට පමණයි.**

**අවුරුදු 18න් පහළ කිසිවෙකු ඇතුල් කරගනු නොලැබේ.**

"ඉතින් යකෝ...අපි ආවෙත් ඒකමනේ. කවුද බං අද වගේ දවසක සම්භාවනීය පස්වෙනි මණ්ඩලයේ චිත්‍රපටියක් බලන්න යන්නේ...,බලපං මේ පෝලිමේ එකෙකුටවත් තාම දහ අටක් නෑ නේ.හැම එකාම අපිත් එක්ක විභාගේ කරපු එවුන්. කිසිම ප්‍රශ්ණයක් නෑ. යන්න දුන්නේ නැත්නම්, මේ හැම එකාටම එළියට යන්න වෙනවනේ . ඒ හින්දා සැලෙන්න එපා මල්ලි..."

කවුන්ටරේ ටිකට් කඩන්න පටන් ගත්තා. ටිකෙන් ටික පෝලිම ඉස්සරහට යනවා. පෝලිම වටේට ගහලා තියෙන දැල් අස්සෙන් බලද්දි, අපිව පේනවා ඇත්තේ නිකං හිරකාරයෝ වගේ. පැය දෙක තුනකටවත් ඔළුවේ ප්‍රශ්ණ අමතක වෙන්න පිල්ම් එකක් බලන එකත් නරක නෑ...

"කෝ සල්ලි දීපං, මම ටිකට් ගන්නම්. උඹලා ගේට්ටුව ළඟ හිටපල්ලා.නැත්නම් මොකටද බං ඔක්කොම එවුන් පෝලිමේ වාටර් වෙන්නේ..."

කොටා සල්ලි එකතු කරගත්තා. කිසි ප්‍රශ්ණයක් නෑ. අනිත් එවුනුත් ඇතුලට ගියා. බලපු ගමන්ම පේනවානේ මූන්ට දහඅට පැනලා කියලා...

කොටා ටිකට් ටිකත් අරගෙන ආවා. යන්තම් හිතට පිටි. ටිකට් දුන්නේ නැත්නම් නෝන්ඩි වෙලා යන්න තමයි වෙන්නේ.

"උඹලා පලයල්ලා ඇතුලට. ගිහින් මටත් එක්ක සීට් එකක් අල්ල ගනිං. මම ටාර් ගාලා ටොයිලට් එකට ගිහින් එන්නම්..."

කොටා එහෙම කියලා, හෝල් එක ඇතුලට එන්නේ නැතුව එළියෙන්ම ටොයිලට් එක දිහාවට ගියා. අපි හෝල් එක ඇතුලට ආවා. ඊහෙන් මෙහෙන් හැම තැනින්ම විසිල් ගහනවා. අපිත් ඉඳගත්තා. හෝල් එකත් හවුස් ෆුල්. යාන්තම් තුන්වෙනි බෙල් එකත් වැදිලා හෝල් එක කරුවල වුනා.

"කිංදු...කෝ බං මේ කොටා, තාමත් නෑ නේ..."
මට වචන නවත්තගන්න ලැබුනේ නෑ. හතර වටෙන්ම හූව පටන් ගත්තා.
හූ......හූ......

"අඩෝ කෝ පිල්ම් එක...?"
"ලයිට් නිව්වා නම් ෂෝ එක පෙන්නපං...ඩෝ..."

හූ.....හූ......හූ......

කොල්ලෝ එක එක කථා කිය කියා, හෝල් එක ඇතුලේ කෑ ගහනවා. එක පාරටම..., අපේ පේලියට ඉස්සරහින් ටෝච් එළියක් වැදුනා. හෝල් එකේ ටිකට් කඩන පොර...ඌ නිකං යකෙක් වගේ...මහා මරුමූස් පෙනුම.

"කට වහගෙන හිටපන් ඩෝ. ෂෝ එක පෙන්නන කම් ඉන්න බැරි නම්, ඇදලා දාන්න කලින් බැහැපං එළියට..., අපිට ඕනේ වෙලාවටයි අපි ෂෝ පෙන්නන්නේ..., මේ ස්කෝල්ලේ යන වල් බල්ලෝ දා ගත්තහම...."

ඌ ඒක කිව්වා විතරයි, සද්දේ කොහෙන් ගියාද දන්නේ නෑ...ඔක්කොගෙම

කටවල් වැහුනා. මේ යකා මරදානේ පොරක් කියලා හැමෝම දන්නවා. බැරි වෙලාවත්...,

"මූ හෙන මදාවියා බං...", අමිල කෙඳිරුවා. තාමත් කොටා නෑ.

"අමිල උඹ හිටපං..., මම ගිහින් අරුව බලලා එන්නම්. අපි ඉන්න තැන හොයා ගන්න බැරුව වාටර් වෙනවද දන්නේ නෑ...."

මම එළියට ඇවිත් ටොයිලට් එක පැත්තට හැරෙද්දිම, ෂූ...පාරක් ආවා. කොටා හෝල් එකෙන් එළියේ...!

" මේ මොකද බං...?, උඹ එළියට වෙලා බම්බු ගහනවද..? අපි මේ උඹ එනකම් බලං ඉන්නවා..."

"බලන් ඉන්නවා නෙමෙයි..., අරුන් දෙන්නාවත් ඇදගෙන එළියට වරෙං..."

"පිස්සුද බං...?, සල්ලිත් දීලා ටිකටුත් අරගෙන ඉවරයිනේ. මොකක්ද අප්සට් එක..."

"අරුන් දෙන්නාව අරං වරෙන්. බං..., විස්තර කිය කියා ඉන්න බෑ. මං යනවා උඹ එනවා නම් වරෙන්..."

කොටා යන්න ගියා. මූට මැන්ටල්ද...?, නැත්නම් වෙන මොකක් හරි ප්‍රශ්ණයක්ද...?, මම, බ්‍රිංදුවයි අමිලවයි ඇදගෙන හෝල් එකෙන් එළියට ආවා.

"කොටා මොකක්ද බං සීන් එක...?, මේ විදියට සල්ලි වියදම් කරලා පිස්සු කෙළින්නේ ඇයි...?, නැත්තං ටොයිලට් එකට ගියාට පස්සේ උඹේ මොනවා හරි අඩුයි කියලා තේරුනාද...?"

"මාර නෝන්ඩියනේ බං මට වුනේ..., අර ටිකට් කඩන එකා මට කිව්වනේ තමුසෙට ඇතුලට යන්න දෙන්න බෑ, පොඩි වැඩියි කියලා..., මට කතා නෑ. මම අඩලා වගේ පොරට බටර් ගාලා පානියක් දාන්න හදද්දී, ඌ හෙන හය්යෙන් සෙනඟ ඉස්සරහම කෑ ගහලා මාව නෝන්ඩි කළා බං. චිහ්...! මෙහෙම නෝන්ඩියක් නම් ජීවිතේට කාලා නෑ.

කොටා කතාව නවත්තද්දිම බිංදුට බකස් ගාලා හිනා ගියා. අපි ඔක්කොටම හිනා. අමිලයා තාප්පෙට හේත්තු වෙලා බඩ අල්ලාගෙන හිනාවෙනවා.

"ඌ වෙන මොනවද කිව්වේ...?"

ගායේ කියන්නෙ නෑ, පොඩි එවුන් ඒ විදියට ඉන්න ඉගෙන ගනී. ...

කලිසම ඇන්දාහම උඹලා හිතන්නේ අපි කියලද...?, පොලීසිය අවොත් අපිත් ජීවං වෙනවා. දොට්ට දාන්න කළින් බැහපං එළියට...,ඔයිටත් වැඩිය දේවල් කිව්වා. වටේම එවුන් මගේ දිහා බලාගෙන. නෝන්ඩිය එකසිය ගාණට නැගලා. මම හෙමිහිට ෂේප් වුනා. හොඳ වෙලාවට මාලින්ද උඹ ආවෙ. නැත්නම් මම එතනින්ම මාරු වෙනවා..."

"ඕකට තමයි මල්ලී, නිකං තියෙන අහවල් එකේ වෙජිමයිට් ගාගන්නවා කියලා කියන්නේ..., කොටා උඹ සැලෙන්න එපා. රුපියල් විස්ස වතුරේ ගියා විතරනේ බං..."

අමිලයා කිව්වා. මම කොටාට හොරෙන් අමිලගේ කණට ළං වුනා.

"පව්...!, උඹ ඕක ගැන කියලා ඌට කැපිලි දාන්න එපා..."
අමිලයා ඔළුව වැනුවා. අපි ටවුන් හෝල් යන බස් එකකට නැග්ගා.

# විසිදෙක

දවසින් දවස ගෙවිලා යන්නේ කිසිම හැඟීමක් නැතුව. අරුණි ගැන මොනවත් ආරංචියක් නෑ. අපි කට්ටිය දවස් කීයක් නම් අරුණිලාගේ ගෙවල් පැත්තේ රස්තියාදු වුනාද...?, එයාලගේ ගෙදර ගේට්ටුව වහලා. මිනිස්සු ඉන්නවාද කියලාවත් පේන්න නෑ. එකම එක දවසක් අපි ගේ ළඟ ඉන්නකොට අරුණිලාගේ තාත්තා කාර් එකේ යනවා දැක්කා..., එච්චරයි.

"අපි කට්ට කැවට, අරුණිව වෙනින් දිහාවක නවත්තලාද දන්නේත් නෑ බං..."

බිංදු කියපු කතාව ඇත්ත කියලා වෙලාවකට මටත් හිතෙනවා. ඒත්, කී දවසක් නම් මේ විදියට එයාව තැන තැන හංගලා තියන්න පුළුවන්ද...?, ඕනෙම දෙයක් වුනාදෙන් කියලා මට හිතෙනවා, කඩාගෙන බිඳගෙන අරුණිලාගේ ගෙදරට යන්න. ඒත් එහෙම ගියා කියලා වුනත් අමුතුවෙන් වෙන සෙතක් නැහැනේ. බැහැපන් බල්ලා දොට්ට...කියලා අරුණිගේ අම්මා හරි තාත්තා හරි කිව්වොත්...!, මටත් තද වෙලා මොනවායින් මොනවා වෙයිද කියන්න බැහැ...

ගෙදර ඉන්නත් බෑ. කම්මැලිකම පිරිලා ඉතිරිලා යනවා. එක දිගටම ස්කෝලෙයි ක්ලාස් වලටයි ගිහින්, දැන් නිකං ඇඟටත් අප්සට් එක තැනක ඉන්නකොට. කම්මැලිකම කියලා ඕනෙවට වැඩිය ගමන් බිමන් යන්නත් බෑ, අම්මා කෑ ගහනවා රස්තියාදුවේ යනවා කියලා...

"මේ..., ඔයා දන්නවද වැඩක්...?, මට ජොබ් එකක් සෙට් වෙයි වගේ ඉක්මණටම..."

අක්කාත් මිදුලට ආවා. මෙයාවත් ගෙදර ඉන්න එක හොඳයි. නැත්නම් ඉතින් කම්මැලිකම මීටත් වැඩියි.

"කොහෙද...?"

"අර තාත්තාගෙ යාළුවා, සෙනෙවිරත්න අංකල්..., අන්න එයාලගේ ඔෆිස් එකේ. දිගටම නෙමෙයි, කැම්පස් පටන් ගන්නකම් විතරයි. ඒත් කමක් නෑ හලෝ..., තව මාස කීයක් නම් මෙහෙම බලාගෙන ඉන්න කියලාද...?, ඊට වැඩිය හොඳයි අතට කීයක් හරි හම්බු වෙනවා නම්. එතන පඩිත් හොඳයිලු..."

"පඩි හොඳ නම් බල බලා ඉන්න එපා. කැම්පස් පටන් ගන්නකම් ගෙදරටම වෙලා ඉන්න එකේ තේරුමක් නෑ නේ. මටත් එතකොට බයක් නැතුව ලෝන් පාරක් දාගන්න පුළුවන්නේ..."

"ඉන්නවා තමුසේ කට ඇරගෙන බලාගෙන. මේ....ඒක නෙමෙයි, අරුණි ගැන කිසිම ආරංචියක් නැද්ද මල්ලී...?"

මාව ගොළු වුනා. තමන්ගේ හොඳම යාළුවා අසරණ වෙලා ඉන්න එක ගැන අක්කාට දුක විත්තිය මට තේරෙනවා. මට ඊටත් වැඩිය දුකයි කියලා අක්කාත් දන්නවා. ඒත් අපි දෙන්නා ඒ හැම එකක්ම හිත ඇතුලේ විතරක් තියාගෙන ඉන්නවා.

"නෑ අක්කේ. එදා අර අහම්බෙන් දැක්කාට පස්සේ නිකමටවත් දැක්කේ නෑ. කිසිම විස්තරයක් ආරංචි වුනෙත් නෑ. අනේ මන්දා අක්කේ..., මම මොනවා කරන්නද කියලා. මම හින්දා එයාට ගෙදරටම හිරවෙලා ඉන්න වුනා. අපි දෙන්නාට තව ඉස්සරහදී, මොන මොන දේවල් වෙයිද හිතාගන්නවත් බෑ..."

"ගිය දේ ගියා. දැන් කරන්න තියෙන දෙයක් බලමු. මගේ අනිත් යාළුවෝ වුනත් මේ සිද්ධිය හින්දා අරුණිලාගේ ගෙදර යන්න බයයි, ඇන්ටි බනියි කියලා. අනික..., මට බැනපු එක හින්දා එක යාළුවෙක්වත් ඇන්ටිත් එක්ක හොඳ නෑ. සඳමාලි, නිරූපමා, මනීෂා උන් ඔක්කොම කියන්නේ එකම කතාව..."

මම මිදුලේ තිබුන බංකුවේ ඉඳගත්තා. මේ බංකුව උඩම, අපි තුන්දෙනා කොයි කරම් දේවල් පැය ගණන් කතා කරන්න ඇද්ද...?, දැන් ඒ හැම දෙයක්ම අතීතයක් විතරයි.

"මට හිතාගන්න බැරි අක්කේ...මැයි මාසේ එන්න හිටපු සමන් මොකද තාම නැත්තේ කියලා. ඇන්ටිලාට මේ කිසි දෙයක් සමන්ට කියන්න බෑ. එහෙම කියලා සමන්ව තරහා කරගන්නත් ඇන්ටිලා බයයි. එයාලා දැන් හැම තැනටම කියලා තියෙන්නේ අරුණි, සමන්ව බඳිනවා කියලා..."

"මම හිතන විදියට සමන් අළුතෙන් බිස්නස් එකක් පටන් අරගෙන

ස්වීඩන් වල. ඒ හින්දා තමයි මිනිහා එන්නේ නැත්තේ. සමන්, ඔයාගෙයි අරුණිගෙයි සම්බන්දේ දැන ගත්තත්, අරුණිව බඳින එක නවත්තයි කියලා මම නම් හිතන්නේ නෑ. මිනිහා ආදරේ ගැන අඳුනන්නේවත් නැති යකෙක්..."

ගේට්ටුව ඇරෙන සද්දෙට, මම පාර දිහා බැලුවා.

බිංදුයි, කොටයි..., කොටාව දකිද්දි කාමත් හිනා යනවා එදා සීන් එක මතක් වෙලා.

"ගෙවල් තෙමෙනවද...?"

"ඔව් අක්කේ, තෙමෙන්නේ නැති ගෙයක් හොයගෙන ආවේ ඒකනේ..."

උන් දෙන්නාත් බංකුව උඩ ඉඳගත්තා.

"මම ඉසංකාට කිව්වා ෂේප් එකේ අරුණි අක්කාලාගේ ගෙදර ගිහින් මොනවා හරි විස්තරයක් හොයාගෙන එන්න කියලා..."

"ඉතිං...!, ඉසංකා ගියාද...?", මම ඉවසිල්ලක් නැතුව ඇහුවා.

"ගියා බං. ඉසංකා ගිහින් ඇන්ටිට කියලා අරුණි අක්කාගේ පරණ ප්‍රශ්ණ පත්තර ටික ඉල්ලගන්න ආවා කියලා. අරුණි අක්කා කාමරේ ඇතුලේ ඉඳන් ඇවිත් ප්‍රශ්ණ පත්තර ටික දීලා. ඒත් මචං ඉසංකා යනකම්ම ඇන්ටි ළඟට වෙලා ඉඳලා තියෙන්නේ. වචනයක්වත් විස්තර අහගන්න බැහැලු. ඉසංකා ඉඳන් කිව්වා, අරුණි අක්කාව හොඳටම ඇදිලා ගිහිල්ලාලු. අසනීපෙන් ඉන්නවා වගේලු පෙනුනේ..."

මම දිග හුස්මක් ගත්තා. අරුණි ළඟ ඉඳගෙන, එයා වෙනුවෙන් වචනයක්වත් කථා කරන්න මට බැරි නම්..., මට හිතාගන්න බැරි එයා මේ හැම එකක්ම මෙච්චර කල් විඳගෙන ඉන්නේ කොහොමද කියලා. මම අරුණිගේ හිත් අඳුනනවා. එයා හරිම සංවේදියි. පුංචි දේකටත් හා පැටියෙක් වගේ බය වෙනවා. ඒ තරම් සංවේදී අරුණි, දැන් හැම දුකක්ම, තනියම දරාගෙන ඉන්නවා.

"මොකද කරන්නේ...?, ඕනේ බම්බුවක් කියලා යමුද අරුණිලගේ ගෙදර..."

මටත් හිතෙනවා එහෙම කරන්න.ඒත්...?

අපි තුන්දෙනාම මගේ කාමරේට ආවා. ඇඳ උඩින් ඉඳගත්තු අපි, එක එක ප්ලෑන් හිතුවා...අරුණිව මුන ගැහෙන්න. ඒත්...ඒ කිසිම එකක් හරියටම හරියයි කියලා හිතන්න බෑ.

අපේ අක්කා කාමරේට ඇතුල් වුනේ ඒ එක්කම..., එයාගේ මූන සන්තෝසෙන් පිරිලා.

"මල්ලි ඔයාට ලියුමක්. ෂුවර් එකටම අරුණිගෙන්. කවරේ තියෙන අකුරු එයාගෙමයි...."

අක්කා කතාව ඉවර කරන්න කළින්, මම පැනලා ලියුම ගත්තා අතට. මම ලියුම් කවරේ ගත්තා නෙමෙයි, උදුරා ගත්තා..., කවරේ ඇතුලේ තිබුනා පුංචි සුභ පැතුම් පතක් එකක් ලියුමක්. මම කාඩ් එක දිග ඇරියා...

උසස් පෙළ කඩ ඉම ඉහලින්ම ජය ගන්නට, ඔබට ශක්තිය හා ධෛර්ය.

- අරුණි -

මගේ හිත ගැස්සිලා ගියා. අපේ විභාගෙට කළින් එයා මේ ලියුම ලියන්න ඇත්තේ. මම සුදුපාට කොලේක තිබුන ලියුම දිග ඇරියා.

දයාබර මාලින්ද...

මේ ලියුම කොහොම කොතනින් පටන් ගන්නද කියලා මට හිතාගන්නවත් බෑ. එදා අපි මනමේ බලපු දවසේ ඉඳලා නාමත් මම ඉන්නේ හීනයකද කියලා වෙලාවකට මට හිතෙනවා. අපේ අම්මා ඔයාලගේ ගෙදර ආවා කියලා මම දන්නවා. එයාලා මට ගෙදරින් එළියට යන්නවත් දෙන්නේ නෑ. කොටින්ම එයාලා මාව හිරකරගෙන වගේ ඉන්නේ. ඒත් හැමදාටම මාව මෙහෙම තියාගෙන ඉන්න බෑ. මම දැන් අම්මා එක්කවත්, තාත්තා එක්කවත් කතා කරන්නේ නෑ. කන්න බොන්න තරම්වත් පිරියක් මට නෑ. නොකා නොබී හිටපු හින්දා වෙන්න ඇති, පහුගිය දවස් වල මට හොඳටම අසනීප වුනා. උණ හැදුනා. ඒක අඩු වුනේ නැහැ. අන්තිමේදී, අම්මලා මාව බලෙන්ම ප්‍රයිවට් හොස්පිට්ල් එකක නැවැත්තුවා. මාව බලන්න ආපු ඩොක්ටර්ස්ලා කිව්වා, ඇඟට වෛයිරසයක් ගිහින් ලු. අවුරුද්දක් දෙකක් යන කම් හොඳටම රෙස්ට් කරන්න කිව්වා. දිගටම බේත් ගන්න කියලත් කිව්වා. සති දෙකක් විතර මම හොස්පිට්ල් එකේ හිටියා. එදා ගෙදර එනකොට තමයි, ඔයාව දැක්කේ. ඒ වෙලාවේ මගේ හිතට දැනුන සතුට මෙච්චරයි කියලා කියන්න බෑ මාලින්ද...

අනේ මාලින්ද, මම මේ හැම දෙයක්ම ඉවසාගෙන ඉන්නේ අපි දෙන්නා වෙනුවෙන්. ඔයා මම ගැන හිතන්නේ නැතුව කොහොම හරි පාඩම් කරලා, විභාගේ හොඳට කරන්න. සමහර වෙලාවට මේ ලියුම ඔයා අතට ලැබෙන කොට විභාගේ ඉවර වෙලා තියෙන්නත් පුළුවන්. කොහොම වෙතත් ඔයා විභාගෙ හොඳට කරයි කියලා මම හිතනවා. සමන් තව මාස දෙකක් යන්න කළින්, ලංකාවට එනවා කියලා ලියුමක් එවලා. ආපු ගමන්ම වෙඩින් එක ගන්නයි එයාලා හදන්නේ. මාලින්ද..., ඊට කළින් ඔයා ඕනෙම තීරණයක් ගන්න. ඔයා කියන ඕනෙම තැනකට, කියන වෙලාවකට මම කොහොම හරි එන්නම්. අපි දෙන්නාට ප්‍රශ්ණ ඇතිවෙයි. ඒ මොන දේ වුනත්, මට සමන්ව බඳින්න නම් බෑ.

හැමදාම හැම මොහොතකම, මම ජීවත් වෙන්නේ ඔයා නිසා. මට ඒකත් නැති සාප්පුනයි අම්මලා හදන්නේ. මේ ලියුම ලියන්නෙත් හොරෙන්, හදිසියෙන්. අපේ ගෙදරට ලයිට් බිල දෙන්න ආපු අයියා කෙනෙක් අතේ, මම මේක තැපැල් කරන්නේ. තාමත් මට සනීප නෑ. සැහෙන කලක් යයි කිව්වා, හොඳ වෙන්න. මම පරිස්සම් වෙන්නේ ඔයා නිසා.

අක්කා, බිංදු අජිල, ප්‍රභාත්, ඉසංකා....යාළුවෝ ටික ඔක්කොම මතක් කළා කියන්න. අපි දෙන්නා අවාසනාවන්ත වෙන එකක් නෑ. දුක විඳගෙන හරි ජීවත් වෙන්න, මම ඔයා ළඟට එනවා.. අපේ අම්මලා ඒකට ඉඩ දෙන්නෙම නැත්නම්, කවදා හරි මම මැරෙන්නේ ඔයා ළඟට ඇවිත් මාලින්ද...

කලබල නොවී වැඩ ටික හරියට කරගෙන යන්න. හැමදාම මම ඔයා ළඟ.

ඔයාගෙම,

*අරුණි*

ලියුම කියවලා ඉවර වෙද්දි, හිත ඇතුලේ තිබුණ දුක ඇස්පියන් අග කඳුළු බිංදුවක් වෙලා තිබුනා. අක්කා, බිංදු, කොටා, මගේ දිහා බලාගෙන ඉන්නවා, මම කඳුළු අතරින් දැක්කා.

* * *

අක්කටත් රස්සාවක් ලැබුනා. උදේ පාන්දරම ගෙදරින් යන එයා ආපහු ගෙදර එන්නේ ගොඩාක් හවස් වෙලා. මම ගේ ඇතුලේ තනිවෙලා. බිංදුත් දවස් දෙක තුනකට ගමේ ගිහින්. ගෙදර ඉඳගෙන අරුණි අක්කා එවපු ලියුම මම සිය පාරකට වැඩිය බලන්න ඇති. ඒ ගාණටම මම අඬන්නත් ඇති. සමන් ලංකාවට ආපු ගමන් අරුණිව බඳින එක දන් ස්ථිරයි. ඊට කලින් මම ඉස්සර වෙන්න ඕනේ. නැත්නම් මුළු ජීවිතේටම තියෙන එකම බලාපොරොත්තුවත් මගෙන් මිදිලා යයි. අරුණි මගෙන් වෙන් කරලා තියෙන හැම තත්පරයක් ගානෙම, තව තවත් මම එයාට ළං වෙනවා. හැම මොහොතෙම මගේ හිතට එන්නේ අරුණි විතරයි. මගේ උරහිසේ ඔළුව හංගගෙන හිටපු අරුණියි මායි අපි දෙන්නාගේ අනාගතේ ගැන කොයි තරම් දේවල් කතා කරන්න ඇතිද...?, කැම්පස් ගිහින් ඉගෙන ගෙන, රස්සාවක් කරලා, අපේම ගේකට එකතුවෙන හැටි, ඒ හැම දෙයක්ම හීනයක් විතරයි කියලා කොහොමද මම අමතක කරන්නේ...?

මම මේසේ පුරාම තියෙන කොළ කෑලි එකතු කළා. නින්ද යන්නේ නැතුව ඉන්නකොට මහ රෑ නැගිට්ලා, ලයිට් එක දාගෙන හිතට එන එන දේවල් මම කොළ කෑලි වල කුරුටු ගෑවා. රෑට නින්ද යන්නෙත් නෑ, කිසිම දෙයක් හිතෙන්නෙත් නෑ, කන්න බොන්න පිරියක් නෑ, අන්තිමෙදි මට පිස්සු හැදෙයිද දන්නෙත් නෑ.....

මේසේ කෙරවලේම තිබුන කොළ කෑල්ලක් මගේ ඇහැ ගැටුනා.

බලන්න...,
සීතලම සීතල කඳුලැල්
දෙනෙතු අස රැඳෙනවා,
සෙනෙහසේ සුවඳ බිඳු...
හදවතේ ගලනවා.
අහන්න...,
පුංචි මලිත්තන් අපි ගැනම
කවි සින්දු ගයනවා,
රත්තරන් ආදරේ...
මුමුණන්න හදනවා.
හිතන්න...,
සුදුම සුදු සිහින මල්
මෙකප තුල පිපෙනවා,
එතෙක් ඉවසන්න...
මහද ඔබ අසළ
ඉකිගසා අඬනවා...

මගේ ඇඟිලි වලට මිරිකිලා ගිය කොළ කෑල්ල, පොලව උඩට වැටුනා. මම මේසේ උඩ ඔළුව ගහගත්තේ, මගේ හිත මටම කීකරු නැති නිසා..., මම තවත් කොච්චර කාලයක් නම් මේ දුක විඳින්නද...?, ආදරේ කරන එක සෙල්ලමකට ගත්තා නම්, මේ වගේ දුකක් හිතට එන්නේ නෑ. ඇයි දෙවියනේ මේ තරම් මට දුක් දෙන්න නම්, මට ආදරේ හොයලා දුන්නේ..?

මගේ ඇස් වල කඳුළු පිරෙන්න පටන් ගත්තා. මේ දුක නැති කරගන්න නම්, කරන්න තියෙන්නේ, එක්කෝ අරුණිව මගේ ළඟට ගන්න එක...එහෙම නැත්නම් මාව මැරිලා යන එක. මට මැරෙන්න බැහැ. මගේ රත්තරන් අරුණි වෙනුවෙන් දුක් විඳගෙන හරි ජීවත් වෙන්න ඕනේ. කාත් කවුරුවත් නැති, මගේ පාළු කාමරේ මේසේ උඩ ඔළුව ගහගෙන මම ඇඬුවා.

"ඔයා ගෙදරටම වෙලා හිත හිතා ඉන්නේ නැතුව, එක්කෝ ලයිබ්‍රි එකට යන්න...එහෙම නැත්නම් මොකක් හරි කෝස් එකක් කරන්න. නැත්නම් ගෙදරට වෙලා කල්පනා කර කර ඉඳලා ඔයාවත් ලෙඩ වෙයි...."

අක්කායි මායි, සාලේ ඉඳගෙන ටී.වී බැලුවා. වැඩ ඇරිලා ආපු වෙලාවේ ඉඳලාම අක්කා ඉන්නේ මගේ ළඟමයි.එයාත් එක්ක කතා කළාම හිතේ තියෙන බර ටිකක් අඩු වෙලා යනවා. අම්මාත් හැම වෙලේම අහනවා මොනවාද කල්පනා කර කර ඉන්නේ කියලා...?, ගෙදරට මූන දෙන්න බෑ. හෙට උදේවත් යනවා බිංදුලාගේ ගෙදර..., මම හිතා ගත්තා.

"ඒක නෙමෙයි මල්ලි, අපේ කැම්පස් ඇප්ලිකේෂන් කෝල් කරලාලු. ඔයාට මම සල්ලි දෙන්නම්, ගිහින මටයි අරුණීටයි ඇප්ලිකේෂන් දෙකක් අරගෙන එනවද...?, මම එයාගේ එකත් පුරවලා දෙන්නම්. අපේ ගෙදර එඩ්‍රස් එක දාලා එයාගේ ඇප්ලිකේෂන් එකත් දාමු."

"මමයි බිංදුයි, හෙට උදේ ගිහින් අරගෙන එන්නම්..."

"අපේ ස්කෝලේ කානිවල් එකක් තියෙනවා ලබන මාසේ අන්තිමට වගේ..., අපි යාළුවෝ ටිකත් එකතුවෙලා ස්ටෝල් එකක් කරන්න හිතාගෙන ඉන්නේ. නිරුපිලාගේ ගෙදරින් සල්ලි දෙන්නම් කිව්වා. කෙල්ලෝ හැම එකාටම දුකයි අරුණී නැති එක ගැන. මොනවා කරන්නද, ඔයාට පුළුවන් නේද බිංදුලා එක්ක ඇවිත් අපිට සපෝට් කරන්න...."

මම ඔළුව වැනුවා.

උදෙන්ම ගිහින් අක්කාලාගේ ඇප්ලිකේෂන් ටිකත් අරගෙන බිංදුයි මායි ලයිබ්‍රී එකට ආවා. කොටායි, අමිලයි ලයිබ්‍රී එක ඉස්සරහ හෝල්ට් එකේදි සෙට් වුනා.

"මාලින්ද උඹ දන්නවාද අළුත්ම සීන් එක...?"

"කෝටා ගෙදර ඉඳන් බාර් එක්සසයිස් කරනවා.එදා වගේ පිල්ම් හෝල් වලින් නෝන්ඩි නොවී ඉන්න...", අමිලයා එහෙම කියලා කොටා දිහා බැලුවේ කිංඩියට වගේ.

"අනේ පළ පළ පපඩමෝ යන්න..., උඹලාට නම් බලපු ගමන් පේනවා පුත්තලම් බූරුවෝ හැටක් විතර වයසයි කියලා. එහෙමද මේ මම...?, උගත් ලාබාල පෙනුම ඇති, සිරා පොරක්නේ..., ප්ලීස් අමිල කොල්ලෙක් ලස්සන වුනාම ඌට ඉරිසියා කරන්න එපා මචං..."

"ඇත්ත මචං..., ඒවා වැඩක් නෑ අපේ පන්තියේ එවුන් ටිකසෙට් වෙනවා හික්කඩු යන්න. දැන්මම අපේ එවුන් එකතු කර ගත්තේ නැත්නම්, රිසල්ට්ස් එන දවසට පොලිසියට කියන්න වෙනවා...", බිංදු මාතෘකාව මාරු කළා.

"හික්කඩු ගමන නම් හොඳයි. උදේ ගියා, හවස ආවා. වැඩි වියදමකුත් නෑ ..."

ඈත ඉඳන් ඉසංකා අපේ පැත්තට ආවා. දන් උන් දෙන්නාගේ එෆෙයාර් එකත්, ඉසංකාගේ තාත්තා ඇර, අනිත් හැමෝම දන්නවාලු..., ඉසංකාගේ අම්මා නම් හොඳටම ෂේප්ලු...

"පලයං...පලයං..., නැත්නම් ඉතින් අපිටත් එක්ක බැනුම් අහන්න වෙයි...."

බිංදු ඉසංකා ඉන්න දිහාවට යද්දි, අපි කැන්ටින් එකට ආවා.

"මචං අර නිමාෂි නේද පොරක් එක්ක තේ බොන්නේ...?"

මම බැලුවා. නිමාෂි එහා කෙළවරේ මේසෙක කොල්ලෙක් එක්ක බර කතාවක්. කොල්ලාගේ මූන අපිට පෙනුනේ නෑ...

"ෂිහ්...! බලපං ඒක ගැනත් අම්බානක බලාපොරොත්තු තියාගෙන හිටියා. දන් ඒකත් ඉවරයි. අපි සුප්පු හැදුවොත් පොඩි එවුන් එදාට, ඉපදුන දවසේ ඉඳලා කිරි එපා කියලා සිගරට් බොනවා...."

අමිලයා අදෝනාව වගේ කියාගෙන යද්දි, නිමාෂි අපිව දකලා අත වැනුවා. එයා ළඟ හිටපු පොරත් අපි දිහාට හැරුනා.

"යකෝ ඒ නිමාෂිගේ මල්ලිනේ...", මම හොරෙන් අමිලගේ කණට කරලා කිව්වා. නිමාෂිත් මා එක්ක හිනා වුනා.

"යාන්තම් ඇති...!, දෙය්යෝ බලලා ඒකවත් ඉතුරු කරළා දුන්නො[illegible] ඇති..."

ඒ වෙලාවෙම ඉසංකා එක්ක කලබලේම කැන්ටින් එක ඇතුලට ආපු බිංදු, අපේ ළඟින් ඉඳගත්තා.

"දන්නවාද අළුත්ම නිවුස් එක...?", ඌ ලොකු රහසක් කියන්න වගේ කතාව පටන් ගත්තා.

"නැහැ.....! "

"සමන් ලංකාවට ඇවිත්....!, ඊයේ හවස ඉසංකා දකලා....."

"දන් ඉතින් මොකද කරන්නේ...?"
මම ඇහුවා.

"[illegible] බය නොවී හිටපං. මම [illegible] පොරක් ඉන්නවා ඒ පැත්තේ. මාත්

එක්ක වැඩිය පිට් එකක් නම් නෑ. ඒත් කමක් නෑ මම යන්නම්...."

* * *

"මචං දන් තියෙන තත්වේ හැටියට නම්, වැඩේ බරපතලයි. මේ මාසේ අන්තිමට වෙඩින් එක ගන්න හැම දෙයක්ම ලෑස්තියිලු...."

එදා ඉසංකාගෙනත් ආරංචිය ලැබුනදාට පහු වෙනිදාම කොටා ගියා අරුණිගේ ගෙවල් ළඟ යාළුවෙක් හම්බුවෙන්න.

"අර මම අඳුනන අය්යා කාරයාගේ ගේ ළඟමයි අරුණිගේ ගෙදරත් තියෙන්නේ. මේ දවස්වල සමන් වැඩිපුරම ඉන්නේ එහෙලු. අනික මචං..., අපි හිතනවාට වැඩිය අරුණිගේ ලෙඩේ සීරියස් වගේ. එයාට පුළුවන් තරම් මහන්සි නොවී ඉන්න කියලා ඩොක්ටර්ස්ලා..., බැඳපු දවසට පහුවෙනිදාම දෙන්නාම ස්වීඩන් යනවාලු..."

කොටා කියාගෙන යනවා. මගේ හිතත් මැෂිමක් වගේ එහාට මෙහාට කැරකෙනවා. කිසිම තීරණයක් නැතුව සිතුවිලි විතරක් ඉහළ පහළ යනවා.

"අරුණිව සීතල දේශගුණයක් තියෙන රටක නවත්තගන්න පුළුවන් නම් හොඳයි කියලා ඩොක්ටර්ස්ලා කියපු හින්දාලු, ඒ තරම ඉක්මණට යන්නේ. ඇත්තටම මාලින්ද මොකක්ද බං අරුණිගේ ලෙඩේ...?, දන් වෙඩින් එකට හොටෙල් එකත් බුක් කරලා ඉවරයි . මිනිස්සු ඇවිල්ලා ගේ පේන්ට් කරනවා., වත්ත සුද්ද කරනවා...එක විකාරයයි..."

"කොටා උඹ අරුණිව එහෙම දක්කේ නැද්ද...?", බිංදු ඇහුවා.

"නෑ බං පේන්න හිටියේ නෑ. මට පේන්නේ අරුණිට කිසිම දෙයක් හිතාගන්නවත් බැරි වෙන්න, මූන් හැම දෙයක්ම ප්ලෑන් කරලා ඉවරයි..."

"මම මොකද කරන්නේ බං. මට කිසිම දෙයක් හිතාගන්න බෑ..."
මම අමිල දිහා බැලුවා.

"උඹ බය නොවී හිටපං. අපි බලමු උන් මොකටද එන්නේ කියලා. ඊට කලින් උඹ හිතපං මාලින්ද, අරුණිව එක්කාගෙන ආවොත් උඹලා දෙන්නාට උන්ගෙන් බේරිලා ඉන්න පුළුවන්ද කියලා. සමනුත් එක ජාතියක් මදාවියෙක්නේ..., ඔච්චර දෙයක් ප්ලෑන් කරන ඕකට, අපිට ගේමක් දෙන එක සිම්පල් වැඩක්..."

අමිලගේ කතාව ඇත්ත. බෙල්ල කඩාගෙන හරි, ගෙදරට හොරෙන් අරුණිව ගෙනල්ලා මම මොකද කරන්නේ...?, අපේ ගෙදර තියන්න බෑ. අරුණිලගේ අම්මලා අපේ ගෙදරට එයි. වෙන තියන්න තැනකුත් නෑ. අනික... මම අරුණිව ගෙනල්ලා, අපි දෙන්නා කන්නේ බොන්නේ ජීවත් වෙන්නේ කොහොමද...?, සල්ලි හම්බු වෙන්නේ කොහොමද...?, අපේ ගෙදරින් මොනවා කියයිද...?, ප්‍රශ්ණ හතර වටින්ම එනවා.

"ඔය හැම දෙයක් ගැනම හිතලා තීරණ ගන්න බෑ අමිල. වෙන දෙයක් වුනාදෙන් කියලා තමයි ඉන්න වෙන්නේ..."

"ඔව් බං ඉස්සෙල්ලා අරුණිගේ ප්‍රශ්ණෙ බලමු. ඊට පස්සේ ටික දවසකට එයාව නවත්තගන්න තැනක් හොයාගන්න අමාරු වෙන එකක් නෑ. ඉසංකායි මායි, ඔය ගැන කතා වුනා. සමහර වෙලාවට, ඉසංකාලගේ අය්යාගේ ගෙදර ඉන්න පුළුවන් වෙයි. ඉසංකා, අය්යාටයි අක්කටයි මේ ගැන කියලා තියෙන්නේ කළින්..., ඒ දෙන්නාටත් තද වෙලා අරුණිගේ අම්මා එක්ක..."

බිංදුගේ කතාව හින්දා හිත ටිකක් සැහැල්ලු වුනා.

" කොටා, දැන් මචං කොහොම හරි අරුණි එළියට යන වෙලාවක් හොයාගන්න ඕනේ. එහෙම නැත්නම් අරුණිට පණිවිඩයක් යවාගන්න ඕනේ. අරුණිලාගේ අම්මලා හොරෙන් නම් අපිට පරිප්පු සෙට් කරන්නේ. ඊට කළින් අපි එයාලට තේරුම් කරලා දෙන්න වෙයි මේකේ හරි වැරැද්ද..."

බිංදු මගේ දිහා බැලුවා. මගේ හිතට තියෙන එකම හිට් එක මුන් ටිකයි, අක්කයි විතරයි. . කොහොම හරි අරුණිව මුණගැහෙන්න ඕනේ..., ලියුමක් යවන්නවත් ක්‍රමයක් තියෙනවා නම්...!

"ආ අනිත් සීන් එක..., වෙඩින් එක ඉහළින්ම ගන්නලු හිතාගෙන ඉන්නේ, නෑදෑයෝ යාළුවෝ හැමෝටම වගේ කියලා. හෝම් කමින් පාටි එකක් නැති හින්දා වෙඩින් එක දවසේ තමයි ඉන්වයිට් කරපු කට්ටිය එන්නෙත්..."

"ඒ කියන්නේ දැනටමත් කට්ටියටම කාඩ් දීලා ඇති...."

"බලමු...බලමු දැන් යමු ගෙවල් වලට. හතටත් ළඟයි. හැමදාම රෑ වෙලා ගෙදර ගියොත්, තව ටික දවසකින් ගෙදරින එලවලා දානවා...."

අමිලයි, කොටායි, මායි බිංදුලාගේ ගෙදරින් එළියට බැස්සා.

"මාලින්ද, දැන් උඹලාගේ අම්මයි තාත්තයි මේ ගැන දැන ගත්තහම මොනවා වෙයිද...?, අන්න ඒකයි මල්ලී...ඊළඟ ප්‍රශ්ණෙ..."

අපි කතාවෙන් කතාවෙන් මහරගම හන්දියට ආවා.

"ෂුවර් එකටම අම්බානක බනියී. සමහර වෙලාවට අක්කාටත් එක්ක. අන්න ඒක තමයි බං මට දිරවාගන්න බැරි..."

අමිලයි මායි කතාව දාගෙන එද්දි, කොටා ඉන්නේ වෙන කොහේද ලෝකෙක. ඌ මොනවද හොයනවා වගේ..., හතර අතට බෙල්ල දික්කරගෙන බලාගෙන ඉන්නවා.

"කොටා මොකක්ද බං සීන් එක...?"

"පොඩ්ඩක් හිටපං..., අර හොඳට දකලා පුරුදු ඩයල් එකක් වගේ. මාලින්ද, අර රෙදි කඩේ ළඟ ඉන්නේ අරුණිගේ අම්මා නේද...?"

මමත් බැලුවා. රෙදි කඩේ ඇතුලේ ඉඳගෙන රෙදි තෝරන්නේ අරුණිලාගේ අම්මා වගේ....

"ඔව් බං..., අර කඩේ ඉස්සරහ තියෙන්නේ අරුණිලාගේ කාර් එක. හැබැයි කාර් එක ඇතුලේ නම් ඉන්නේ ඩ්‍රයිවර් විතරයි වගේ..."

අපි තුන්දෙනා කඩේ ළඟට ගියේ ඉබේම වගේ.

"ආ...අංකල් කෝ සමන් මහත්තයා ආවේ නැද්ද...?"

අමිල, හොඳට දන්න අඳුනන පොරක් වගේ ඩ්‍රයිවර්ට කතා කළා. මමයි, කොටායි බලාගෙන හිටියේ, ඇන්ටි කොයි වෙලාවේ එළියට බහියිද කියලා කියන්න බැරි හින්දා.

"සමන් මහත්තයා අද නම් ආවේ නෑ. ඔය මහත්තයලා සමන් මහත්තයාගේ යාළුවොද...?"

"අයියෝ...!, ඩ්‍රයිවර් උන්නැහේට මතක නැද්ද දවසක් අපි සමන් එක්ක අරුණිලගේ ගෙදර ආවා...."

මගේ කතාවට ඩ්‍රයිවර් අමාරුවෙන් වගේ ඔළුව වැනුවා.

"ඒක නෙමෙයි අංකල්, අපිට මේ අද හවස ආරංචියක් ආවා වෙඩින් එක කල් ගියා කියලා. ඇත්තද...?, ඊයේ පෙරේදා සමන්ව හම්බු වුනෙත් නෑ. අපිට තමයි පෝරුව ගහන්න බාර දීලා තියෙන්නේ...."

"නෑ මහත්තයෝ..., ලබන මාසේ දහවෙනිදාම තමයි. ලොකු නෝනත් එක්ක මේ වෙඩින් කාඩ් බෙදලා එන ගමන්. දිනේ නම් කිසිම වෙනසක් නෑ...."

"අංකල්... අරූ, අර අරුණීත් එක්ක යාළු වෙලා හිටපු එකා මේ දවස් වල ඒ පැත්තේ කැරකෙනවාලු. පොඩ්ඩක් ඇහැ ගහගෙන ඉන්න කියලා ලොකු නෝනට කියන්න. ඌ කැරකෙන්නේ හොඳකට නම් නෙමෙයි. මරදානේ රස්තියාදු කාරයෝ ටිකකුත් ඉන්නවාලු පොරත් එක්ක. අපිට අහුවුනොත් නම් ඕකාව..."

කොටා එහෙම කියලා, මට ඇහැක් ගැහුවා.

"එතකොට...", මට කියාගන්න ලැබුනේ එච්චරයි.

"තමුසේ මොනවද මෙතන කරන්නේ...?"

අරුණීගේ අම්මාගේ කටහඬ, වෙඩිල්ලක් වගේ මගේ කණ ඇතුලේ පුපුරලා ගියා.

"මොනවා කරනවා වගේද පේන්නේ...?"

මමත් ඇරියේ නෑ. හිත පතුලේ ඉඳලා ගිණි කන්දකින් ලාවා උඩට එනවා වගේ...කේන්තිය උතුරන්න වුනා.

"මොනවා කළත් කමක් නෑ. අපේ වැඩ වලට ඇඟිලි ගහන්නේ නැතුව ඉන්නවා. එදා මම ගෙදරට ඇවිල්ලා, හොඳින් කියලා ගිය එක තමුසෙට තේරුනේ නෑ වගේ..."

"ඇන්ටි මේ..., ප්‍රශ්ණෙ මොකක් වුනත් කමක් නෑ, ටිකක් හරි වැදගත් විදියට කතා කරනවා. අපි සත්තු නෙමෙයි. හරිද...?", කොටාත් පැන්නා.

"සත්තුද, නැද්ද කියන එක ගැන මම දන්නේ නෑ. අරුණී ගැන ආයේ කරදර වෙන්න ඕනේ නෑ. එයා ලබන මාසේ බඳිනවා. සමන් එයා ගැන හැම දෙයක්ම බලා ගනියි. අරුණීව අසනීප වුනෙත් මේ විකාර ගැන හිතලා. මගේ කෙල්ලට එයාගේ පාඩුවේ ඉන්න දීලා, තමුසේ තමුසෙගේ වැඩක් බලාගන්නවා...."

"අරුණීට ඕනේ විදියට, එයා ආසා කරන දේවල් දුන්නා නම්, එයා අද ඉන්නේ කොහේද කියලා ඇන්ටි හොඳටම දන්නවානේ. නිකං කොළේ වහලා කතා කරන්න එපා ඇන්ටි. අරුණී අසනීප වුනේ, එයාව ගෙදරටම කොටු කරගෙන හිටපු හින්දා..."

"ඔයා පණ්ඩිතයා වගේ කතා කළාට, ඔය ළමයා නොදන්න ගොඩාක් දේවල් තියෙනවා...."

"මොනවද ඇන්ටි මම නොදන්නේ...?, සමන්ට අපි දෙන්නාගේ සම්බන්ධෙ ගැන ආරංචි වුනොත් ඇන්ට්ලාව කපලා දායි කියන එකද...?, එහෙමත් නැත්නම් ඇන්ට්ලාගේ පව් හෝදන්න අරුණීව බිල්ලට දෙන එකද...?"

"ඒ මොකක්ද, ඒ කතාවේ තේරුම...?, තමුසේ දන ගන්නවා, සමන් මේ හැම දෙයක් ගැනම දනගෙනයි ලංකාවට ආවේ. අපි කියපු නිසා මිසක්, නැත්නම් මෙලහකටත් සමන් තමුසෙට හොඳට කතා කරලා ඉවරයි. මට පේන්නේ අපි ඉන්න විදිය තමුසෙට හොඳ වැඩියි වගේ..."

"ඇන්ටි නිකං ඒ සයිස් එකෙන් නම් එන්න එ..ා හරිද...?, පුළුවන් නම් සමන්ට කියන්න, අපිට කතා කරන්න කියලා ඕනේ ...යකින්. අපිත් ලැස්තියි ඕනම දේකට. අවුරුදු දහ අටක් ගෙවනකම් අපිත් පෙ... ගැවේ නෑ. සමන්ටයි ඇන්ට්ලාටයි පුළුවන්, ඕනේ නම් සල්ලි දීලා චන්ඩි ගෙනත් අපිට වැඩක් දෙන්න. හැබැයි ඇන්ටි මේකත් මතක තියා ගන්න, ඒ වැඩේම අපිටත් කරන්න පුළුවන් අතේ සතයක්වත් නැතුව..."

කොටාගේ කතාවට ඇන්ටි ගැස්සුනා. ඩ්‍රයිවර්ව නිකං කරකෝලා අත ඇරියා වගේ, මේ සීන් එකට පාරේ යන මිනිස්සුත් අපි දිහා බලාගෙන යනවා.

"ඔය ලොකු කතා නැතුව, තමන්ගේ දියුණුවක් ගැන බලාගන්නවා. මම මේ ටික වුනත් කියන්නේ..., පොඩි කාලේ ඉඳලාම දන්න හින්දා. අරුණී බැඳලා පහුවෙනිදාම ස්වීඩන්වල පදිංචියට යනවා. එයා ආයේ ලංකාවට එන්නෙත් නෑ. කොහොමටත් ලංකාවේ දේශගුණේ අරුණීගේ අසනීපෙටත් හොඳ නෑ. තමුසෙට බෑ කවදාවත් ඒ විදියට අරුණීට සළකන්න. ඒකට සල්ලි ඕනේ. නිකං පිස්සෙක් වෙලා ජීවිතේ නාස්ති කරගන්නේ නැතුව ඉගෙන ගන්නවා..."

අරුණීගේ අම්මා කාර් එකට ගොඩවුනා. මම වීදුරුවෙන් එබුණා ඇතුලට...

"මගේ ජීවිතේ ගැන මම බලාගන්නම් ඇන්ටි...., ඔයාලා ඒ ගැන කරදර වෙන්න එපා. හැබැයි අරුණීගේ ජීවිතේ කාලකන්නි කළොත්, එදාට මම තමුසෙලා හැම එකා ගැනම බලාගන්නම්. ඇන්ටි මේකත් දන ගන්න..., මට දන් අරුණී නැති වුනොත් ඊට එහා මට මේ ලෝකේ නැතිවෙන්න කිසිම දෙයක් නෑ. ඒ හින්දා අරුණී වෙනුවෙන් ඕනේම දෙයක් නැතිකරගන්නත් මම ලැස්තියි...."

කාර් එක, එක පාරටම දූවිලි අවුස්සාගෙන යන්න ගියා.

රිත්තරින් මාලින්ද,
මම පුංචි දවස්වල
ඉඳලම මැස්ස දිහා බලාන
ඉන්න හරිම ආසයි. අද වගේම
අදත් මම මැස්ස දිහා ඔහේ
බලාන ඉන්නවා. ලා අඳුරු, සුළඟත්
එක්කම එන සීතම සීත වැහිබිංදු,
තෙමුන ගහකොළ, මගේ හිතට ගේන
හැඟීම මේ යැයි වෙන් කර අඳුනගන්න
මටවත් පුළුවන්කමක් නෑ. ඒත් ඒ
හැම සිතුවිල්ලෙම කොතැන හරි
ඔයත් ඉන්නවා. මගේ හිත
හොරෙන්ම ඔයා ළඟ නැවතිලා.
ඉතින් මට කොහේද නතියක්.
සිරිපොද ඇවිත් ඇගේ වදිනවා.
ඒත්.. මට සීතලක් දැනෙන්නේ නෑ,
ඔයාගේ සෙනෙහසේ උණුසුම
මගේ මුළු ආත්මය පුරාවටම
පැතිරිලා. මම ආසයි හැමදාමත්
ඒ සිතුවිල්ලෙම රැඳිලා, හදවතින්
හරි ඔයා ළඟට වෙලා ඉන්න
ලැබෙනවා නම්....
ඉතින්, ආයේ කවමදාවත්
ඒ සිහිනෙන් මාව අවදි
කරන්නෙපා..!

# විසිතුන

"ඇන්ටි එදා ගෙදර ගිහින් අරුණිට ගැහුවද දන්නෙත් නෑ, තිබුණු කෝන්තියට. කොහොම වුනත් ඔයා එදා එහෙම කතා කරපු එක නම් ලොකු දෙයක්. නැත්නම් ඇන්ටිට තිබුනේ හොඳ වෙන්නේ නැති උණක්..., එයා හිතාගෙන ඉන්නේ සමන්ලාගෙයි, එයාලගෙයි සල්ලි වලට මුළු ලෝකෙම අල්ලන්න පුළුවන් කියලා..., හොඳ වැඩේ..."

අක්කාට හෙන සන්තෝසයි එදා සිද්ධියට. ඒත්...එදායින් පස්සේ අපි කාටවත් තාම අරුණිලගේ ගෙදර තත්වේ හොයා ගන්න බැරි වුනා. මේ දවස් ටිකේම අපි අක්කාලාගේ ස්කෝලේ කානිවල් එකේ වැඩ වලට මහන්සි වුනා. අක්කාගේ යාළුවෝ ටික එකතු වෙලා, පුළුන් පුරවලා ලස්සනට හදපු සත්තු විකුණන ස්ටෝල් එකක් දානවා. ඉතින් ඒකේ පරිප්පුවත් කන්න වෙන්නේ මටමයි. එන්න එන්නම අරුණිගේ වෙඩින් එකත් ළං වෙනවා. මගේ ඔළුව ගිණි අරගෙන වගේ..., බිංදුලාත් මම තරමටම විස්තරයක් දැනගන්න මහන්සි වෙනවා. ඒත්...අරුණිගේ ගෙදරටවත් ළං වෙන්න තාම පුළුවන් කමක් වුනේ නෑ.

"අනේ මල්ලි..., ඔයා මාත් එක්ක යන්න ඉන්න. නැත්නම් අම්මා ඉඳන් කියනවා ගොඩාක් රෑ වෙනකම් ඉන්න එපාලු...මනීෂාලගේ වෑන් එකේ අපිව ගෙනල්ලා ඇරලවයි...."

අක්කා ඇඳගෙන ඉවරවෙලා සාලෙට ආවා. එයාටත් ඉඳලා ඉඳලා අවුරුදු ගාණකින් තමයි යාළුවෝ ටික මූණ ගැහෙන්නේ. ඉතින් එහෙම එකේ මම කොහොමද බැහැ කියන්නේ. අනික, මම නැතුව ගමන් බිමන් යන එක එයාට තහනම්. මෙඩිකල් කොලේජ් ගියත්, මේ පරිප්පුව නම් නවතින්නේ නෑ....

"යමු. මම කානිවල් එකට එන්නේ ඔයා හින්දා. නැත්නම් කානිවල් බලන්න තියා, සිංදුවක් අහන්න තරම්වත් මගේ හිත නිදහස් නෑ. තව දවස් ගාණයි මගේ අනාගතේ තීරණය වෙන්න තියෙන්නෙත්..."

"මට තේරෙනවා මල්ලි...,ඒත්...", අක්කා වචන ගිලගත්තා.

* * *

තාම කානිවල් එකට සෙනඟ එන්න පටන් අරගෙන නෑ. අක්කා යාළුවෝ හිටපු තැනට ගියා. මම බිංදුත් එක්ක, අපේ ස්කෝලේ එවුන් හිටපු තැනට ආවා. අමිල,කොටා. අසංග...කට්ටියම සෙට් වෙලා වටේටම කැමරාව දාගෙන...

*එදා තරම් මගේ ____ තිබුනේ නෑ මෙහෙම බරක්..*
*හැණකෙළියේ කිසිම තැනක දුටුවේ නැහැ...වැසිකිළියක්...*

"අපෝ නවත්තගනින් බං..., මෙච්චර ලස්සන කෙල්ලෝ රංචු පිටින් වටේ පිටේ හිටියත්, අමිල උඹට නම් මතක් වෙන්නෙම දෙකයි පණහේ තුනයි පණහේ සිංදු කැලිම තමයි. ඌරෝ කවදද බං පීසා කැවේ...?, හැමදාම ජරාවම තමයි....."

අමිල සිංදුව කියන්න කට අරිනකොටම කොටා නැවැත්තුවා. අපි කට්ටිය ආගිය කතා ගැන දොඩවන අතරේම, හික්කඩු යන ගමන ගැනත් කතා වුනා. අනිත් එවුන් ඒ හැම දෙයක්ම කතා කරද්දි, මම හිටියේ මගේම ලෝකෙක. වටපිට කිසිම දෙයක් ගැන මට ගාණක්වත් නෑ. මගේ හිත පිරිලා තියෙන්නේ අරුණිගෙන්. ඒ සංගීත, පාට පාට විදුලි එළි කොයිතරම් තිබුණත්, මගේ හිත අමු සොහොනක් වගේ පාළුයි. මුහුද වගේ කළඹිලා. හෙට ආපහු බිංදුත් එක්ක කතා වෙලා ඉසංකාව ආපහු සැරයක් අරුණිලාගේ ගෙදරට යවන්න ඕනේ...

"මචං... එක තැනකට වෙලා ඉඳලා නම්. කිසිම සෙතක් නෑ. වටේටම දළ එළලා ඉවර වෙලා එක තැනකට ඇවිත් තමයි, දළ ඇදලා මාළු අල්ලන්නේ. ඒ හින්දා කානිවල් එක වටේ රවුමක් දාලා එමු..."

"පිට් තමා...යි", කට්ටියම ඇවිදින්න යන්න ලෑස්ති වුනා. හිත ඇතුලේ ටොන් ගාණක බරක් තියාගෙන, මම කොහොමද ඇවිදින්නේ. අනිත් එවුන් යන පස්සෙන් මමත් ඇදුනේ රූකඩයක් වගේ. ඉස්සර නම්..., මම කොයි තරම් ආසාවෙන්ද මේ වගේ වළකට සෙට් වෙන්නේ. ඒත් දැන්...

"මාලින්ද...", බිංදු මගේ කරට අතක් දැම්මා.

"උඹ වැඩිය හිතන්න එපා බං..., මට තේරෙනවා උඹ මේ ගමන වුනත් ආවේ හිතේ කැමැත්තකින් නෙමෙයි කියලා. ඒත් බං ප්‍රශ්ණ වලින්ම මිරිකිලා ඉන්න අපිට බෑ. උඹට විතරක් නෙමේ මට, අමිලට, කොටාට හැම එකාටම

අප්සට්...උඹේ සීන් එකට. ආදරේ කියන්නේ අපි හිතන දේවල් ඒ විදියටම වෙන එකටම නෙමෙයි කියලා මටත් වැඩිය හොඳට උඹ දන්නවා ඇතිනේ. බැරි වෙලාවත් උන් හැම එකාම එකතු වෙලා අරුණි අක්කාව සමන්ට බන්දලා දුන්නොත්..., එදාට උඹ මොකද කරන්නේ...?, ඔය ගැනම හිතලා පිස්සෙක් වෙනවද...?සමහර දේවල් තියෙනවා අකමැත්තෙන් වුනත්..."

"බිංදු..., මම උඹට වඳින්නම් මචං..., ප්ලීස් ඔය කතාව නවත්තපං. මම දන්නවා උඹ කියන්නේ මගේ හොඳට, මගේ හිත හදන්න කියලා. ඒත් ඒකෙන් තව තවත් දුක වැඩි වෙනවා විතරයි බං..."

අපි දෙන්නාටම කතා නැතුව ගියා. අනිත් එවුන් ටික නම් කෙල්ලන්ට විහිළු කර කර යනවා.

"තිබහයි බං...මොනවා හරි බොමුද...?"

අපි කට්ටියම බීම විකුණන තැනකට ගිහින්, බීම බෝතල් අරගත්තා.

"බිංදු...!"

ලෝකේ මොන අස්සක මුල්ලක මොන විදියට හිටියත්, මගේ ඇස් දෙකට හංගන්න බැරි එකම දේ...දැන් මගේ ඇස් ඉස්සරහ...

අරුණි...!

එයා වට පිට බල බලා කානිවල් එකේ එහා පැත්තට යනවා.... සමන්, අරුණිගේ අම්මා , තාත්තා මුරකාරයෝ වගේ එයා ළඟින්ම ඇවිදිනවා.

"වරෙන් යන්න..."

අපි අනිත් එවුන්ට සීන් එක කියලා, මාරු වුනා. මම එක කඩයක් මැද්දෙන් ගිහින් අරුණිලාට ඉස්සරහින් මතුවුනා. එයා මාව දැක්කා. ළඟට ගිහින් අරුණිව බදාගන්න හිතුන හැඟීම නවත්තගත්තේ කෙහොමද කියලා මටම තේරෙන්නේ නෑ...

"වැඩේ වණ කරගන්න එපා. ඇන්ටිලා දැක්කොත් අනාථයි. ෂුවර් එකටම මේ කට්ටිය අක්කාලාගේ ස්ටෝල් එක ළඟටත් යනවා. අපි හෙමිහිට එතනට මාරුවෙමු. අතට ආපු චාන්ස් එක කාගන්න එපා..., කලබල වෙලා...

අරුණි ආයෙමත් වටපිට බලලා මාව හොයනවා, මම ඇතට දැක්කා.

"අක්කේ අරුණි ඇවිත්...!", මම හති දාගෙන ඇවිත් අක්කාට කිව්වා.

"කෝ...?"

අක්කාගේ යාළුවෝ ටික ඇහුවේ එක පාරටම. මම සිද්ධිය කියලා අක්කාවත් ඇදගෙන ආවේ, අක්කා ඉන්නවා දක්කොත් අරුණිට ස්ටෝල් එකට යන්න දෙන එකක් නෑ කියලා හිතලා...

"නිරූපා අක්කලා වැඩේ කරයි නේද ගාණට...?", මම අක්කාගේ කණට කෙදිරුවා.

"ඔව් හලෝ. බය නැතුව ඉන්නවා..."

"ඒක නෙමෙයි මචං..., කෝ සමන් කාරයා...?, මිනිහා කොහේද මේ ටිකට මාරු වුනේ...?"

මම වටපිට බැලුවේ එතකොටයි. අරුණි දිහා බලාගෙන හිටියා මිසක්, මට වෙන කිසිම සිහියක් තිබුනේ නෑ. ඒත්..., ඈත කෙළවරේ ' බියර් ගාඩින් ' එක ළඟ යාළුවෙකුත් එක්ක ඉඳගෙන, අපේ දිහා බලාගෙන හිටපු සමන්ව හොයා ගන්න මට වැඩි වෙලාවක් ගියේ නෑ. දක්ක ගමන්ම ඌ මගේ ළඟට ආවා.

"මම හිතුවා උඹත් ඇඹලයා වගේ මෙතන ඇති කියලා..."

"ඇයි උඹෙන් අවසර ගන්න ඕනේද, මට ගමන් බිමන් යන්න...?"

මම අත මිට මොළවා ගත්තේ කේන්තිය උතුරලා යන හින්දා. මුන් හැම එකාම එකතු වෙලා මගේ අරුණිට දෙන වද වලට මුව.......

"මම උඹට සැළකුවා වැඩියි යකෝ. අක්කා කිය කියා ගෙදරට රිංගන කොට මම හිතුවේ නෑ, උඹ මෙච්චර පරයෙක් කියලා..., උඹ දන ගනිං බල්ලා...මම අරුණිව බඳිනවා. බැඳලා මෙහේ ඉන්නෙත් නෑ, නිකං මගේ වැඩ වලට ඇඟිලි නොගහ හිටපං..."

"වල් බල්ලා...තෝ මගෙන් අරුණිව උදුර ගන්න හදනවා මදිවට, මට නීති දාන්නත් එනවද යකෝ...?"

සමන්ගේ ඇඟට කඩා පැනපු මම, හිතේ කේන්තිය අත්දෙකට අරගෙන ඌට ගහගෙන ගහගෙන ගියා. බිංදුත් පැන්නා එතනට...

"තිරිසන් වැඩ කරන්න එපා යකෝ. මගේ අරුණිගේ සන්තෝසේ උඹලා එකතු වෙලා සල්ලි උඩ පුච්චන්නද හදන්නේ...?" පිස්සුවෙන් වගේ ගහගෙන ගිය මාව ඇදලා ගත්තේ අමිලයා..., අපේ උන් ටික ඔක්කොම වට වෙලා.

"මාලින්ද පොඩ්ඩක් කලබල නොවී හිටපං..., ඔහොම ගැහුවොත් මේ

කාළකන්නියා මැරෙයි..."

"උඹ කසාද බඳින්න බැරි නම්, ඕනේ හු___ක් කර ගනිං. හැබැයි නිකන් ඉන්න කොල්ලන්ට පාච්චල් කරන්න හදන්න එපා. දන ගනිං..., අපිට ඕනේ නම් උඹව මෙතනම හම ගහන්න පුළුවන්. පේනවානේ ඉන්න කට්ටිය..., අපි උඹ වගේ බල්ලෝ නෙමෙයි හින්දා ඒක කරන්නේ නෑ..."

කොටා සමන්ගේ බෙල්ලෙන් අල්ලලා කිව්වා. සෙනඟ වට වෙනවා අපි ඉන්න තැනට. අරුණිවත් ඇදගෙන අම්මායි තාත්තායි අපි ළඟට ආවා....

"මොකක්ද පුතා මේ කරගත්තේ...?", ඇන්ටි සමන්ට කිව්වු වෙද්දි, අරුණි මගේ ළඟට ආවා.

"මම හෙට උදේ ඇඳුම් ගන්න බම්බලපිටියට එනවා මාලින්ද...", අරුණි මගේ අත අල්ලලා, හොරෙන් වගේ කිව්වා.

"එනවා යන්න..., තමුසේ හින්දා තමයි මේ කරදර ඔක්කොම..."

"ඇන්ටිලාට නම් අරුණිව කරදරයක් කියලා මම දන්නවා. ඒකනේ එයාව හිර කරගෙන ඉන්නේ..., හැබැයි ඒ කරදරෙන් බේරෙන්න එයාව ගිණිගොඩකට අරින්න නම් හදන්න එපා..., එහෙම වුනොත් මම කොපි එකෙක්ව ඉතුරු කරන්නේ නෑ...., සමන් උඹත් පුළුවන් දෙයක් කරපං..."

මම ඒ ටික කිව්වේ එයාලා අපි හිටපු තැනින් යද්දි. මම දන්නවා, සමන් මේ වගේ දේකින් පරාද වෙන්න කැමති මිනිහෙක් නෙමෙයි...

"වරෙන්..., දැන් යමු මොනවා හරි බොන්න...", බිංදු මගේ අතින් ඇද්දා.

"උඹටත් පොඩ්ඩක්වත්, ඉවසීම කියන එක නම් නෑ...,"

"උඹ මේ බණ කතා කරනවා බිංදු. ඊයේ රෑ මට එයාගේ කතාව ඇහුවාම මැරෙන්න හිතුනා..., මම දන්නේ නෑ ඒ වෙලාවේ මට මොනවා වුනාද කියලා..."

අපි කට්ටිය කානිවල් එක ඉවර වෙලා රෑම අපේ ගෙදර ආවා. හිතේ තිබුන බර තව තවත් වැඩි වෙලා.

"තව ටිකකින් මම බම්බලපිටියට යනවා. ගිහින් සමන්ට බම්බුගහගන්න කියලා කෙළින්ම අරුණී එක්ක කතා කරනවා. හැමදාම ඉවසන්න බෑ. මට ගන්න වෙන් තීරණයකුත් නෑ..."

"ඔය කිව්වාට ඊයේ සිද්ධියෙන් පස්සේ අරුණීට මොනවා කියලාද දන්නේ නැහැනේ බං..., අනික බම්බලපිටියේ රෙදි විකුණන තැන් කීයක් තියෙනවාද...?අරුණී යන තැන අපි කොහොමද බං හරියටම දනගන්නේ... ?"

"අරුණීලාගේ ගෙදර කට්ටිය හැමදාම යන්නේ, සමන්ගේ මාමාගේ කඩේට. ඒක නම් ෂුවර්. ඒත්...උඹ කිව්වා වගේ අමිල, ඊයේ සිද්ධියෙන් පස්සේ ගෙදර තියෙන්නේ මොන වගේ තත්වයක්ද කියලා දන්නේ නෑ නේ..."

"කමක් නෑ. අපි යමු. හැබැයි මාලින්ද, උඹ ඊයේ වගේ කලබල වෙන්න නම් එපා. උඹයි අරුණීයි ඕනෙම තීරණයක් ගනිං. අපි උඹ ගන්න ඕනේම තීරණයකට සපෝට් කරන්නම්..."

අමිල කිව්වා.

අද නම් අරුණීත් එක්ක මොන විදියකින් හරි කතා කරන්න ඕනේ. ඒත් එයාව ගෙදරින් එවයිද...?

"දන් එහෙම නම් යමුද...?", කොටා ඇඳෙන් නැගිට්ටා.

අපි බම්බලපිටිය හන්දියට එනකොට නමයටත් නෑ. දන් පැය එකහමාරක් විතර ගියා. අරුණී තාමත් නෑ. අපි හතර දෙනාම සමන්ගේ මාමගේ කඩෙන් එහා පැත්තේ තාප්පයකට හේත්තු වෙලා ඔහේ බලාගෙන ඉන්නවා.

අරුණී එන එකක් නැද්ද...?

මගේ හිතේ බලාපොරොත්තු එකින් එක බිඳිලා යනවා. මට අරුණී එක්ක වචන දෙකක් කතා කරන්න තිබුනොත් ඇති. ඊට පස්සේ වෙඩින් එකට කලින් මොනවා හරි තීරණයක් ගන්න පුළුවන්. ඒ වුනාට ඒකවත් හරියන එකක් නෑ වගේ...

"මචං...වැඩේ අප්සට් වගේ...", කොටා කිව්වා.

"කමක් නෑ. අපි තව ටිකක් බලමු..."

කර කියාගන්න දෙයක් නැතුව තමන්ට තියෙන හැම දෙයක්ම නැතිවෙලා

යනකොට ඉතිරි වෙන පුංචි බලාපොරොත්තුවකට වුනත්, හිත ආසාවෙන් ඉඩ දීලා බලාගෙන ඉන්නවා.

කොල්ලුපිටිය පැත්තේ ඉඳලා ආපු තද රතු පාට කාර් එක අපි ළඟින්ම හරවද්දි, මගේ හදවතේ ගැස්ම සිය ගුණයකින් වැඩිවෙන්න ඇති.

අරුණී...!

සමන්ගේ කාර් එකේ හිටපු එයා, මාව අඳුනා ගත්තේ නෑ.

"මචං...අරුණීනම් ආවා...."

ඊයේ රෑ කලබලේ අස්සේ මම අරුණීව හරියට දැක්කේ නෑ. ඒත්..., හිත දුකෙන් පිරිලා සුදුමැලි වෙලා, අඬලා අඬලා මූණ ඉදිමිලා වගේ ඉන්න අරුණීව දැක්ක ගමන්ම මගේ හිත ඇතුලේ දුක තව තවත් වැඩිවුනා.

සමන්...උඹ නම් මහ නරුමයෙක් යකෝ...!

"දැන් මොකද කරන්නේ ඊළඟට...", බිංදු ඇහුවා.

"මම යනවා ෂොප් එක ඇතුලට. ඊට පස්සේ ඉතුරු හරිය බලාගමු..."

ෂොප් එක ඇතුලේ සැහෙන්න සෙනඟ පිරිලා ඉන්න එක, එක අතකට හොඳයි.

"එපා...!, උඹ හිටපං. මම ගිහිල්ලා බලාගෙන එන්නම්. සමන්කාරයා උඹව දැක්කොත් ඌටත් තද වෙනවා. උඹටත් තද වෙනවා. ඊට පස්සේ මොනවා වෙයිද දන්නේ නෑ..."

"හිත හිතා ඉන්න දෙයක් නෑ බිංදු. කරන දෙයක් ඉක්මණට කරන්නයි වෙන්නේ..."

මම සාප්පුව ඇතුල දිහා බැලුවා. සමන්, රෙදි තෝරද්දි අරුණී වටපිට බලනවා. එයා තාමත් අපිව දැක්කේ නෑ. ඒත් ගත වුනේ තත්පර ගාණයි. අපි දෙන්නාගේ ඇස් එකිනෙකාට කතා කළා.

"අරුණී...!"

තවදුරටත්, දුක පිරිලා යන ඒ ඇස් දෙක දිහා බලාගෙන ඉන්න පුළුවන් කමක් මට තිබුනේ නෑ. මගේම හිත මටම අකීකරු වුනා. මාස ගණනක් දුක් වින්ද අරුණී..., මම කොහොමද තවත් මෙතන ඉන්නේ...?

"මාලින්ද...ඔහොම හිටපං..."

බිංදුගේ වචන එද්දි මම හිටියේ පාරෙන් එහා පැත්තේ. අරුණි ළඟට යද්දි එයා මගේ ළඟට ආවා. අපේ අත් තුරුල් වුනා. ඒ ඇඟිලි තුඩු මාස තුනකට පස්සේ මට උණුසුම ගෙනාවා.

"අරුණි..."

" අනේ මාලින්ද..., මට තවත් නම් බලාගෙන ඉන්න බෑ. මම වැඳලා කියන්නම් මාලින්ද, මාව කොහේ හරි කමක් නෑ අරගෙන යන්න. මට තවත් මේ තරම් දුක ඉවසන්න බෑ. ඔයා හින්දයි මම මේ තරම්වත් ජීවත් වුනේ..., මාලින්ද..., දැන්වත් මාව ඔයා ළඟට ගන්න "

ඒ වචන ටිකත් එක්කම , අරුණි ඉකිගහන්න පටන් ගත්තා. දෙනෝ දාහක් දෙනා ගැවසෙන බම්බලපිටිය හන්දියේ, අපි දෙන්නාට වෙන කිසිම දෙයක් පෙනුනෙවත් ඇහුනෙවත් නෑ...

"යමු අරුණි..."

පාර පැනලා අපි දෙන්නා අමිලලා ඉන්න තැනට ආවා.

"මොකද මේ...!, දැන් අරූ එළියට ආවොත් එහෙම ඉවරයි. ...", අමිල කෑ ගැහුවා.

"සමන් නෙමෙයි, කවුරු ආවත් ආපහු දෙන්න බලාගෙන නෙමෙයි මම අරුණිව එක්කගෙන ආවේ..."

"එහෙම නම් තවත් මෙතන බලාගෙන ඉන්නෙ නැතුව නැගපං..."

බිංදු අත දාපු ගමන් වේගය අඩු කරපු ප්‍රයිවට් බස් එකට, අපි ඉක්මණට ගොඩ වුනා.බස් එක වේගෙන් ගාළු පාර දිගේ ඇදෙද්දි, මම පාත් වෙලා ආපහු බැලුවා ෂොප් එක දිහා..., සමන් එළියට ඇවිත් හොල්මන් වෙලා වගේ, වට පිට බලනවා.

මගේ ජීවිතේ ගොඩාක් දේවල් වුනේ අහම්බෙන්. දැනුත් එහෙමමයි. අරුණිවත්, මමවත් දන්නේ නෑ අපි මේ කොහෙද යන්නේ කියලා. එයා මගෙන්වත්, මම එයාගෙන්වත් ඇහුවේ නෑ අපි මේ කොහේද යන්නේ කියලා....

"මාලින්ද මම කියන්නද මචං..., අපි දැන් කෙළින්ම යමු නුගේගොඩ ඉසංකලාගේ අය්යලාගේ ගෙදර. දැන් වෙන කිසිම දෙයක් කරන්න නෑ. වැඩිපුර

රස්තියාදු වෙවී ඉන්න එක, ඒ තරම් ඇඟට ගුණ නෑ. ඒ හින්දා කොහේ හරි ගේකට යමු...."

"ඒක ඇත්ත බිංදු. ඒ වුනත් කොහොමද බං ගහෙන් ගෙඩි එනවා වගේ ගිහින් ඉසංකාගේ අය්යාට කරදර කරන්නේ. ඒ අය මොනවා හිතයිද...?"

"මුකුත් හිතන්නේ නෑ. ඒ දෙන්නා හොඳටම හිටි. මේ ප්‍රශ්ණ ටික මොනවා හරි බේරුමක් කරගන්නකම් එහේ ඉමු. අය්යා කැමතියි..."

අපි දෙහිවල හන්දියෙන් බැහැලා නුගේගොඩ බස් එකකට ගොඩවුනා. අරුණී හොඳටම බය වෙලා වගේ. මගේ අත මිරිකගෙන බලාගෙන ඉන්නවා.

"අරුණී ඔයා බය වෙන්න එපා. ආයේ කාටවත් මම ඔයාව උදුරාගෙන යන්න ඉඩ දෙන්නේ නෑ. සමන් ගැන ඔයා බය වෙන්න එපා. මිනිහට බෑ අපිට මුකුත් කරන්න...."

"මට මං ගැන නම් බය නෑ මාලින්ද. ඒත්...ඔයා, ඒ ගොල්ලෝ ඔයාට මොනවා හරි කරයිද කියලා මට බයයි මාලින්ද..., අනික ඔයාගේ අනාගතේ..., ඒ හැම දෙයක්ම මේ කාළකන්නි කෙල්ල හින්දා ඔයාට නැතිවෙලා යයි මාලින්ද..."

මම අරුණීගේ මූනට එබුනා.

"ඔයා ලැබෙන්නේ නැතුව, මට අනාගතයක් නෑ අරුණී. මට කිසි දෙයක් නැති වෙන්නේ නෑ. ඔයා මගේ ළඟ ඉන්න හැමදාටම. අපි දෙන්නාට වරදින්න විදියක් නෑ කවදාවත්ම. පුළුවන් හැටියකට අපි පටන් ගමු. ඔයාගේ අම්මලා තාත්තලා තරම් සැප සම්පත් දෙන්න මට පුළුවන් වෙන එකක් නෑ. ඒත්..., මම ඔයාව දුකෙන් තියන්නේ නෑ අරුණී..."

අරුණී මට තුරුල් වුනා.

අපේ වෙලාවටමද මන්දා, ඉසංකාලගේ අය්යාගේ ගෙදරට යද්දි ඉසංකාත් එහේ ඇවිත් හිටියා. අය්යයි, අක්කායි අපි දෙන්නාව ගොඩාක් සන්තෝෂයෙන් බාර ගත්තා.

"දැන් වුන දේ වුනා මල්ලී...., ඔයාලා දෙන්නා මොනවා හරි පිළිවෙලක් වෙනකම් මෙහේ නවතින්න. දැන් තව ටික දවසකින් අරුණීලාට කැම්පස් පටන් ගනියි. ඊට පස්සේ ඔය ප්‍රශ්ණ හෙමිහිට ඉවර වෙයි. එතකම් කලබල නොවී වැඩ කරගන්න..., අනික අරුණී ඉන්නේ මෙහේ කියලා කාටවත් දැනගන්න තියන්න එපා..."

අපි කට්ටිය හවස් වෙනකම් අය්යලාගේ ගෙදර හිටියා. ඉසංකා අරුණීට කාමරයක් ලෑස්ති කළා.

"දැන් ඉතින් පුංචි පාටියක් දාන්න වෙයි...."

"පුංචියට නෙමෙයි මල්ලී, අපි දෙනවා නියම පාටියක්. හැබැයි දැන්ම නෙමේ. අපි දෙන්නා බැන්දාට පස්සේ..."

විහිළුවෙන් විහිළුවෙන් කතා බහ කළත්, හිත ඇතුලේ තියෙන බර කොයි තරම් ද කියලා මට තේරෙනවා. අරුණිගේ අම්මා,සමන් ඉස්සරහට මොන වගේ තීරණයක් ගනියිද කියලා හිතාගන්න බෑ. දැන් ඒ කට්ටියම මාව මරන්න තරම් කේන්තියකින් ඇති...

"කෝකටත් උඹ මේ දවස් ටිකේ පරිස්සමෙන් හිටපං...."
බිංදුගේ කතාව ඇත්ත.

හවස් වුන නින්දා අපි ගෙදර එන්න හැදුවා. අරුණිගේ ඇස් දෙක කඳුළු වලින් පිරිලා. මට එයාගේ දුක නොතේරෙනවා නෙමෙයි.

"ඔයා බය නැතුව ඉන්න. මම හෙට උදේම එන්නම්. අමිලයි, කොටායි ගියා අක්කාගේ ඔෆිස් එකට පණිවිඩේ කියන්න. උන් දෙන්නාත් දැන් අපේ ගෙදර එයි. දැන් හිත කලබල කරගන්න එපා. අරුණි...මම ඔයාට ආදරෙයි...රත්තරන්..."

මම එයාගේ නළල සිප ගත්තා. අපි දෙන්නාගෙම ඇස් වලින් කඳුළු කඩා හැලුනා. ඉසංකාගේ අක්කා අරුණිව බදාගත්තා. අරුණි, ඒ අක්කාට තුරුල් වෙලා ඉකිගහන්න පටන් ගත්තා.
අපේ ගෙදරට එන්න මහරගම බස් එකකට ගොඩවුනා.

" දැන් තමයි ප්‍රශ්ණ පටන් ගන්නේ. අරු දැනටමත් මොනවා කරන්න හිතාගෙන ඉන්නවද දන්නේ නෑ ..., මම අපේ අනිත් එවුන් ටිකටත් පණිවිඩේ ඇරියා. උඹ බය වෙන්නේ නැතුව හිටපං මාලින්ද..."

අපි ගේ ළඟට ඇතුල් වෙද්දි, අම්මා ගේ ඇතුලේ ඉඳලා අපි දෙන්නා ළඟට දුවගෙන ආවා. අම්මා බය වෙලා හොඳටම...

"අරුණි නැතිවෙලා....!, ඒකට ඔයාව සැකයි කියලා අරුණිගේ අම්මා පොලීසියට පැමිණිල්ලක් කරලා. මොනවද මේ විකාර...?, මට තේරෙන්නේ නෑ මෙතන මොනවද වෙන්නේ කියලා. දැන් තාත්තා ආවොත් එහෙම හොඳටම

කෝන්ති යයි...."

අම්මාට හොඳටම කෝන්ති ගිහින්.

"හෙට උදේම පොලිසියට එන්න කිව්වා...."
බිංදු, එක පාරටම මගේ මූන දිහා බැලුවා.

ඒ ගමන මේ මොකක්ද වෙන්න යන්නේ...?

* * *

ඊ තිස්සේම අම්මයි, තාත්තයි දෙන්නා හොඳටම බැන්නා. අතරින් පතරින් අක්කාටත් බැන්නා. අක්කාට නම් සතුටුයි, අරුණිව නුගේගොඩ නවත්තපු එක ගැන.

"පව් වැඩේ කෙල්ල....පාළුවෙන් ඇති. අද හවස මම වැඩ ඇරිලා එන ගමන් එහාට එන්නම්. ඔයා අම්මට හොරෙන් මගේ ගවුම් දෙක තුනක් දාගෙන යන්න. අරුණිට අඳින්නවත් ඇඳුමක් නැතුව ඇති..."

අක්කා ඔෆිස් ගියාට පස්සේ, තාත්තා ඔෆිස් යන ගමන් මාවයි බිංදුවයි එක්කගෙන පොලීසියට ගියා. මගෙන් ප්‍රශ්න අහපු පොලිස්කාරයත් කොල්ලෙක්.

"මම දන්නෙ නෑ අරුණි කොහේ ඉන්නවද කියලා. ඒත් අරුණිව ගෙදරින් හිරකරගෙන වගේ හිටපු හින්දා එයා ගොඩාක් හිතේ අමාරුවෙන් හිටියා කියලා මම දන්නවා. කලින් දවසක කාතිවල් එක වෙලාවෙදිත් සමන් මම ඉන්න තැනට ඇවිත් ගෝරියක් ඇදගත්තා..."

මම කිව්වා.සමන් පොලීසියට ඇවිත් තිබුණේ නෑ. පැමිණිල්ලක් දාන්න ඕනෙවට දම්මා මිසක් මේ ප්‍රශ්ණෙ පොලීසි ගෙනිහින්, ඊට පස්සෙ තමන්ගේ තත්වේ නැති කරගන්න ඕනෙ කමක් මිනිහාටවත්, අරුණිලාගේ අම්මලටවත් නැති විත්තිය මම දන්නවා. උන් ඊට වැඩිය ලොකු දෙයක් කරන්න ඉඩ තියෙනවා.

"මාලින්ද මම දන් ගෙදර ගිහින් කෙළින්ම නුගේගොඩ අයියලාගෙ ගෙදරට එන්නම්. කොටාත් එහාට එන්නම් කිව්වා. අමිල නම් එන එකක් නැහැ...."

"මම දන් ගෙදර ගිහින් අම්මට හොරෙන් අක්කාගෙ ඇඳුම් දෙක තුනකුත් අරගෙන එන්නම් අද රෑ මම උඹලගේ ගෙදර ඉන්නවා කියලා එන්නේ. නැත්නම් ගෙදර හිටියොත් අදත් අම්බානකට බැනුම් අහගන්නයි වෙන්නෙ...."

ගෙදර ගිහින්, අක්කාගෙ ගවුම් දෙකකුත් බෑග් එකක දාගෙන, යාන්තම් අම්මට වැදලා වගේ බොහොම අමාරුවෙන් රෑ බිංදුලාගේ ගෙදර ඉන්න අවසර ඉල්ලා ගත්තා. අම්මා ඉන්නෙ හොඳටම බයවෙලා.

"ඕනේ නැති ලෙඩ පටලවා ගන්න එපා. දන් කොහොමටත් අරුණිලාගේ ගෙදර අය අපිත් එක්ක හොඳ නෑ...."

එළියට බහින කොටත් දිගින් දිගටම අම්මා කිව්වා.

මම නුගේගොඩ හන්දියට ඇවිත්, එතනම තිබුණ ෆාමසි එකට ගොඩවුනේ, අරුණිට ගේන්න තිබුන බේත් වගයක් අරගන්න. එයාට දිගටම අවුරුද්දක් විතර බෙහෙත් ගන්න වෙයි කියලා, ඩොක්ටර්ස්ලා කියලා තියෙනවා. ඊයේ හදිසියේම වුන සිද්ධිය හින්දා, එයාට ගෙදර තිබුන බේත් ටික ගන්නත් බැරි වුණා.

මම බේත් ටිකක් බෑග් එකට දාගෙන පාරට බැස්සා. ඒත් මට වැඩිදුරක් ඇවිදින්න ලැබුනේ නෑ. අවත්ම තිල් පාට වෑන් එකක් ඇවිත් මගේ ඇගේ ගෑවී නොගෑවී වගේ නැවැත්තුවා. අඳුරුපාට වීදුරු තිබුණ වෑන් එකේ ඉස්සරහ දොර ඇරුනා.

වටා...ස්....!

මගේ දකුනු කම්මුලෙන් තරු පැන්නා. වෑන් එකෙන් බැහපු එවුන්, මට දිගට හරහට ගහන්න පටන් ගත්තා. මොකද වුනේ කියලවත් මට හිතාගන්න බැරි වුණා. දේවතා එළි වීසි වෙනවා වගේ හතර අතෙන් ගුටි කද්දී, මගේ අතේ තිබුණ බෑග් එක වීසික් වෙලා ගියා. බෑග් එක එතන තිබුන මඩ වළට වැටිලා පෑගෙද්දී, තව දුරටත් කෙලින් ඉන්න තරම් ශක්තියක් මට තිබුනේ නැහැ. මගේ නහය දිගේ සීතලට ලේ පාරක් ගලාගෙන යනවා මට දැනුනා.

"අඩෝ කෑ.. වැඩ කරන්න එපා යකෝ, තනි එකෙක්ට ගහන එක ලොකු වැඩක්ද පරයෝ, හිටපං තෝව අද බාවනවා...වල් බල්ලා......"

ඒ කටහඬ මට ඇහුනේ හරියට දිව්‍ය ලෝකෙකින් ආවා වගේ. කොටා

බිංදුත් එක්ක මගේ දිහාවට දුවගෙන එනවා මට යාන්තමට පෙනුනා. ඒ එක්කම, මට එක දිගටම ගහන සමන්ගේ බෙල්ල හිරවෙලා යන්න මම මිරිකා ගත්තා. නුගේගොඩ හන්දියේ එහා පැත්තේ හිටපු අපේ ස්කෝලේ එවුනුත් වටවෙලා සමන්ලට ගහන්න පටන් ගත්තා.

"උඹට අමාරුද....?", බිංදු එහෙම අහද්දි තමයි මගේ තොල්වලට මගේම ලේවල රස දැනුනේ.

"වල් බල්ලා......, වට කරලා ගහන එක චන්ඩි කමක්ද ඩෝ.....", කොටාට අම්බානකට කේන්ති ගිහින්. එකෙක්ට හොඳටම ගහනවා

නුගේගොඩ හන්දියේ ට්‍රැෆික් එකට දාලා හිටපු පොලිස්කාරයෙක් අපේ පැත්තට දුවගෙන එනකොට, සමන්ලා ආපහු වෑන් එකට නැඟගත්තා. වෑන් එක ඉස්සරහට ඇදෙද්දී, බිම තිබුන ගඩොල් බාගෙකින් මම පිටිපස්සේ වීදුරුවට දමලා ගැහැව්වා.

සලාං........

වීදුරුව කැලිවලට කැඩිලා වීසිවුනා.

අපි පොලිස්කාරයට විස්තරේ කියලා එතනින් ආවා.

"දැන් වරෙන් යන්න බෙහෙත් ටිකක් දාගන්න. උඹට තේරුනේ නැති වුනාට නලල හොඳටම තුවාල වෙලා...."

අපි එතනම තිබුන, ඩිස්පැන්සරියක් ඇතුලට ගොඩ වුණා.

මගේ නළල වටේ ඔතලා තියෙන බැන්ඩේජ් එක දැක්කා විතරයි, අරුණි අඬන්න පටන් ගත්තා.

"බලන්න මාලින්ද, මේ කරදර ඔක්කොම මම හින්දා. හොඳ වෙලාවට බිංදුලා නුගේගොඩ ගියේ නැත්නම් මොනවා වෙයිද....?"

අපි ගේ ඉස්සරහ මිදුලේ තිබුන, සේපාලිකා ගහ යටින් ඉඳගත්තා.

"අර කාලකන්නි පොලිස්කාරයා ආවේ නැත්නම් අරුගේ කැලිවත් හොයාගන්න වෙන්නේ නෑ. අපරාදේ....! මට දුක, හිතේ හැටියට ඌට දෙකක් ඇනගන්න බැරි වෙච්ච එක ගැන..."

ඉසංකා, බිංදු, කොටා කථා කරකර ඉන්දැද්දි අපි දෙන්නා ඊට එහා තිබුන බංකුවට ගියා.

"ගෙදරින් එනකම් එයාලා එකතුවෙලා මට වද දුන්නා නැතිවෙන්නම. දැන් උන් ඔයාට ඉන්න දෙන්නෙත් නෑ. අපි දෙන්නාගෙන් පලිගන්න තරම්, අපි කරපු වැරැද්ද මොකක්ද මාලින්ද...."

"ඒක සමන්ගෙ තියෙන තිරිසන්කම අරුණී. මේක විතරක් නෙමෙයි ඉස්සරහට උනත් ,අපි දෙන්නට මොනවා කරයිද කියන්න බෑ. ඒ යකා ඒ තරම්ම බල්ලෙක්...."

"ඉස් ඉස්සෙල්ලාම මම සමන්ව දැක්කහම හිතුවා, මිනිහා හරි වැදගත් කෙනෙක් කියලා. ඒත්.... ටික දවසකින්ම මම දැනගත්තා මිනිහා මහ කුහකයෙක් කියලා. ඒ වුනාට, ඒ වෙනකොටත් මිනිහා අපේ අම්මලා, තාත්තලව අල්ලගෙන ඉවරයි. ඒ විතරක් නෙමෙයි, මම මේ ළඟදී දැනගත්තේ මාලින්ද....අපේ තාත්තා වත්තෙන් අයින් වුනාට පස්සේ අලුතෙන් හදපු සාප්පුව දාන්න සල්ලි අරගෙන තියෙන්නෙත් සමන්ගෙන්. ලක්ෂ 15ක් විතර.... ඔය හැම එකක්ම කළේ මාව අල්ලගන්න....."

"සල්ලි මත්තෙම නැහෙන මිනිස්සුන්ට, හැම දෙවියෙක්ටම හැම මිනිහෙක්ටම වැඩිය, සල්ලි වටිනවා අරුණී....උන්ගේ ලෝකේ එච්චරයි...."

"සමන් කිසිම දවසක මට ආදරේ කළේ නෑ. ඒ යකාට මම, තවත් කෙල්ලෙක් විතරයි. මිනිහාට ඕනේ වුනේ මාව නෙමේ, මගේ ඇඟ. මිනිහාගේ වල්කම් ආරංචි වෙලා තමයි, කලින් වයිෆ් දික්කසාද වෙලා තියෙන්නෙත්. මිනිහාට මාව ඕනේ උනේ, ඒ මඩ ටික වහගෙන තැනින් තැනට එක්කගෙන යන්න විතරයි. මාව දැකපු දවසේ ඉඳලා ඌට ඕනේ වුනේ මාත් එක්ක නිදාගන්න. ඊයේ රෑ ගෙදර ආපු වෙලාවෙම අම්මා මට ගැහුවා. ඊට පස්සේ මම කාමරේට වෙලා නිදාගන්න හදද්දි, සමන් මහ රෑ මගේ කාමරේට ආවා. මිනිහා මට කරදර කරන්න හදනකොට මම කෑ ගහලා එළියට ආවා. හැබැයි ඊට පස්සේ නම් අම්මා සමන්ට ටිකක් තදින් කතා කරලා බැන්නා. එයින් පස්සෙ මුළු රෑම ඇහැරිලා ලයිට් එකක් දාගෙන සාලේ ඉඳගෙන හිටියා. අම්මාත් සැරෙන් සැරේ මගේ ළඟට ඇවිත් හිටියා. ඊයේ සමන් එක්ක පොරකනකොට මිනිහා මට හොඳටම ගැහුවා...."

මම අරුණීගේ ගෙල දිහාට එබුණා. කෙස් රොදෙන් වැහුන බෙල්ලේ යාන්තම් සීරුන පාරවල් තියෙනවා රතු පාටට. මගේ හිත දුකෙන් පිරුනා. මට ආදරේ කරපු හින්දා මගේ අරුණීට ගහන්න තරම් ඌට තියෙන අයිතිය මොකක්ද....?

පර බල්ලා....! මගේ දත් කිටි කිටියේ තද වුනේ කේන්තියට.

"දැන් අපි ඒවා අමතක කරමු. හැමදාම මම ඔයා ළඟ. අපි දෙන්නාට, අපි දෙන්නා ඉන්නවා. මට මුළු ලෝකෙම අල්ලගන්න ඕනෙ නෑ අරුණී. ඔයාව මට ලැබෙනවානම් ඒ ඇති. මේ දවස් ටික පහුවෙලා බලමු. මොකක්ද කරන්නේ කියලා. මම හිතන්නේ නෑ විහාගේ ෆේල් වෙලා ඇති කියලා..., ඒත් ඉක්මණටම ජොබ් එකක් නම් හොයාගන්න ඕනේ. හැමදාම ඔයාට මෙහෙම එක එක තැන ඉන්න බැහැනේ අරුණී..."

"ඔව් මාලින්ද..., මමත් ආස නෑ කාටවත් කරදර කරන්න. ඒත් ඉසංකාලගේ අක්කයි, අය්යයි නම්, මට මෙහෙන් යන්න දෙයිද කියන්න බෑ. ඒ තරමටම ආදරෙයි. ඊයේ රෑ අක්කයි, අය්යයි නුගේගොඩට ගිහින් මට අඳින්න ගවුම් අරගෙන ආවා. අක්කා ඉඳන් කියනවා අය්යා කඩේට ගියාම එයාටත් පාළු හින්දා මෙහේම ඉන්න කියලා...."

ඉසංකාගේ අක්කයි, අය්යයි ගැන නම් කියන්න වචන නෑ. ඒ දෙන්නා හිටියේ නැත්නම් මට හිතා ගන්නවත් බෑ මොනවා කරන්නද කියලා. එහෙම නම්. අපි දෙන්නා කොහේ යන්න කියලද...?

"මාලින්ද..."

"ඇයි...?"

"දැන් කිසිම හදිස්සියකටවත් ගන්න, ඔයාගේ ලඟවත් මගේ ලඟවත් සල්ලි නෑ නේ. මගේ බැංකු පොතත් ගෙදර. ඒ හින්දා මාලින්ද..., ඔයා මේක තියලා සල්ලි ටිකක් ගන්න..."

අරුණී එයාගේ කරේ තිබුණ චේන් එක ගලවලා මගේ අතින් තිබ්බා.

"පිස්සුද අරුණී...!, අපි පුළුවන් විදියට සල්ලි හොයා ගමු. ඒත්..., මට මේක නම් කරන්න බෑ. මගේ ළඟ සල්ලි නැති බව ඇත්ත අරුණී. ඒ වුණත් මට මේක නම් කරන්න බෑ..."

"දැන් අපි දෙන්නා දෙන්නෙක් නෙමෙයිනේ මාලින්ද. මේ හැම දෙයක්ම කරන්නේ අපි දෙන්නා වෙනුවෙන්. ඔයා මේ තරම් මහන්සි වෙන්නේ අපි දෙන්නා වෙනුවෙන්. ඉතින් මමත් මොනවා හරි කරන්න ඕනේ. මේ වෙලාවේ මට කරන්න පුළුවන් මෙච්චරයි මාලින්ද...,ඒ හින්දා ඔයා මේක ගන්න. අපි දෙන්නාම හම්බු කරලා මේක බේරගමු..."

අරුණීගේ දෙනෙත් මගේ මුහුනට කිමිදුනා. එයාගේ අතේ තිබුණ මාලේ මගේ අල්ලට තියලා මිට මොලවද්දි, අපේ හිත් සෙනෙහසෙන් පිරිලා ඉතිරුනා.

"අරුණී...."

"ඇයි මාලින්ද...."

"මම කවදාහරි ජොබ් එකක් කරලා ඉස්සෙල්ලාම ගන්න පඩියෙන් කරන මුල්ම වැඩේ තමයි, මේ මාලේ බේරගන්න එක.

* * *

තුවාල හොඳ වුණාට මොකද, තාම ඇග තැලුන එකේ වේදනාව සැරන් සැරේ මතුවෙනවා. අරුණීගේ අම්මා අපේ ගෙදරටම ඇවිත් බැනලා ගියා. අපේ අම්මලා මට කොච්චර කැගැහුවත්, අරුණීගේ අම්මා ජරා විදියට බනිද්දී නම් මගේ පැත්ත ගත්තා.

"බිංදු...., හැමදාමත් ඔය විදියට අයියලගේ ගෙදර ඉන්න බැනේ බං. මගේ හිතටත් සැහෙන්න අප්සට්. ඊළඟට මොකද කරන්නේ කියන එක තමයි ප්‍රශ්නේ...."

"ඒකම තමයි මල්ලි මාත් කල්පනා කළේ. දිගටම අනුන්ට කරදර කරන්න බැහැනේ. අනේ මන්දා මොනවා කරන්නද කියලා...."

අක්කාත් නිවාඩු දවස හින්දා මගේ කාමරේට ආවා.

"උඹ මේ පිස්සු නටන්නේ නැතුව හිටපං. ඉසංකාගේ අය්යට කිසිම කරදරයක් නෑ. අනික..., ඒ දෙන්නා දූන් කැමතිත් නෑ අරුණීව යවන්න. අක්කටයි, අයියටයි අරුණීව හොඳටම හිතට අල්ලලා. එයාලගේ ගේත් සාගරයක් වගේ. ඉඩත් තියෙනවා. ඒ දෙන්නට සල්ලිවලිනුත් කිසිම අඩුපාඩුවක් නෑ..., තාම ළමයිනුත් නෑ. ඉතින් ඒ මිනිස්සුන්ට අරුණීව තියාගන්න එක මහ ලොකු බරක් නෙමේ බං..."

"එහෙම කියලා බැනේ මචං...,"

අපේ ගෙදර බෙල් එක වැදෙනවා ඇහුනේ එතකොටම වගේ. අපි තුන්දෙනාත් එක්ක මූනට මූන බලාගත්තා.

කවුද මේ වෙලාවේ....?, ආයෙමත් අරුණීලාගේ අම්මාවත්ද...?
මම ඉස්සරහට ගිහින් දොර ඇරියා.

## අංජලී.....!

අංජලියි, ගිහානුයි හිනාවෙවී දොර ළඟ. අංජලී ටිකක් විතර මහත් වෙලා..., එයා ළඟදිම අම්මා කෙනෙක් වෙන්න යනවා වගේ...

"අම්මෝ දැකපු කල්. කොහොමද අපිව මතක් වුනේ...?,එන්න එන්න කෙළින්ම ගේ ඇතුලට..."
ඒ දෙන්නා ඉඳගනිද්දි, අක්කයි බිංදුයි සාලෙට ආවා.

"ඉතිං..., මොනවද මේ අලුතෙන් කරගෙන කියලා ආරංචි වුනා. ඊයේ හවස නිමාෂි මට කෝල් කරලා කිව්වා. ඒකමයි අපි මේ හදිසියේම කොළඹ ආවේ...."

අංජලී කතාව පටන් ගත්තා. මට නම් හරි පුදුමයි නිමාෂි කොහොමද මේ දේවල් හැම එකක්ම දැනගත්තේ කියලා...

"නිමාෂිට කොහොමද දන්නේ නෑ ආරංචි වුනේ...?, හැම දෙයක්ම වගේ වුනේ හදිසියේම වගේ අංජලී..., තාම අරුණිගේ අම්මලා දන්නෙ නෑ එයා කොහෙද ඉන්නේ කියලා. දැනගත්තොත් මොනවා කරයිද දන්නෙත් නෑ. දැන් දවස් ගණනකට කළින්, සමන් චන්ඩි ගෙනල්ලා මට ගැහුවා නුගේගොඩ හන්දියේදි..., මේ...තියෙන්නේ ඒවා තමයි..."

මම මගේ නලල පෙන්නුවා.
අංජලීටයි, ගිහාන්ටයි මම මුල ඉඳලම විස්තරේ කියද්දි, ඒ දෙන්නා පුදුම වෙලා වගේ අහගෙන හිටියා.

"අපි ඔය තරම් දෙයක් දැනගෙන හිටියේ නෑ. ඔය වගේ තත්වයක් තියාගෙන, ඒ ගෙදර අරුණිට ඉන්න බෑ නේ...,අනික මහරගමට ගොඩාක් කිට්ටු නිසා අරුණිලාගේ ගෙදර අයට, එයා ඉන්න තැන හොයාගන්න එක එච්චර දෙයක් නෙමෙයි මාලින්ද. ඔය දෙන්නා ගත්තු තීරණේ හරි. දැන් තියෙන්නේ අනාගතේ ගැන බලන එක..."

අංජලී පැහිච්ච ආච්චි කෙනෙක් වගේ කිව්වා. බැන්දාම කෙල්ලෝ කොයි තරම් නම් හිතන්න පුරුදු වෙනවාද....?

අක්කා තේ වක්කරගෙන ආවා.

"ඔය දෙන්නා එන්න අපේ ගෙදර නවතින්න...", ගිහාන් කිව්වා.

"අපි තාම බැඳලා නැනේ මචං...,ඉතිං කොහොමද ඒක කරන්නේ...?"

මගේ කතාවට කට්ටියටම හිනා ගියා.

"එහෙම නම් අපි, අරුණිව අපේ ගෙදර නවත්තගන්නවා. ඒකටමයි අපි හදිස්සියෙම මෙහේ ආවේ. ඔයාට හිතන්න කිසිම දෙයක් නෑ, අරුණිව අපි එහේ එක්කාගෙන යනවා. මෙහේට වැඩියෙන් පේරාදෙණියේ එයාට ආරක්ෂාවත් හොඳයි. අනික... එයාලගේ අම්මලා වුනත් හිතන එකක් නෑ අරුණි ඒ වගේ දිහාවක යයි කියලා...."

අංජලීට මොනවා කියන්නද කියලා මට හිතාගන්න බෑ. අරුණිව නුවර නැවැත්තුවොත් මට කොළඹ ඉන්න බෑ. මම දන්නවා දැන් නම් අරුණිට මම නැතුව මොහොතක්වත් ඉන්න බෑ. ඉතින් මම කොහොමද අරුණිව නුවර අරින්නේ...?

"ඒකනම් කරන්න බෑ අංජලී. මොකද..., ඒහේ නැවැත්තුවොත් මට වුනත් අරුණිව බලන්න එන එක කරදරයි. එහේ නවතින එක ආරක්ෂාවට නම් හොඳයි තමයි. ඒත්..."

"අපි මේ හදිසියේම ආවෙත්, ඔයාලා දෙන්නට ඉන්න තැනක් ලෑස්ති කරන්න ඕනේ හින්දමයි. බලන්න..., අපේ ගෙයි කාමර කීයක් හිස්ද...?, අරුණිට එහේ කරදරයක් නෑ. පේරාදෙණියේ කැම්පස් යනවා නම් ඒකටත් ළඟයි. අනික..., එයාගේ අසනීපෙට වුනත් රෙස්ට් කරනවා නම් මෙහෙට වැඩිය එහෙනේ හොඳ....", අංජලී කිව්වා.

අංජලී කියන එකෙත් ඇත්තක් තියෙනවා. පණිවිඩේ ආරංචි වුන හැටියෙම ඒ දෙන්නා කොළඹ ආවෙත්, අපි දෙන්නා හින්දමනේ. මම අක්කා දිහා බැලුවා. එයත් කතා නෑ. බිංදුවාත් කට වහගෙන ඉන්නවා. මොනවා කරන්නද මන්දා.

"මට නම් කිසිම දෙයක් කියන්න බෑ එකපාරටම. අරුණිගෙනුත් අහන්නේ ඕනේ. අනික, ජොබ් එකක් හොයාගන්න නම් කොළඹ ඉන්න එක මට ලේසිවෙයි. නැත්නම් මමත් කැමතියි එහේ ඇවිත් ඉන්න. එතකොට ටික දවසකට හරි අපි දෙන්නාට හිතේ බයක් නැතුව ඉන්න පුළුවන්..."

"ජොබ් එකක් නම්, නුවර ගිය ගමන්ම වගේ, මම ලෑස්ති කරලා දෙන්නම්. අඳුනන අංකල් කෙනෙක් ඉන්නවා. මිනිහා ප්‍රයිවට් බැන්ක් එකක තදයෙක්. පොරට කිව්වොත් නම් බැරිවෙන එකක් නෑ...."

ඒක නම් වෙලාවේ හැටියට ලොකු දෙයක්. ඒත්..., අරුණිව නුවර නවත්තන එක ගැන නම් තව පාරක් හිතන්න ඕනේ. අරුණිගෙන් අහන්නත් ඕනේ.

"මම තව ටිකක් හිතලා, අරුණිගෙනුත් අහලා කියන්නම්. ඊට කළින් අපේ අම්මලව ෂේප් කරගන්නත් ඕනේ අංජලී..., හැබැයි අපි එහේ නවතින එක ඔයාලට කරදරයක් වෙයිද දන්නෙ නෑ...."

"ඔය වගේ විකාර කතා තමා මෙයාගේ තියෙන්නේ. කරදරයක් නම් අපි මෙහෙම හදිසියේම කොළඹ එනවද ළමයෝ. අපි නුවර ගිය ගමන්ම ජොබ් එකේ වැඩේ ගැනත් බලන්නම්. නේද ගිහාන්...?", ගිහාන් මාත් එක්ක හිනාවෙලා ඔළුව වැනුවා.

අංජලීයි, ගිහානුයි ටික වේලාවක් ඉඳලා යන්න ගියා.

"මොකද කරන්නේ බං....", එයාලා ගියාට පස්සේ බිංදු මගෙන් ඇහුවා.

"අනේ මන්දා මචං...."

අරුණි ගෙදරින් ඇවිත් සති දෙකක් ගතවෙලා ගියේ අපිටත් හොරෙන්. හැමදාම මමයි, බිංදුයි උදේම නුගේගොඩ ඉසංකාගේ අය්යලාගේ ගෙදර ගිහින්, හවස්වෙලා එනවා. සෑහෙන කාලෙකට පස්සේ අරුණි සන්තෝසෙන් ඉන්නේ දැන් තමයි...

මම ගේට්ටුව ඇරගෙන වත්තට ඇතුල් වුණා. වෙනදට මම එද්දි ඉස්සරහට දුවගෙන එන අරුණි අද නෑ. සාලේ ඉඳගෙන හිටපු අක්කාගේ මූණත් හරි නෑ...

"කෝ අක්කේ අරුණි...?"

"කාමරේ නිදි. මල්ලි පොඩ්ඩක් මෙහාට එන්න..."

ඉසංකාගේ අක්කා කවදාවත් නැතුව එහෙම කියද්දි,මම පුදුම වෙලා වගේ එයා ළඟට ගියා.

"සමන් තව දෙන්නෙකුත් එක්ක අද මෙහේ ආවා. මිනිහට කොහොම හරි ආරංචි වෙලා තියෙනවා අරුණි මෙහේ ඉන්නවා කියලා. මිනිහා ගෙට ආවේ කෙළින් ඉන්නවත් බැරි තරමට බීලා. යාළුවෝ දෙන්නත් චන්ඩි පාට් එකක් දාන්නයි හැදුවේ. හොඳ වෙලාවට අය්යා ගෙදර ඇවිත් තිබුනා ඒ වෙලාවේ කෑම කන්න. අය්යා එකෙක්ව බෙල්ලෙන් අල්ලලා එළියට දැම්මා. සමන්ටත් හොඳට දෙකක් කිව්වා..."

"නෑ....!"

මාව හොල්මන් වෙලා ගියා ඒක අහලා. දන් නම් තත්වෙ, එන්න එන්නම දරුණු වෙනවා වගේ.

"පව් මල්ලි...., කෙල්ල හොඳටම බයවෙලා. ඇඟ ටිකක් රස්නෙයි වගේ කියලා, බේත් පෙති දෙකක් බීලා ඇඳට වුණා එවෙලෙම. තාමත් නිදි..."

මම කාමරේට ඇතුල් වුණා. පුංචි දරුවෙක් වගේ, යාන්තමට හිනාවේගෙන නිදාගෙන ඉන්න අරුණිගේ ලස්සන....

"අරුණි..."

එයා හෙමිහිට ඇස්පිය ඇරියා.

"දන් කොහොමද ඔයාට...?,", මම අහද්දි, එයා මගේ අත උඩ මුහුණ තියාගත්තා.

"මට බයයි මාලින්ද. සමන් අද මෙහාටත් ආවා. ඇයි.... මාලින්ද එයාලා මට මගේ පාඩුවේ ඉන්න ඉඩ දෙන්නේ නැත්තේ...?, ඩොක්ටර්ස්ලා මට බෙහෙත් දෙනකොටම කිව්වා පුළුවන් තරම් හිත සන්සුන්ව තියාගන්න කියලා. ඔළුව අවුල් වේගෙන වගේ යනකොට, කම්පනයක් වෙන එක, මගේ ලෙඩේට හොඳ නෑලු. ඊට පස්සේ අම්මටත් ඩොක්ටර් වෙනම කිව්වා පැයක් විතර. ඒවා මොනවාද කියලවත්, හරියටම මගේ ලෙඩේ මොකක්ද කියලාවත් මම දන්නේ නෑ. අවුරුද්දක් විතර යනකම් සැහෙන්න පරිස්සම් වෙන්නත් කියලා කිව්වා. අනේ මන්දා..., දවල් සිද්ධිය හින්දද කියලා, දැන් මට ආයෙමත් උණ වගේ. ඔළුව හරියට කකියනවා මාලින්ද. මගේ ලෙඩේ ගැන වුනත් අම්මලා මට ගොඩාක් දේවල් හංගනවා වගේ. මට ඒක තේරෙනවා. මට කතාවෙන් තේරෙන විදියට ඒක ටිකක් අමාරු එකක් වගේ.."

"අපි පේරාදෙණියේ යමු අරුණි, අංජලීගේ ගෙදර..., දන් කරන්න තියෙන්නෙ එච්චරයි. එහේ ඉන්න එක හැම දේකටම හොඳයි. මේ දවස් ටිකේ ඔය දීපු බෙහෙත් ටික අරගමු. ඊට පස්සේ මේ කලබල අඩු වුනාම, අපි කොළඹ ඇවිත් හොඳ ඩොක්ටර් කෙනෙක්ව චැනල් කරමු. ඔයා ලෙඩේ ගැන බය වෙන්න එපා. බෙහෙත් නැති ලෙඩ කොයින්ද මේ ලෝකේ...?"

එයාගේ හිත හදන්න මම එහෙම කිව්වට, ලෙඩ ගැන මොනවද මම දන්නේ...?, අරුණි ටික වෙලාවක යනකම් කිසි දෙයක් කිව්වේ නෑ.

"යමු මාලින්ද...", ගොඩාක් වෙලා ඇස්පියාගෙන හිටපු එයා කිව්වා.

"හැබැයි මට ආයෙමත් කොළඹ එන්න ලැබෙයිද දන්නෙත් නෑ..."

අරුණී එහෙම කියද්දි මගේ හිත එකපාරටම ගැස්සුනා. විදුලි එළි දාහක් හිත ඇතුලේ පත්තු වෙන්න ඇති. ඒ ඇයි කියලා මටම තේරෙන්නේ නෑ..

"ඇයි අරුණී ඔයා එහෙම කිව්වේ...?"

"නුවරට මම හැමදාම ආසයි නේ. ඉතින් ඒ ලස්සන බල බලා, මම එහේටම වෙලා හැමදාම ඉන්නවා..., ආයේ කොළඹ එන්න මට කරදර කරන්නත් එපා මාලින්ද. මෙහේ, මාව බය කරන අයත් එක්ක ඉන්නවාට වැඩිය ඒක හොඳයි..."

මම කිසි දෙයක් කිව්වේ නෑ. මටම නොතේරෙන අනියත බයක් හිත ඇතුලේ විහිදිලා ගියා. වචන ගොළු වුනා.

"ඔව් මාලින්ද..මම ආයේ කවමදාවත් කොළඹ එන්නේ නෑ. ඒ ගොල්ලන්ට අල්ලගන්න බැරිවෙන්න, ඔයත් එක්ක නුවරටම වෙලා ඉන්නවා...."

# විසිහතර

කාලය යනවා අපි හැමෝටම කලින්. ලොකේ ඒ තරම් ඉක්මණට කැරකෙන්නේ ඇයි..?, අරුණි, අංජලීගේ ගෙදර නැවතුනා. ඉසංකාලගේ නුගේගොඩ ගෙදරින් අරුණිව එක්කගෙන ආවේ, අය්යයි අක්කයි දෙන්නා කෑගහද්දී. සමන්ට ඕනේ ඕනේ විදියට සෙල්ලම් කරන්න දෙන්න බැ.... උඹලා බය නැතුව මෙහේ හිටපල්ලා... කියලා අයියා කිව්වට, අරුණිව නුගේගොඩ වගේ එයාලගේ අම්මලට අල්ලන්න පුළුවන් තැනක තියන්න මම බයවුණා.

"මාලින්දට ලබන සඳුදා නේද ඉන්ටවි එක."

ගිහාන් පුටුවක් අරගෙන මිදුලට ආවා. හැම සෙනසුරාදාම මම නුවර එන එක පුරුද්දක් කර ගත්තා. සෙනසුරාදා උදේම ඇවිත් ඉරිදා රෑවෙලා යනවා. හොඳ වෙලාවට අපේ අක්කාටත් ජොබ් එකක් හම්බුවුනේ. නැත්නම් ඉතින් මාසෙකට දවසක් එන්නවත් අතේ සතේ නෑ. ඒ හින්දම තමයි ගිහාන්ගේ අංකල්ට කියලා බැන්ක් එකේ ජොබ් එක ලෑස්ති කර ගන්න බැලුවේ...

"ඔව් මචං. මම මේ ගමන්ම ඉදලා යනවා. ලබන සුමානේ අක්කලාත් එනවා කිව්වා හන්තානේ යන්න බලාගෙන..."

"අනේ මටත් හරි ආසයි හන්තානේ යන්න. ඒත් දන් බෑ..නේ.."
අංජලී දැන් ඉන්න තත්ත්වෙ හැටියට හන්තානේ නගින එක හොඳ නෑ.

"ඕකනේ අපි කිව්වේ ඒ දවස්වලම්. ඔවා කරගන්නවා තරම් ලේසි නෑ ඉතුරු ටැඩ සටහන...,"

"ආ බලාගෙන ඉන්නවා. ඔයා දැන් ඔහොම කිව්වට, මෙයාත් තිළමේ ගමන දාන හැටි බලන්න බැරියෑ අපිට...."

අංජලී ඒක කිව්වේ අරුණී දිහා බලාගෙන.

"ඒකෙන් කමක් නෑ. ජොබ් එකේ වැඩේ හුවර් එකටම හරයයි. ඊට පස්සේ උඹත් මෙහේ නැවතියං. හදිස්සියකට මටවත් කථා කරන්න කොල්ලෙක් මෙහේ නෑ. අනික මචං අංජලීට බබා ලැබෙන්න කිට්ටු වුණාම, අපි දෙන්නා කොලඹ යනවා. එහේ නර්සින් හෝම් එකක නවත්වන්න ඕනේ කියලා මෙයාලගේ අම්මලා කියනවා. ඊට කලින් උඹලා දෙන්නා බැඳලා, අපි එනකම් මෙහෙටම වෙලා හිටපං..."

"හොඳට තියෙයි ගිහාන්, මෙයාත් එක්ක තනියම ඉන්න ගියොත් නම්. ගිහාන්ලා කොළඹ ඉන්න ටික දවසට, මම මෙයාලගේ අක්කාට එන්න කියනවා..."
අරුණී දිව දික් කරලා මට කිව්වා.

* * *

"උඹට එහෙනම් ජොබ් එකකුත් හරි නේද යකෝ. දැන්වත් බැඳපං මොනවයින්ද අඩුපාඩු. කෙල්ලෙක් ඉන්නවා, ජොබක් තියෙනවා. තවත් මොනව බල බලා ඉන්නද බං...,"

කොටා, හන්තානේ ගමන පටන්ගත්ත හැටියෙම කැපිල්ලත් පටන් ගත්තා. අපේ අක්කගෙ යාළුවෝ ටිකයි, බිංදු, ඉසංකා, කොටා, අමිල, අසංග ඔක්කොම ආවා හන්තානේ යන්න. මමත් ජොබ් එකට ගිය මුල්ම දුමානේ...., කොච්චර වුනත් ජොබ් එකක් ලැබුන එකෙන් නම්, හිතේ තිබුන ලොකුම ලොකු බරක් සැහැල්ලු කළා. අනේ මන්දා මෙහෙම ඉන්නවාට වැඩිය හොඳයි කියලා හිතෙනවා අරුණීව බඳින එක. ඒත් අම්මලා මොනවා හිතයිද...?, අක්කා නම් කිසිම අප්සට් එකක් නෑ එයාට කලින් බඳින එක ගැන. බැඳලා, ඊට පස්සේ බැන්දේ නෑ වගේ හිටියා නම් එකත් හොඳයි.

"අරුණී..."

"ඇයි..."

"අපි අර පේන කන්ද මුදුනේ චූටි පැල්පතක් හදාගෙන, පානුයි පොල් සම්බෝලයි කාලා, ළමයි දහයක් පහලොවක් විතර හදාගෙන නිස්කලංකේ ඉමු නේද...?"
මම අරුණී කණට ලංවෙලා කැපිල්ලට වගේ කිව්වා.

"අනේ පණ යයි, පානුයි සම්බෝලයි කාලා මේ කන්ද නගිද්දි. අනික මට නම් බෑ පාත් ගෙන්න පල්ලෙහාට එන්න...."

අරුණි මගේ අත මිරිකාගෙන හිනාවෙවී කිව්වා.

"පාන් ගැන විතරක් කිව්වේ. ළමයි ගැන ප්‍රශ්ණයක් නැද්ද...?, ඔයා පිටි නම් මමත් පිටි..."

"වල් කොල්ලා...", අරුණි ඒක කිව්වේ අපේ අක්කලාට ඇහෙයි කියලා හරිම හිමින්.

"ඔයාලගේ ප්‍රථිපලත් ළඟදීම එයි නේද...?"
"ඔව්. දැන් නම් පපුව ඩිං ඩොං ගානවා. මට නම් ෂුවර් ෆේල් කියලා..."

අපි කන්ද මුදුනටම ගිහින් ගෙනාපු කෑම කෑවා. අද දවස හරිම හීතලයි. මහ දවල් වුනත් මීදුම හතර වටේම පිරිලා. හන්තානේ ලස්සන බලන්න නම්, මේ වගේ දවසකම එන්න ඕනේ. අනිත් කට්ටිය සිංදු කියද්දි, අරුණියි මමයි කන්ද බෑවුමේ තියෙන පයින් ගස් යට වාඩිවුනා. හතර වටේම පයින් ගස්වලින් පිරිලා. ඒ ගස්වල අතු අඹරවාගෙන සුළඟ එනවා. මහා වැස්සක් ඇතින් එනවා වගේ සද්දෙකුත් අරගෙනයි සුළං හමන්නේ.
"මට නම් හරි පුදුමයි මාලින්ද, මේ තරම් ඉක්මණට අපි දෙන්නාට සිද්ධ වුන දේවල් ගැන. අපි දෙන්නා ලංවුනෙත් හරිම පුදුම විදියට..."

"එහෙම තමයි අරුණි ජීවිතේ හැටි. අපි දෙන්නා දුක් වින්දා හොඳටම ඇති. ජොබ් එක ලැබුන නිසා මට දැන් හිතට ටිකක් සහනයක් හැමදාමත් අංජලීගේ ගෙදර ඉන්න බෑ..නේ. අපි දෙන්නා ටික ටික පිළිවෙලක් කරගන්න බලමු. මෙහේ කොහෙන් හරි ගෙයක් ගන්න ලැබුනොත් හොඳයි..."

"ඔව් මාලින්ද. මමත් කොළඹට වැඩිය ගොඩාක් ආසයි පේරාදෙණියට. කොළඹ ඉන්න කොට ප්‍රශ්න වැඩියි. අනික මට කැම්පස් යන්නත් ලේසියි..."

"තව මාස දෙක තුනකින් ඔයාලව කැම්පස් එකට ඇතුල් කර ගනියි. ඊට පස්සේ ඔයාට කම්මැලිකමක් වෙන එකකුත් නෑ..."

"හෙම්හිට වුනත් කමක් නෑ, හැම දෙයක්ම හරියටම වෙනවා නම්. හැමදාම මම පෙරුම් පුරාගෙන හිටියේ ඔයා ළඟට එන්න. දැන් ඒක හරි ගියා. හිත ආදරේ කරන දේකට ලංවෙන එක තරම් සතුටක් තවත් කොයින්ද...?"

අරුණි මට තුරුල්වුනා. ගස් අතරින් එන සීතලම සිතල සුළඟට අරුණිගේ සුවඳ එකතුවෙලා මගේ හදවත පුරාවටම පැතිරෙනවා. ඒ සුවඳ විතරයි මගේ හිත ඉල්ලන්නේ...

"අරුණි...., කිසිම දවසක මම හිතුවෙ නෑ ඔයාලගෙ අම්මලාගේ හිත් රිද්දලා ඔයාව අරගෙන එන්න. ඒත් ඒ දේ නැති කෙරුවේ එයාලමයි. මම දන්නවා... අරුණි ඔයාගේ හිතත් දුක් වෙනවා ඇති. දැන් ඔයාට මම ඉන්නවා. මට ඔයා ඉන්නවා. ඒ බැම්ම සදහටම තියේවි..."

"හදා වඩාගත්ත අම්මව මට අමතක කරන්න බෑ. ඒ වගේම එයාලා මගේ සතුට උදුරාගෙන, පොඩි කරලා විනාශ කරන්න හදපු එකත් මට අමතක කරන්න බෑ..."

"දැන් ඒවා ඉවරයිනේ අරුණි. අපි ඉස්සරහා ගැන විතරක් හිතමු. වැඩිකල් නොගිහින් අපි දෙන්නා බඳින එක හොඳයි. එතකොට නීති මාර්ගයෙන් ආවත්, සමන්ට මුකුත් කරන්න බෑ. ඔයා මොකද කියන්නේ..."

"ඔයා ගන්න ඕනෙම තීරණේකට මම කැමතියි. මට වෙන කිසිම දෙයක් ඕනේ නෑ. මට ඕනේ හැමදාමත් මේ විදියට ඔයාගේ උණුසුමට තුරුල්වෙලා, ඔයාගේ ආදරේ විඳගන්න විතරයි. කවදාවත් ඒක මට නැතිකරන්න එපා මාලින්ද....."

"සත්තයි අරුණි..."

මම පහත්වෙලා අරුණිගේ නලල සිපගත්තා. සුළඟට අවුල් වෙලා ගිය කෙස් රොදක් මගේ මුහුණට වැදුනා. ජීවිතේ කියන්නේ මේ සුන්දරත්වයට නෙමෙයිද....?, සල්ලි වලට කිසිමදාක ගන්න බැරි හිතේ සන්තෝසේ...., ලෝකයක් අල්ලන්න තරම් බලයක් තියෙන ආදරේ..., ජීවිතයට බලාපොරොත්තු පුරවලා, අනාගතය ගැන හිතන්න පුරුදු කරවන ආදරේ...ඒ හැම දෙයකම තියෙන්නේ වචන වලින් කියාගන්න බැරි සුන්දරත්වයක්. මේ වගේ මොහොතක තියෙන අසිරිය දනෙන්නේත් පෙම් කරන හදවත් වලට විතරයි.

හන්තානේ කඳු මුහුණ සිසාරා
පවනක් වී එන්නම්....
ඔබේ සුවඳ රැඳී කුටිය සමීපේ,
සුසුමක් වී ඉන්නම්....

මීදුම මැදින්, මගේ උරහිස්සට හේත්තුවෙලා උනුසුම දරාගෙන හිටපු අරුණිගේ දෙඅත් මිරිකගෙන, මම පහළට බැස්සා.

* * *

"මාලින්ද. අපි අක්කාට කියන්නම් මෙහේ එන්න කියලා. එතකොට නම් මම ඔයාගේ අම්මාටයි තාත්තාටයි සිද්ධිය පැහැදිලි කරලා දෙන්නම්...."

අංජලී හොස්පිට්ල් එකේ ඇඩ්මිට් කරන්න ඕනේ හින්දා ගිහානුයි, අංජලියි පස්සෙම යනවා උදව් වුණා. ඒ දෙන්නා ආයෙමත් නුවර එපාකම්, අපි දෙන්නා විතරක් මේ ගෙදර තනිවෙනවා. ගිහානුයි නැතුව අපි දෙන්නා මේ ගෙදර තනියම ඉන්න එකට මම කැමති වුණේ නෑ. ඒත් ..., ගිහාන් අංජලී දෙන්නාම, දිගින් දිගටම අපිට කන්කෙඳිරි ගෑවා.

"මාලින්ද ඔෆිස් ගිහින් එනකං, අරුණිට පුළුවන් නේ හිසිළින් අම්මා එක්ක ඉන්න. අපේ අම්මලා බඩු සංලේ නැත්නම්, මමත් කැමති නෑ කොළඹ ගිහින් නවතින්න. ඒත් ඉතින .... අන්වින් එයාලා කියන දෙයක් අහන්න එපාය..."

අංජලී කාර් එකට ගොඩවුණා. මේ දවස්වල දිගටම, උදේ ඉඳන් රෑ වෙනකම් වහිනවා. මහ වැස්සේ පාරවල් දෝර ගලාගෙන යන වතුර කපාගෙන, ගිහාන්ලා පිටත් වුණා. වැහි පොදවල සීතල කපාගෙන, අරුණිගේ උණුසුම මගේ තුරුලට ලංවුණා.

"අක්කා අද හෙටම එයිද මාලින්ද...?, ඔයා ඔෆිස් ගියාට පස්සේ මට හරිම පාළුයි. ඉන්නම හිතෙන්නේ නෑ. කලින් නම් අංජලීවත් හිටියා. එයා ඉන්නකොට නම් කිසිම පාළුවක් නෑ.."

මම, සාමිසේ අත්දෙක නවාගත්තා.

"අපේ අම්මලා මොනවා කිව්වද දන්නෙ නෑ අක්කාට...., අම්මලා හිතන්නෙ මම ජොබ් එක හින්දයි නුවර ඉන්නේ කියලා. එහේදී කරදරවලට පටලැවෙනවාට වැඩිය, මෙහේ ටික දවසක් හරි ඉන්න එකට අම්මා නම් කැමතියි..."

"අම්මලා මේවා දැන්ම දනගන්නේ නැත්නම් හොඳයි. අපි ටිකෙන් ටික මොනවා හරි පිළිවෙලක් කරගෙන, ඊට පස්සේ කියමු මාලින්ද..."

"මම හිතන්නේ නෑ අරුණි අපිට ඔය දේවල් ඔක්කොම කරන්න, ඒ තරම් වෙලා තියෙයි කියලා. සමහර වෙලාවට..., දනටමත් අම්මලා මේ ගැන දනගෙනත් ඇති. කොහොම වුනත් අපි දෙන්නා ඉක්මණට බඳිමු අරුණි..."

මම පාත්වෙලා වෙනදා වගේම අරුණිගේ නලල සිප ගත්තා.

"මාලින්ද..., අපි දෙන්නා හවසට දළදා මාළිගාවට යමුද, අංජලීට බාරයක් වෙන්න..., අපි නුවර ආවට පස්සේ, තාම දළදා මාළිගාව වදින්න ගියේ නෑ...නේ..."

"එහෙනම් මම ගෙදර ආවාට පස්සේ යමු."

* * *

"අපි දෙන්නා මේ ළඟින් ගෙයක් හරි, වත්තක් හරි හොයාගමු මාලින්ද. ඊළඟපාර අපි කොළඹ ගියාම, මම බැංකුවට ගිහින් කතා කරන්නම්. විස්තරේ කියලා ලියුමක් දුන්නොත් සමහර විට, බැංකු පොත නැති වුනත්..., මට බැංකුවෙන් සල්ලි ගන්න පුළුවන් වෙයි. එහෙම වුණොත් කිසි කරදරයක් නෑ...අපි දෙන්නාට ගෙයක් හදාගන්න ඕනෙවටත් වැඩිය සල්ලි ඒකේ තියෙනවා..."

"ඒක පස්සේ බලමු අරුණී. අපේ කම්පැණියෙන, මම හිතුවාට වැඩියි පඩි හොඳයි. හොඳට වැඩ ටික කරගෙන ගියොත්, තව අවුරුද්දක් විතර යද්දී හොඳ තැනකට එන්න පුළුවන් වෙයි. දැනටමත් හැම කෙනාම මට හොඳට හිතවත්..."

අපි දෙන්නා දළදා මාළිගාව ඇතුළෙන් හෙමින් ඇවිදගෙන ආවා. එළියේ වැස්සාවා සැහෙන්න තදින්. කුඩයක් යටින් වුනත් යන්න බැ වගේ..., මම පඩිපෙළ ළඟ බිත්තියට ළං වුණා. වහිනකොට මේ පළාත කොයිතරම් ලස්සනද...!

"මාලින්ද..., වැස්ස දැන්ම පායන එකක් නෑ වගේ. අපි කුඩේ අරගෙන යමු. එතකොට වැඩිය තෙමෙන එකකුත් නෑ. දැනටමත් හොඳටම රෑ වෙලා..., සිසිලින් අම්මා විතරයි ගෙදර ඉන්නේ තනියම .."

"ඔයාට තෙමෙන්න හොඳ නැහේ අරුණී. බෙහෙත් ගන්න අතරේ තෙමුනොත්, හොඳට තියෙයි. ඩොක්ටර්ස්ලා කොයිතරම් කියලද තියෙන්නේ ඔයාට පරිස්සම් වෙන්න කියලා..., අපි තව ටිකක් වෙලා බලලා, වැස්ස අඩු කළේ නැත්නම් යමු..."

පැය භාගයක් විතර ගියා. වැස්ස අඩුවුණේ නෑ. අපි දෙන්නා කුඩේ ඉහළගෙන පඩිපෙළ පල්ලෙහාට ආවා. ඒ ටිකටත් මගේ පිට තෙත බරිත වෙලා. මම අරුණීව පුළුවන් තරම් නොතෙමෙන්න, අතින් තුරුළු කරගත්තා. හොඳටම කළුවර වෙලා. වැස්ස තවත් තද වුණා. අපි දෙන්නා බාගෙට තෙමීගෙනම, බස්

හෝල්ට් එක ළඟට ආවා.

"හොඳටම තෙමුනා මාලින්ද...".

"ඒක තමයි අරුණි. ඊළඟට එන බස් එකේ අපි කොහොම හරි නගිමු..."

අරුණී..., තව තවත් මගේ උණුසුමට තුරුල් වුනා. ඈතින් බස් එකක් එනවා වගේ. ඒත්..., ඒ එක්කම පාරේ අනිත් පැත්තෙන් ආපු කාර් එකක් මහා හයියෙන් බ්‍රේක් කරලා එකපාරටම අපි දෙන්නා ළඟ නැවතුනා.

බ්‍රා... ස්...!

ඒ රතුපාට කාර් එක අඳුනා ගන්න මට තත්පරයක්වත් ගියේ නෑ අරුණි මගේ අත මිරිකා ගත්තා. සමන් තව යාළුවෙක් එක්ක. ඌ මගේ දිහා බලාගෙන ඉන්නවා. මගේ පපුව ගැහෙන්න වුණා.

"ආ..., උඹලා එහෙනම් මෙහෙයි ඉන්නේ..., වල් බැල්ලී..."

සමන් කාර් එකේ දොර අරගෙන එළියට බැස්සා

"ඔයා බය නැතුව ඉන්න අරුණි...", මම අරුණිගේ අත තවත් තදින් මිරිකා ගත්තා.

"උඹ මාව කැවා බැල්ලී. මගේ මූනේ දැළි ගෑවා. දැන් ඉතින් මම තව බලාගෙන ඉන්නේ නෑ. හොඳින් හරි නරකින් හරි මම උඹව ගෙනියනවා යකෝ..."

ඌ ඉන්නේ කෙළින් ඉන්න බැරි තරමට බීලා කියලා මට තේරුණා. සමන්ගේ යාළුවා කාර් එකෙන් එළියට බහිද්දී, මම වටපිට බැලුවා. අහල පහල සෙනගත් නෑ.

"වරෙන් යන්න දැන්..., උඹ මෙච්චර දවස් මාත් එක්ක හැංගිමුත්තං කළා ඇති..."

සමන්, අරුණිගේ අතින් ඇද්දා. ඒ එක්කම අරුණි මාව බදාගත්තා. මගේ ඉවසීමේ රතුකට්ට පුපුරලා කඩලා ගියා...

"අත තියන්නේ නෑ අරුණිට. උඹලා සෙල්ලම් කරපු කාලේ ඉවරයි සමන්..., දැන් එයා මගේ. මගේ කෙල්ලගේ අතින් ඇල්លුවොත්, මම උඹව

මරාගෙන මැරෙනවා යකෝ..., උඹලා එකතුවෙලා හැමදාම අපිට වද දුන්නා. අරුණිව ලෙඩ කළා. දැන් ඒවා ඉවසුවා ඇති. වරෙන් ඕනෙම දේකට මමත් ලෑස්තියි..."

සමන්ගේ වේව්ලන අත, අරුණිගේ මූන හරහා ගියා.

චටාස්...!

ඒ පාරට, අරුණිගේ ඇස් දෙකෙන් කඳුළු බේරෙනවා. එයා අතින් මූන වහගත්තා. තමන් ඉස්සරහදි තමන්ගේ කෙල්ලට, කොහෙවත් යන පාහරයෙක් අතක් තියනවා දකින්න කැමති මොන කොල්ලද...?, තවත් නැති වෙන්න දෙයක් මට තිබුණේ නෑ.

"පරයා..., ගෑණියෙක්ට ගහලා චන්ඩියෙක් වෙන්න එපා යකෝ...!"

මම. මුළු ඇඟේම ශක්තිය එකතු කරලා, උගේ මූණට ගැහුවා. කුනුවෙන්න බීලා හිටපු සමන්ට, ඒක දරාගන්න පුළුවන් වුණේ නෑ. මිනිහා, පාරේ තිබුන වතුර ගොඩ උඩට ඇදගෙන වැටුනා. මගේ කේන්තිය අත්දෙක දිගේ ගලාගෙන ගියා. මඩ කාගෙන, මම ඇතිවෙනකම් ඌට ගහගෙන ගියා. උගේ නහයෙන් ගලාගෙන ආපු ලේ මගේ අතෙත් හැම තැනම ගෑවිලා...

ආ..හ්..!

එක පාරටම පිටිපස්සෙන්, මගේ බෙල්ලට ඉවසන්න බැරි පාරක් වැදුණා. සමන්ගේ යාළුවා පිටිපස්සේ ඉඳගෙන මට ගැහුවා. මිනිහත් ඉන්නේ, හොඳටම බීලා. තව තවත් මම හිත හිතා හිටියේ නෑ. මිට මොලවපු අතින් උගේ නහයට ගැහුවා. කෙල්ලෙකුත් එක්ක මම කොහොමද බීලා වුනත් මිනිස්සු දෙන්නෙක් එක්ක ගහගන්නේ...?, මිනිහා නහය බදා ගනිද්දී, අරුණි මගේ අතින් ඇද්..දා. එයා හොඳටම බයවෙලා. හෝල්ට් එකට ළංවුන බස් එක මම දක්කේ ඒ එක්කම වගේ.

"අනේ..., අපි යමු මාලින්ද..."

අරුණි, මගේ අතින් ඇදගෙන බස් එකකට ගොඩ වුණා. බස් එක කොහාට යන එකක්ද කියලාවත් අපි දෙන්නාම දන්නේ නෑ. ඇතුලේ සෙනගත් වැඩිය නෑ. හොඳටම තෙමිලා, මඩ නාගෙන ඇඳුම් පොඩි කරගෙන හිටපු අපි දෙන්නා දිහා මිනිස්සු බලන්නේ හරියට හොල්මන් දිහා බලනවා වගේ..., මම අරුණිගේ අතින් අල්ලගෙන පිටිපස්සේ සීට් එකෙන් ඉඳගත්තා.

"මට බයයි මාලින්ද...", අරුණි ඉකිගහන හඬින් මිමිනුවා.

"බය වෙන්න එපා අරුණි. ආයේ කිසිමදාක, කාටවත් මම ඔයාව උදුරගන්න දෙන්නේ නෑ. දැන් සමන්ගේ වාරේ ඉවරයි..."

සැහෙන්න දුරක් යනකම්, සමන්ගේ කාර් එක බස් එක පස්සෙන් පැන්නුවා. ඒ වුනත් ටික වෙලාවකින්ම වාහනේ අපිට මග ඇරුනා. ඒ වෙන කොටත් අපි දෙන්නා බහින තැනින් සැහෙන්න දුරක් ඇවිත්. ධාරාණිපාත වැස්ස වහිද්දි, මම අරුණිගේ අතින් අල්ලගෙන බස් එකෙන් බිමට බැස්සා.

"හොඳටම වහිනවා අරුණි..."

"කමක් නෑ මාලින්ද. අපි දෙන්නට තවත් තෙමෙන්න දෙයක් ඉතුරුවෙලා නෑ ගෙ..."

අරුණි, මගේ මූණට එබිලා හිනාවුනා. ඔනෙම ප්‍රශ්ණයක් තියෙද්දි වුනත් ඒ රත්තරං හිනාව දකින්න මම කොයි තරම් ආසද...?

අකුණු ගහන මහ වැස්සේ හොඳටම තෙමීගෙන, පුංචි කුඩේ යටින් මට තුරුල්වෙලා ,හිටපු අරුණිගේ අතින් අල්ලගෙන ,මම ආපහු ආවා.

"අපි හෙට අනිද්දාම බඳිමු අරුණි..., මම හෙට උදේම අක්කාටයි, බිංදුටයි එන්න කියන්නම්. එතකොට අපිට පුළුවන් නුවර රෙජිස්ට්‍රාර් කෙනෙක් හොයාගෙන, අනිද්දට අත්සන් කරන්න. එතකොට, නීතියෙන්ම ඔයා මගේ..., ඊට පස්සේ සමන්ලාට කරන්න දෙයක් ඇත්තෙම නෑ...."

"ඔව්... මාලින්ද, අපි අනිද්දම බඳිමු. දැන් නම් ඉතින්. තවත් දවසක්වත් කල් යවන්න බෑ. ඔයා මගේ, මම ඔයාගේ...මාලින්ද, ඒක කාටවත් නැති කරන්න දෙන්න බෑ. ඒක නැතිවෙන්නෙත් නෑ...."

අපි ගෙදරට ළංවෙද්දී, අරුණි මට තවත් තුරුළු වුණා. සමන් අපිට වද දෙන තරමටම ,අපේ ආදරය තවත් වැඩි වෙනවා....

" අනේ..., අරුණි නෝනා හොඳටම තෙමිලා..."

සිසිලින් අම්මා අපිව දකපු ගමන් පුදුම වෙලා වගේ කිව්වා. මමත් එතකොට අරුණි දිහා බැලුවා. එයාගේ ගවුම ඇඟටම ඇලෙන තරමට තෙමිලා. මගේ ඇඟ පුරාමත් වතුර ගලනවා. මෙච්චර වෙලා තේරුනේ නැති වුනාට, අපි දෙන්නා තෙමිලා තියෙන තරම...!

අපි තෙත ඇඳුම් මාරු කරලා, සිසිලින අම්මා හදලා දීපු කෝපි බිව්වා. මගේ හිතේ ගැස්ම තවමත් එහෙම පිටින්ම අඩුවෙලා නෑ.

"අරුණී..."

"මට හොදටම හීතලයි මාලින්ද..., මේ බලන්න... මාව වෙව්ලනවා..."

මම අරුණීව තුරුල් කරගත්තා. ඒ ඇඟිලි තුඩු සීතලම සීතලයි. අඳුරේම, අරුණී මට තවත් ලං වුණා. හිත ඇතුළේ තියෙන ඕනෙම ප්‍රශ්නයක් දරාගන්න තරම් හයියක්, මට ඒ උණුසුමෙන් ලැබෙනවා.

"වෙල්දාලා, පෝරුවක් උඩ මුදු මාරු කරලා, නෑදයෝ යාළුවෝ හැම දෙනාගේම ඉස්සරහා ඔයාව මගේ මනමාලි කරගන්නයි මම හීන මැව්වේ. ඒත්..., අම්මලා අපිට ඒකට ඉඩ දුන්නේ නෑ. මේ වෙලාවේ නම් මගේ අතේ ඒ තරම් සල්ලිත් නෑ. මම තාම ජීවිතේ පටන් ගත්තා විතරයි අරුණී..., ලබන සුමානෙන් පස්සේ තමයි ඉස් ඉස්සේලාම මට පඩි ලැබෙන්නේ. ඒ මොනවා වුනත්..., අපි දෙන්නා ආණ්ඩුවේ පොතෙ ලියලා, මම ඔයාව මගේ මනමාලි කර ගන්නවා..."

"මම කවදාවත් සැප සම්පත් ගැන හීන මැව්වේ නෑ මාලින්ද..., ඔයාගේ ආදරේ විතරයි මට ඕනේ. මින් පස්සේ කවමදාවත් මාව තනිකරන්න එපා ජන්තරත්. මට දැන් ජීවිතේ කියන්නේ ඔයා විතරයි. මම ඔයාට ආදරෙයි මාලින්ද..."

අරුණීගේ සීතලම දෙකොල්වල පහස මගේ නළලට දැනුනා.

එළියේ තාමත් සිරිසිරි වැස්ස. හතර අතේ මීදුම පිරිලා. අරුණී තවම නිදි. මම ඒ මුහුණ දිහා බැලුවා.

" අරුණී..."

එයා හෙමින් ඇස්පිය ඇරියා.

" මගේ ඔළුව ගොඩාක් බරයි වගේ මාලින්ද..., ඊයේ රෑ තෙමුන හින්දා වෙන්න ඇති..."

මම අරුණීගේ නලලට අත තිබ්බා. ඇඟ යාන්තමට රස්නෙයි වගේ.

"බේත් පෙති දෙකක් බීලා හොඳට නිදාගන්න අරුණි. මම සිසිලින් අම්මට කියන්නම් කොත්තමල්ලි ටිකක් තම්බලා දෙන්න කියලා. දවල් වෙනකොට අඩුවෙලා යයි... "

මම නැගිට්ටා. අද නම් ඔෆිස් යද්දි හොඳටම පරක්කු වෙයි. අරුණිත් වෙනදා පුරුද්දටම අමාරුවෙන් වුනත් මගේ පස්සෙන් ආවා.

"අරුණි. හොඳ ළමයා වගේ ගිහින් නිදාගන්න. සිසිලින් අම්මා කෑම ලෑස්ති කරයි. කුස්සියේ ඉඳගෙන වැඩ කළාම තවත් වැඩිවෙයි ඔයාගේ හිසරදේ...."

අරුණි, මම වැඩට යන්න පටන් ගත්තු දවසේ ඉඳන්, හැමදාම මට දවල් කෑම එක හදලා දෙනවා. අරුණිට තාමත් උයන්න බෑ. ඒ හින්දා එයා මේ දවස් වල, සිසිලින් අම්මා උයන කොට එතන ඉඳන් අහගන්නවා.

"ඒ වුනත් මාලින්ද..., හෙට මම මනමාලියෙක් වෙනවා. තාමත් උයන්න බෑ. කවුරු හරි දැනගත්තොත් ලැජ්ජාවේ පණ යනවා. අනික මම දන් ඉඳලාම ඒවා පුරුදු වෙන්න ඕනේ. දන් නිකන් හිටියට, මේ කොල්ලා පස්සේ හරි මට බැන්නොත් එහෙම..."

අරුණි දිව ඇද කරලා මට කිව්වා.

"බය නැතුව ඉන්න. මේ කෙල්ල ගැන හැම දෙයක්ම දැනගෙනයි, මම මනමාලි කරගන්නේ..."

මම ලෑස්තිවෙලා කාමරෙන් එළියට එද්දී, අරුණි කෑම එකත් අරගෙන දොර ළඟ...

"සිසිලින් අම්මට කියන්න, දවල් කවුරු හරි ඇවිත් කතා කළාට දොර අරින්න එපා කියලා. සමහර වෙලාවට, සමන් තාමත් මේ කිට්ටුව ගැවසෙනවා වෙන්න පුළුවන්. මම අද ඔෆිස් යන්නෙත්, වෙනදා යන බස් එකේ නෙමෙයි. කවුරු හරි ඇහුවොත්, අපි දෙන්නා ඊයේ රෑම කොළඹ ගියා කියලා, කියන්න සිසිලින් අම්මට..., ඔයා වුනත් වැඩිය එළියට බහින්න එපා..."

අරුණි ඔළුව වැනුවා.

" ඔයා උදේ අක්කටයි, බිංදුටයි කෝල් කරනවා නේද...?, සමහර වෙලාවට ගිහාන්ලා එහේ යන්න ඇති ඊයේ රෑම..."

"ඔව්..., මම හෙට හවසට රෙජිස්ට්‍රාර් කෙනෙක් එක්කගෙන එන එක ගැනත්, හොයලා බලලා එන්නම්..."

"මාලින්ද...,බඳිනවා කිව්ව වෙලේ ඉඳලා මගේ හිතට හරි අමුතුයි. කියාගන්න බැරි තරම් සන්තෝෂයක් තියෙනවා. මට ලැජ්ජයි වගේ..."

මම ගේට්ටුව වහලා හිනාවුනා.

මම ඔෆිස් එකට ආපු හැටියෙම අක්කාට කතා කළා.

"මල්ලි..., ඊයේ රෑ ගිහාන්, අංජලී එක්ක අපේ ගෙදර ආවා. ඊට කලින් මම අම්මටයි, තාත්තාටයි මුල ඉඳලම සිද්ධිය කිව්වා. දෙන්නාම ටිකක් විතර බැන්නා. ඒත්.., අම්මාට දැන් නම් අරුණි ගැන සෑහෙන්න දුකයි. මේ කලබල ටික ඉවර වුනාම අරුණිව අපේ ගෙදර නවත්ත ගන්න පුළුවන් වෙයි. දැන්මම කොළඹ එන එක නම් එච්චර හොඳ නෑ..."

මම අක්කාට ඊයේ විස්තර හැම දෙයක්ම කිව්වා.

"තවත් බලා ඉන්න එකෙන් මොනවා වෙයිද දන්නේ නෑ. මම නුවර ගැන ඒ තරම් දන්නෙත් නෑ. ගිහාන්වත් හිටියා නම්, මට කිසි බයක් නෑ. ඒ හින්දා අක්කේ..., හෙට අපි දෙන්නා බඳින්න තීරණය කළා. මට සමාවෙන්න අක්කේ..., අක්කා තාම ගෙදර ඉන්දැද්දී මම මෙහෙම දෙයක් කරනවාට. ඒත්...."

"මට තේරෙනවා ළමයෝ. මම මුකුත් හිතන්නේ නෑ. ඔන්න ඉස්සෙල්ලාම සුභ පැතුම් මගෙන්. මම හෙට උදේම නුවර එන්නම්. අම්මයි තාත්තයි දෙන්නත් ළඟදීම නුවර එයි. ගිහාන්ලා ඇවිත් ගියාට පස්සේ. එයාලා තවත් ෂේප්. හෙට උදේම බිංදුයි අමිලයි එනවා නම් ,මමත් ඒ එක්කම එන්නම්..."

මට අක්කා ගැන නම් කියන්න වචන නෑ. දවල් වෙන්න කලින්, මම බිංදුටත් කෝල් කළා. දැන් ඒ හැම දෙයක්ම ඉවරයි. ඔෆිස් එකේ වැඩ කරන්න ආපහු පටන් ගන්නකොට හිත පුළුන් රොදක් වගේ සැහැල්ලුයි. ඔෆිස් එකේ වැඩ කරන හැමදෙනාම විහිළුවෙන් තහලුවෙන්, බොහොම විනෝදෙන් ඉන්නෙ. මේ ටික දවසට ඒ හැම දෙනාම මාත් එක්ක හොඳටම සෙට් වෙලා ඉන්නේ...

රෙජිස්ට්‍රාර් කෙනෙක් හොයාගන්න එක තමයි දැන් තියෙන ලොකුම ප්‍රශ්නෙ. ඔෆිස් එකේ මට ගොඩාක් හිතවත්ව ඉන්න පියන් කෙනෙක්ගෙන්, මම වටින් ගොඩින් විස්තර අහගත්තා. අපි ඉන්න ගෙදර ටිකක් දුරින් එක්කෙනෙක් ඉන්නවා කියලා මිනිහා තුම් කිව්වා. වැඩිය විස්තර අහන්න විදියකුත් නෑ. ඔෆිස් එකේ එවුන් දැනගත්තොත් අනාථයි....

හවස ගෙදර එන ගමන් එතනටත් ගිහින් ඒ වැඩේ කරගෙන එනවා කියලා හිතාගෙන මම ආපහු වැඩ පටන් ගත්තෙත් හෙමින් සැරේ සිංදුවකුත් මුමුන මුමුනා.

"මාලින්ද මල්ලි අද උඹේ මූඩ් එක නම් නියමයි. මොකද ස්වීප් එකක්වත් ඇදුනාද...?"

පිටි පස්සේ මේසේ හිටපු එකා මට කැපිල්ලක් දම්මා. මම ෆයිල් කවර එගයක් පෙරලාගෙන ලියුමක් හොයද්දි, ආයෙමත් පියල් මගේ ළඟට ආවා.

"මාලින්ද මහත්තයා හම්බුවෙන්න අන්න කවුද ඇවිත්..."

මම එක පාරටම ගැස්සිලා නැගිට්ටා. මේක ලණුවක්ද...? ඔෆිස් එකේ නිතරම එකාට එකා ලණු දෙනවා....

"ලණුවක් නෙමෙයි නේද...?

"අනේ නෑ..."

සමන් මම වැඩ [illegible] ත හොයාගෙනවත්ද...? මගේ පපුව එකසිය ගාණට වැඩ කරද්දි, මම එළියට ආවා.

සිසිලින් අම්මා...!

සිසිලින් අම්මා මාව දකපු ගමන්, ඉඳගෙන හිටපු පුටුවෙන් නැගිට්ටා.

"ඇයි...?"
මම පුදුම වෙලා වගේ ඇහුවා.

"අනේ මාලින්ද මහත්තයා, අරුණි නෝනාට හොඳටම උණ. ගොඩාක් අමාරුයි. උදේ බේත් ගත්තා. ඒත්..., හවස් වෙනකොට එකපාරටම ආයෙත් වැඩි වුණා... මම එහා ගෙදර නෝනාව ළඟ තියලා ඉක්මණට මෙහාට ආවා.... "

මගේ ඔළුව ගිණිගත්තා වගේ වුනා. දැන් මොනවා කරන්නද...?

මම බොස්ට ගෙදර කරදරයක් කියලා ඔෆිස් එකෙන් එළියට ආවා. දැන් වෙලාව හතරයි. බස් එකට නැගලා ගෙදර එනකම් මම කොහොමද ආවේ, මොනවද හිතුවේ කියලාවත් මට මතක නෑ.

"අරුණී... "

නිදාගෙන හිටපු අරුණි අමාරුවෙන් වගේ ඇස්දෙක ඇරියා. ඇස්දෙක කඳුළු වලින් පිරිලා.

"අනේ මාලින්ද, මට ඔළුව උස්සන්වත් බෑ. හොඳටම රිදෙනවා. බෙත් ගත්තා, ඒත් අඩු වුනේ නෑ..."

"අපි යමු අරුණි ඩොක්ටර් කෙනෙක් හම්බුවෙන්න..."

අපි දෙන්නා ආපහු ඇවිත් ත්‍රීවීල් එකක් අරගෙන නුවරට ආවා. ඒ එනකම් අරුණි මගේ උකුලේ ඔළුව ගහගෙන ආවේ. සිසිලින් අම්මා කියපු දොස්තර ඉන්න තැනට අපි ආවා. එතනත් සෑහෙන්න සෙනඟ. ඒත්..., ඉස්සරහ හිටපු අක්කා කෙනෙක් අපිට ඉක්මණට ඇතුලට යන්න උදව් කළා.

"සෑහෙන්න උණ තියෙනවා. ගොඩාක් දවස්ද...?"

ඩොක්ටර් අරුණිව බලලා පුදුමවෙලා ඇහුවා.

"නෑ ඩොක්ටර්..., ඊයේ රෑ තෙමුනා හොඳටෝම..."

"ආ...සමහර විට ඒක හින්දා වෙන්නත් පුළුවන්. කොහොම වුනත් මෙයාට උණ වැඩි හින්දා හොස්පිට්ල් එක්කාගෙන යන එක තමයි හොඳ..., මොකද නව උණ නැග්ගොත් ගෙදරදී අමාරු වෙන්න පුළුවන්. ඒ හින්දා මම ලියුමක් ලියලා දෙන්නම්. මෙයාව හොස්පිට්ල් එකේ ඇඩ්මිට් කරන්න..."

මම අරුණීගේ මූණ දිහාත් දොස්තර දිහාත් මාරුවෙන් මාරුවට බැලුවා. අරුණිව හොස්පිට්ල් එකේ නවත්තලා ආපහු ගෙදර ඇවිත්, එයාගේ ඇඳුම් ටිකයි, අනිත් බඩුයි අරගෙන සිසිලින් අම්මාවත් එක්කගෙන ආපහු මම හොස්පිට්ල් එකට ආවා.

"ඔයා බය වෙන්න එපා අරුණී. හොස්පිට්ල් එකේ ඉන්න එක කොහේටත් හොඳයිනේ. හෙට උදේ වෙනකොට අඩුවෙයි. සිසිලින් අම්මා ඔයා ළඟ ඉදීවී.."

"අනේ මාලින්ද,හෙට අපි දෙන්නා..."

"ඒක දවසකට දෙකකට කල් දාමු අරුණී..., හැම දේකටම කලින් ඔයා සනීප වෙන්න ඊත්තරන්. ඔයා හැමදාම මගේ ළඟ අරුණී..., ඔයා හිත කලබල කරගන්න එපා..., ලෙඩ දුක කියන්නෙ අපිට කලින් කියලා එන දේවල් නෙමෙයිනේ. මෙච්චර දවසක් හිටපු එකේ, මේදවස් දෙක තුනත් කොහොම හරි අමාරුවෙන් ඉවසා ගම්මු..."

"ඔයා අද රෑට කන්නේ කොහොමද...?, හෙට උදේ ඔයාට බත් එක හදලා දෙන්නේ කවුද...?, අනේ මට දුකයි මාලින්ද. ඔයා ගෙදර තනියම..."

මම අරුණීගේ නලල සිප ගත්තා.

"ඔයා ඒවා හිතන්න එපා. එක දවසයි දෙකයිනේ. මම ඒක ඉවසගන්නම්. හෙට උදේම මම එනවා...."

සිසිලින් අම්මාට අරුණීව බලාගන්න කියලා, මම හොස්පිට්ල් එකෙන් එළියට බහිනකොට හතහමාරත් පහුවෙලා. මගේ ඔළුවේ තිබුන ගිණි ගොඩ කාමත් ඇවිලෙනවා. මහ පාරේ කල්පනා කර කර ඇවිත්, තව පොඩ්ඩෙන් වෑන් එකකටත් යට වෙනවා.

මම ගේ ළඟින් බහිද්දි, බිංදුයි අමිලයි ගේට්ටුව ළඟ ඉඳන් ආවා. මූන් දෙන්නා කොයි වෙලාවෙද ඇවිත් තියෙන්නේ...?

"කොහෙද බං ගියේ...?, තව පොඩ්ඩෙන් අපි දෙන්නා අම්බානක වාටර්...., යන තැනක කලින් දැනුම් දීලා පලයං..."

මම උන් දෙන්නාට සේරම විස්තරේ කිව්වා.

"අපි දෙන්නාට හදිසියේම හිතුනා රෑ එන්න. හෙට උදේ කොටා, අක්කා එක්ක මෙහේ එයි. ඒත්..., දැන් හෙට උදේ වැඩේ කැන්සල් කරන්න වෙයි නේද...?"

"ඔව් බං..., උඹලා දෙන්නා ආපු එක නම් ලොකු දෙයක්. නැත්නම් මට අද රෑ පිස්සු හැදෙනවා. අනේ සතේ නෑ. පඩි හම්බු වෙන්නෙත් ලබන සුමානේ..., මොනවා කරන්නද කියලා හිතාගන්න බෑ මචං..."

බිංදු එතකොටම පර්ස් එක ඇරලා මට රුපියල් දාහක් දික් කළා.

"ආ...මේක ගනිං. අක්කා මේක දුන්නේ, අද මොනවා හරි වැඩ ඇති කියලා හිතාගෙන. උඹ බය වෙන්න එපා. අපි දෙන්නා ළඟත් සල්ලි ටිකක් තියෙනවා. තව ඕන වුනොත්, හෙට කොළඹ ගිහින් අරගෙන එන්නම්. මම අම්ලයවත් ඇදගෙන රෑම ආවේ උඹ සමන්ගේ සීන් එක කියලා තිබුන හින්දා..., බලමු ඌ මොකාටද එන්නේ කියලා..."

"මට දැන් උගෙන් වැඩක් නෑ. මට දැන් අරුණී ගැන බයයි බිංදු..., ඉස්පිරිතාලෙදි ඩොක්ටර් ඇහුවා එයාට වෙන මොනවා හරි ලෙඩක් තියෙනවාද කියලා. අරුණීට තියෙන ලෙඩේ ගැන මම කියා එයාවත් හරියට දන්නේ නෑ. මේ විස්තර දන්නේ එයාගේ අම්මා විතරයි. එයාගෙන් කොහොමද බං ඕවා අහන්නේ...?"

"බය වෙන්න එපා බං. ඕක ෂුවර් එකටම තෙමුන හින්දා හැදුන ලෙඩක් වෙන්න ඇති. හෙට උදේ වෙනකොට අඩුවෙයි...."

එහෙම කියලා අම්ලයා මගේ පිටට තට්ටුවක් දැම්මා.

ඒත්...?

* * *

ජීවිතේ කියන්නේ දුක, සැප, ජය, පරාජය දිගේ ඇදිලා යන ගඟක් වගේ. අරුණී හොස්පිට්ල් එකේ නවත්තලා දවස් දහයක්ම ගතවුනා. උදේ ඉඳන් ඔෆිස් එකේ වැඩ කරලා දොළහ වෙනකොට ආපහු හොස්පිට්ල් එනවා. ඔෆිස් ඇරිලා ආයෙමත් හවසට හොස්පිට්ල් යනවා. ඔය දවස් දහය පුරාවටම අපේ අක්කායි, සිසිලින් අම්මායි මාරුවෙන් මාරුවට අරුණී ළඟ නතරවුනා. ගොඩාක් දොස්තරවරු ඇවිත් අරුණීව බැලුවා. ඒ අය රටේ නැති ප්‍රශ්ණ ඇහුවා. අරුණී කලින් බෙහෙත් ගත්තු තැන්, එයාට මීට කලින් උණ ගැනුනේ කවදද...?ඔය වගේ ප්‍රශ්ණ ගොඩාක්. එහෙම ඇහුවේ මේ දවස් ටිකේම හරියට අරුණීගේ උණ බැස්සේ නැති හින්දා වෙන්න ඇති.

බිංදුයි, අම්ලයි, කොටායි දිගටම නුවර ඉඳලා පෙරේදා ආපහු කොළඹ ගියා.

"ලබන මාසෙදි අපිට කැම්පස් එකේ ඉංග්ලිෂ් කෝස් එක පටන් ගන්නවා. ඒ හින්දා මම ජොබ් එකට යන එක නැවැත්තුවා. මේ දවස් ටිකේ ආපහු ඒ

ලෙවල් වැඩ ටික බලන්න ඕනේ...., නැත්නම් කැම්පස් ගියාට මුකුත් මතක තියෙන එකක් නෑ..."

"අද හෙටම අපේ ප්‍රතිඵලත් එනවාලු අක්කේ. මොනවා වෙලාද දන්නෙත් නෑ..."

"බය නැතුව ඉන්නවා. පාස්වෙලා ඇති...."

සිසිලින් අම්මා අද රෑ අරුණී ළඟ නතර වුනා. ඒ හින්දා අක්කයි මායි විතරයි අද ගෙදර. අරුණීට දැන් නම් හොඳටම හොඳයි වගේ හින්දා. මගේ හිතටත් ටිකක් පිට්.

"හෙට උදේ නැත්නම් හවසට අරුණීගේ ටිකට් කපයි. ඊයේ උදේ ආපු ඩොක්ටර් අරුණීගේ කළින් අසනීපේ ගැන ගොඩාක් විස්තර අහලා. ඊට පස්සේ ආයෙමත් ලේ චෙක් කරන්න ඕනේ කිව්වා. අපි හිතනවාට වැඩිය ලොකු අසනීපයක් තමයි අරුණීට තිබිලා තියෙන්නේ. එයාගේ පෙනහළුවලටයි, හදවතටයි දෙකටම ලේ යන එකේ ප්‍රශ්ණයක් තියෙනවාලු. පෙනහළුවල තමයි දරුණුවටම මතුවෙලා තියෙන්නේ. ඉතින් ඒ හින්දා වෙන්න ඕනේ අරුණීට අවුරුද්දක් යන කම් හොඳටම පරිස්සම් වෙන්න කියලා තියෙන්නේ. කෝකටත් අපි කොළඹ ගිහින් අරුණීව ස්පෙෂලිස්ට් කෙනෙක්ට පෙන්නමු...."

"එදා වැස්සට තෙමුන වෙලාවේ මමත් හොඳටම බය වෙලා හිටියේ. අනික සමන්ගේ ප්‍රශ්ණෙත් ආවානේ. කෙල්ලට ඒකත් බලපාන්න ඇති. මට කිව්වේ නැති වුනාට එයා හොඳටම හිතේ අප්සට් එකේ ඉන්න ඇත්තේ..."

"මිනිහාට මොකද දන්නේ නෑ වුනේ. ඊට පස්සේ පොලිසියට ගිහිල්ලාත් නෑ. අරුණීලාගේ අම්මලාට වස ලැජ්ජාවනේ එහෙම වුනොත්..."

මම පුටුවෙන් නැඟිට්ටා.

"හෙට ටිකට් කැපුවොත් අපි අනිද්දාටම එන්ගේජ්මන්ට් එක ගමු මල්ලි. අරුණී රෑ පුරාම හැමදාම මාත් එක්ක කියන්නේ ඔය කතාවමයි. එයාට හරියට හිතට අමාරුයි, හැම දෙයක්ම ලෑස්ති කරලා තියෙන වෙලාවේ සනීප නැතිවුන එක ගැන. පව් මල්ලි, දැන් එයාගේ හිතට පුංචි දුකක්වත් දෙන්න එපා. එයාව බලපු ප්‍රොෆෙසර් මට පැත්තකට කතා කරලා කිව්වෙත් ඒකමයි. පුළුවන් තරම් එයාව සන්තෝසෙන් තියන්න කිව්වා. මම හිතන්නේ එයාගේ හිතේ තියෙන බය අඩු කරන්න වෙන්න ඇති. තව සුමානෙකින් දෙකකින් අපේ අම්මාට මේවා කියලා අපි එයාව අපේ ගෙදර නවත්තාගමු...."

"එහෙම වුනොත් හොඳයි අක්කේ. තව ටික දවසක් ගියාම මටත් කොළඹට මාරුවක් ගන්න පුළුවන් වෙයි..."

ජීවිතේ කියන්නේ සුන්දර බලාපොරොත්තු, සිහින සැබෑ වෙනකම් බලාගෙන ඉඳීමක්ද...?, අවුරුදු දහනමය වෙන කොට මම ජීවිතේ මොන තරම් ප්‍රශ්ණ වලට මුහුණ දුන්නාද...?, මේ ජීවිතය තව ඉස්සරහදි මොන මොනවා මට ලබා දෙයිද...?, ඒක නම් මට හිතාගන්න බෑ. අරුණි..., මම..., අනාගතය...

ඒක විතරක් නම් සිහිනයක් වෙන්න එපා....!

* * *

මම දවල් ඔෆීස් එකෙන් එළියට බැහැලා හොස්පිට්ල් යන්න හිතාගෙන එළියට ආවා. ඒ වෙනකම් හිරිපොද ගහමින් තිබුන වැස්ස, එකපාරටම වැඩිකළා. අනේ කුඩේකුත් නෑ..., ළඟ පාතක නවතින්න තැනකුත් නෑ. තවත් පරක්කු වුනොත් අරුණිව බලලා කොළඹ යන්න පරක්කු වෙනවා. තව හිත හිතා ඉන්න බෑ..., මම වැස්සෙම තෙමි තෙමී හොස්පිට්ල් එකට ඇතුල් වුනා. සුපුරුදු විදියට මම එනකම් වාට්ටුවේ දොර ළඟ බලාගෙන ඉන්න අරුණි අද නෑ...

"මේ ඇඳේ හිටපු කෙනා කොහාට හරි ගියාද...?", මම අරුණිගේ ඇඳට එහා පැත්තේ ඇඳේ හිටපු අක්කාගෙන් ඇහුවා.

"මේ දැන් හිටියා මල්ලි. සමහර වෙලාවට බාත් රූම් එකට යන්න ඇති. පොඩ්ඩක් ඉන්න දැන් එයි..."

මම ටික වෙලාවක් නොඉවසිල්ලෙන් බලාගෙන හිටියා. අරුණි නෑ. පළවෙනි පාරට මගේ හිත ඇතුලේ විදුලි සැරයක් කෙටුවා. මම වාට්ටුව වටේටම ගියා. ඒ කොහේවත් එයා නෑ. ලෙඩ්ඩු බලන වෙලාව හින්දා, හැම තැනම සෙනඟ. මම ආපහු ඉස්පිරිතාලේ ඉස්සරහ පැත්තට ගියා. මට හිතාගන්නවත් බෑ අරුණි කොහේ ගියාද කියලා. විකට් කපලාත් නෑ. එක පාරටම...... හොස්පිට්ල් එකේ වාහන නවත්තලා තියෙන පැත්තේ ඉඳලා අරුණිගේ ඇස්දෙක මට කතා කළා.

මාව දැක්කා විතරයි, ධාරානිපාත වැස්ස කියලා බලන්නෙත් නැතුව අරුණි දුවගෙන ආවා. මටත් එතන ඉන්න බැරිවුනා. ඒ හින්දාම...තෙතබරිත වෙලා හිටපු මම, ඉස්සරහට දුවලා අරුණිව අල්ල ගත්තා.

"ඔයාව හොඳටම තෙමිලා අරුණි..."

හවුස් කෝට් එක තෙත බරිත වෙලා අරුණිගේ ඇඟටම ඇලිලා. අරුණි කළිනුත් තෙමිලා වගේ.

"යමු. ඇතුලට ගිහින් ඇඟ පිහිදා ගමු. ඔයා කොහේද මේ වැස්ස අස්සේ ගියේ...?, ඔයාට පොඩ්ඩක්වත් තෙමෙන්න හොඳ නෑ නේ අරුණි..., බලන්න...ඔයා මාව හොඳටම බය කළා..."

අරුණි මාව බදාගත්තා. එයාගේ ඇස්වල කඳුළු පිරිලා. තාමත් අරුණි කතා නෑ...

"අනේ අරුණි..., මාව බය නොකර කියන්න මොකද වුනේ කියලා....?"

"සමන් ආවා අපේ අම්මා එක්ක හොස්පිට්ල් එකට. වාට්ටුවේ දොරෙන් ඇතුල් වෙන කොටම මම දැක්කා. මට මොනවා වුනාද කියලා මමවත් දන්නේ නෑ මාලින්ද..., මට වහිනවා කියලා දැනුනේ නෑ. වැස්සේ තෙමීගෙනම මම ගේට්ටුව ළඟ හිටියේ ඔයා එනකම්. අනේ මාව ගෙදර ගෙනියන්න මාලින්ද..., මාව ඉස්පිරිතාලේ තනිකරන්න එපා මාලින්ද...!, අනේ ඒ ගොල්ලන්ට මාව ගෙනියන්න දෙන්න එපා...!, මට බයයි...."

අරුණි ඉකි ගගහා අඬන්න පටන් ගත්තා. සමන් ළඟ හිටියා නම් කෑලි වලට ගලවන්න තරම් කේන්තියක් මගේ හිත ඇතුලේ පුපුරලා ගියා. දැන් උන්ට තියෙන්නෙ අරුණිව බදින්න ඕනේ කමක් නෙමෙයි. උන්ට වුන ලැජ්ජාවට අපි දෙන්නාගෙන් පළිගන්න තියෙන ඕනේ කම විතරයි...

අපි දෙන්නා වාට්ටුව ඇතුලට ආවා.

"බය වෙන්න එපා අරුණි..., දැන් ගිහින් ඇඟ පිහිදා ගමු. ඔයාට මේ විදියට තෙමෙන්න හොඳ නෑ නේ...., සමන් නෙමෙයි මොකාටවත් ඔයාට අතක් තියන්න මම ඉඩ තියන්නේ නෑ..."

අරුණි තුවායක් අරගෙන ඔළුව පිහිදාගනිද්දි, මම තෙත බරිත ඇඳුම් පිටින්ම වාට්ටුව භාර ප්‍රධාන වෛද්‍යවරයා හිටපු කාමරයට ඇතුල් වුනා.

"ඩොක්ටර්..."

මැදි වයසේ හිටපු අහිංසක පෙනුමක් තිබුන වෛද්‍යවරයා මගේ දිහා ඔළුව උස්සලා බැලුවා.

මම මුළු විස්තරේම වෛද්‍යවරයාට කිව්වා. අරුණිගේ ලෙඩේ..., අම්මලාගේ ප්‍රශ්නෙ ...හැම දෙයක්ම...

"මටත් තේරෙනවා පුතා. මටත් දුකයි..., හැබැයි එයාගේ අම්මලා මෙහේ ආපු විත්තියක් මම දනගෙන හිටියේ නෑ. මට තාම එයාගේ ලෙඩේ ගැන මුකුත්

කියන්න බෑ. එයා කළිනුත් බෙහෙත් අරගෙන තියෙන හින්දා, ඒ ලෙඩේ මේකට බලපාලා ඇති කියලා මට හිතෙනවා. කොළඹදී මෙයාව බලපු ඩොක්ටර්ගේ රිපෝට් එක තිබුනා නම් හොඳයි. ඒත් දැන් ඒක ගන්නත් බෑ නේ ඔය විදියට. මම හොයලා බැලුවා අරුණි කළින් අරගෙන තිබුන බෙහෙත් ගැන..., ඒ බෙහෙත් නම් දිගටම පාවිච්චි කරන්න දෙන ඒවා. විශේෂයෙන්ම හදවතේ වගේම පෙනහළු වලත්, ටිකක් දරුණු ලෙඩ වලට තමයි ඒ බෙහෙත් දෙන්නේ. ඒත් ඒවායින් හරියට ලෙඩේ ගැන මුකුත් කියන්න බෑ. කෝක වුනත් ලෙඩේ නම්, එච්චර හොඳ එකක් වෙන්න බෑ පුතා. මේ දවස් වල්දී එයාට වැඩියෙන්ම ඕනේ කරන්නේ මානසික සහනය. හැම වෙලේම එයාගේ හිත සැහැල්ලුවෙන්, සන්තෝසෙන් තියන්න ඕනේ..."

"මම නර්ස්ලාට කියන්නම්. හොඳටම හොඳ වෙන කම් අරුණිට සැහෙන්න පරිස්සම් වෙන්න වෙයි. හෙට උදේට ටිකට් කපන්න පුළුවන් වෙයි. ගෙදර ගියත් පරිස්සම් කරගන්න. අඩු වුනේ නැත්නම් ආයෙමත් ටික දවසකින් අපි චෙක් කරලා බලමු. ලෙඩ වල හැටි එහෙම තමයි. අපි හිතන තරම් ඉක්මණට ලෙඩ සනීප වෙන්නේ නෑ පුතා. අපි බලමු..."

"තැන්ක්ස් ඩොක්ටර්..."

මම පුටුවෙන් නැගිටින කොටම අරුණිගේ අම්මායි, සමනුයි කාමරේට ඇතුල් වුනා., මාව ගල් ගැහිලා ගියා. මමත් කාමරේම රැඳුනා. අරුණිගේ අම්මාගේ ගිණි විහිදෙන ඇස් මගේ මූන හොයාගෙන ආවා.

"ඩොක්ටර් මගේ දුව ගැන අහන්නයි..."
එතකොටම ඩොක්ටර් මගේ දිහා බැලුවා.

"මම දන්නවා ඔයාලගේ පෞද්ගලික ප්‍රශ්ණයක් තියෙනවා කියලා. මට ඔයාලගේ දේවල් වලට මැදිහත් වෙන්න බෑ. ඒත්...මේ වෙලාවේ ඒ ළමයාගේ හිත සතුටෙන් තියන්න ඕනේ. එයාව බය කරන්න හදන්න එපා. ඒක ඒ දරුවාගේ අසනීපෙට හොඳ නෑ. මම හිතනවා, මිසිස් දන්නවා කියලා එයාගේ ලෙඩේ මොකක්ද කියලා...අරුණිවත් එයාගේ ලෙඩේ ගැන දන්නේ නෑ. අපිටත් රිපෝට් නැති හින්දා ලෙඩේ ගැන තියෙන්නේ සැකයක් විතරයි. අපි හැම වෙලේම බලන්නේ ලෙඩා ගැන. එයාට කරදරයක්, හිරිහැරයක් වෙනවා නම් ඔයාලා වාට්ටුවට එන එක ගැන වුනත්, මට මීට වඩා තදින් ඉන්න සිද්ධ වෙයි...."

අරුණිගේ අම්මා කිසිදෙයක් කිව්වේ නෑ. එක පාරටම පුටුවෙන් නැගිට්ලා යන්න ගිහින්, ආපහු මගේ ළඟට ආවා.
"තමුසේ පරිස්සම් වෙලා ඉන්නවා. කාම එයා මගේ දුව..., අනික එයාගේ

ලෙඩේ ගැන වුනත් තමුසේ තියා අරුණිවත් දන්නේ නෑ. අරුණිව මේ වගේ ජරා ඉස්පිරිතාලවල තියලා මහන්සි කරවන්න හොඳ නෑ. එයාව පිටරට හොඳ හොස්පිට්ල් එකක නවත්තලා බේත් කරන්නයි අපි හිටියේ. එයාගෙත් කරුමේ තමුසේ වගේ හිඟන්නෙක්ට හිත ගිය එක. ඒකට අපිට කරන්න දෙයක් නෑ. එයාගේ ලෙඩේ ලේසි පාසු එකක් නෙමේ. හිතුවක්කාරකම හින්දා..."

"ඇන්ටිලා මාව පරිස්සම් කරන්න කලින් තමන්ගේ පරිස්සම ගැන බලාගන්න. අනික..., කසාද බැන්දට පස්සේ ගෑණියෙක්ගේ අයිතිය තියෙන්නේ මිනිහට කියලා දන්නේ නැත්නම්, අදවත් ගිහින් අංකල්ගෙන් අහගන්න. අරුණිගේ ලෙඩේට කරන්න පුළුවන් හැම දෙයක්ම මම කරනවා. සල්ලි නැත්නම් බැංකුවක් කඩලා හරි මම සල්ලි හොයා ගන්නම් එයාව රට අරගෙන යන්න. කරුණාකරලා අපිට වද නොදී ඇන්ටිලා ඇන්ටිලාගේ වැඩක් බලාගෙන ඉන්න. ආයෙමත් අරුණිට කරදර කරලා තිබුනොත්...?"

මම ඇන්ටිගේ මූනවත් බලන්නේ නැතුව කාමරෙන් එළියට ඇවිත් අරුණිගේ ඇඳ ළඟට ආවා.

"ඔයා බය නොවී ඉන්න අරුණි. අද රෑට අක්කා එයි ඔයා ළඟ නවතින්න. හෙට උදේ ඔයාගේ ටිකට් කපයි. බිංදුලා දූනටමත් ඇවිල්ලා ඇති ගෙදරට...,අක්කායි උන් ටිකයි අපේ එන්ගේජ්මන්ට් එකේ වැඩ ටික ලෑස්ති කරයි. මම දැන් යනවා කොළඹ..."

"මේ හදිස්සියේම...!"

අරුණි කොට්ටේ ඇඳ විට්ටමට හේත්තු කරලා, මගේ අතින් අල්ලගෙන ඇස් ඇතුලට කිමිදුනා.

"ඔයා දන්නවද...? අද මට මගේ පළවෙනි පඩිය ලැබුනා. රුපියල් හාරදහස් හාරසිය හැටයි. ඉතින්..., මම කොළඹ ගිහින් ඔයගේ මාලෙත් බේරගෙන අපේ ගෙදරටත් ගිහින් එන්නම්. හෙට උදේ මේ කෙල්ල, මගේ මනමාලි වෙනවා. මතකනේ එදා මාලේ උගස් කඩේට තියන කොටම මම ඔයාට කිව්වා, කවදා හරි ඉස් ඉස්සෙල්ලාම ගන්න පඩියෙන් ඒක බේරලා දෙනවා කියලා..."

අරුණි කිසිම දෙයක් කතා කළේ නෑ. මගේ ඇස් දෙක දිහා බලාගෙන හිටියා.

"ඔය තරම් මට ආදරේ කරන්න එපා මාලින්ද...,මගේ හිතට ඒක දරාගන්න බෑ. ඒ හින්දාමයි මට දැන් ඔයාව දකින්නේ නැතුව මොහොතක්වත් ඉන්න බැරි. ඒ ආදරේ මොහොතකටවත් මගෙන් ඈත් කරන්න එපා මාලින්ද..."

"ඔයාට ආදරේ නොකර මම කාට ආදරේ කරන්නද...?,ඒක නෙමෙයි අරුණී..., දැන් බිංදුයි, අමිලයි හොඳටම වැඩ ඇති. හෙට එන්ගේජ් වුනාට පස්සේ උන් අපිට පොඩි පාටි එකකුත් දාන්න හදන්නේ. ඒ හින්දා මම කොළඹ ගිහින් අද රෑම ආපහු නුවර එනවා. හෙට මනමාලිට අඳින්න සාරියක් ගන්න නම් මගේ ළඟ සල්ලි නෑ රත්තරන්..., මම ඔයාට ගවුමක් ගේන්නම්...."

"අනේ මාලින්ද ඔහොම වියදම් කරන්න එපා. ඔය මාලේ වුනත් අපි කලබලයක් නැතුව බේරාගමු. මටත් කොළඹ යන්න ඕනේ බැංකුවට ගිහින් මගේ එකවුන්ට් එක ගැන කතා කරගන්න. ඔයාගේ මුල්ම පඩියනේ මාලින්ද...,මට නැතත් කමක් නෑ අම්මාටයි තාත්තාටයි අක්කාටයි මොනවා හරි අරගෙන දෙන්න..."

එහෙම කියලා අරුණී මගේ ඇස්දෙක දිහා බලාගෙන හිටියා. මට මගේ ජීවිතේ ඒ ඇස් දෙකෙන් පේනවා.

"අපි දෙන්නා ඉක්මණට අහක බලපු කෙනා පරාද වෙන සෙල්ලම කරමුද...?, අර..., ඇස් දෙක දිහාම බලාගෙන ඉන්න එක..., මතකද දවස් කීයක් අපි කතා වුනාද ඕක කරන්න..."

අරුණී මගේ ඇඟිලි තුඩු මිරිකලා ඇහුවා.

"හොඳට තියෙයි...අහල පහල මිනිස්සුත් බලාගෙන ඉන්නවා. අනික ලෙඩ්ඩු බලන වෙලාවත් ඉවරයි. මෙච්චර දවසක් බලාගෙන හිටපු එකේ, හෙට අපි දෙන්නා එන්ගේජ් වුන හැටියෙම ඒක කරමු..."

"බෑ...!බෑ...! දැන් තියන්නම ඕනේ....", අරුණී මූන පැත්තකට ඇල කරලා හිනා වුනා.

"හරි...එහෙම නම් පටන් ගමු....!"

අපි දෙන්නාගේ ඇස් එකට යා වුනා. හදවතේ පිරිලා තියෙන ආදරේ ඇස් වලින් ඉතිරුනා. මගේ ජීවිත කාලේ පුරාවටම තිබුන හිතේ හෙට හැබෑ වෙනවා. හිත කුළුදුලේම බැඳපු ඒ මූහුන, රත්තරන් අරුණී...හෙට මගේම වෙනවා.ජීවිතේ මේ තරම් ලස්සනයි කියලා මම කවදාවත් හිතුවේ නෑ. අරුණීගේ ඇස්දෙක මුලින්ම දැකපු දවස, පුස්තකාලේ, ගිහාන්, අංජලි, සමන්...ඒ හැම දෙයක්ම අතීතයක් විතරයි.

සතුට වැඩි කමටද මන්දා මගේ දෙනෙත් කඳුලෙන් පිරෙද්දී, තවත් මට

අරුණී දිහා බලා ගෙන ඉන්න පුළුවන් කමක් තිබුනේ නෑ...

"මම පරාදයි අරුණී..."

එයා හිනාවුනා. මම හෙමින් පාත් වෙලා අරුණීගේ සීතල නළල සිප ගනිද්දි, අරුණී දෑස් පියා ගත්තා.

"මාව දාලා යන්න එපා මාලින්ද...", අරුණී මිමිනුවා.

"කවදාවත්ම නෑ...අරුණී..."

මම අරුණීගෙන් සමු අරගෙන වාට්ටුවෙන් එළියට එන්න පියවර මැන්නා.

"මාලින්ද..."

අරුණීගේ කටහඬ මට යාන්තමට ඇහුනා. එයා ඇදෙන් බැහැලා හිනාවෙගෙන මගේ ළඟට එනවා. මම කොරිඩෝව ළඟ මුල්ලේ නතර වුනා. ආයෙමත් හැම තැනම පාළුයි.

"මම ඔයාට ආදරෙයි මාලින්ද..."

අරුණීගේ දෙඅත් වලින් පහත්වුන මගේ නළලට, අරුණීගේ දෙතොල් වල පහස දැනුනා.

* * *

"අක්කාට කියන්න එයාට කැම්පස් එකෙන් ලියුම් වගයක් ඇවිල්ලා කියලා. අරුණීටත් කැම්පස් එකෙන් ලියුම් වගයක් ආවා, රෙජිස්ට්‍රර් වෙන්න. ඒ ළමයාව නුවර තියන්න බැහැනේ ඔය අසනීපෙත් එක්ක. හෙට උදේ ටිකට් කපනවානම් ලබන සුමානෙවත් මෙහේ එක්කාගෙන එන්න. අපි එක්කාගෙන ගිහින් හොඳ ඩොක්ටර් කෙනෙක්ට පෙන්නමු..., අපිට හෙට නම් නුවර එන්න වෙන්නේ නෑ. මේ ගහෙන් ගෙඩි එනවා වගේ නේ. අක්කා කිව්වේ ලබන සුමානේ කරනවා කියලානේ..."

අම්මා කියාගෙන යනවා. මම අම්මාටයි තාත්තාටයි රෙදිත් අරගෙන ගෙදර ආවා.

"ඉක්මණට එක්කාගෙන එන්න. ලබන සුමානේ අපි පාටියකුත් දාන්න හිතාගෙන ඉන්නේ..."

තාත්තා හිනාවෙවී එහෙම කියද්දි, මාව හොල්මන් වුනා. තාත්තා සාමාන්‍යයෙන් මාත් එක්ක ඔය වගේ විහිළු කරන්නේ නෑ.

"ඒ ඇයි පාටියක්...?"

"තාම දන්නේ නැද්ද...?, ඔයාලගේ රිසල්ට්ස් ඇවිත්. බිංදු නුවර යන ගමන් අද උදේම මෙහේ ඇවිත් කියලා ගියා. කට්ටියම කැම්පස් තේරිලා. ඉන්ජිනියරින් යන්න නම් බැරි වෙයිලු. ඒත් පියිකල් සයන්ස් නම් ෂුවර් එකටම කරන්න පුළුවන් වෙයි කියලා බිංදු කිව්වා...."

මගේ හිත සතුටෙන් පිරිලා ගියා. විභාගෙත් ගොඩ. කොහොමටත් අපි විභාගේ කළේ ඉන්ජිනියරින් යන්න නම් නෙමෙයි. අපි එච්චර තදට මහන්සි වුනෙත් නෑ නේ..., තනිකරම විභාගේ කළේ නම් අරුණී හින්දා. අන්තිම දවස් ටිකේ කොයි තරම් ප්‍රශ්ණ තිබුනත් අරුණීව මට අයිති කරගන්න ඕනේ කියන සිතුවිල්ල මගේ හිත ඇතුලේ හැම වෙලේම තිබුනා. ඒක හින්දා වෙන්න ඇති, මං නොදැනුවත්වම හරි විභාගේ පාස් වුනේ. කොහොම වුනත් ප්‍රතිඵල ගැන නම් මට තාමත් පුදුමයි. අපි විභාග කරපු හැටි අපිනේ දන්නේ...

"අරුණීලාගේ අම්මලා දන් කොහොමත් අපිත් එක්ක තරහයිනේ. අක්කා මාත් එක්ක ඔය ගැන කියන කම්, මම මේ විස්තර කිසි දෙයක් දනගෙන හිටියේ නෑ. දන් ඒ දරුවා පව්. ඒ වුනාට ඔයා කළේ හරි වැඩක් කියලා මම කියන්නේ නෑ. දන් ඒවට අපි බැන්නා කියලා වැඩක් නෑ නේ. අරුණී හොඳ හින්දා කමක් නෑ. ඉස්සෙල්ලා දෙන්නාගේ ඉගෙන ගන්න වැඩ ටික පිළිවෙලක් කරගන්න. බඳිනවා කියන්නේ සෙල්ලමක් නෙමෙයි. මීට පස්සෙවත් අනාගතේ ගැන හිතන්න, හැම දෙයක්ම සෙල්ලමකට ගන්නේ නැතුව..."

මම අම්මාටයි තාත්තාටයි වැඳලා ගෙදරින් එළියට බැස්සා.

"අපි ලබන සුමානේ දිහාට නුවර එනවා...."

අම්මා කියනවා ගේට්ටුව ළඟදි මට ඇහුනා.

මම නුගේගොඩ හන්දියට ඇවිත්, උකස් බඩු කඩෙන් මාලේ අරගත්තා. අරුණීට ගවුමක් ගන්න කියලා හිතාගෙන මම රෙදි කඩේකට ගොඩ වුනා. අරුණී කැමතිම නිල්පාට පුංචි මල් තියෙන දිග ගවුමටම හුරු, සුදුපාට තිත් තිත් තියෙන ලා නිල් පාට ගවුමක් මගේ ඇහැ

ගැටුනා. ඒක ඇන්දාම අරුණී ලස්සනට ඉඳීවි...

මම ඒ ගවුමත් අරගෙන, පිටකොටුවට එන්න 138 බස් එකකට ගොඩ වුනා. බස් එක අරුණිලාගේ ස්කෝලේ ළඟ හෝල්ට් එක, පුස්තකාලේ, විහාර මහාදේවි උදනේ ළඟින් යද්දි, මගේ හිත ඒ ලස්සන දවස් වලට ආපහු ඇදිලා ගියා. මහජන පුස්තකාලේ ඇතුලෙදි අපි අනාගතය ගැන කොයි තරම් දේවල් නම් කතා කරන්න ඇතිද...?, අත් අල්ලාගෙන මේ මං මාවත් වල කොයි තරම් දුර ඇවිදින්න ඇතිද...?,පිටකොටුවෙන් බැහැපු මම, නුවර යන බස් එකකට ගොඩ වුනා.

"පුහ්...!, මනමාලයා අත කට පිරෙන්න උස්සාගෙන එන්නේ. උඹලා රවුම් ගහනවා. අපි මෙහේ කට්ට කනවා...."

මම ගෙදර එනකොට රෑ දහයත් පහු වෙලා. මම එනකම් බිංදු, අමිල, කොටා, එළියට වෙලා පුටු තියාගෙන ඉන්නවා.

"දාපං මස්සිනා අත. විහාගේ ගොඩ නේද...?, සිරා මචං. මට නම් ඒක අහලා තිකං අවුරුදු වගේ..., උඹට A එකයි, B එකයි, C දෙකයි. කොහොම හරි, හිතුවටත් වැඩිය හොඳට ගොඩ ගිහින්..."

මම අමිල ළඟින් පුටුවක් තියා ගත්තා.

"ඒක නෙමෙයි බිංදු, ලබන සුමානේ විතර අරුණිව අපේ ගෙදර නවත්තන්න කියලා අම්මා කිව්වා. දැන් තමයි මචං..., මගේ හිත ටිකක් සැහැල්ලු වුනේ...."

"හෙට උදේ එකොළහ වෙනකොට රෙජිස්ට්‍රාර් එන්නම් කිව්වා මෙහාට. සාක්කිවලට එදා ඉඳලාම හිටියේ අපිනේ බං. ඉතින් හෙටත් අපිම අත්සන් කරන්නම්. ආ...මාලින්ද මට කියන්න බැරි වුනා. දවල් සමන්ලා හම්බුවෙලා තියෙනවා අමිලට. දැන් පොර හිතාගෙන ඉන්නේ උඹයි අරුණියි බැඳලා කියලා. ඌ හොඳටෝම බීලා ඉඳලා තියෙන්නේ තව ගෑණියෙකුත් එක්ක. පොර අරුණිගේ අම්මාට බැනලා තියෙනවා අම්බානකට. ආපහු ඌ ස්වීඩන් යන සයිස් එකක් තමා කතාවෙන් අමිලට තේරිලා තියෙන්නේ...., ඒ වුනාට උඹ පරිස්සමෙන් හිටපං. ඌ තිකං ඉන්න එකක් නෑ."

බිංදු නැගිට්ටා.

"ඌ හොස්පිට්ල් එකට ආපු හින්දා අරුණී ටිකක් බය වෙලා. හවස ආයෙමත් යාන්තමට අරුණීගේ ඇඟ රස්නේ වගේ තිබුනා. අක්කා එයා ළඟ නතරවුනා. උදේ වෙනකොට අඩුවෙයි..."

නිදාගන්න ඇඳට ගිහින් සෑහෙන වෙලාවක් යනකම්, නින්ද මගේ හිතේ අහලකටවත් ආවේ නෑ. නිදාගත්තේ නැතුව මෙච්චර දවසක් මම කල්පනා කළේ අපේ අනාගතේ ගැන. මේ තරම් අඩු වයසෙන් බඳින්න වුන එක ගැන. අරුණීගේ ජීවිතේ...අපේ ඉගෙනීම...

අම්මලා තාත්තලා නම් අපි දෙන්නා බඳීවි කියලා කිසිම දවසක හිතුවේ නෑ. ලෝකයක් වටින රත්තරන් හදවතක් තියෙන අරුණී...හෙට මගේ ජීවිතේට නීතියෙන්ම එකතු වෙනවා.

එදා පුස්තකාලෙදි අරුණීගේ දෙනෙත් වලට එබිකම් කරලා, "මම ආදරෙයි අරුණී...", කියලා කියපු වෙලාවේ එයාගේ මුහුනේ තිබුන බැල්ම..., මම කොයි තරම් සෙනෙහසින් ඒ ඇස් දිහා බලාගෙන ඉන්න ඇත්ද...?අරුණී මගේ උරහිසේ ඔළුව හංගාගෙන කතා නැතුව, ඇස් පියාගෙන ඉන්න කොට මගේ ඇඟිලි තුඩු එයාගේ හිසකේ අතරේ දඟ කරපු හැටි..., හන්තාන කඳු මුදුනේ අපි දෙන්නා එකිනෙකාට තුරුල් වෙලා පයින් ගස් අස්සෙන් හෝ...ගා ගෙන ආපු සුළඟට කන් දීගෙන අනාගතේ ගැන කතා කරද්දි හිතට දැනුන හැඟීම්..., ඒ සුළඟට මුසුවුන අරුණීගේ සුවඳ මගේ හිත ආයෙමත් ආදරෙන් පිරෙව්වා. අරුණීගේ ආදරේ..., මගේ මුළු ජීවිතයම ඒ සෙනෙහසින් වෙලාගෙන ඒක ඇතුලේ හංගාගෙන ඉවරයි.

ස්කෝලේ යන කාලේ අපේ හිත් හරිම අහිංසකයි. ඒ කාලෙදි ආදරේ කරන එක වැරැද්දක්ද...? මට ඒක නම් තේරෙන්නේ නෑ. මම දන්නේ එකම එක දෙයයි. ජීවිත කාලේ පුරාවටම හිත කුළුඳුලේම පෙම් කරපු පාසැල් ජීවිතේ ආදරේ, කිසිම දාක අමතක කරන්න බෑ. ඒ ලෝකේ ඒ තරම් සුන්දරයි, අහිංසකයි, බොළඳයි..., රත්තරං හීනයක් වගේ හැමදාමත් හිත ඇතුලේ හැංගිලා සුවඳ දෙනවා. අපේ හිත් වල කුහක කම් නෑ. හිත පිරෙන්නේ ආදරෙන් විතරයි. ඒ මුල්ම ආදරේ හින්දා..., ඒ කුළුඳුල් ආදරේ අමතක කරගන්න බැරුව, මුළු ජීවිත කාලේ පුරාම තනිවෙන, දුක්විඳින, හිතේ කඳුළු පුරවා ගත්තු කී දෙනෙක් නම් ඉන්නවද...?

එළියේ තිබුන පොද වැස්ස වැඩි කළා. මෙච්චර වෙලා හීන් සැරේ හමාගෙන ආපු සීතල සුළඟ, එක පාරටම ගස් වැල් අඹරවාගෙන හමාගෙන යද්දි, මගේ හිතට නිදිමත ඇතුළු වුනා. හැමදාමත් අරුණියි මමයි දෙන්නාම ආදරේ කරන ගී පද වැලක් හිතට ආවෙත් ඒ එක්කමයි.

රෑ කල දිගු වේ නම්...
ලා සඳ නොමැකේ නම්...

නෙළුම් පතක රැඳි පිණි බිඳුවක් සේ ,
ළමැද තලා යහනේ ඉන්නම්...
පමාවෙලා හිරු නැඟෙන තුරා...

* * *

අළුත් දවසකට සුබ හීනත් අරගෙන එළිය වැටීගෙන ආවා.

ජීවිතේ ලස්සනයි නේද...?

මම ඇඳුම් මැදලා මූන හෝදලා ලෑස්ති වුනා. බිංදූලා තාම නිදි. ආයෙම සැරයක් මම, අරුණිට ගෙනාපු ලස්සන ලා නිල් පාට ගවුමේ හැඩ බැලුවා. මගෙ ජීවිතේටම කෙල්ලෙක්ට ඇඳුමක් තේරුවාමයි මේ..., අරුණි මේ ගවුම ඇඳලා ඉන්නවා බලන්න මම කොයි තරම් අසාවෙන්ද ඉන්නේ...

"උඹ උදෙන්ම හොස්පිට්ල් යනවද...?"

බිංදු ඇස් පොඩි කර කර ඈනුමක් ඇරගෙන කාමරේට ආවා. ඌ තාමත් ඉන්නේ නිදි මතේ...

"ඔව් බං. අද උදේ අරුණිගේ ටිකට් කපනවා කිව්වානේ. අනික අක්කාත් මම එනකම් බලාගෙන ඇති. උදෙන්ම ගියොත් ඩොක්ටර්ව මුණගැහිලා මට අරුණිගේ විස්තර අහගෙන ආයෙමත් පෙන්නන්න ඕනේද කියලාත් දැනගන්න පුළුවන් වෙයි..."

"දැන් ලබන සුමානේ කොළඹ යනවා නම්, එහේදි අර පරණ ඩොක්ටර්වම චැනල් කරලා පෙන්නන්න පුළුවන් නේ බං..."

ඒ හැම දෙයකටම වැඩිය, මට ඊයේ හවස අරුණිව බලන්න යන්නත් බැරි වුනානේ. එයත් උදේ ඉඳලා මග බලාගෙන ඇති මං එනකම්....අරුණි හොස්පිට්ල් එකේ නැවැත්තුවාට පස්සේ ඊයේ විතරයි මට හවසට එයාව බලන්න යන්න බැරි වුනේ. අනිත් හැමදාම උදේ හවස එයාගේ තනියට මම ළඟ හිටියා. අනික..., මගේ ප්‍රතිඵලත් එයාට කියන්න ඕනේ. කෙල්ල කොච්චර සන්තෝස වෙයිද ඒක අහලා...

බිංදු මිදුලට යද්දි, මම කමිසේ ඇඳගත්තා. අරුණිගේ මාලෙත් සාක්කුවට දාගෙන, මම කාමරෙන් එළියට එනකොට අපේ ගේ ළඟ ත්‍රීවීලර් එකක් නවත්තනවත්, ඒ එක්කම ගේට්ටුව ඇරෙන සද්දයකුත් ඇහුනා.

## කවුද මේ වෙලාවේ...?

මම කණ්ණාඩියෙන් මූන බැලුවා.

"අද මම මනමාලයෙක් වෙන්න යනවා...", මම වීදුරු කණ්ණාඩියට කිව්වා.

බිංදු කාමරේට ඇතුල් වුනේ ඒ එක්කම...!

"මාලින්ද උඹ හිටපං...!, මාත් එනවා උඹත් එක්ක හොස්පිටල් යන්න..."

"ඇයි මේ හදිසියේම...?"
මම පුදුම වෙලා බැලුවා. බිංදු කතා නැතුව කාමරේට ගියා.

"බිංදු ඇයි මචං උඹ මේ හදිස්සියේ එන්න හදන්නේ...?, උඹ හිටපං. මම තනියම යන්නම්. තව පරක්කු වෙන්න බැනේ...අරුණි බලාගෙන ඇති..."

බිංදු එකපාරටම ගැස්සිලා මගේ දිහා බැලුවා. බිංදුගේ ඇස්වල කඳුළු...!, අක්කාත් කමරේට ආවේ ඒ එක්කම. කොටායි, අමිලයි දෙන්නත් කාමරේට එබුනා. හැම ඇහැකම කඳුළු...

"අක්කේ... ඇයි මේ කලබලේම... ?", මගේ හිත පුදුමයෙන් පිරුනා.

අක්කා මුකුත් කතා කළේ නෑ. එක පාරටම මාව බදාගෙන ඉකිගහන්න පටන් ගත්තා.

"අනේ අක්කේ... ඇයි කියලා කියන්නකෝ අක්කේ... "
"බිංදු උඹවත් කියපං බං... , අනේ බිංදු ඇයි මේ... ?"

මම කෑ ගහලා ඇහුවා.

"අරුණිට පාන්දර හොඳටම අමාරු වෙලා... "

මගේ පපුව නැවතෙන්න ඇති. වචන, සිතුවිලි, කිසි එකක් ආවේ නෑ.

"වරෙන් යන්න... !"

බිංදුවත් ඇදගෙන පාරට ඇවිත් ත්‍රීවීල් එකකට අත දානවා විතරයි මට මතක...

අරුණිගේ ළඟට දෙපයින් ආවේ කොහොමද කියලා මම දන්නේ නෑ. වෙනදා මම එනකොට මහබලාගෙන ඉන්න අරුණි, අද හිටියේ නෑ. මගේ රත්තරං අරුණි ඇඳේ හිටියේ නෑ. මුළු ඇඳම සුදු රෙද්දකින් වහලා. කම්මුල් දෙක වළ ගැහෙනකම් මාත් එක්ක හිනාවෙන අරුණි, මම ආවද කියලා බලන්න ඇස් ඇරියේ නෑ. බිංදු, අක්කා, මගේ වටේට කැරකුනා.

" අනේ බුදු අක්කෝ... ඇයි අක්කේ අරුණි මට මෙහෙම කළේ..., බිංදු උඹ මගේ හොඳම යාළුවා බිංදු..., අනේ මගේ අරුණිට මොකද වුනේ බිංදු..."

මම හයියෙන් ඔළුව ගහගත්තා ඇඳ විට්ටමේ.

සුදු රෙද්දකින් වහලා තිබුන අරුණිගේ මුහුන බලන්න, කවුදෝ මන්දා සුදු රෙද්ද අයින් කළා... යාන්තමින් හිනාවුන අරුණි මගේ දිහා බලාගෙන ඉන්නවා.

"මගෙ රත්තරං අක්කෝ...! "

මම ඒ මුහුන බදාගෙන, මුළු ලෝකෙටම ඇහෙන්න කෑ ගැහුවා.

"මට ඔයාව දාලා යන්න එපා කියපු අරුණි... මාව දාලා ගියේ ඇයි අක්කෝ...?, මගේ පුංචි මනමාලි...අනේ මගේ අරුණි. ආයේ එකම එක සැරයක් කියන්න මාලින්ද මං ඔයාට ආදරෙයි කියලා..."

"මේක හීනයක්ද අරුණි..., අනේ මාත් එක්ක තව එකම එක පාරක් හිනාවෙන්න මගේ රත්තරන් අරුණි අක්කේ...!"

මම කෑගැහුවා. ඉර හඳ හේදෙන්න කඳුළු හෙලුවා. මහමෙර පවා සුසුම් හෙලන්න ඇති. බිංදු මගේ ඔළුවට අත තියද්දි, මුළු ලෝකෙම තිබුන කළුවර මගේ ඉස්සරහා මතුවුනා. හැම දෙයක්ම මගේ දෙනෙත් ඉස්සරහා බොඳ වෙලා යද්දි..., අක්කා මාව වත්තම් කර ගත්තා.

සෙමින් එන්න...
මාත් එක්ක හිනාවෙන්න...
ඇඟිලි තුඩග අල්ලාගෙන,
මා දෑසට එබී ඉන්න...
මං ආදරෙයි
එකම වරක් මට කියන්න...

සෙමින් එන්න...
සුළං රොදක සඟවාලා,
මා දිවියම අරන් යන්න...
ඔබෙ සෙනෙහස මෙහි යතපා,
සුවඳ දෙන්න සැඟවීලා...

සෙමින් එන්න...
මගේ සිහින මනාලී,
මහද වෙතට අරන් එන්න...
සුළඟ වගේ ළඟට එන්න...
ඔච්චම් කර හිනාවෙන්න...

සෙමින් එන්න...
පාද ගිගිරි සලන්නෙපා...
රෑහැයියනේ හඬන්නෙපා...
අනේ මගේ පුංචි කුමරි,
සුර ලෝකේ සිටින්නී...
දෑස් පියා හඬන්නී...
නිසංසලේ නිදන්නී...

සෙමින් එන්න...
පා නොතබා අඳුර මැදින්,
සුළඟ වගේ ළඟට එන්න...
මගේ හීන පුංචි මැදුර,
කඳුළු වලින් පුරවාලා,
සුළඟ වගේ ඇදී යන්න...

---

**සුළඟ නිමාවිය.**



අරුණී අක්කා එකපාරටම ඒ පුංචි අත දෙක

මගෙ දෙඅත උඩින් තියාගත්තා. ඒ ඇස්දෙක

කඳුළු වලින් පිරිලා.

"ආයෙ කවමදාවත් මාව තනිකරන්න එපා මාලිනද..."

අරුණී අක්කට කියාගන්න ලැබුනෙ එච්චරයි. එයා ඉකි

ගහන්න පටන් ගත්තා. කිසිම දවසක කාටවත් වෙන

කරන්න බැරි බැම්මක් වගෙ...

මම ඒ පුංචි ඇඟිලි තුඩු මිරිකගත්තා.

"සත්තයි...කාටවත් ඔයාව මගෙන් උදුරගන්න දෙන්නෙ නෑ..."

ඇස්දෙකෙ කඳුළු පුරෝගෙන. මගෙ කඳුළු කතාවේ පුංචි

කුමාරිට මම පොරොන්දු වුනා.



# තේම්ස් සහ වොල්ගා ~ Thames 'n Volga

ISBN 955-9418-00-9